සකල දේශවාසී නිර්ධනයිනි, එක්වව්!

# ෆ්‍රෙ. එංගල්ස්

# පවුල, පෞද්ගලික දේපොළ හා රජය ඇති වූ සැටි





මොස්කව්
ප්‍රගති ප්‍රකාශක මන්දිරය
1979

අනුවාදය — දුදිගම වී. රුද්‍රිගු



සෝවියට් සංගමයේ මුද්‍රණය කරන ලදී

ඉ $\frac{10101-117}{016(01)-79}$ 915—79

# පටුන

සූචිකරණ දත්ත

කෘතිය: පවුල, පෞද්ගලික දේපොළ හා රජය ඇති වූ සැටි
කතෘ/පරිවර්තක: ෆෙඩ්රික් එංගල්ස්/ ඇදිගම. වී. රුද්රිගු
ප්‍රකාශක: ප්‍රගති ප්‍රකාශක මන්දිරය, මොස්කව්
පළමු ඩිජිටල් පළ කිරීම: 2011-11-07
ඩිජිටල් සංස්කරණයන්: V1:2011-11-07, V2:2019-05-31
පිටු ගණන: 200
භාෂා මාධ්‍ය: සිංහල
ගොනු ආකෘතිය: PDF

Web: https://liberationbase.wordpress.com
Email: slradical@ymail.com

## 1884 පළමුවැනි මුද්‍රණයට ලියූ පෙරවදන

පහත සඳහන් පරිච්ඡෙද එක් අතකින් අන්තිම කැමැත්තක් සපුරාලීමකි. තමාගේම නිගමන සහිත — සමහර සීමා අනුව අපේම යැයි කිව හැකි — ඉතිහාසයේ ද්‍රව්‍යමය අන්වේෂණ පිළිබඳ මෝර්ගන්ගේ පර්යේෂණවල ප්‍රතිඵල විස්තර කොට, එමගින් ඒවායේ ඇති ඉමහත් වැදගත්කම ඉදිරිපත් කිරීමට සූදනම් වූයේ අන් කිසිවකු නොව කාර්ල් මාක්ස්ය. මන්දයත්, මීට අවුරුදු හතළිහකට පෙර මාක්ස් විසින් සොයාගනු ලැබූ ඉතිහාසය පිළිබඳ ද්‍රව්‍යවාදී සංකල්පනය, තමාගේම ක්‍රමයක් අනුව මෝර්ගන් විසින් ඇමෙරිකාවේදී යළි සොයාගත් බැවිනි. අශිෂ්ටත්වය හා සභ්‍යත්වය පිළිබඳ මෝර්ගන්ගේ සැසඳීම, ප්‍රධාන කරුණු අනුව මාක්ස් විසින් එළැඹුණු එම නිගමනයටම තුඩු දුන්නේ ද්‍රව්‍යවාදී සංකල්පනය විසින් මෙහෙයැවුණු බැවිනි. ජර්මනියේ නිල ආර්ථික විද්‍යාඥයින් විසින් අවුරුදු ගණනක් තිස්සේ මහත් උනන්දුවකින් යුතුව ප්‍රාග්ධනය සොරෙන් උපුටා ගත්තාක් මෙන්ම, එය දැඩි ලෙස සභවා යටපත් කර දැම්මාක් මෙන්ම, එංගලන්තයේ ''ප්‍රාග් ඓතිහාසික'' විද්‍යාවේ නියෝජිතයෝද මෝර්ගන්ගේ ''පැරණි සමාජය''* නැමැති කෘතියට එලෙසම සැළකූහ. අභාවයට පත් මගේ මිතුරාණන්ට ඉරණම විසින් සපුරාලීමට ඉඩ නොදුන්, එම කෘතිය මගේ

---

* "Ancient Society, or Researches in the Lines of Human Progress from Savagery through Barbarism to Civilization". By Lewis H. Morgan. London, MacMillan and Co, 1877. (''පැරණි සමාජය හෙවත් ම්ලේච්ඡත්වයේ සිට අශිෂ්ටත්වය ඔස්සේ සභ්‍යත්වය දක්වා ඇති වූ මානව ප්‍රගතිය පිළිබඳ පර්යේෂණ,'' ලෙවිස් එච්. මෝර්ගන් විසිනි. මැක්මිලන් සහ සමාගම, ලන්ඩන්, 1877.) ඇමෙරිකාවේ මුද්‍රණය කළ මේ පොත ලන්ඩන්හි මිලදී ගැනීම සෑහෙන අපහසු කාරියකි. පොතේ කතුවරයා මීට වසර කීපයකට පෙර මිය ගියේය (එංගල්ස්ගේ සටහනකි).

වැයම නිසා සම්පූර්ණ වනුයේ මඳ වශයෙනි. කෙසේ වුවද, ඔහු විසින් මෝර්ගන්ගේ* කෘතීන්වලින් ගන්නා ලද පුළුල් සංක්ෂේපයන් අතර ඔහුගේ විවේචනාත්මක සටහන් මා ඉදිරියේ ඇත. හැකි සෑම තැනකදීම මම ඒවා ඉදිරිපත් කරමි.

ද්‍රව්‍යවාදී සංකල්පනය අනුව, අවසාන වශයෙන්, ඉතිහාසයේ තීරණාත්මක සාධකය වනුයේ ක්ෂණික ජීවිතයේ ජනනය හා ප්‍රතිජනනයයි. එහෙත් මෙයද දෙයාකාර ස්වරූපයක් දරයි: එක් අතකින් පැවැත්මට වුවමනා නිෂ්පාදන මාධ්‍යයක් වන ආහාර හා වස්ත්‍ර නිපදවීමද, නිවාස ගොඩනැගීමද ඊට අවශ්‍ය උපකරණ නිපදවීමද වේ. අනික් අතින් මිනිසුන් හෙවත් මිනිස් පරපුර බිහිකිරීම වේ. නියමිත ඓතිහාසික යුගයකට අයත්, නියමිත රටක වාසය කරන මිනිසුන්ට බලපාන සමාජයීය ක්‍රම මේ දෙවගයකටම අයත් නිෂ්පාදනයන්ගෙන්, එනම් එක් අතකින් ශ්‍රම සංවර්ධනයේ අවධිය අනුවද, අනික් අතින් පවුල අනුවද සකස් වී ඇත. ශ්‍රම සංවර්ධනය අඩුවන ප්‍රමාණයට නිෂ්පාදන ප්‍රමාණයද අඩුවන බැවින් සමාජමය ධනයද සීමාවන්නේය, ලිංගික සබඳකම් සමාජ චාරිත්‍ර මත වඩාත් වැඩියෙන් බලපාන බව පෙනේ. කෙසේ වුවද, ලිංගික සබඳකම් මත පදනම් වූ මේ සමාජ ව්‍යුහය තුළ ශ්‍රම පලදාව වඩ වඩාත් සංවර්ධනය වෙයි. ඒ සමගම පෞද්ගලික ධනය හා හුවමාරුවද, ධනයේ වෙනස්කම්ද අනුන්ගේ ශ්‍රම ශක්තිය ප්‍රයෝජනයට ගැනීමේ හැකියාවද, එහි විපාකයක් වශයෙන් නව තත්වයනට සරිලන සේ පැරණි සමාජ ව්‍යුහය ගළපා ගැනීම සඳහා පරම්පරා ගණනක් තිස්සේ නව සමාජයීය මූලිකාංග දරන වැයමද අවසන් වන්නේ මේ බලවේග දෙකෙහි පරස්පර විරෝධීතාවය සම්පූර්ණ විප්ලවයකට මග පාදමිනි. ස්ත්‍රී පුරුෂ ලිංගික සබඳකම් මත පදනම් වුණු කණ්ඩායම් සහිත පැරණි සමාජය, අළුතින් පැන නැගුණු සමාජමය පංති සමග ගැටීම නිසා පුපුරා බිඳ වැටේ. ඒ වෙනුවට රජයක් තුළ සංවිධානය වුණු නව සමාජයක් බිහිවෙයි. මේ නව සමාජයේ පහළ කොටස් පෙර මෙන් ලිංගික සබඳකම් අනුව සෑදුණු කණ්ඩායම් නොව, ප්‍රදේශ අනුව සෑදුණු කණ්ඩායම්ය. පවුල් ක්‍රමය මත සම්පූර්ණයෙන්ම දේපල ක්‍රමය බලපාන සමාජයකි, එය. මේ සමාජය තුළ මෙතෙක් ලිඛිත ඉතිහාසයේ අඩංගුව තිබුණු පංති ප්‍රතිවිරෝධීතාවයන් හා පංති අරගල දූන් නිදහසේ වර්ධනය වන්නේය.

මෝර්ගන්ගේ අනගිතම සේවය වන්නේ අපේ ලිඛිත ඉතිහාසයේ ප්‍රධාන අංග ලක්ෂණ විදහා පෙන්වන ප්‍රාග් ඓතිහාසික පදනම සොයාගැනීම සහ එය ප්‍රතිසංස්කරණය කිරීමද, උතුරු ඇමෙරිකානු ඉන්දීය ගෝත්‍රවල ලිංගික කණ්ඩායම් අනුව ග්‍රීක, රෝමානු හා ජර්මන් ඉතිහාසයේ මෙතෙක් අබිරහසක්ව පැවති ගැටළු විසඳා ගැනීමට මහ පෑදීමත්ය. ඔහුගේ මේ පොත එක දවසකින් නිම වූවක් නොවේ. පූර්ණ නිපුණත්වය ලබන තුරු, ඔහු මෙම විෂය අවුරුදු හතළිහක් පමණ කාලයක් තිස්සේ හැදෑරීය. ඔහුගේ මේ පොත අප කාලයේ උසස්තම කෘතීන් ස්වල්පයෙන් එකක් වනුයේ එබැවිනි.

මෝර්ගන්ගෙන් උපුටාගත් කොටස් හා මවිසින් එකතු කරන ලද කොටස් මොනවාද යන්න ලෙහෙසියෙන් දැනගැනීමට පහත සඳහන් කරුණුවලින් පෙන්වන පරිදි පාඨකයාට පොදු වශයෙන් හැකි වනු ඇත. ග්‍රීසිය හා රෝමය පිළිබඳ ඓතිහාසික තත්වයන් ගැන හදරන කොටස්වලදී මෝර්ගන්ගේ කරුණුවලට පමණක් මම සීමා නොවීමි. මා එකතු කළ කරුණුද අඩංගු කර ඇත. සෙල්ට්වරුන් හා ජර්මනුන් ගැන කියැවෙන කොටස් සෑහෙන ප්‍රමාණයක් මවිසින් එකතු කරන ලදී. මේ විෂයයන් ගැන මෝර්ගන් සොයාගත් කරුණු උපුටාගත් ඒවාය. ජර්මන් තත්වයන් අනුව නම් — ටසීටස් හැරුණු විට — ප්‍රිමන් මහතාගේ දීන ලිබරල්වාදී අසත්‍ය කරුණු පමණකි, මෝර්ගන් සතුව තුබුණේ. මෝර්ගන්ගේ මතය සනාථ කිරීමට පමණක් සෑහෙන නමුදු, මගේ කාර්යයට කොහෙත්ම නොසෑහෙන, ආර්ථිකය පිළිබඳ තර්ක අළුතින් ගෙනහැර දක්වමින් සම්පූර්ණ කරන ලද්දේ මවිසිනි. විශේෂයෙන් මෝර්ගන්ගෙන් උපුටා නොදක්වන නිගමන පිළිබඳ වගකීම මා සතුය.

1884 සූරිච්හි පළවූ ''පවුල, පෞද්ගලික දේපළ සහ රජය ඇතිවූ සැටි'' නැමැති තම කෘතියේ පළමුවැනි සංස්කරණය සඳහා එංගල්ස් විසින් ලියැවිණි

ජර්මන් බසින් පරිවර්තනය කරන ලද සතරවැනි සංස්කරණය අනුව මුද්‍රණය විය

* මෝර්ගන් ලියූ ''පැරණි සමාජය'' නැමැති කෘතියෙන් කාල් මාක්ස් උපුටාගත් කොටස් ගැනය. මෙය 1945 දී රුසියන් බසින් පළ විය. — සංස්කාරක

## 1891 හතරවැනි මුද්‍රණයට ලියූ පෙරවදන

මේ කෘතියේ පැරණි මුද්‍රණ විශාල සංඛ්‍යාවක් අළෙවි වී දැනට හමසක් පමණ ගෙවී ඇත. අලුත් මුද්‍රණයක් පිළියෙළ කර දෙන ලෙස මීට කලකට පෙර සිටම ප්‍රකාශකයෝ මගෙන් ඉල්ලා සිටියහ. වඩාත් හදිසි කටයුතු නිසා එම කාර්යය ඉටු කිරීමට මට නොහැකි විය. පළමුවැනි මුද්‍රණය කළ එළි බැස වසර හතක් ගෙවී ගොසිනි. මේ කාලය තුළදී පවුලේ මූලික ආකෘතිවල සම්භවය පිළිබඳ අපේ දැනීමද වැදගත් දියුණුවක් ලබා ඇත. සම්පූර්ණයෙන්ම හරිවැරදි බැලීමේ හා අඩුපාඩු සැපයීමේ කාර්යය සඳහා උද්යෝගිමත් ලෙස ඉදිරිපත් වීම අවශ්‍ය වෙයි. විශේෂයෙන්ම වත්මන් මුද්‍රණය වෙනස් නොකිරීමට යෝජනාකර තිබෙන නිසා කලක් යනතුරු වැඩිදුර වෙනස් කිරීම් නොකළ හැකි බැවිනි.

එබැවින් සම්පූර්ණ පොත ප්‍රවේසම් සහිත සංශෝධනයකට භාජන කළ අතර අඩුපාඩුව තුබූ කරුණුද ඇතුළු කළෙමි. මෙතැනදී, විද්‍යාවේ වත්මන් තත්වය උචිත ලෙස සලකා බලා ඇති බව මගේ වැටහීමය. වැඩිදුරටත් මේ පෙරවදන මගින් බහෝපන්ගේ සිට මෝර්ගන් දක්වා වූ පවුල් ඉතිහාස-යේ වර්ධනය ගැන සංක්ෂිප්ත විමර්ශනයක් ඉදිරිපත් කරමි. මන්දයත්, ආදිකල්පික සමාජය පිළිබඳ මෝර්ගන්ගේ සොයාගැනීම් නිසා ඇති වූ විප්ලවය ජනෝයාන්මාදවාදයෙන් පෙළෙන්නාවූ ප්‍රාක් ඓතිහාසික ඉංග්‍රීසි නිකාය විසින් නිහඬතාවයක් මගින් මරා දැමීමට දිගටම ක්‍රියා කරන බැවිනි. එසේ වුවද, එම නිකාය ඔහු ලබාගත් ප්‍රතිඵල අයත් කරගැනීමට කොහෙත්ම මැලිකමක් නොදක්වයි. අනිකුත් තැන්වලදීද මේ ඉංග්‍රීසි නිදසුන අනුව නිතර ක්‍රියා කර තිබේ. මගේ මේ කෘතිය විවිධ භාෂාවලට පෙරළා ඇත.

“L’origine della famiglia, della proprietà privata e dello stato”, versione riveduta dall’autore, di Pasquale Martignetti; Benevento, 1885 නමින් පළමුවෙන් ඉතාලි බසින් මුද්‍රණය විය.



“Origina familei, proprietatei private şi a statului”, traducere de Joan Nadejde, 1885 සැප්තැම්බර් සිට 1886 මැයි දක්වා “Contemporane” නැමති යාස්සිහි සඟරාවේ රුමේනියන් බසින් මුද්‍රණයවිය.

“Familiens, Privatejendommens og Statens Oprindelse”, Dansk, af forfatteren gennemgaaet Udgave, nesörget at Gerson Trier, Köbenhavn 1888 ඩෙන්මාක් බසින් මුද්‍රණය විය. වත්මන් ජර්මන් මුද්‍රණය අනුව අන්රි රවේ විසින් ප්‍රංශ බසට පෙරළන ලද පිටපතක්ද මුද්‍රණය වෙමින් පවතී.

* * *

එක්දස් අටසිය හැට ගණන්වල ආරම්භය තෙක් පවුලේ ඉතිහාසය නමින් කිසිවක් නොතිබිණි. මේ අංශයේ ඓතිහාසික විද්‍යාව මෝසස්ගේ පණත් පහට සහ එහි බලපෑමට මුළුමනින්ම යටවී තිබිණි. අන් කවර තැනකටත් වඩා දිගු ලෙස පවුලේ පීතෘ මූලික ක්‍රමය ඒවා මගින් විස්තර කර ඇති අතර, එය පවුලේ ඉපැරණි ආකෘතිය ලෙස නිසැකවම පිළිගත්තා පමණක් නොව — බහු භාර්යා විරතය ඉවත් කිරීමෙන් පසු — වත්මන් කාලයේ ධනවාදී පවුල සමග එක්කොට පෙන්වා තිබෙනුයේ, සැබවින්ම පවුල ඓතිහාසික සංවර්ධනයකට මුහුණු නොපෑවාක් මෙනි. ආදි කල්පික යුගයේදී වග විභාගයක් නැති ලිංගික සම්බන්ධකම් සහිත කාලයක් ඇතිවී-මට ඉඩකඩ තිබිණැයි පිළි ගන්නා ලදී. ඒක භාර්යා විරතයට අමතරව ආසියාතික බහු භාර්යා විරතය සහ ඉන්දු-ටිබෙට් බහු පුරුෂ විරතයද පැවති බව දැනගෙන තිබිණි. එහෙත් මේ තෙවිධිය ඓතිහාසික වශයෙන් පිළිවෙළක් අනුව ක්‍රමවත් ලෙස ඇති වී යැයි හැඳින්වීමට නොහැකි විය. ඒවා එකිනෙකට සම්බන්ධයක් නොමැතිව එකවර පැවතියාක් මෙනි. ආදි කාලයේ සිටි සමහර මිනිසුන් අතරද, තවමත් ජීවත් වන සමහර ම්ලේච්ඡයන් අතරද පරපුර හැඳින්වෙන්නේ පිය පසින් නොව මවු පසිනි. එබැවින් මවු පස පමණක් නීත්‍යානුකූල බව පිළිගනු ලැබීය. ඒ කාලයේදී දැඩි පිරික්සුමකට භාජනය නොකරන ලද, අද බොහෝ මිනිසුන් අතර නිශ්චිත විශාල කණ්ඩායමක් තුළ විවාහය තහනම්ය. මේ සිරිත ලෝකයේ හැම කොටසකම පාහේ දැකිය හැකි අතර මේ කරුණු ඇත්ත වශයෙන්ම දැනගෙන තිබිණි. නව නිදසුන් නිතර සොයා ගන්නා ලදී. මේවා සැලකිය යුත්තේ කෙසේද යන්න ගැන කිසිවෙක් නොදැන සිටියහ. ඊ. බී. ටේලර්ගේ ‘‘මානව ඇත ඉතිහාසයේ ගවේෂණ, ආදිය’’ (1865) නැමැති කෘතියෙන් පවා ඒවා ‘‘අපූරු සිරිත්’’ හැටියට හඳුන්වන අතර ඒවා ගිනි ගෙන දැවෙන දැව දඬු යකඩ උපකරණවලින් ඇල්ලීම පිළිබඳ තහනම වැනි සමහර

මිලේච්ඡයන් අතර පැවැති තහනම් සිරිත් වශයෙන් සහ ඊට සමාන ආගමික කතා සහ පල්හැලි වශයෙන් එකම ගණයක ලා සලකන ලදී.

පවුලේ ඉතිහාසය හැදෑරීම පටන් ගැනෙන්නේ 1861 සිටය, බහෝපන්ගේ ''මවු අයිතිය'' නැමති කෘතිය පළවීමත් සමගම ය. එම කෘතිය තුළින් කතුවරයා පහත සටහන් කරුණු ඉදිරිපත් කරයි: 1) මිනිස් සංහතිය ආරම්භයේදී අවිචාරවත් ලිංගික සබඳතාවයන් සහිත තත්වයක් තිබිණි, කතුවරයා එය හෙටෙයරිස්ම් හැටියට අවාසනාවත් ලෙස නම් කිරීම. 2) සිරිත් නොසලකන එවැනි ක්‍රමයක් නිසා පිය පස ස්ථිර ලෙස හැඳින්වීමට නොහැකි වීම.මවු අනුව පමණක් පරපුර දැනගත හැකි වීම.පුරාණයේ සියලු ජනතාවන් අතර මේ සිරිත පැවතිණි. 3) ඒ අනුව, තරුණ පරපුරේ ස්ථිර ලෙස දත්විය හැකි එකම කුල දෙවියන් වශයෙන් මවුවරුනට සැළකිලි හා ගෞරව දක්වීම. බහෝපන්ගේ මතය අනුව මෙය අංග සම්පූර්ණ කාන්තා පාලනයක් ගොඩනැංවීමට තරම් බලසම්පන්න වීම. 4) ස්ත්‍රිය එක් පුරුෂයකුට පමණක් අයත් වන ඒක භාර්යා විරතය දක්වා පරිවර්තනය වීම වූකලී පුරාණ ආගමික නියෝගයක් උල්ලංඝණය කිරීමක් වීම. (එනම්, ඇත්ත වශයෙන්ම එකම ස්ත්‍රියක් කෙරෙහි අන් පුරුෂයින් සතු පැරණි චිරාගත අයිතිය උල්ලංඝණය කිරීමකි,) මෙය ස්ථිර ලෙසම දඩුවම් ලැබිය යුතු වරදක් විය. මීට එකහවූ අවස්ථාවලදී ස්ත්‍රිය සීමා සහිත කාලයකට පාවාදීමෙන් ඒ සඳහා වන්දි ගෙවිය යුතු විය.

පැරණි ආචීර්ණ කල්පික සාහිත්‍යය ඇසුරෙන්, මහත්වූ උද්යෝගයකින් රැස්කළ බොහෝ කොටස් ගෙනහැර පාමින්, සිය මතය සනාථ කිරීමට බහෝපන් කරුණු ඉදිරිපත් කරයි. ඔහුගේ මතය අනුව, ''හෙටෙයරිස්ම්'' සිට ඒක භාර්යා තය දක්වා පරිණාමයක් ඇති වූයේ,විශේෂයෙන්ම ග්‍රීකයින් අතර, පැරණි මතය දරූ චාරිත්‍රානුකූල දෙවිදේවතා සමූහයකට අලුත් මතය දරන දෙවිදේවතාවන් ඇතුළු කර වීම නිසා ඇති වූ ආගමික පරිණාමයකිනි. ඒ අනුව පෙර කී දෙවිවරුන් පසු කී දෙවිවරුන් විසින් පසුතලයට ඇද දමන ලදී. බහෝපන් කියන අන්දමට පුරුෂයාගේ හා ස්ත්‍රියගේ අන්‍යොන්‍ය සමාජ තත්වයේ වෙනස්කම් ඇති කළේ මිනිසුන් ජීවත් වන සැබෑ තත්වයේ වර්ධනය විසින් නොව, යට කී ආගමික හැඟීම් මිනිසුන්ගේ සිත් තුළ හටගැනීම නිසාය. වීර යුගයේදී නැග එන පිය අයිතිය සහ අභාවයට යන මවු අයිතිය අතර අරගලය ඇස්කිලස්ගේ "Oresteia" නමැති කෘතිය තුළින් නාටක විලාසයෙන් ඉදිරිපත් කර තිබේ යැයි බහෝපන් පෙන්වා දෙයි. ට්‍රෝජන් යුද්ධයෙන් හැරී ආ අගමෙම්නොන් ආගිස්ටස්ට ආලය කළ සිය බිරිඳ වන ක්ලිතෙම්නෙස්ත්‍රා අතින් මැරුම්කයි. අගමෙම්නොන්ගේ පුත් ඔරෙස්ටස් තම මවු මරා දමමින් පියා වෙනුවෙන් පිළිගනී. අපරාධ අතුරෙන් ඉතාම බිහිසුණු හා සමාව නොදිය හැකි අපරාධය මාතෘ ඝාතනය



බව කියමින් මවු අයිතිය රකින බිහිසුණු ආරක්ෂකයෝ වන එරිනි දෙව් දූවරු ඔරෙස්ටස් ලුහුබැඳ යති.මේ මාතෘ ඝාතනයට ඔරෙස්ටස් පොළොඹවන ලද්දේ ඇපොලෝ විසින් ඔහුගේ දිව්‍යස් බලයෙනි. මේ නඩුව විසඳීම සඳහා ඇතීනා කැඳවන ලදී. ඇපොලෝ සහ ඇතීනා නම්වූ මේ දෙවිවරු දෙදෙනාම පිය අයිතිය රකින අලුත් මතය දරන්නෝය. මේ දෙදෙනා ඔරෙස්ටස් ආරක්ෂා කරති. ඇතීනා දෙපක්ෂයම කැඳවා නඩුව විභාග කරයි. ඔරෙස්ටස් හා එරිනි දෙව්දූවරුන් අතර ඇති වන විවාදය තුළින් මූළු මත භේදයම සංක්ෂිප්ත කොට දක්වා ඇත. ක්ලිටෙම්නෙස්ට්‍රා අපරාධ දෙකකට වරදකාරියෙකැයි ඔරෙස්ටස් පවසයි. මන්දයත් ඇය සිය සැමියා මරා දැමීමෙන්, ඔහුගේ (ඔරෙස්ටස්ගේ) පියා මරා දැමූ බැවිනි. වඩාත් බිහිසුණු අපරාධයක් කළ ක්ලිටෙම්නෙස්ට්‍රා ලුහුබැඳ නොගොස් එරිනි තමා ලුහුබැඳ ආවේ මන්ද? ඔරෙස්ටස් ප්‍රශ්න කරයි. එරිනිගේ පිළිතුර මවිත කරවන සුලුය:

''ඇය විසින් මරාදමන ලද මිනිසා ඇගේ ලේ නෑයකු නොවේ.''

මැරුම් කෑ පුද්ගලයා මැරූ තැනැත්තියගේ ස්වාමි පුරුෂයා වුවද, ඔහු ලේ නෑයකු නොවේනම්, එය සමාව දිය හැකි කරුණක් වන අතර එරිනිවරු එය නොසළකති. ඔවුන්ගේ කාර්යය ලේ නෑයින් මැරුවන්ගෙන් පළිගැනීමය. මවු අයිතිය අනුව මේ ඝාතනවලින් ඉතා බිහිසුණු මාතෘ ඝාතනයයි. මෙහිදී ඔරෙස්ටස් වෙනුවෙන් ඇපොලෝ ක්‍රියා කරයි. ඇතැන්ස්හි ජූරි සභිකයින් වන අරෙඔපැගිටස්වරුන් ඡන්දය පාවිච්චි කළ යුතුහයි ඇතීනා ඉල්ලා සිටී. ඔරෙස්ටස්ගේ නිදහසට පක්ෂව හා විපක්ෂව ලැබුණු ඡන්ද සංඛ්‍යාව සමාන විය. එවිට විනිසුරු මඩුල්ලේ සභාපති වූ ඇතීනා තම ඡන්දය ඔරෙස්ටස්ට පක්ෂව දෙමින් ඔහු නිවැරදි කරුවෙකු ලෙස මුදහරී. මවු අයිතිය පරදවමින් පිය අයිතිය ජය ලැබීය. එරිනිවරියන්ම පිළිගන්නා පරිදි, කණිෂ්ඨ ගණයට අයත් දෙවිවරු ඔවුන් අභිබවා ජය ලබති. අලුත් ක්‍රමයට සේවය කිරීම සඳහා අලුත් තනතුරු භාර ගැනීමට එරිනිවරු අවසානයේදී එකඟ වෙති.

මුළු පොතේම ඇති ඉතාම හොඳ සහ අලංකාර කොටස් අතුරෙන් එකක් වූ මෙය "Oresteia" ගැන කර තිබෙන අලුත් එමෙන්ම නිවැරදි විස්තරයකි. ඇස්කිලස් තමා ජීවත්ව සිටි කාලයේදී එරිනි, ඇපොලෝ සහ ඇතීනා ගැන විශ්වාස කළ ආකාරයට බහෝපන්ද විශ්වාස කරන බව එයින් පෙනේ. ග්‍රීසියේ වීර යුගයේදී මවු අයිතිය අහෝසි කරදමා ඒ වෙනුවට පිය අයිතිය ඇති කිරීමෙන් හාස්කමක් කළ බව බහෝපන් සැබැවින්ම විශ්වාස කරයි. ලෝක ඉතිහාසයේ තීරණාත්මක උත්තෝලනය ආගම යැයි කියන මතය අවසානයේදී අමු ගුඨවාදයෙන් අවසන් විය

යුතුය.එබැවින් බහෝපන්ගේ මහ පොත ඉතා අමාරුවෙන් කියැවීම අසීරු කරුණක් වන පමණටම ප්‍රයෝජනවත් දෙයක්ද නොවන්නේය. එහෙත් නව මගක් පෙන්වූ මාර්ගෝපදේශකයකු හැටියට ඔහු ලැබිය යුතු ගෞරවය මේ නිසා අඩු නොවේ. ග්‍රීකයින් හා සහ ආසියානුන් අතර ඒක භාර්යා විරතය පටන් ගැනීමට පෙර, එදා පැවති චාරිත්‍ර විධි උල්ලංඝනය නොකර එක මිනිහෙක් ස්ත්‍රීන් කීප දෙනෙකු සමග පමණක් නොව එක් ස්ත්‍රියක් පුරුෂයින් කීප දෙනෙකු සමග කම්සැප විඳි බව පෙන්වන අවස්ථා පැරණි ආචීර්ණ කල්පික සාහිත්‍යයේ බහුලව ඇති බව ඔහු පළමුවෙන්ම පෙන්වා දුන්නේ, සිරිත් නොසලකා ස්ත්‍රී පුරුෂ ලිංගික සබඳකම් ගැන යම්තමින් වචන කීපයක් පමණක් පැවසූ අවධියකදීය. ඒක පුරුෂ විවාහයේ අයිතිය මිළ දී ගැනීමට ස්ත්‍රීන්ට බලකිරීමක් මගින් සීමා සහිත ලෙස යටත් වීමේ සේයාවක් නොතබා මේ සිරිත අභාවයට නොගියේය; එම නිසා මූලික අවධියේදී පෙළපත සොයාගැනීමට හැකි වූයේ ස්ත්‍රී පරපුර අනුවය, එනම් මවුගෙන් මවුටය; ස්ත්‍රී පරපුරේ විශේෂ නීත්‍යානුකූල භාවය ඒක භාර්යා සේවන කාලයට බොහෝ සෙයින්ම බලපෑවේ ස්ථිර හෝ යටත් පිරිසෙයින් පිළිගත් පිතෘත්වය අනුවය; තම දූ දරුවන්ගේ එකම, ස්ථිර කුල දෙවියන් හැටියට මවුට අයත් වන මේ මූලික තත්වය විසින් ඇයටද ස්ත්‍රීන්ට පොදුවේද, ඊට පසු ඔවුන් දූරු සමාජමය තත්වයට වඩා උසස් තත්වයක් ලබා දෙන ලදී; බහෝපන් මේ නිගමන මෙතරම් පැහැදිලි ලෙස ඉදිරිපත් නොකළේ, ඔහුගේ ගුප්තවාදී දෘෂ්ටිය ඔහුට ඉඩ නොදුන් බැවිනි. එහෙත් ඒවා නිවැරදි බව ඔහු ඔප්පු කළේය. මෙය 1861 දී පූර්ණ විප්ලවයක් ඇතිවීමට හේතු විය.

බහෝපන්ගේ මහ පොත ලියා තිබෙන්නේ ජර්මන් බසින්, වත්මන් පවුලේ ප්‍රාග් ඉතිහාසය පිළිබඳ අනිකුත් ජාතීන්ට වඩා අඩු වුවමනාවක් දක්වූ ජාතියකගේ බසිනි. එබැවින් ඔහු ප්‍රසිද්ධියට පත් නොවීය. මේ ක්ෂේත්‍රයේ බහෝපන්ගේ තත්වයට ඔහුගෙන් පසු 1865 දී පත්වූ පුද්ගලයා ඔහු ගැන නොදත්තේය.

බහෝපන්ගේ තැනගත් ජේ එෆ්. මැක්ලෙනන් ඔහුට හාත්පසින්ම විරුද්ධ අදහස් දැරීය. සහජ දක්ෂතාවයකින් හෙබි ගුප්තවාදියා වෙනුවට අප ඉදිරියේ සිටින්නේ කොහෙත්ම සිත් නොගන්නා නීතිවේදියෙකි; ව්‍යක්ත කාව්‍යමය විචිත්‍රත්වය වෙනුවට සිය මතය සනාථ කිරීමට ගැලපෙන තර්ක ඉදිරිපත් කරන නීතිවේදියෙකි.බොහෝ ම්ලේච්ඡ අශිෂ්ට මිනිසුන් අතරද පුරාණ සහ සමකාලීන ශිෂ්ට මිනිසුන් අතරද, මනාලයා තම මිතුරන් සමග මනාලිය ඇගේ නෑයන්ගෙන් බලාත්කාරයෙන් පැහැරගෙනයාමක් අඟවන සැටි මැක් ලෙනන් දකී. මේ සිරිත පැරණි සිරිතක නටබුන් විය යුතුය. මේ අනුව, එක් ගෝත්‍රයක පුරුෂයින් විසින් තවත් ගෝත්‍රයක ස්ත්‍රීන් අඹුකමට බලාත්කාරයෙන් පැහැරගෙනයාමක් ඇත්ත වශයෙන්ම පැවතිණි.එසේනම්'පැහැරගෙනයාමේ විවාහයේ' මුල පටන් ගත්තේ කෙසේද? සිය ගෝත්‍රය තුළින් සෑහෙන ප්‍රමාණයක් ස්ත්‍රීන් සොයාගත හැකිතාක් කල් එවැන්නකට අවස්ථාවක් නොතිබිණ. (1865 වනතුරු නිතර නිතර ගෝත්‍ර වශයෙන් හඳුන්වනු ලැබූ) සමහර කාණ්ඩ තුළ විවාහ තහනම් කර තිබූ බව අපට නිතර දක්නට ලැබේ. එම නිසා අඹුකමට ස්ත්‍රීන්ද, සැමිකමට පුරුෂයින්ද තම කණ්ඩායමට පිටතින් පිළිවෙළින් පුරුෂයින් හා ස්ත්‍රීන් විසින් සොයාගත යුතුවිය. සමහරුන් අතර පැවති සිරිත අනුව එක්තරා කණ්ඩායමකට අයත් පුරුෂයින් තම බිරියන් සොයාගත යුත්තේ තමන්ගේම කණ්ඩායම තුළිනි. මැක්ලෙනන් පළමුවැනි වර්ගයේ කණ්ඩායම පිට ගෝත්‍රයකින් විවාහ වීම — බහිර් ජන්‍ය විවාහ වශයෙන්ද, දෙවැන්න ස්වකීය ගෝත්‍රය තුළින් විවාහවීම — අන්තර් ජන්‍ය විවාහය වශයෙන්ද නම් කරයි. වැඩිදුර විමසා නොබලන ඔහු බහිර් ජන්‍ය විවාහ සහ අන්තර්ජන්‍ය විවාහ අතර දැඩි ප්‍රතිපක්ෂ බවක් තහවුරු කරයි. පිටස්තර ගෝත්‍රයකින් විවාහ වීම පිළිබඳ තමා කළ ගවේෂණ අනුව වැඩි අවස්ථා ගණනකදී හෝ නැතිනම් සියලුම අවස්ථාවලදී මේ ප්‍රතිපක්ෂභාවය තිබෙනුයේ සිය මනැසෙහි පමණක් බව ඔහු ඔප්පු කරද්දීත්, ඔහු එය මුළු සිද්ධාන්තයේම පදනම කර ගනී. ඒ අනුව පිට ගෝත්‍රවලින් විවාහවන්නෝ පිට ගෝත්‍රවලින් පමණක් බිරියන් සොයා ගනිති. ගෝත්‍ර අතර ම්ලේච්ඡයින් අතර ස්වාභාවික වූ ස්ථාවර යුද්ධ පවත්නා කාලවලදී, මෙය සිදුකළ හැක්කේ පැහැරගෙන යාමෙන් පමණකැයිද ඔහු විශ්වාස කරයි.

මැක්ලෙනන් වැඩි දුරටත් මෙසේ තර්ක කරයි: බහිර් ජන්‍ය විවාහය පටන් ගත්තේ කොහි සිටද? ලේනෑකම හා ව්‍යාභිචාරය පිළිබඳ අවබෝධය මෙයට සම්බන්ධයක් නැත. මන්දයත්, මෙය වර්ධනය වූයේ ඊට බොහෝ කලකට පසු බැවිනි. ම්ලේච්ඡයින් අතර පුළුල්ව පැවැති සිරිතක් වන ගැහැණු දරුවන් උපන් හැටියේම මරාදැමීම පිරිමින්ගේ ගණන වැඩිවීමට හේතුවක් වූවා විය හැකිය. මෙහි අවශ්‍ය හා ක්ෂණික විපාකය වූයේ පුරුෂයින් කීපදෙනෙකු විසින් එක් ස්ත්‍රියක් අඹුකමට ගැනීමය, එමගින් බහු පුරුෂ සේවනය ඇතිවීමය. මෙහි ප්‍රතිඵලය වූයේ දරුවකුගේ මවු ප්‍රසිද්ධවීමත්, පියා අප්‍රසිද්ධවීමත්ය. ඒ අනුව පරපුර සොයාගත්තේ ස්ත්‍රියගේ පෙළපත අනුවය. එනම් පුරුෂයා බැහැර කොටගත් මවු අයිතිය අනුවය. ගෝත්‍ර තුළ ස්ත්‍රීන් හිඟවීම අනික් විපාකය විය. බහු පුරුෂ සේවනය නිසා මේ හිඟය කරමක් පිරිමැසුනද, විසඳුමක් නොවූ අතර වෙනත් ගෝත්‍රවලට අයත් ස්ත්‍රීන් බලාත් කාරයෙන් පැහැරගෙනයාම නිසා මේ හිඟය ස්ථිර හා ක්‍රමානුකූල දෙයක් බවට පත්විය.

''බහිර්ජන්‍ය විවාහය මුල් කරගත් ජාතීන් පටන් ගැනීමේදී බහු පුරුෂ විරතයක යෙදුණු බව පිළිගැනීමට අපට සිදුවී ඇත... එබැවින් බහිර්ජන්‍ය විවාහ ක්‍රමය පිළිගත් ජාතීන්ගේ පළමු නෑකම් ක්‍රමය, මවු අයිතිය තුළින් පමණක් ලේ ඥාති සබඳකම් පිළිගැනීම මත තහවුරු වී තිබුණු බව විවාද රහිතව පිළිගත යුතුය.'' (මැක්ලෙනන්. ''පැරණි ඉතිහාසයේ Studies", 1886. ''ආදි කල්පික විවාහය'', 124 පිටුව).

මැක්ලෙනන්ගේ උසස් සේවය බහිර්ජන්‍ය විවාහය වශයෙන් ඔහු හඳුන්වන දෙයෙහි ඇති පොදු ව්‍යාප්ත භාවය සහ විශාල වැදගත්කම කෙරෙහි සැලකිල්ල යොමු කිරීමය. එහෙත් ඔහු බහිර්ජන්‍ය විවාහ කණ්ඩායම් කොහෙත්ම සොයා ගත්තේ නැත; එපමණක් නොව එය කොහෙත්ම වටහා ගත්තේත් නැත. බොහෝ නිරීක්ෂකයින් විසින් කරන ලද සටහන් මැක්ලෙනන්ගේ මූලාශ්‍ර බවට පත්විය. මේ හැර, ලැතැම් (''සවිස්තර මානව විද්‍යාව'', 1859) ඉන්දියානු මගාර්වරුන් අතර පැවති මේ සිරිත පැහැදිලි හා නිවැරදි ලෙසද විස්තර කළේය. ලෝකයේ හැම පෙදෙසකම පැතිර පැවතුණු කොටස මැක්ලෙනන් විසින් උපුටා දැක්විණි.1847 දී ඉරෝකුවොයිස්වරුන් පිළිබඳ "American Review" සඟරාවේ) සිය ලිපි මගින්ද, 1851 දී ''ඉරෝකුවොයිස් සංගමය'' යන පොතෙන්ද එම සිරිත මේ ගෝත්‍රය තුළ පැවති බව අපේ මෝර්ගන් ඔප්පුකොට පෙන්විය. එසේම ඔහු එය නිවැරදි ලෙස විස්තර කළේය. එය එසේ වුවද, අප දකින පරිදි, මවු අයිතිය පිළිබඳ බහෝපන්ගේ ගුය්වාදී මතාන්තරවලට වඩා මැක්ලෙනන්ගේ නීතිවේදීමය බුද්ධිය මෙම විෂය ගැන වඩාත් විශාල අවුලක් ඇති කළේය. බහෝපන් තමාට වඩා ඉස්සර වූ බව පසුකලෙකදී මැක්ලෙනන් පිළිගත්තද, මවු අයිතිය අනුව පෙළපත සෙවීමේ ක්‍රමය පිළිගැනීමේ ගෞරවයද මැක්ලෙනන් සතුය. එහෙත් මෙතැනදීද නැවත ඔහුගේ අදහස් නොපැහැදිලිය. ''ස්ත්‍රීන්ගෙන් පමණක් නෑකම හැඳින්වීම'' ගැන ඔහු නොනවත්වා කියාගෙන ගියද — ඈත යුගයකට නිවැරදි ලෙස ගැළපෙන — නමුදු මෑත යුගවල සංවර්ධනයට නොගැළපෙන, පරපුර හා දයාදය විශේෂයෙන්ම ස්ත්‍රී පරපුර අනුව පිළිගත්තද, පුරුෂ පරපුර අනුව පිළිගැනීමක් හා ප්‍රකාශවීමක්ද සිදුවිය. තමාටම විශේෂ වූ නීතිමය යෙදුමක් සොයාගෙන, එය අවස්ථාවට සරිලන සේ සංශෝධනය නොකර දිගින් දිගටම ක්‍රියාවේ යොදවන නීතිවේදියකුගේ සීමා සහිත දර්ශනයකි, මේ. එහෙත් ඒ අතරම මේ නීතිමය යෙදුම යල්පැන ගොසිනි.

සත්‍යයක් මෙන් පෙනුනද මැක්ලෙනන්ගේ න්‍යායය එහි කතුවරයා වන ඔහුට පවා එතරම් හොඳින් සිතට අල්ලා නැති බව පෙනේ. ''ස්ත්‍රීන් පැහැරගෙනයාමේ [ව්‍යාජමය] ක්‍රමය පැහැදිලි ලෙසත්, චමත්කාරී ලෙසත් පුරුෂ පෙළපත අනුව නෑකම් කියන ජාතීන් අතර නිරීක්ෂණය වන්නේය''



(140 පිටුව) මේ ප්‍රකාශනය ගැන යටත් පිරිසෙයින් ඔහු පමණක් විමසිලිමත් වෙයි. ඔහු යළි මෙසේ ලියයි: ''බහිර්ජන්‍ය විවාහ ක්‍රමය හා නෑදෑ ක්‍රමයේ පැරණිතම ආකෘතිය සහ පැවැත්ම ඇති තැන අප දන්නා පමණින් බිළිඳු ඝාතනය ක්‍රමානුකූල ලෙස නොපැවතිණි'' (146 පිටුව).

මේ කරුණු දෙක ඔහුගේ අර්ථ නිරූපනය එක එල්ලේම බිඳ හෙළයි. ඒවාට විරුද්ධ විය හැක්කේ වඩාත් ව්‍යාකූල කල්පිත ඉදිරිපත් කිරීමෙනි.

කෙසේ වුවද, එංගලන්තයේදී ඔහුගේ න්‍යායයට මහත් අනුමැතියක් ලැබුණු අතර එයට පුළුල් අනුකූලතාවයක්ද ලැබිණි. පවුල් ඉතිහාසයේ ආදි කතුවරයා හැටියටද, මේ අංශයේ ඉතාම උසස් විශේෂඥයා හැටියටද මැක්ලෙනන් පිළිගනු ලැබීය. ''ගෝත්‍ර'' අතර බහිර්ජන්‍ය විවාහ සහ අන්තර්ජන්‍ය විවාහ පිළිබඳ ඔහුගේ ප්‍රතිවාදය සමහර විශේෂයන් හා සංශෝධන හැරුණුවිට බලපාන මතයේ පිළිගත් පදනම වශයෙන් පැවතිණි. සමාලෝචනයට භාජනය වී ඇති මේ ක්ෂේත්‍රයේ නිදහස් සමීක්ෂණයකටද, ඒ අනුව නිශ්චිත ප්‍රගතියකටද විරුද්ධව පැන නැගි බාධාව වූයේ එයය. මැක්ලෙනන්ගේ සේවය වුවමනාවට වඩා උසස් කොට සැළකීම එංගලන්තයේ මෝස්තරයක් බවට පත්විය. අනික් රටවලද එය අනුකරණය කරන්ට විය. බහිර්ජන්‍ය විවාහ හා අන්තර් ජන්‍ය විවාහ ''ගෝත්‍ර'' අතර ඔහුගේ සදෙස් ප්‍රතිවාදය විසින් ඔහු කළ හානිය ගවේෂණ කටයුතු මගින් ඔහු කළ සේවයට වඩා වැඩි බව පෙන්වාදීම යුතුකමකි.

ඒ අතර ඔහුගේ කදිම සැළැස්මට නොගැළපුණු කරුණු වඩාත් වැඩියෙන් මතුවෙන්නට විය. මැක්ලෙනන් දැනගෙන සිටියේ විවාහ ක්‍රම තුනක් ගැන පමණකි — බහු පුරුෂ සේවනය, බහු භාර්යා සේවනය සහ ඒක භාර්යා සේවනයය. මේ කරුණ ගැන සැලකිල්ල යොමු කළ විට, නොදියුණු ජනතා අතර පුරුෂයින් කණ්ඩායමක් විසින් ස්ත්‍රීන් කණ්ඩායමක් පොදුවේ අයත් කරගෙන සිටි විවාහ ක්‍රමයක් ඔප්පු කෙරෙන කරුණු වඩාත් සොයා ගත හැකි විය. ලබොක් (''සභ්‍යත්වයේ ප්‍රභවය'', 1870, නැමැති සිය කෘතිය මගින්) මේ කාණ්ඩ විවාහය (''සමූහ විවාහය'') ඓතිහාසික සත්‍යයක් බව පිළිගත්තේය.

අනතුරුව 1871 දී, අලුත්, බොහෝ කරුණු අනුව තීරණාත්මක තොරතුරු රැසක් මෝර්ගන් ඉදිරිපත් කළේය. ඉරෝකුවෝයිස්වරුන් අතර පැතිර පැවති විශේෂ ඥාති ක්‍රමයක් ඇමෙරිකා එක්සත් ජනපදයේ සියලු ආදි වැසියනට පොදු වූ අතර එහි තිබුණු වෛවාහික ක්‍රමය තුළින් පැන නැගි නෑකම්වලට විරුද්ධව එය ගැටුණද, එය මුළු මහත් මහද්වීපය පුරාම පැතිර ගොස් තිබුණු බව ඔහු පිළිගත්තේය. තමන් විසින් සාදන ලද ප්‍රශ්න හා ලේඛණ අනුව වෙනත් ජාතීන්ගේ ඥාති ක්‍රම ගැන විස්තර පුවත් එකතු

කරන ලෙස ඔහු ඇමෙරිකාවේ පෙඩරල් ආණ්ඩුව අමාරුවෙන් කැමති කරවා ගත්තේය. පිළිතුරු අනුව ඔහු සොයාගත් දේ මේවාය: 1) ඇමෙරිකාවේ ඉන්දියන්වරුන් අතර පැවති නෑදෑ ක්‍රමය ආසියාවේ බොහෝ ගෝත්‍ර අතර පැතිර තිබීම. තරමක් සංශෝධිත අන්දමකට මේ ක්‍රමයම ඕස්ට්‍රේලියාවේ සහ අප්‍රිකාවේ දක්නට තිබීම. 2) හවායි සහ ඕස්ට්‍රේලියාව අසල දූපත්වල, දැනට අභාවයට යමින් සිටින නමුදු, එදා පැවති කාණ්ඩ විවාහ ක්‍රමයක් මගින් එය සම්පූර්ණ ලෙස විස්තර කිරීම. 3) කෙසේ වුවද, මේ විවාහ ක්‍රමය සමගම ඒ දිවයින්වල පැවති නෑකම් විස්තර කළ හැක්කේ, මීට පෙර පැවති නමුදු, දැනට අභාවයට ගොස් ඇති කාණ්ඩ විවාහ ක්‍රමයක් අනුව වීම. ඔහු එකතු කළ කරුණු හා ඔහුගේ නිගමන සහිත කෘතියක් ''ලේ නෑකම සහ නෑකම් ක්‍රම'' යන මැයෙන් 1871 දී මුද්‍රණය කොට ප්‍රසිද්ධ කළේය. එමගින් ඔහු එය වඩාත් පුළුල් ක්ෂේත්‍රයකට ගෙනගියේය. නෑකම් ක්‍රම මූලාරම්භ වශයෙන් ගෙන ඒවාට අනුකූල වන පරිදි ඔහු පවුල් විධි ප්‍රති සංස්ථාපන කෙළේය, එමගින් මානව සංහතියේ ප්‍රාග් ඉතිහාසයට වඩාත් ගැඹුරු ලෙස ප්‍රත්‍යක්ෂණයක් කළ අතර විභාගය සඳහා නව මගක්ද විවෘත කළේය. මේ ක්‍රමය වලංගු ලෙස පිළිගත්තේ නම් මැක්ලෙනන්ගේ කදිම නිර්මාණය විනාශ වීයාමට ඉඩ තිබිණි.

ආදිකාලීන විවාහයේ (පැරණි ඉතිහාසයේ අධ්‍යයන) නව මුද්‍රණයක් මගින් මැක්ලෙනන් තම න්‍යායය ඔප්පු කළේය. හුදු කල්පිත මගින් ඔහු අතිශයින්ම කෘත්‍රිම ලෙස පවුලේ ඉතිහාසයක් ගොඩ නගන අතර ලබොක්ගේ හා මෝර්ගන්ගේ හැම ප්‍රකාශනයක්ම ඔප්පු කළ යුතු බව පමණක් නොව, ස්කොට්ලන්තයේ අධිකරණයක් මගින් පමණක් පිළිගන්නා විවාද රහිත වලංගු සාක්ෂිවලින් ඔප්පු කළ යුතු බවද ඉල්ලා සිටී. මවුගේ සහෝදරයා සහ සහෝදරියගේ පුතා අතර තිබුණු කිට්ටු නෑකමක් ජර්මනුන් අතර පැවැති බව (Tacitus, "Germania", c. 20) කියන වාර්තාවලින්ද, බ්‍රිතාන්‍යයන් දහ දෙලොස් දෙනාගේ කණ්ඩායම් සිය බිරියන් සමූහ වශයෙන් තබා ගත්හයි කියන සීසර්ගේ වාර්තාවලින්ද, අශිෂ්ටයින් අතර ස්ත්‍රීන් සමූහ වශයෙන් තබා ගැනීම ගැන ලියන ලද සියලු පැරණි ලියවිලිවලින්ද, මේ මිනිසුන් අතර පැවතියේ බහු පුරුෂ විරතය පමණකැයි කිසිදු චකිතයක් නැතිව නිගමනය කරන මේ මිනිසාය, එසේ ඉල්ලා සිටින්නේ. මෙය තම නඩුව සඳහා නොනිසි හැම නිදහසක්ම පාවිච්චි කරන අතර විත්ති පක්ෂයේ නීතිවේදියාගෙන් සෑම කරුණක් ගැනම දැඩි, විධිමත්, නීත්‍යානුකූල, අතිශයින්ම වලංගු සාක්ෂි ඉල්ලා සිටින පැමිණිලි පක්ෂයේ නීතිවේයකුගේ කතාවකට සවන් දෙන්නාක් වැනිය.

කාණ්ඩ විවාහය හුදු කල්පනා මාත්‍රයක් පමණකියි කියන ඔහු එයින්ම බොහෝපන්ට වඩා පස්සට තල්ලු වෙයි. මෝර්ගන්ගේ ඥාති සම්බන්ධ



ක්‍රමය අන් කිසිවක් නොව සමාජමය ආචාරශීලී බවේ ශික්ෂා පමණකැයිද (රතු) ඉන්දියන්වරුන් අමුත්තන්ට, යුරෝපීය සුද්දන්ට ''සහෝදරයා'' නැත්නම් ''පියා'' ආදී වචනවලින් ඇමතීමෙන් එය ඔප්පු වන්නේ යැයිද ඔහු කියයි. කතෝලික පූජක වරුනට පියා සහ කන්‍යාරාමාධිපතිනියන්ට මවු යනුවෙන් ඇමතීම නිසාද, පූජකයින්, කන්‍යා මවුවරුන් සහ ෆ්‍රිමේසන්වරුන්ද, ඉන්ග්‍රීසි ක්‍රාෆ්ට් යූනියන් නැමැති සංවිධානවල සාමාජිකයින්ද ඔවුන්ගේ විශේෂ රැස්වීම්වලදී සහ කතිකාවලදී සහෝදරයා, සහෝදරිය යනුවෙන් ඇමතීම නිසාද, පියා මවු සහෝදරයා ආදී වචන පුහු ආමන්ත්‍රණ විධි පමණකැයි කෙනෙකු විසින් තර්ක කරනු ලැබීමකට මෙය සමාන වන්නේය. වචනයකින් කියතොත් මැක්ලෙනන්ගේ සාක්ෂි ඉතාම දුර්වලය.

කෙසේ වුවද, එක් කරුණකදී නම් ඔහුට අභියෝග කර නැත. ''ගෝත්‍ර'' අතර බහිර් ජන්‍ය විවාහය හා අන්තර් ජන්‍ය විවාහය පිළිබඳ ඔහුගේ ප්‍රතිවාදය මත ඔහුගේ මුළු ක්‍රමයම පදනම් කොට තිබෙනවා පමණක් නොව එය බිඳවැටී නොමැත. එපමණක් නොව, මුළු පවුල් ඉතිහාසයේ භ්‍රමණ කේන්ද්‍රය ලෙස පවා එය පොදුවේ පිළිගෙන තිබේ. තමා ඉදිරිපත් කර ඇති කරුණුවලින් වුවද, තම ප්‍රතිවාදය විස්තර කිරීමේදී මැක්ලෙනන්ගේ ප්‍රයත්නය නොසෑහෙන සහ එකිනෙකට පරස්පර විරෝධී තත්ත්වයකට වැටී ඇති බව පිළිගත යුතුය. අන්‍යොන්‍ය තනි වර්ගවලට අයත්, වෙන්වූ හා ස්වාධීන ගෝත්‍ර දෙකක්, එක් ගෝත්‍රයක් බිරියන් සිය ගෝත්‍රය තුළින්ම සොයාගත් අතර, අනික් ගෝත්‍රයට මෙසේ කිරීම සම්පූර්ණයෙන්ම තහනම් කර තිබිණැයි කියන ඔහුගේ ප්‍රතිවාදයම සද නොවෙනස් සුවිශේෂමය සත්‍යය ලෙස පිළිගෙන තිබේ. මෙය නිදසුනක් වශයෙන් ජිරෝ-ටෙලෝන්ගේ ''පවුලේ ප්‍රභවය'' (1874) සහ ලබොක්ගේ ''සභ්‍යත්වයේ ප්‍රභවය'' (හතරවැනි මුද්‍රණය, 1882) සමග සසඳා බලන්න.

වත්මන් කෘතිය පදනම් කර ඇති ''පැරණි සමාජය'' (1877) නැමැති මෝර්ගන්ගේ ප්‍රධාන කෘතියේ වැදගත්කම පෙනෙන්නේ මෙතැනදීය. 1871 මෝර්ගන් අඩු පැහැදිලිතාවයකින් පමණක් හෙළි කළ කරුණු මෙහිදී අංග සම්පූර්ණ ලෙස වර්ධනය කර ඇත. අන්තර් ජන්‍ය විවාහය හා බහිර් ජන්‍ය විවාහය ප්‍රතිවාදයක් නොවේ, මේ වන තුරු බහිර් ජන්‍ය විවාහවල යෙදෙන ''ගෝත්‍ර'' ගැන කරුණු හෙළිකොට නැත. එහෙත් කාණ්ඩ විවාහය බලපෑ කාලයේදී — එක්තරා කලෙකදී කාණ්ඩ විවාහය හැම තැනම පැවති බව අනුමාන වශයෙන් නිගමනය කළ හැකිය — මවු පසින් ලේ නෑකම ඇති කාණ්ඩ කීපයකින් ගෝත්‍රය සමන්විත විය. වංශය තුළ විවාහය දැඩි ලෙස තහනම් කර තිබිණි. එක් වංශයකට අයත් පුරුෂයින්ට සිය ගෝත්‍රය තුළින් බිරියන් සොයාගැනීමට හැකි වූ අතර

ඔවුන් එය රීතියක් වශයෙන් එසේ කළද, සිය වංශයෙන් පිටත බිරියන් සොයා ගැනීමටද ඔවුනට සිදුවිය. ඒ අනුව වංශ ස්ථිර ලෙසම විවාහය අතින් බහිර් ජන්‍ය වුවද සියලු වංශ ඒකරාශී කරන ගෝත්‍රය අන්තර් ජන්‍ය වන්නේය. මෙයත් සමගම මැක්ලෙනන්ගේ කෘත්‍රිම ආකෘතියේ අවසාන නටබුන් නියත ලෙසම බිඳ වැටිණි.

කෙසේ වුවද, මෝර්ගන් මින් සෑහීමට පත් නොවීය. ඔහුගේ පිරික්සුමට භාජනය වූ ක්ෂේත්‍රයේ තීරණාත්මක දෙවැනි වර්ධනය ඇති කිරීමෙහි ලා ඇමෙරිකන් ඉන්දියානුන්ගේ පෙළපත් ඔහුට ආධාර විය. මවු අයිතිය අනුව සංවිධානය වූ වංශය මූල රූපය වූ අතර, එය පදනම් කර ගනිමින් පසු කලෙකදී පුරාතන සභ්‍ය ජනතාව අතර අප දකින පිය අයිතිය මත සංවිධානය වූ වංශ ඇති වූ බව ඔහු සොයා ගත්තේය. මීට පෙර සියලු ඉතිහාසකාරයින්ටම ප්‍රහේලිකාවක් වූ ග්‍රීක හා රෝමානු වංශ ඇමෙරිකන් ඉන්දියානු වංශ අනුව දැන් පැහැදිලි විය. ඒ අනුව, ආදි කල්පික සමාජයේ මුළු ඉතිහාසය සඳහා නව පදනමක් සොයා ගනු ලැබිය.

ජීව විද්‍යාව කෙරෙහි ඩාවින්ගේ පරිණාම වාදයද, ආර්ථික විද්‍යාව කෙරෙහි කාල් මාක්ස්ගේ අතිරික්ත වටිනාකම පිළිබඳ සිද්ධාන්තයද බලපෑවේ යම්සේද, සභ්‍ය ජනතාවගේ පිය අයිතිය සහිත වංශවලට ප්‍රාථමික අවධිය වශයෙන් මුල් මවු අයිතිය සහිත වංශ සොයාගැනීම ආදි කල්පික සමාජ ඉතිහාසය කෙරෙහි එලෙසම වැදගත් ලෙස බලපායි. පළමුවැනි වරට පවුල් ඉතිහාසයේ ආකෘතියක් දැක්වීමට මේ යළි සොයාගැනීම නිසා මෝර්ගන්ට හැකි වූ අතර, දැනට ලබාගත හැකි සාක්ෂි හා කරුණු අනුව, හැකිතරම් දුරට, යටත් පිරිසෙයින් සංවර්ධනයේ සනාතනික අවධි පොදු වශයෙන් තාවකාලිකව පෙන්වාදී ඇත. පැහැදිලි, ලෙසම, මෙයින් ආදි කල්පික සමාජ ඉතිහාසය හැදෑරීමේ නව යුගයක් ඇති විය. මුළු විද්‍යාවම භ්‍රමණය වන කේන්ද්‍රස්ථානය වූකලී මවු අයිතිය සහිත වංශයය. මේ සොයාගැනීමෙන් පසු අපේ පර්යේෂණ කිනම් මාවතක් ඔස්සේ ගෙන යා යුතුද, පිරික්සුමට භාජන කළ යුත්තේ මොනවාද, අපේ පිරික්සුම්වල ප්‍රතිඵල වර්ග කළ යුත්තේ කෙසේද ආදිය ගැන අපි දනිමු. මේ නිසා මෝර්ගන්ගේ කෘතිය පළවීමට පෙර, මේ ක්ෂේත්‍රයේ ලත් ප්‍රතිඵලවලට වඩා සීඝ්‍ර ප්‍රතිඵල ලැබීමට දැන් පටන්ගෙන ඇත.

එංගලන්තයේ ප්‍රාග් ඉතිහාසඥයින් පවා මෝර්ගන්ගේ සොයාගැනීම් දැන් පොදුවේ පිළිගෙන තිබේ, නැතිනම් ඒවා අයත්කරගෙන තිබේ. එහෙත් මේ විප්ලවවාදී දර්ශනය නිසා මෝර්ගන්ට අපි ණයගැති වෙමුයි එකකුවත් ප්‍රසිද්ධියේ පිළිනොගනු ඇත. එංගලන්තයේ ඔහුගේ කෘතිය හැකි තරම් සඟවා යටපත්කර ඇති අතර ඔහුගේ (මෝර්ගන්ගේ) පැරණි කෘතියට මහත් සේ පසසමින් ඔහු අමතක කර දමති. ඔහුගේ විවරණ



විස්තර විවේචනයට ලක් කරන අතර ඔහුගේ මාහැඟි සොයාගැනීම් ගැන මුරණ්ඩු ලෙස නිහඬ වෙති. "පැරණි සමාජය" නැමැති ඔහුගේ කෘතියේ මුල් මුද්‍රණය දැන් සොයාගැනීමට පවා නැත. ඇමෙරිකාවේ මෙවැනි පොත්වලින් ලාභ නොලැබේ, එංගලන්තයේ මේ පොත ක්‍රමානුකූලව මර්දනය කොට ඇති බව පෙනේ, මේ විශිෂ්ටතම කෘතියේ ලබාගත හැකි එකම මුද්‍රණය ජර්මන් පරිවර්තනය පමණකි.

මේ කොහොල නිහඬතාවයේ කුමන්ත්‍රණයක් ලෙස සැලකීම උගහට නොවේ. ආචාරශීලීත්වය නිසා පමණක් උපුටා දක්වනු ලැබූ උද්ධෘත පාඨලව සංඛ්‍යාව අනුවද, එකට වැඩ කරන සගයින් කෙරෙහි දක්වන ගෞරවය අනුවද, විශේෂයෙන්ම එය පෙනෙන අතර පිළිගත් ප්‍රාග් ඉතිහා-සඥයින්ගේ ලියවිලිවල මෙවැනි දේ බහුලව නොපවතීද? මෝර්ගන් ඇමෙරිකන් ජාතිකයකු වීම නිසා සමහර විට මෙසේ විය හැකිද, කරුණු හා සාක්ෂි එකතු කිරීමේදී ඉංග්‍රීසි ප්‍රාග් ඉතිහාසඥයින්ගේ කඩිසරකම පැසසුමට ලක්වුවද, මේ කරුණු ක්‍රමානුකූල ලෙස පිළියෙළ කිරීමේදී හා ගොනු කිරීමේදී, හා ඒවාට අවශ්‍ය මූලික තත්වයන් පිළිගැනීමේදී කෙටි-යෙන් කියතොත්, බහෝෆන් හා මෝර්ගන් වැනි කුසලතාවයකින් හෙබි විදේශිකයින් දෙදෙනෙකුගේ අදහස්වලට යටවීම හා ඒවා පිළිගැනීම අතිශයින්ම අසීරු වී තිබේද? ජර්මන් ජාතිකයකු නම් ඉවසිය හැකිය; එහෙත් ඇමෙරිකන් ජාතිකයෙකු නම් කෙසේ ඉවසිය හැකිද? මා ඇමෙරිකා එක්සත් ජනපදයේ නැවතී සිටි කාලයේදී අත්දුටු භාෂ්‍ය ජනක නිදසුන් අනුව ඇමෙරිකානුවකු දකින හැම ඉංග්‍රීසි කාරයෙකුගේම දේශප්‍රේමීත්වය පිරී ඉතිරීයයි. මෙයට තවත් කරුණක් එකතු කළ යුතුය, එනම් ප්‍රාග් ඉතිහා-සය හදරන ඉංග්‍රීසි නිකායයේ ආදි කතුවරයා සහ නායකයා ලෙස නිල වශයෙන් මැක්ලෙනන් පත් කොට තිබීමය. බිළිඳු ඝාතනයෙන් පටන් ගෙන බහු පුරුෂ සේවනය සහ පැහැරගෙනයාමෙන් පසු විවාහ කර ගැනී-මද, පවුලේ මවු අයිතිය දක්වා වූද, කෘත්‍රිම ලෙස සාදගත් මැක්ලෙනන්ගේ ඓතිහාසික න්‍යායය ඉමහත් භක්තියකින් යුතුව ඉංග්‍රීසි ප්‍රාග් ඉතිහාසඥ-යින් විසින් පිදීම අන්‍යොන්‍ය අංග සම්පූර්ණ බහිර්ජන්‍ය විවාහවීම් සහ අන්තර් ජන්‍ය විවාහවීම් පදනම් කර ගත් "ගෝත්‍ර" පැවතුණහයි සුළු වශයෙන් පවා සැක සිතීම මහා පාප කර්මයක් සේ ගැනිණි. මේ සියලු පොතේ ගුරුවාද පට්ටපල් බොරු බව පෙන්වාදීම නිසා මෝර්ගන් එක්තරා විධියක කෙලෙසීමකට වරදකරු වී සිටී. වැඩිදුරටත්, මෝර්ගන් ඒවා කොතරම් හොඳින් පැහැදිලි කළේදයත්, ඒවා සැක රහිතව ඔප්පු කිරීම සඳහා ඔහු විසින් කළ යුතුව තුබුණේ කරුණු ඉදිරිපත් කිරීමක් පමණකි. මෙතෙක් කල් බහිර්ජන්‍ය විවාහය හා අන්තර් ජන්‍ය විවාහය අතර පැටලී විස්මයට පත්වෙමින් මැක්ලෙනන් පිදුවෝ මහත්සේ පසුතැවිලි වෙමින්

මෙසේ කීහ: මීට බොහෝ කලකට පෙර අප විසින්ම මේ හැම දෙයක්ම නොසොයා ගැනීම කොතරම් විශාල මෝඩකමක්ද!

දැඩි උදාසීනත්වයකින් හැර අන් කිසි විධියකින් මෝර්ගන් කෙරෙහි සැලකිලි දක්වීමට තරම් නිලනිකාය ඉදිරිපත් නොවුණද, මෝර්ගන් පුරියේ සිහියට නංවන ලතාවකින් සභ්‍යත්වයද, හුවමාරු භාණ්ඩ නිපදවන සමාජයද, සමකාලීන සමාජයේ මූල රූපයද, විවේචනයට ලක් කළා පමණක් නොව, කාල් මාක්ස් විසින් පාවිච්චි කළ හැකි වචනවලින් අනාගත සමාජමය පරිවර්තනයක් ගැන පවසමින් සිය මතය සම්පූර්ණ කෙළේය. ''ඓතිහාසික ක්‍රමය ඔහුට මුළුමනින්ම නොරිසිය'' යන චෝදනාව මැක්ලෙනන් අවඥ සහගත ලෙස ඉදිරිපත් කළ විටද, එම චෝදනාත්මක මතය 1884 තරම් මෑත කාලයකදී මහාචාර්ය ජිරෝ-ටෙලොන් විසින් සනාථ කළ විටද, මෝර්ගන්ට සිය ක්‍රියාවේ විපාකය පලදිණි. 1874 දී (''පවුලේ ප්‍රභවය'' නැමැති කෘතියෙන්) මැක්ලෙනන්ගේ බහිර්ජන්‍ය විවාහය නම්වූ වංක ගිරියෙහි මංමුලාවී සිටි එම ජිරෝ-ටෙලොන් නැමැති මේ පුද්ගලයාව ගළවා ගැනීමට මෝර්ගන්ට නොසිදුවිද?

ආදි කල්පික සමාජ ඉතිහාසයේ වර්ධනයන් ගැන මෝර්ගන්ට ණයගැති විය යුතු බව පෙන්වන අනික් කරුණු ගැන මෙහි ලා විස්තර කිරීම අනවශ්‍යය. අවශ්‍ය කරුණු පොත කියවා දැනගත හැකිය. මෝර්ගන්ගේ ප්‍රධාන කෘතිය පළවී දහ හතර වසරක් ගෙවී ඇති මේ කාලය තුළදී ආදි කල්පික මානව සමාජ පිළිබඳ අප දන්නා කරුණු විශාල ලෙස දියුණු වී ඇත. මානව විද්‍යාඥයින්, දේශාටකයින්, ප්‍රාග් ඉතිහාසඥයින්, හැරුණු විට සංසන්දන නීතිය හදාරන පර්යේෂකයෝ මේ ක්ෂේත්‍රයට වැද, නව කරුණු හා සාක්ෂිද, මතද ඉදිරිපත් කළහ. මෙහි ප්‍රතිඵලයක් වශයෙන් විශේෂ කරුණු වලට අදාල මෝර්ගන්ගේ සමහර කල්පිත දෙදරුම් කා ඇත, නැතිනම් ඒවා අවලංගු වීමට පවා පත්වී ඇත. එහෙත් අලුතින් එකතු කරගත් කරුණු නිසා ඔහුගේ ප්‍රධාන විකල්පන වෙනුවට වෙනත් ඒවා ඉදිරිපත් කර නැත. මූලික ලක්ෂණ අනුව, ආදි කල්පික සමාජමය ඉතිහාසය හැදෑරීම සඳහා ඔහු ඉදිරිපත් කළ පිළිවෙත අද දක්වාම වලංගුව පවතී. මෝර්ගන්ගේ කර්තෘත්වයෙන් යුත් මේ මහා ප්‍රගතිය කොතරම් දුරට සඟවන්නේද, එතරම් දුරට ඔහුගේ සොයාගැනීම් වඩාත් වැඩියෙන් පොදු පිළිගැනීමට භාජන වන බව අපට කිව හැකිය.*

ප්‍රෙඩ්රික් එංගල්ස්, ලන්ඩනය, 1891 ජූනි 16

1891 "Die Nene Zeit" සඟරාවේ ''ආදිකාලීන පවුලේ ඉතිහාසය'' යන මැයින්, ලිපියක් ලෙස ජර්මන් බසින් මුලින් ප්‍රසිද්ධ කරන ලදී

පොතේ හතරවැනි සංස්කරණයට අනුකූලව මුද්‍රණය කරන ලදී

---

* 1888 සැප්තැම්බර් මාසයේදී නිව්යෝක් සිට පෙරළා එන විට ලෙවිස් මෝර්ගන් හඳුණන රොචෙස්ටර්හි හිටපු කොංග්‍රස් සභිකයකු මට හමුවිය. අවාසනාවකට මෙන් ඔහුට මෝර්ගන් ගැන කිව හැකි වූයේ ස්වල්පයකි. රොචස්ටර්හි පෞද්ගලික පුරවැසියකු හැටියට සිටි මෝර්ගන් සිය පර්යේෂණ කටයුතුවලට පමණක් සීමාවී සිටි බව ඔහු පැවසීය. ඔහුගේ සොහොයුරකු වොෂින්ටනයේ යුද්ධාංශයේ සේවය කළ උසස් නිලධාරියකු වූයෙන්, ඔහුගේ ආධාරය ඇතිව පර්යේෂණ කටයුතු ගැන රජයේ වුවමනාවක් ඇතිකරවීමට ඔහු සමත් විය. මෝර්ගන්ගේ පොත් කීපයක් මහජන මුදලින් මුද්‍රණය කරවීමට හැකි විය. තමා කොංග්‍රස් සභාවේ සිටි කාලයේදී ඔහුට ආධාර කළ බවද හිටපු කොංග්‍රස් මන්ත්‍රීවරයා පැවසීය. (එංගල්ස්ගේ සටහනකි.)

# I

## ප්‍රාග් ඓතිහාසික අවධිවල සංස්කෘතිය

මිනිස් ඉතිහාසයට පෙර පැවති, කාලෝචිත ස්ථිර ක්‍රමානුකූල සැලැස්මක් ඉදිරිපත් කිරීමට වෑයම් කළ පළමුවැනි විශේෂඥයා මෝර්ගන්ය. වැදගත් අතිරේක කරුණු නිසා වෙනස් කිරීම් අවශ්‍ය නොවන්නේ නම්, ඔහුගේ වර්ග කිරීම එලෙසම පවතිනු ඇත.

ම්ලේච්ඡත්වය, අශිෂ්ටත්වය හා සභ්‍යත්වය යන මේ යුග තුන අතුරෙන් ඔහු වැඩි උනන්දුවක් දැක්වූයේ පළමු යුග දෙකට සහ තෙවැනි යුගය දක්වා පරිවර්තනය වීම ගැන පමණකි. යැපීම සඳහා අවශ්‍ය මාධ්‍යවල දියුණු වීම අනුව ඔහු මේ දෙයුගය පහත්, මැද හා උසස් වශයෙන් තෙකොටසකට බෙදා වෙන්කරයි. "මේ අංශයේ ඔවුන්ගේ දක්ෂතාවය අනුව මිනිස් ආධිපත්‍යය පිළිබඳ මුළු ප්‍රශ්නය රඳා පැවතිණ. ආහාර නිෂ්පාදනය මත සම්පූර්ණ පාලනයක් ඇති කරගත් එකම සත්ත්ව වර්ගයා මිනිස් වර්ගයා බව කිව හැකිය. ජීවිකාවෘත්තියට අවශ්‍ය නිධාන විශාල වී පුළුල් වීමත් සමගම, අඩු වැඩිවශයෙන් එක එල්ලේම, මිනිස් සංවර්ධනයේ මහා යුග හඳුන්වා තිබේ" පවුලේ පරිණාමය සිදුවන නමුදු කාල පරිච්ඡේද බෙදා වෙන්කිරීම සඳහා නිසැක මිම්මක් එයින් නොලැබේ.

### 1. ම්ලේච්ඡත්වය

1. පහත් අවධිය. මිනිස් වර්ගයාගේ ළදරු අවධිය වේ. මිනිසා තම මුල් ජන්ම භූමිය වන නිවර්තන (සර්ම කලාපික) හෝ අර්ධ නිවර්තන කැලෑවල වාසය කළේය. අඩ වශයෙන් ගස්වලද වාසය කළේය. මිනී කන විශාල වන සතුන්ගෙන් ගැළවී දිගටම ජීවත්වීමට ඔහු සමත්වූයේ මේ හේතුව නිසාය. පලතුරු, ඇට හා ගස්වල මුල් වර්ග ඔහුගේ ආහාර විය. මේ කාලයේ ප්‍රධාන ජයග්‍රහණය වූයේ පැහැදිලි ලෙස කතා කිරීම ඇති වීමය.

ඓතිහාසික යුගයේදී ප්‍රසිද්ධියට පැමිණි එකද ජන කොටසක්වත් මේ ආදි කල්පික තත්ත්වයේ තවදුරටත් නොසිටියේය. මේ අවධිය අවුරුදු දහස් ගණනක් පැවතිණැයි සිතිය හැකි වුවද, එහි පැවැත්ම ගැන අපට සාක්ෂ්‍ය නොමැත. මිනිසා සත්ත්ව පරපුරෙන් පැවත එතියි අප පිළිගත් විට, මේ පරිවර්තන අවධිය පිළිගැනීම නොවැළැක්විය හැකිය.

2. මධ්‍යම අවධිය. ආහාර සඳහා මාළු (මෙයට කකුළුවෝ සහ කවච මත්ස වර්ගද, දිය සත්තුද අයත් වෙති) භාවිතයට ගැනීම සහ ගින්දර පාවිච්චි කිරීමත් සමගම පටන් ගැනේ. මේ දෙක එකිනෙකට අනු පූරකය, මන්දයත් මාළු වර්ග ආහාර පිණිස නියම ලෙස පිළියෙළ කර ගැනීමට නම් ගින්දර පාවිච්චි කළ යුතු බැවිනි. කෙසේ හෝ මේ අළුත් ආහාරය නිසා මිනිසා කාල ගුණයේ හා ප්‍රදේශයේ බලපෑමෙන් නිදහස් විය. ගංගා හා වෙරළ ඔස්සේ ගමන් කරමින් මේ ම්ලේච්ඡ අවධියේදී පවා මහ පොළොවේ වැඩි කොටසක පැතිරී යාමට මිනිසා සමත්විය. ආදි ශිලා සමයේ — පැලියොලිතික් හෙවත් පුරාණ පාෂාණ යුගය ලෙස හැඳින්වෙන සමයේ ගොරහැඩි හා රළු ගල් අවි සම්පූර්ණ වශයෙන් හෝ වැඩි වශයෙන් මේ කාලයට අයත්ය. මේවා සියලුම මහාද්වීපවල පැතිරී ගොස් තිබෙන අතර සංක්‍රමණවල සාක්ෂ්‍යය ලෙසද හැඳින්විය හැකිය. අළුතින් පදිංචිවූ පෙදෙස්ද, එමෙන්ම අළුත් සොයාගැනීම් සඳහා පැනනැගි නොනවතින ක්‍රියාකාරී අවශ්‍යතාවයද සමගම ඇති වුණු ගලින්ගල අතුල්ලා ගිනි අවුළුවා ගැනීමේ කලාවද නිසා පිටි සහිත මුල් හා වැල් වැනි ආහාර ද්‍රව්‍ය උණු අළු තුළ බහා හෝ ලිප් (පොළොවේ හාරන ලද වලවල් සහිත උඳුන්) තුළ බහා පිළියෙළ කර ගැනීමට හැකි විය. ආදි කල්පික අවි — හෙල්ල හා පොල්ල — සොයා ගැනීමෙන් පසු ඉඳහිට තම ආහාරයට දඩමස් එකතු කර ගැනීමට ඔවුහු සමත් වූහ. පොත්වල දකින්ට ලැබෙන, දඩයමෙහි පමණක් යෙදුණු, එනම් දඩයමින් පමණක් ජීවත් වූ මිනිස්සු කිසිකලෙක නොසිටියහ. දඩයමින් ලබාගත හැකි දඩමස්වල ප්‍රමාණය අස්ථිර විය. ආහාර ලබාගැනීමේ මාධ්‍ය පිළිබඳව දිගින් දිගටම ඇති වූ අස්ථිරතාවය නිසා මේ අවධියේදී මිනීමස් ආහාර වශයෙන් ගැනීම ඇතිවුණු බව පෙනෙන අතර එය දිගු කලක් තිස්සේ පැවතිණි. ඕස්ට්‍රේලියානුවෝද බොහෝ පොලිනීසියානුවෝද අද දක්වාත් ම්ලේච්ඡත්වයේ මධ්‍යම අවධියේ පසුවෙත්.

3. උසස් අවධිය. දුන්න සහ ඊය සොයා ගැනීමත් සමගම මේ අවධිය ඇරඹිණි. මේ නිසා දඩමස් ආහාර වශයෙන් නොකඩවා ගැනීමට හැකිවූ අතර දඩයම් කිරීම සාමාන්‍ය රැකියාවලින් එකක් බවට පත්විය. දුන්න සහ ඊය අංග සම්පූර්ණ, සංකීර්ණ අවියකි. දිගු කලක් තිස්සේ ලබන ලද අත්දැකීම් හා තියුණු බුද්ධිය මේ අවිය සොයාගැනීමටද, ඒ සමග තවත්



සොයාගැනීම් රැසක් ගැන දැන හැඳිණ ගැනීමටද ඉවහල් විය. දුන්න හා ඊය පාවිච්චි කරන හැටි දැනගත්තද, තවම මැටි බඳුන් සෑදීමේ කලාව නොදත් මිනිසුන් (මෙතැන් සිට අශිෂ්ටත්වය දක්වා පරිවර්තනය වුණු බව මෝර්ගන් පෙන්වා දෙයි) සමග සසඳා බලන්නේ නම්, මේ මුල් අවධිවලදී පවා ගම්වල මිනිසුන් වාසය කිරීමට පටන්ගත් සැටිද, යැපීමේ මාධ්‍යයන් නිපදවීමේ එක්තරා නිපුණත්වයක් ලබාගත් සැටිද අපට පෙනේ. ලී බඳුන් සහ මැටි බඳුන් ආදිය සෑදීමද, ගස්වල පට්ටාවලින් ලබාගත් කෙඳිවලින් (අත් යන්ත්‍ර රහිතව) රෙදි වියීමද, නොයෙකුත් පට්ටාවලින් හා වැල් වර්ගවලින් වට්ටි පෙට්ටි ආදිය සෑදීමද, ගල් අවි සහ ඔපමට්ටම් කළ (නව ශිලා හෙවත් නියෝලිතික්) උපකරණද අපි දකිමු. ගස් කඳන් හාරා ඔරු තනා ගැනීම සඳහාද, සමහර තැන්වල දැව දඬු හා ලීවලින් ගෙවල් සාද ගැනීම සඳහාද ගින්දර හා ගල් පොරොව උපකාරී විය. නිදසුනක් වශයෙන්, දුන්න සහ ඊය භාවිතා කළ වයඹදිග ඇමෙරිකාවේ ඉන්දියනුන් මැටි බඳුන් සෑදීම හෙවත් කුඹල් කර්මාන්තය නොදැන සිටියද, ඔවුනතර මේ සියලු වර්ධනයන් දක්නට ලැබිණ. අයෝමය අසිපත අශිෂ්ටත්වයටද, තුවක්කුව ශිෂ්ට සමාජයටද තීරණාත්මක අවි වූවා සේම, දුන්න සහ ඊය ම්ලේච්ඡත්වයේ තීරණාත්මක අවිය වූයේය.

## 2. අශිෂ්ටත්වය

1. පහත් අවධිය. කුඹල් කර්මාන්තයේ පටන් ගැනීමත් සමග ඇරඹිණි. අප දකින පරිදි බොහෝ තැන්වල, සමහර විට සෑම තැනම පාහේ කුඹල් කර්මාන්තයේ මූලාරම්භය ඇති වූයේ ගින්නට ඔරොත්තුදීම පිණිස වට්ටි හෝ ලී බඳුන් හෝ වටා මැටි ගසා සාදගැනීමෙනි. අභ්‍යන්තර භාජනය නැතිව තනිකර මැටිවලින් වාත්තු කොට සාදගත් මැටි බඳුන්ද, එලෙසම ගින්නට ඔරොත්තු දෙන බව ඉක්මනින්ම සොයා ගන්නා ලදී.

මේ වකවානුව දක්වා, ප්‍රදේශීය භේද නොතකා පරිණාමයේ සන්තතිය සියලු මිනිසුන්ට එක සමාන ලෙස පොදුවේ බලපෑ බව නිගමනය කළ හැකිය. කෙසේ වුවද, අශිෂ්ටත්වය පැතිරීමත් සමගම මහා ද්වීප දෙකේ සොබාවික උරුමයන්ගේ වෙනස බලපාන අවධියකට අපි පැමිණෙමු. අශිෂ්ටත්වයේ විශේෂ අංග ලක්ෂණ වූකලී සතුන් හීලෑ කිරීම හා සතුන් ඇති කිරීමද, පැලෑටි වර්ග වගා කිරීමද වේ. පැරණි ලෝකය නමින් හඳුන්වනු ලැබූ පෙරදිග මහාද්වීපයෙහි හීලෑකිරීමට සුදුසු සියලු සතුන් පාහේ සිටි අතර එක් වර්ගයක් හැර වගා කිරීමට සුදුසු සියලු ධාන්‍ය වර්ගද තිබිණ. එහෙත් ඇමෙරිකාවේ සිටියේ හීලෑ කළ හැකි, ක්ෂීරපායී ගණයට අයත් එකම සත්ත් වර්ගයක් පමණකි, එනම් ලාමා නැමැති සතා පමණකි.

ළුද වාසය කළේ දකුණු දිග එක් පෙදෙසක පමණකි. වගාවට සුදුසු ධාන්‍ය වර්ග තිබුණේ එකක් පමණක් වුවද, එය ඉතා හොඳ ධාන්‍ය වර්ගය වූ බඩ ඉරිඟු විය. මෙතැන් සිට මේ අර්ධගෝල දෙකට අයත් ජනතාව තමන්ට විශේෂ වූ මාර්ග ඔස්සේ ගමන් කරන්ට වූයේත් මේ ස්වාභාවික තත්වයන්ගේ විවිධ බලපෑම් නිසාය. මේ අර්ධ ගෝල දෙකේ විවිධ අවධි අතර මායිම් හා ඉම් ලකුණු වෙනස් වූයේත් මේ හේතුව නිසාය.

2. මධ්‍යම අවධිය. සතුන් හීලෑකිරීමත් සමගම මෙය නැගෙනහිර ඇරඹිණ. වාරි මාර්ග යොද ආහාරයට සුදුසු පැලෑටි වර්ග වගා කිරීමත්, (අව්වේ දමා වේලන ලද) මැටි ගඩොලින් සහ ගල්වලින් ගොඩනැගිලි සෑදීමත් සමග බටහිර මේ අවධිය ඇරඹිණ.

යුරෝපීයයන් ඇමෙරිකාව ජයගන්නා තෙක් මේ අවධිය පසු නොකළ බැවින් අපි බටහිරින් පටන් ගනිමු.

තමන් සොයාගන්නා අවධියේදී අශිෂ්ටත්වයේ පහත් අවධියේ සිටි ඉන්දියානුවෝ (මිසිසිපි ගඟින් නැගෙනහිර ජීවත් වූවන් මේ අවධියට අයත්ය) බඩ ඉරිඟු, වට්ටක්කා, කොමඩු සහ අනිකුත් එළවළු ජාති වගා කළහ. මෙය ඔවුන්ගේ ආහාරයේ සෑහෙන කොටසක් විය. දඬු වැටවල්වලින් වටකරන ලද ගම්වල ලීයෙන් තැනූ ගෙවල්වල ඔවුහු වාසය කළහ. වයඹදිග වාසය කළ ගෝත්‍ර, විශේෂයෙන් කොළොම්බියා ගඟ අසල පෙදෙසෙහි ජීවත්වූවෝ මේ වනතුරු ම්ලේච්ඡත්වයේ උසස් අවධියේ පසුවූහ. ඔවුහු මැටි බඳුන් සෑදීම හෝ පැලෑටි වගාව හෝ නොදත්හ. එහෙත් අනිත් අතින්, නිව් මෙක්සිකෝවේ පුළුබ්ලෝ නමින් හැඳින්වෙන ඉන්දියානුවෝ මෙක්සිකන්වරුද, මධ්‍යම ඇමෙරිකන්වරුද, පෙරුවියානුවෝද යුරෝපීයයන්ගේ ජයග්‍රාහී සමයේදී අශිෂ්ටත්වයේ මධ්‍යම අවධියේ පසුවූහ. අව්වේ වේලා සාදගත් මැටි ගඩොලින් හෝ ගල්වලින් හෝ තැනූ බලකොටු වැනි ගෙවල්වල ඔවුහු වාසය කළහ. කෘත්‍රිම ලෙස සෑදූ වාරිමාර්ග සහිත වතුවල ඔවුන් විසින් බඩ ඉරිඟු ද, ප්‍රදේශයට හා කාලගුණයට ගැළපෙන, ආහාරයට සුදුසු වෙනත් පැලෑටි වර්ගද වගා කෙරිණි. මේවා ඔවුන්ගේ ප්‍රධාන ආහාරය විය. ඔවුහු සතුන් කීප වර්ගයක් — මෙක්සිකන්වරු කළුකුමා සහ වෙනත් පක්ෂීන්ද, පෙරුවියානුවෝ ලාමාද — හීලෑ කිරීමෙහි සමත් වූහ. යකඩ හැර අනිකුත් ලෝහ වර්ග භාවිතා කිරීමටද ඔවුහු දැන සිටියහ. ගල් අවි සහ උපකරණ අත්හැර දැමීමට ඔවුන්ට බැරි වූයේ මේ හේතුව නිසාය. ඔවුන්ගේ තවත්දුර වර්ධනය ස්පාඤ්ඤයින්ගේ ජයග්‍රහණය විසින් නවත්වන ලදී.

නැගෙනහිර අශිෂ්ට යුගයේ මධ්‍යම අවධිය ආරම්භ වූයේ සතුන් හීලෑ කිරීමත් සමගය. මේ අවධියේ අවසාන භාගය වනතුරු පැලෑටි වගාව ගැන ඔවුහු නොදැන සිටියහ. ආර්යයන් හා සෙමිටික්වරුන් අනිකුත්



ජාතීන්ගෙන් වෙන්ව පෙනී සිටීමේ හේතුව ගව මහීසාදීන් හීලෑකිරීම සහ ඇති කිරීමද, සතුන් විශාල රංචු වශයෙන් එක්රැස් කිරීමද නිසා විය යුතුය. ගව මහීසාදී සතුන්ගේ නම් අදත් යුරෝපීය හා ආසියානු ආර්යයන්ට පොදුය. පැලෑටිවල නම් එසේ වන්නේ බොහෝ කලාතුරකිනි.

සෙමිටික්වරුන් යුප්‍රේටස් හා ටයිග්‍රිස් අසල තණබිම් සහිත තැනිතලාවලද, ආර්යයන් ඉන්දියාවේ එවැනිම තැනි තලාවලද, ඔක්සස් හා ජක්සාර්ටස්* නදී අසලද, ඩොන් හා ද්නීපර් නදී අසල තැන්නෙහිද ආදී සුදුසු පෙදෙස්වල සත්ව වගාව පටන් ගැනීම නිසා එඬේර ජීවිතය ඇරඹිණි. එවැනි ගොදුරු බිම් සහිත මායිම්වල සතුන්හීලෑ කිරීම පළමුවෙන්ම සාර්ථක වූ බව සිතිය හැකිය. ම්ලේච්ඡත්වයේ සිටි තම මුතුන් මිත්තන්ට සහ අශිෂ්ටත්වයේ පහළ අවධියේ සිටි මිනිසුන්ට පවා වාසය නොකළ හැකි පෙදෙස්වල මුලදී එඬේරුන් ඇති වූ බවද, මේ පෙදෙස් කොහෙත්ම මිනිස් තොටිල්ල වශයෙන් හැඳින්විය නොහැකි බවද ඒ අනුව පසු පරම්පරාවලට පෙනෙනු ඇත.

විලෝම වශයෙන්, මධ්‍යම අවධියේ වුසූ අශිෂ්ටයින් එඬේර ජීවිතයට හුරු පුරුදු වූ පසු, සිය කැමැත්තෙන්ම ජලය සහිත තණබිම් අතහැරයාමට සහ තම මුතුන් මිත්තන්ගේ ජන්ම භූමිය වූ කැලෑවලට ආපසු යාමට ඔවුන්ට සිත් නොදිණි. ආර්යයන් හා සෙමිටික්වරුන් උතුරු හා බටහිර දිග පෙදෙස්වලට එළවා දැමූ පසුද, ධාන්‍ය වර්ග වගා කොට තම ගව මහීසාදී සතුන්ට ආහාර ලබාදීමට හැකියාවක් ලැබෙන තුරු සහ විශේෂයෙන් එහි ශීත සමය ගත කිරීමට හැකියාවක් ලැබෙන තුරු, යුරෝපයේ හා බටහිර ආසියාවේ කැලෑ පෙදෙස් වන මේ අයහපත් බිම්වල වාසය කිරීමට ඔවුහු අපොහොසත් වූහ. මේ පෙදෙසේ ධාන්‍ය වගා කිරීම පළමුවෙන්ම ඇතිවූයේ ගව මහීසාදීන්ට ආහාර සැපයීම සඳහා බවත්, අනතුරුව ඒවා මිනිසාගේ වැදගත් ආහාර වූ බවත් සිතාගත හැකිය.

ආර්ය හා සෙමිටික් වර්ගයන්ගේ උසස් වර්ධනයට හේතුවූ එක් කරුණක් ලෙස සැලකිය හැක්කේ, ඔවුන් බහුල වශයෙන් මස් හා කිරි ආහාර ගැනීමත්, විශේෂයෙන්ම ඒවා ඔවුන්ගේ දූ දරුවන්ගේ වර්ධනයට ඉමහත් ලෙස ප්‍රයෝජන වීමත් නිසාය. ඇත්ත වශයෙන්ම එළවුළු වර්ග පමණක් බුදින නිව් මෙක්සිකෝවේ පුළුබ්ලෝ ඉන්දියානුන්ගේ මොළය අශිෂ්ටත්වයේ පහළ අවධියේ පසු වූ මස් හා මාළු ආහාර පිණිස ගත් ඇමෙරිකන් ඉන්දියානුන්ගේ මොළයට වඩා ප්‍රමාණයෙන් කුඩා විය. කෙසේ හෝ මේ වන විට මිනීමස් කෑම ක්‍රමයෙන් අතුරුදහන් වූ අතර එය ශේෂ වූයේ

* ඔක්සස් හා ජක්සාර්ටස් දැන් අමුදර්යා සහ සිර්දර්යා නමින් හැඳින් වේ. — සංස්කාරක

ආගමික සිරිතක් වශයෙන් පමණකි, නැතිනම් යන්ත්‍ර-මන්ත්‍ර, හූනියම් ආදිය හෝ සමගය.

3. උසස් අවධිය. යපස් උණුකිරීම සහ සමග ආරම්භ වී අක්ෂර හෝඩිය සොයාගැනීමත් සාහිත්‍යමය වාර්තා ලිවීමට අකුරු යෙදීමත් සමගම සභ්‍යත්වයට පා තබයි. අප විසින් දැනටමත් සටහන් කොට ඇති පරිදි මේ අවධියේදී, නිදහස් ලෙස ඉදිරියට ගියේ නැගෙනහිර අර්ධ ගෝළයේ මිනිස් සමූහයන් පමණකි. අනික් සියලුම අවධි එක් කළ විට ලැබෙන ප්‍රමාණයට වඩා වැඩි ප්‍රමාණයක නිෂ්පාදනයක් මේ අවධියේදී ඇති විය. වීර යුගයේ ග්‍රීකයෝද, රෝමය ගොඩනැගීමට ටික කලකට පෙර වුසූ ඉතාලි ගෝත්‍රද, ටැසිටස්ගේ, කෘතීන්හි එන ජර්මන්නුද, වයිකින්වරුන්ගේ සමයේ නෝමන්වරුද මේ අවධියට අයත් වූහ.

අන් හැම දේකටම වඩා, හීලෑ සතුන් යොදා යකඩ නගුල්වලින් බිම් ඉතා පුළුල් ලෙස වගා කිරීම — අස්වැද්දීම සහ බිම සකස් කිරීම — සහ ඒ කාලයේ පැවති තත්ත්වයන් අනුව යැපීමේ මාධ්‍යයන් සීමා රහිත ලෙස වැඩි වීමක් මෙහිදී අපට පෙනේ. මෙයට සම්බන්ධ කැලෑ එළිකිරීම් හා ඒවා වගාවට සහ තණබිම්වලට සුදුසු පරිදි යොදාගැනීමද — යකඩ පොරොව හා උදැල්ල නැතිව මෙය පුළුල් පරිමාණයක් අනුව නොකළ හැකිය — අපි දකිමු. එහෙත් මේ සමගම ජනගහනය විශාල වශයෙන් වැඩි වූ අතර කුඩා පෙදෙස්වල ජනගහනයේ ඝනත්වය වැඩිවීමක්ද සිදු විය. බිම් සකස් කිරීමට පෙර, එක් මධ්‍යම නායකත්වයක් යටතේ පන් ලක්ෂයක ජන සමූහයක් ඒකරාශී කිරීමට හැකි වූයේ විශේෂ තත්වයන් යටතේදී පමණකි; කෙසේ හෝ මීට පෙර එවැනි ඒකරාශී කිරීමක් නොවූවා විය හැකිය.

හෝමර්ගේ කාව්‍ය කෘතීන්වල, විශේෂයෙන් ඉලියඩ් නැමැති කාව්‍යයේ අශිෂ්ටත්වයේ උසස් අවධියේ උච්චස්ථානය අපි දකිමු. වඩාත් හොඳින් සාදන ලද යකඩ උපකරණ මයිනහම, අත් මෝල, මැටි බඳුන් සාදන රෝදය, තෙල් සහ මත්පැන් වර්ග සෑදීම, ලෝහ කර්මාන්තය කලාවක් දක්වා දියුණු වීම, ගැල් සහ යුද්ධ රථ සෑදීම, ලී සහ පරාල යොදා නැව් ආදිය සෑදීම, ගෘහ කර්මාන්තය කලාවක් ලෙස පටන් ගැනීම, නගර වටා ප්‍රාකාර සහ කුළුණු ගොඩනැගීම, හෝමර්ගේ මහා කාව්‍යය සහ දේවකතා සංග්‍රහය ඇතිවීම — ග්‍රීකයින් අශිෂ්ටත්වයේ සිට සභ්‍යත්වය දක්වා පරිවර්තනය වීමේදී ඔවුන් ගෙනා දායාදයන් විය. හෝමර්ගේ කතාවල එන, වඩාත් උසස් සංස්කෘතික අවධියකට පා තැබීම සඳහා සූදනම් වන්නා වූ ග්‍රීකයින් සිටින සංස්කෘතික අවධියේ දොරටුව ළඟට විත් සිටින ජර්මනුන් පිළිබඳ සීසර්ගේ හා ටැසිටස්ගේ විස්තර සමග මෙය සසඳා බලන්නේ නම්, අශිෂ්ටත්වයේ උසස් අවධියේ නිෂ්පාදන සංවර්ධනය කෙතරම් පොහොසත්දැයි අපට පෙනේ.



මෝර්ගන් අනුගමනය කරමින් ම්ලේච්ඡත්වයේ සිට සභ්‍ය සමාජයේ මූලාරම්භය දක්වා මවිසින් ඉදිරිපත් කරන ලද මිනිස් වර්ගයාගේ පරිණාමය පිළිබඳ දර්ශනය සැක නොකළ හැකි හා නව අංගවලින් පොහොසත්ය. එලෙස සැකයට හසු නොකළ හැක්කේ, කෙළින්ම නිෂ්පාදනයෙන් ගත් නිදසුන් නිසාය. ඒ කොයි හැටි වුවද, අපේ ගමන අවසානයේදී අපට දක්නට ලැබෙන දර්ශන සමග සසඳා බලන විට, මෙය දුර්වල හා නොවැදගත් දෙයක් සේ පෙනෙනු ඇත. අශිෂ්ටත්වයේ සිට සභ්‍යත්වය දක්වා ඇති වූ පරිවර්තන ගැන සම්පූර්ණ විස්තරයක් සහ මේ යුග දෙක අතර කැපී පෙනෙන වෙනස පිළිබඳ පූර්ණ විස්තරයක් ඉදිරිපත් කිරීමට හැකි වන්නේ ඉන් පසුවය. මෝර්ගන්ගේ බෙදා වෙන් කිරීම් දැනට අපට මෙලෙස සම්පිණ්ඩනය කළ හැකිය: පාවිච්චියට ගැනීමට සුදුසු ආහාර වර්ග අයත් කර ගැනීමද, මෙසේ අයත් කර ගැනීමට අදාල වන උපකරණ ප්‍රධාන වශයෙන් මිනිසා විසින් නිපදවනු ලැබීමද සිදුවූයේ ම්ලේච්ඡත්වයේ යුගයේදීය. අශිෂ්ටත්වය පැවති යුගයේදී ගව මහීසාදී සතුන් හීලෑ කොට ඔවුන් ඇති කිරීම සහ බිම් වගා කිරීම පිළිබඳ දැනීමක් ලබා ගැනීමද, මිනිස් ක්‍රියාකාරීත්වය නිසා ස්වාභාවික පලදාව වැඩි කිරීමේ ක්‍රම ඉගෙන ගැනීමද සිදුවිය. ස්වාභාවික ආහාර ද්‍රව්‍ය වැඩිදුරටත් නිපදවීම පිළිබඳ දැනීම ලබා ගැනීමද, වචනයේ සැබෑ අර්ථයෙන්ම කර්මාන්ත සහ කලා ප්‍රගුණ කිරීමද සභ්‍යත්වය ඇති වීමෙන් ඇරඹිණි.

## II

## පවුල

මෝර්ගන්, තම ජීවිතයෙන් වැඩි කලක් ඉරෝකුවෝයිස්වරුන් — ඔවුහු තවමත් නිව්යෝක් ජනපදයෙහි පදිංචි වී සිටිති — සමග ගත කළ අතර එක් ගෝත්‍රයක් (සෙනේකාවරුන්) විසින් ඔහු එහි සාමාජිකයකු ලෙස ඇතුළු කර ගන්නා ලදී. ඔහු ඔවුන්ගේ සැබෑ පවුල් නෑකම්වලට ප්‍රතිවිරුද්ධ ලේ නෑ ක්‍රමයක් සොයා ගත්තේය. ඔවුනතර නීතියක් ලෙස පැවති, එක් පසක කැමැත්ත පරිදි ලෙහෙසියෙන් කවුගා දැමිය හැකි, තනි යුවලක් අතර විවාහය මෝර්ගන් යුගලන පවුල හැටියට නම් කළේය. එලෙස විවාහ වූ යුවලකගේ දූ දරුවන් හැමදෙනා විසින්ම පිළිගනු ලැබූ අතර පියා, මවු, පුතා, දුව, සහෝදරයා, සහෝදරී යන හැඳින්වීම් පිළිබඳව සැක ඇති නොවීය. එහෙත් ඒ හැඳින්වීම් නියම භාවිතයේදී ප්‍රතිපක්ෂ බවක් දැරීය. ඉරෝකුවෝයිස් ගෝත්‍රිකයෙක් තම දූ පුතුන් හැටියට හැඳින් වූයේ තම දූ පුතුන් පමණක් නොවේ. ඔහු තම සහෝදරයාගේ දූ පුතුන්ද,

එලෙසම එම නම්වලින් හැඳින්වීය. සහෝදරයාගේ දූ පුත්තුද ඔහුට පියා යැයි ඇමතූහ. අනික් අතින් ඔහු සොහොයුරියගේ ළමයින් බෑණාවරුන් හා ලේලියන් වශයෙන් හඳුන්වයි. ඒ ළමයි ද ඔහු මාමා වශයෙන් හඳුන්වති. විපර්යස්තව, ඉරෝකුවෝයිස් කාන්තාවක් තම සොහොයුරියගේ ළමයින් තමාගේම දූ පුතුන් ලෙස හඳුන්වයි; ඔවුහු ඇට අම්මා යැයි අමතති. අනික් අතින් ඈ සිය සොහොයුරුගේ ළමයින් බෑණාවරුන් හා ලේලියන් ලෙස හඳුන්වයි. ඒ ළමයින් ඇය හඳුන්වන්නේ නැන්දා ලෙසිනි. එසේම සොහොයුරන්ගේ දූ දරුවෝ එකිනෙකාට සොහොයුර, සොහොයුරිය යැයි අමතා ගනිති. සොහොයුරියන්ගේ දූ දරුවෝද එලෙසම ඔවුනොවුන් අමතති. අනික් අතින් ස්ත්‍රියකගේ සහ ඇගේ සොහොයුරාගේ දරුවන් එකිනෙකා අමතා ගන්නේ ඥාති සහෝදරයා සහ ඥාති සහෝදරිය වශයෙනි. මේ ඇමතීම් කිසිම ලෙසකින්වත් පුහු, අරුත් රහිත ඒවා නොවීය. එහෙත් මේවා ළඟ නෑකමද, සමපාර්ශවීය භාවයද, ලේනෑකමේ සමානත්වය හා අසමානත්වයද පිළිබඳ සැබවින්ම බලපාන අදහස් ප්‍රකාශ කිරීමක් විය; මේවා එකම පුද්ගලයකුගේ සිය ගණනක් විවිධ නෑකම් පෙන්වාදීමෙහි සමත් සම්පූර්ණයෙන් සාදා පිළියෙළ කරන ලද ලේ ඥාති ක්‍රමයක පදනම මේ අදහසින් ප්‍රකාශ කරයි. වැඩි දුරටත්, 'මේ ක්‍රමය ඇමෙරිකන් ඉන්දියානුන් අතර සම්පූර්ණයෙන් පවතිනවා පමණක් නොව (මීට විරුද්ධ මතයක් මෙතෙක් සොයාගෙන නැත), ඉන්දියාවේ මුල් වැසියන් අතරද, ඩෙකානයේ ද්‍රවිඩ ගෝත්‍ර අතරද, හින්දුස්ථානයේ ගෞර ගෝත්‍ර අතරද අඩුවැඩි වශයෙන් වෙනසක් නොවී පවතී. දකුණු ඉන්දියාවේ ද්‍රවිඩයින් අතර සහ නිව්යෝක් ජනපදයේ ඉරෝකුවෝයිස්වරුන් අතර පවතින විවිධ නෑකම් දෙසියකටත් වැඩි ගණනක් අද දක්වාත් සර්වසමව පවතී. ඉන්දියාවේ මේ ගෝත්‍ර අතරද, එමෙන්ම ඇමෙරිකානු ඉන්දියානුන් අතරද, පවුලේ දැනට බලපාන විධිය අනුව සෑදී ඇති නෑකම් ක්‍රමය ලේ නෑ ක්‍රමයට ප්‍රතිවිරෝධීය.

මෙය විස්තර කළ හැක්කේ කෙසේද? ම්ලේච්ඡත්වයේ හා අශිෂ්ටත්වයේ පසුවූ සියලු ජනතාව අතර පැවැති සමාජමය අනුපිළිවෙළ තුළ නෑකම විසින් ඉටුකරන ලද තීරණාත්මක ක්‍රියා කලාපය කල්පනාවට ගත්විට, එතරම් පුළුල් ලෙස පැතිර ගිය ක්‍රමයක වැදගත්කම හුදු වචනවලින් පමණක් විස්තර නොකළ හැකිය. පොදු වශයෙන් ඇමෙරිකාවේ ප්‍රචලිත වූත්, ආසියාවේ ඊට හාත්පසින්ම වෙනස් විවිධ ජාතීන් අතර එලෙසම පවතින්නාවූත්, අප්‍රිකාවේ හා ඕස්ට්‍රේලියාවේ තරමක සංශෝධනයක් අනුව පැතිර පවතින්නාවූත් මේ ක්‍රමය ඓතිහාසික ලෙස විස්තර කිරීම අවශ්‍යය. නිදසුනක් වශයෙන්, මැක්ලෙනන්ගේ ප්‍රයත්නය මෙන් විස්තර කළ නොහැක. පියා, දරුවා, සහෝදරයා ආදී වචන ගරු නිල පමණක් නොවන නමුදු ඒවා අතිශයින්ම ස්ථිර හා අන්‍යොන්‍ය වගකීම් සමග ඈදී



ඇත. මේවාවල සමස්තය මේ මිනිසුන්ගේ සමාජමය ව්‍යවස්ථාවේ අත්‍යාවශ්‍ය කොටසක් සපුරාලයි. එමෙන්ම, මෙයට හේතු දැක්වීමක්ද සොයාගෙන ඇත. ඇමෙරිකාවේ හා පුරාණ ඉන්දියාවේ ලේ ඥාති ක්‍රමය හා ගැළපෙන පියවරුන් හා මව්වරුන්ද, මාමාවරුන් හා නැන්දලාද, බෑණලා සහ ලේලිලාද සහිත පවුල් ක්‍රමයක් වත්මන් සියවසේ පළමුවැනි භාගය දක්වා සැන්ඩ්විච් (හවායිහි) දූපත්වල පැවතිණි. එහෙත් පුදුමයකට මෙන් හවායිහි බලපෑ ලේ ඥාති ක්‍රමය එහි පැවති නියම පවුල් ක්‍රමය සමග ගැටිණි. මේ දූපත්වල ළඟ ඥාති සහෝදරයන් සහ සහෝදරියන් වන්නේ මවුගේ සහ ඇගේ සහෝදරියන්ගේ හෝ පියාගේ සහ ඔහුගේ සහෝදරයන්ගේ හෝ දූ දරුවන් පමණක් නොව, තම දෙමාපියන්ගේ සියලු සහෝදර සහෝදරියන්ගේ ළමයින්ද එලෙසම ළඟ ඥාති සහෝදර සහෝදරියන් ලෙස භේදයකින් තොරව පිළිගැනේ. ඒ අනුව දැනට ඇමෙරිකාවේ නොපවතින නමුදු ඇත්ත වශයෙන්ම තවමත් හවායි දූපත්වල පවතින වඩාත් ආදි කල්පික ලේ ඥාති ක්‍රමයක් ඇමෙරිකන් ක්‍රමය විසින් අඟවනු ලැබුවද, හවායි දූපත්වල පවතින ඥාති ක්‍රමය ඊටත් වඩා ආදීතම පවුල් ක්‍රමයක් පෙන්වා දෙයි. මෙය අන් කිසි වෙනත් තැනක විද්‍යමානව පැවතිනැයි ඔප්පු නොකළ හැකි වුවද, කෙසේ හෝ පැවතුණා විය යුතුය, එසේ නැතිනම් මෙයට අනුරූපව ලේ නෑ ක්‍රමයක් පැවතිය නොහැකි බැවිනි. මෝර්ගන් මෙසේ පවසයි: "පවුල ක්‍රියාකාරී මූලධර්මයක් නියෝජනය කරයි. එය එක තැන රැඳී නොසිටී. සමාජය පහත් තත්වයේ සිට උසස් තත්වයක් දක්වා ගමන් කරන විට, පවුලද පහත් අවධියක සිට උසස් අවධියක් දක්වා වැඩෙයි. දීර්ඝ කාල අතරතුර පවුල ලබන සංවර්ධනය වාර්තා කිරීමේදී ලේ ඥාති ක්‍රමය හාත්පසින්ම අකර්මණ්‍ය වන්නේය. පවුල හාත්පසින්ම වෙනස්වූ පසු පමණක් එයද හාත්පසින් ම වෙනස් වෙයි". මාක්ස් ඒ ගැන වැඩි දුරටත් මෙසේ පවසයි: "මේ මූලධර්මය දේශපාලන, අධිකරණ, ආගමී හා දර්ශනවාදී ක්‍රමවලට එසේම පොදුවේ බලපාන්නේය". පවුල දිගටම ජීවත්වන අතර ලේ ඥාති ක්‍රමය අස්ථිමය බවට පත්වෙයි. මේ ලේ ඥාති ක්‍රමය සිරිත් අනුව පවතින අතර, පවුල එම සීමාවන් ඉක්මවා වැඩෙයි. කුවියේ වරක් පැරිසිය අසල තිබී සොයා ගන්නා ලද කුඩා සතකුගේ කොසු ඇට පිරික්සා, දැන් අභාවයට පත්වී ඇති මාසුපියල් ගනයට අයත් සතෙකුට එම ඇට සැකිල්ල අයත් බව ස්ථිරවම නිගමනය කළාක් මෙන්ම, ඓතිහාසික වශයෙන් පරිවර්තනය වී තිබෙන ලේ ඥාති ක්‍රමය අනුව, එයට අනුරූප නමුදු දැනට දකින්නට නැති පවුල් ක්‍රමයක් එක් කලෙක පැවති බව එවැනිම ස්ථිරත්වයකින් යුතුව නිගමනය කළ හැකිය.

යට කියන ලද, ලේ ඤාති ක්‍රම හා පවුල් විධි අද පවතින ක්‍රම හා විධිවලට වඩා වෙනස් වන්නේ එකම දරුවකුට පියවරුන් කීපදෙනෙකු හා මවුවරුන් කීපදෙනෙකු සිටි බැවිනි. හවායි පවුලට අනුරූපව පවතින ඇමෙරිකන් ලේ ඤාති ක්‍රමය අනුව, එකම ළමයකුගේ පියා සහ මවුවීමට සහෝදරයකුට සහ සහෝදරියකට නොහැකිය. හවායි ලේ ඤාති ක්‍රමය, මෙයට හාත්පසින්ම විරුද්ධව එවැන්නක් තිබූ බව අඟවයි. අද බලපාන විධි හැමදම තිබිණැයි යන පොදු මතය පිළිගැනීම එක එල්ලේම ප්‍රතික්ෂේප කරන පවුල් විධි ගණනාවක්ම අප ඉදිරියේ ඇත. ඒක භාර්යා සේවනයත්, ඒ අතර පෞද්ගලිකව පුරුෂයින් අතර බහු භාර්යා සේවනයත්, තවත් සමහර විටෙක පෞද්ගලිකව ස්ත්‍රීන් අතර බහු පුරුෂ සේවනයත් පමණක් පැවැති බව ගතානුගතික මතය පිළිගනී. සිරිත් වශයෙන් නිල සමාජය විසින් පනවන ලද සීමාවන් නිහඬව එහෙත් ලජ්ජා රහිතව උල්ලංඝණය කරමින් — සදාචාරවාදී අවරසිකයින් (පිලිස්ටීන්වරුන්) මෙන්ම — ඔවුහු ඇත්ත සඟවා දමති. මිනිසුන් බහු භාර්යා සේවනයේද, ස්ත්‍රීන් බහු පුරුෂ සේවනයේදී එකවර යෙදුණු බවත්, එබැවින් ඔවුන්ගේ පොදු දරුවන් ඔවුන් සියලු දෙනාටම පොදු වූ බවත් පෙන්වන තත්ත්වයන් ආදි කල්පික යුග ඉතිහාසයේ අධ්‍යයනය අපට හෙළි කරයි. අවසානයේදී ඒක භාර්යා සේවනය දක්වා දියවී යන තුරු මේ තත්ත්වයන් වෙනස්වීම් රැසකට මූණ පෑවේය. මේ වෙනස්වීම්වල ස්වරූපය කෙතරම්දයත්, පොදු විවාහයෙන් වෙළී සිටින — මුලදී මෙය බොහෝ සෙයින්ම පුළුල් විය — මිනිසුන්ගේ කවය වඩ වඩාත් පටුවී, අද බලපාන තනි යුවල දක්වා ඇවිත් තිබේ.

පවුල් ඉතිහාසයේ අතීතය ප්‍රත්‍යක්ෂණික ලෙස ගළපා බැලීමේදී මෝර්ගන් තම සහකාරයින් වැඩි දෙනාගේද එකඟත්වය අනුව, ආදි කල්පික අවධියේදී එක් ගෝත්‍රයක් තුළ අවිචාරවත් ලෙස සංවාසයෙහි යෙදීම බලපෑ අවධියක් තිබුණේ යැයිද, එහි හැම ස්ත්‍රියක්ම හැම පුරුෂයකුටමද, හැම පුරුෂයෙක්ම හැම ස්ත්‍රියකටමද සමාන ලෙස අයත්වූහයි යන නිගමනයට එළඹුණේය. පසුගිය සිය වසරක සිට එවැනි ආදි කල්පික තත්ත්වයක් ගැන කතා බහ තිබුණද ඒවා පොදු කතා බහ පමණක් විය. මේ තත්වය පිළිගෙන, ඓතිහාසික හා ආගමික සම්ප්‍රදයයන් තුළ එහි සේයාවන් සෙවීමට ඉදිරිපත් වූ පළමුවැනියා බහෝපන්ය. මෙය ඔහුගේ වැදගත් සේවයන්ගෙන් එකකි. ඔහු සොයාගත් සේයාවන් ලිංගික අවිචාරත්වයේ සමාජයක අවධියක් දක්වා ආපසු අප කොහෙත්ම නොගෙනගියද, එය වඩාත් මෑත විධියක් වන කාණ්ඩ විවාහය දක්වා අප ගෙනගිය බව නම් දූන් අපි දනිමු. ඒ ආදි කල්පික සමාජමය අවධිය, ඇත්ත වශයෙන්ම පැවතිණි නම්, එය කොතරම් ඈත යුගයකට අයත්වීදයත්, නොදියුණු මලේච්ජයන් අතර පැවැති සමාජමය පාෂාණීභූතවීමක් තුළ එහි පැරණි පැවැත්ම පිළිබඳ නියත සාක්ෂ්‍ය අපට කොහෙත්ම සොයා ගැනීමට බැරිය. මේ ප්‍රශ්නයට පරීක්ෂණයේ ප්‍රමුඛ ස්ථානයක් දීමෙන්* බහෝපන්ට සුපැහැදිලි ලෙසම ගෞරවයක් ලැබිණ.

මිනිස් සංහතියේ ලිංගික ජීවිතයේ මේ මූලික අවධිය නොපැවතිනැයි කීම මෑතක සිට නවීන මෝස්තරක් වී ඇත. මෙහි අරමුණ මිනිස් වර්ගයා ඒ ''ලජ්ජාවෙන්'' මුදවා ගැනීමය. නියත සාක්ෂ්‍ය නැත යන්න පෙන්වාදීමක් හැරුණු විට, සෙසු සත්ව ලෝකය ගැන නිදසුන් පෙන්වති; අවිචාරවත් ලෙස ලිංගික සංවාසයෙහි යෙදීම පහත් අවධියකට අයත් බව පෙන්වන කරුණු රාශියක් ලෙතුර්නෝ (''විවාහය සහ පවුලේ පරිණාමය'', 1888) ගෙනහැර දක්වයි. මේ සියලු කරුණුවලින් මට කළ හැකි නිගමනය නම්, මිනිසා හා ඔහුගේ ආදි කල්පික තත්ත්වය ගැන මේ එකද කරුණකින්වත් කිසිවක් ඔප්පු කොට නැති බවය. කොඳු ඇට ඇති (කශේරුක) සතුන් අතර දීර්ඝ කාලීන සංසර්ග ඇති වීමට හේතු කායික විද්‍යාව අනුව විස්තර කළ හැකිය; බිත්තර රකින කාලයේදී කිරිල්ලියට කුරුල්ලාගේ ආධාර වුවමනා වීම එක් නිදසුනකි. මිනිසා පක්ෂීන්ගෙන් පැවත නොඑන බැවින් පක්ෂීන් අතර ගැනු සතා හා පිරිමි සතා එකිනෙකා කෙරෙහි විශ්වාසය තබමින් එක්ව වාසය කිරීම නිදසුනක් වශයෙන් ගෙන, එය මිනිසුන්ට යෙදීමෙන් කිසිවක් ඔප්පු කළ නොහැක. සියලු සුචරිතයන්ගේ මුදුන් මල්කඩ ඒක භාර්යා සේවනය නම්, සුචරිතභාවයේ ඔටුන්න හිමි වනුයේ පුරුක් පනහේ සිට දෙසියයක් දක්වා ඇති, ඒ හැම පුරුකකම ස්ත්‍රී ලිංගය හා පුරුෂ ලිංගය බැගින් යුත් පටි පණුවාටය. ඌ මුළු ජීවිත කාලයේදීම මේ හැම පුරුකක් තුළින් සංසර්ගයෙහි යෙදෙයි. අපි ක්ෂීරපායී සතුන්ට පමණක් සීමා වන්නෙමු නම්, ඔවුනතර ලිංගික ජීවිතයේ විවිධ

---

* තමන් සොයාගත් නැතිනම් අනුමානයෙන් දූනගත් දෙය කොතරම් අඩුවෙන් බහෝපන් අවබෝධ කරගත්තේ ද යන්න මේ ආදි කල්පික තත්ත්වය හෙටෙයරිසම් වශයෙන් විස්තර කිරීමෙන් එය ඔප්පු වෙයි. අවිවාහක පුරුෂයින්, නැතිනම් ඒක භාර්යා සේවනයෙහි යෙදී සිටි පුරුෂයින්, අවිවාහක ස්ත්‍රීන් සමග සංවාසය කිරීම හැඳින්වීම සඳහා ග්‍රීකයෝ මේ වචනය මුලින් යෙදූහ. නියත විවාහ ක්‍රමයක් පැවැති අතර එයට පිටස්තරව සංවාසයෙහි යෙදීම විස්තර කිරීමටත්, යටත් පිරිසෙයින්, එවකට හැකියාවක්ව පැවැති ගණිකා වෘත්තිය විස්තර කිරීමටත් මේ වචනය නිතර යෙදිණි. වෙනත් තේරුමකින් මේ වචනය පාවිච්චි නොකළ අතර මෝර්ගන් සමග මමද එම අරුත සඳහා එය යොදමි. පුරුෂයා හා ස්ත්‍රිය අතර ඇති වූ මේ ඓතිහාසික සම්බන්ධතාවය එකල පැවති යථාර්ථමය තත්වයන් නිසා නොව, මිනිසුන් තුළ ඇති වූ ආගමික හැඟීම නිසා ඇති වූහයි යන අපූරු, අද්භූත විශ්වාසය නිසා බහෝපන්ගේ ඉතා වැදගත් සොයාගැනීම් හැම තැනම නොසිතූ විරූ ගූඨවාදයකින් වැසී තිබේ. (එංගල්ස්ගේ සටහනකි).

ක්‍රම තිබෙන සැටිද — එනම් අවිචාරත්වයද, කාණ්ඩ විවාහයට තුඩු දෙන කරුණුද, බහු භාර්යා සේවනය හා ඒක භාර්යා සේවනයද දකිමු. නැත්තේ බහු පුරුෂ සේවනය පමණකි. අපේ ළඟම නෑයා වන චතුර් හස්තයෝ වුවද, ගැණු හා පිරිමි සතුන්ගේ කාණ්ඩ ගැසීම අතින් විවිධත්වයක් පෙන්නුම් කරති. වඩාත් ළංවෙමින් අපි මානවකල්ප වානරයින් සතරදෙනා දෙස බලමු නම්, ඔවුන් වරෙක ඒක භාර්යා සේවනයෙහිද, තවත් වරෙක බහු භාර්යා සේවනයෙහිද යෙදුණු බව පමණක් අපට ලෙටුර්නෝ පවසයි. ඒ අතර සොසියුර්ගේ පාඨයක් ගෙනහැර දක්වන ජිරෝ-ටෙලොන් ඔවුන් ඒක භාර්යා සේවනයේ යෙදී සිටි බව කියයි. ''මිනිස් විවාහයේ ඉතිහාසය'' (ලන්ඩන් 1891) නැමැති කෘතියෙන් නරාකෘති වානරයින් අතර ඒක භාර්යා සේවනය ගැන වෙස්ටර්මාක්ගේ නිගමන විසින් මෙතෙක් කිසිවක් ඔප්පු කර නැත. සැබවින්ම එම වාර්තා කිනම් ස්වරූපයක් දරන්නේදයත්, අවංක ලෙටුර්නෝ මෙසේ පිළිගනී: ''ඒ කෙසේ වෙතත්, ක්ෂීරපායී ගණයට අයත් සතුන්ගේ බුද්ධි වර්ධනයේ මට්ටම හා ලිංගික සම්බන්ධතා විධි අතර දැඩි සම්බන්ධකමක් කිසිසේත්ම නොපැවතිණි'' එස්පිනස් (''සත්ව සමාජ'', 1877) ඉලක්කය බලා විදින්නාක් සේ මෙසේ පවසයි: ''සතුන් අතර නිරීක්ෂණය කළ හැකි උසස්ම සමාජමය කණ්ඩායම රංචුවයි. එය පවුල්වලින් යුක්ත යැයි අනුමාන වශයෙන් කිව හැකිය. එහෙත් මුල සිටම පවුල සහ රංචුව එකිනෙකට ප්‍රතිපක්ෂව නැගී සිටී. විපර්යස්ත අනුපාතයක් අනුව ඔවුහු වර්ධනය වෙත්''.

ඉහත සටහන් කරුණුවලින් පෙනෙන පරිදි නරාකෘති වානරයන්ගේ අනිකුත් සමාජමය කාණ්ඩ හා පවුල් ගැන නියත ලෙස අපි කිසිවක් නොදනිමු. එම වාර්තා එකිනෙකට ප්‍රතිවිරුද්ධය. මෙය පුදුමයට කරුණක් නොවේ. ම්ලේච්ඡ මිනිස් ගෝත්‍ර ගැන අප සතුව ඇති වාර්තා කොතරම් ප්‍රතිවිරෝධීදයත්, ඒවා විවේචනාත්මක ලෙස පිරික්සුමට භාජන කළ යුතු අතර, ඒවා කොතරම් තෝරා බේරා ගත යුතුද? එහෙත් වානර සමාජ නිරීක්ෂණය කිරිම මිනිස් සමාජය නිරීක්ෂණය කිරීමට වඩා අමාරුය. එබැවින් සම්පූර්ණයෙන්ම අවිශ්වාසදායක වාර්තාවලින් ගන්නා හැම නිගමනයක්ම අප විසින් ප්‍රතික්ෂේප කළ යුතුය.

කෙසේ වුවද, ඉහත උපුටා දක්වන ලද එස්පිනස්ගේ නිගමනය අපට වඩාත් හොඳ හෝඩුවාවක් දෙයි. උසස් සත්ව වර්ගයන් අතර රංචුව සහ පවුල එකිනෙකට අනුපූරක නොවේ. එහෙත් ඒවා එකිනෙකට ප්‍රතිවිරෝධීය. සංසර්ගයෙහි යෙදෙන කාලයේදී පිරිමි සතුන් අතර ඇති වන ඊර්ෂ්‍යාව විසින් යුථචර රංචුවේ ඒකරාශිභාවය අඩුවී එය තාවකාලිකව ලිහිල් කිරීම ගැන, එස්පිනස් ඉතා හොඳින් විස්තර කරයි: ''පවුල ඉතා කිට්ටු ලෙස එකට බැඳී සිටින තැන්වල රංචු ඇති වන්නේ කලාතුරකිනි.



අනිත්. අතින්, ස්වාධීන ලිංගික සංවාසය සහ බහු භාර්යා සේවනය පවතින තැන්වල නිතරම පාහේ රංචු ඇති වේ... රංචුවක් ඇති වීමට නම් පවුල් සබඳකම් ලිහිල් කොට පුද්ගලයා නැවත නිදහස් කළ යුතුය. පක්ෂීන් අතර සංවිධානය වූ රංචු කලාතුරකින් අපට හමුවන්නේ ඒ නිසාය... අනිත් අතින් ක්ෂීරපායී සතුන් අතර අඩු වැඩි වශයෙන් සංවිධානය වූ සමාජ දැකිය හැකිය. මෙහිදී තනි සතා පවුලට එක්වී නැති බැවින් එසේ සිදුවේ... ඒ අනුව මෙහි මුල පටන් ගැනීමේදී, රංචුව සතු සාමූහික හැඟීමට (concience collective) පවුල පිළිබඳ සාමූහික හැඟීම තරම් තවත් දරුණු සතුරෙක් නැත. මෙසේ කීමට අපි මැලි නොවෙමු: පවුලට වඩා උසස් සමාජමය විධියක් විකාශන වූයේ නම්, එය මූලික පරිවර්තනයකට මුණ පෑ එම සංවිධානය තුළ අනුබද්ධ වූ එකම හේතුව නිසාම විය යුතුය. මෙන්න මේ හේතුව නිසා, පසුව මේ පවුල්වලට වඩාත් යහපත් තත්වයන් යටතේ නැවත සංවිධානය වීමට ඇති හැකියාව වෙන් කළ නොහැක''. (එස්පිනස්ගේ එම කෘතිය, ජිරෝ-ටෙලොන් විසින් ''විවාහය හා පවුලේ සම්භවය'' නැමැති කෘතියෙන් උපුටා දක්විණි, 518-520 පිටු).

මිනිස් සමාජ ගැන නිගමනයන් කිරීමේදී සත්ව සමාජ එක්තරා ප්‍රමාණයකට වැදගත් වන බව නියත වශයෙන් මින් පැහැදිලිව පෙනේ. එහෙත් මේ වැදගත්කම ප්‍රතිෂේධවීමක් පමණකි. අප සොයාගත් පරිදි, උසස් වර්ගයට අයත් කශේරුක සත්තු පවුල් විධි දෙකක් පමණක් දැන සිටියහ. එනම් බහු භාර්යා සේවනය හා යුවලක් එක්වීමය. මේ අවස්ථා දෙකෙහිදීම අවසර ඇත්තේ එක් වැඩිහිටි පිරිමි සතකුට, එක් සැමියකුට පමණකි. පවුලේ සබඳකම හා සීමාවන් නියෝජනය කරන පිරිමි සතාගේ ඊර්ෂ්‍යාව විසින් සත්ත්ව පවුල හා රංචුව අතර ප්‍රතිවිරෝධීතාවයක් ඇති කරවයි. උසස් සමාජමය විධියවූ රංචුව ඊර්ෂ්‍යාව නිසා ක්‍රියා විරහිත තත්වයකට ඇද වැටේ, එක් හෝ තවත් තැනක රංචුව ලිහිල්වේ, නැතිනම් සංවාසයෙහි යෙදෙන කාලයේදී එය මුළුමනින්ම විසිරුවෙයි. එහි අවිච්ඡින්න සංවර්ධනයට පිරිමි සතාගේ ඊර්ෂ්‍යාව බාධාවක් වෙයි. සත්ව පවුල හා ආදි කල්පික මිනිස් සමාජය එකිනෙකට නොගැළපෙන බව ඔප්පු කිරීමට මෙය පමණක් වුවද සෑහේ. සත්ව අවධියෙන් පිටවීමට ක්‍රියාකරමින් සිටි ආදි කල්පික මිනිසා එක්කෝ පවුල ගැන කොහෙත්ම නොදැන සිටියේය. දඩයක්කාරයින්ගේ වාර්තා අනුව ගොරිල්ලාට හා චිම්පන්සියාට වෙස්ටර්මාක් විසින් පවරන යුථචාරීත්වයේ උසස්ම විධිය වන තනි යුවලක් බැගින් වූ කුඩා කාණ්ඩ වශයෙනි, මිනිසා බවට පත්වීමේ ක්‍රියා සන්තතියට මුණ පා සිටි සත්වයාට නොනැසී ජීවත්විය හැකි වූයේ. හුදකලාවද ඔහුට එසේ කළ හැකි විය. සත්ව අවධියේ සිට පරිණාම වීම සඳහාත්, සොබා දහම දන්නා ශ්‍රේෂ්ඨතම ඉදිරිගමන සම්පූර්ණ කිරීම

සඳහාත් අමතර මූලිකාංගයක් වුවමනා විය: එනම් තනි පුද්ගලයකුගේ නොසෑහෙන ආරක්ෂක ශක්තිය වෙනුවට රංචුවේ සමගි ශක්තිය සහ සහාගි වෑයමක් ඇතිවීමය. නරාකෘති වානරයන් අද ජීවත්වන තත්වයන්ගේ සිට මිනිස් අවධිය දක්වා පරිවර්තනය වූහයි කොහෙත්ම විස්තර කළ නොහැකිය. මේ වානරයින් ක්‍රම ක්‍රමයෙන් අභාවයට ළං වන මං මුලා වූ මාවතක් ඔස්සේ යන සැටියක් පෙනෙන අතර, කෙසේ වුවද, පහත වැටීමේ ක්‍රියාවලික පවතී. සතුන්ගේ සහ ආදිකල්පික මිනිසාගේ පවුල් විධි පිළිබඳ සමානකම් පදනම් කරමින් කර ඇති නිගමනයන් සියල්ල ප්‍රතික්ෂේප කිරීමට මේ කරුණ පමණක් වුවද සෑහේ. සතාගේ සිට මිනිසා දක්වා පරිවර්තනය වීමට සමත් වූ එකම හේතුව වූයේත්, විශාල හා ශක්තිමත් කාණ්ඩ සෑදීමට පළමුවැනි කොන්දේසියක් වූයේත් පිරිමි සතුන් අතර ඊර්ෂ්‍යාව නැතිවීමත්, අන්‍යොන්‍ය ඉවසීම ඇතිවීමත්‍ය. අද වුවද, නොයෙක් තැන්වලින් ඉගෙනගත හැකි, ඉතිහාසයෙන් ප්‍රතික්ෂේප නොකළ හැකි සාක්ෂ්‍ය ඇති පැරණිතම, අතිශයින්ම ආදිකාලීන පවුල් විධියෙන් අප දැනගන්නේ මොනවාද? සම්පූර්ණ පිරිමි කණ්ඩායමක් හා සම්පූර්ණ ගැහැනු කණ්ඩායමක් අතර එකිනෙකට අයත් කාණ්ඩ විවාහයද, එවැන්නක් ඊර්ෂ්‍යාවට ඉතා මඳ වශයෙන් ඉඩ තැබූ බවද අපි දනිමු. වැඩිදුරටත්, සංවර්ධනයේ මෑත අවධියකදී ඊර්ෂ්‍යාවට එදිරිව බලවත් හැඟීමක් ඇතිකරමින් බහු පුරුෂ සේවනයේ විශේෂ ක්‍රමයක් වර්ධනය වූ සැටි අපි දනිමු, එමෙන්ම මෙය සතුන් අතර නොපැවතිණ. අප දන්නා කාණ්ඩ විවාහය විධි කෙතරම් සංකීර්ණ තත්වයන් සමග වෙළී තිබෙදයත්, ඒවා අවශ්‍යයෙන්ම පෙර ඇති වූ වාම්, සරල ලිංගික විධිවලට යොමුකරන අතර, අවසාන විශ්ලේෂණයේදී සත්ව අවධියේ සිට මිනිස් අවධිය දක්වා පරිවර්තන වීමේ කාලයට අනුරූපවූ අවිචාර සංවාස අවධියකට අප ගෙනයයි. සතුන් අතර විවාහ විධි සොයා බැලීම, අප සඳහටම ඉවත් වී ගිය තත්ත්වය වෙත නැවත වරක් අප ගෙනයයි.

එසේනම්, අවිචාර ලිංගික සංවාසය යන්නෙහි තේරුම කුමක්ද? අද බලපාන හෝ එද බලපෑ හෝ සීමා කිරීම් නොතිබිණි. ඊර්ෂ්‍යාව නම් වූ අවහිරය කඩා වැටුණු සැටි අපි දිටිමු.ඊර්ෂ්‍යාව මෑතක ඇති වූ තුලනාත්මක වශයෙන් මෑතකදී ඇති වූ උද්වේගී හැඟීමක් බව නම් ස්ථිර ලෙසම සහතික කළ හැකිය. ඉතා කිට්ටු ලේ නෑයන් පිළිබඳ විකල්පයටද එය එලෙසම බලපායි. පටන් ගැන්මේදී සැමියා හා බිරිඳ වශයෙන් විසුවේ සහෝදරයා හා සහෝදරිය පමණක් නොවේ, දෙමාපියන් හා දූ දරුවන් අතර ලිංගික සංවාසයට ඉඩදීම අද වුවද බොහෝ ජනකොටස් අතර සිරිතකි. බැන්ක්‍රොෆ්ට් (''පැසිපික් දූපත්වල හා උතුරු ඇමෙරිකාවේ සහජ ජාතීන්'', 1875 පළමුවැනි වෙළුම) මෙවැනි සබඳකම් බේරිං දූපත්වල කවියාට්වරුන් අතරද, ඇලස්කාව අසල කඩියාක්වරුන් අතරද, බ්‍රිතාන්‍ය උතුරු ඇමෙරිකාවේ රට තුළ ටින්නේවරුන් අතරද පවතින බව ඔප්පුකර ඇත. චිප්පෙවා (රතු) ඉන්දියානුන් අතරද, චීලිහි කුකුස්වරුන් අතරද, කැරිබියන් වරුන් අතරද හා ඉන්දු චීනයේ කාරෙන්වරුන් අතරද පවතින මේ සිරිත ගැන වාර්තා ලෙටූර්නෝ විසින් එකතු කරන ලදී. පාර්තියානුන්, පර්සියානුන්, සිතියානුන්, හන් ආදීන් ගැන පැරණි ග්‍රීකයින් හා රෝමානුවත් එකතු කළ වාර්තා පිළිබඳව මෙහිදී මතක් කළ යුතුය.ව්‍යභිචාරය සොයා ගැනීමට පෙර (එමෙන්ම, මෙය ඉතා වටිනා සොයාගැනීමකි) දරුවන් හා දෙමාපියන් අතර ලිංගික සම්බන්ධකම් ඇතිවීම වෙනත් පරපුරකට අයත් වූවත් සමග එසේ යෙදීමට වඩා පිළිකුල් සහගත දෙයක් නොවීය, ඇත්ත වශයෙන්ම එතරම් දුරුණුගති නොපෙන්වන අවරසිකවාදී රටවල කෙරෙන්නාක් මෙන් හැට වයස් පිරුණු පොහොසත් 'අම්මණ්ඩිලා' ඉඳහිට අවුරුදු තිහක් පමණ වයසැති තරුණයින් විවාහ කර ගනිති. කෙසේ හෝ අප දන්නා ඉතාම පැරණි පවුල් විධි සහ ඒවාට සම්බන්ධ ව්‍යභිචාරික සංකල්ප, අපේ සංකල්පවලටවඩා සම්පූර්ණයෙන්ම වෙනස්ය, බොහෝවිට ඒවාට හාත්පසින්ම ප්‍රතිවිරුද්ධය. එවැනි ව්‍යභිචාර පිළිබඳ අපේ අදහස් අපි ඉවත ලන්නෙමු නම්, අවිචාරීය යනුවෙන් විස්තර කළ හැකි ලිංගික සම්බන්ධතා ක්‍රමයක් වෙත අපි එන්නෙමු. පසුකාලීන සිරිත් විසින් ඇති වූ සීමා කිරීම් එවකට නොතිබුණු නිසා, එතෙක් දුරට එය අවිචාරය. අවුල්වූ අවිචාරීත්වයක් දිනපතා ඇති වීයැයි මින් කොහෙත්ම අදහස් නොකෙරේ. සීමා සහිත කාලයක් තුළදී වෙනත් සංවාසයන් ඇති නොවීයැයි කිව නොහැකිය. කාණ්ඩ විවාහයේදී පවා යුගලන සංවාසය බහුතර කොටස බවට පත්විය. මේ මූලික තත්ත්වය ප්‍රතික්ෂේප කළ අවසාන පුද්ගලයා වූ වෙස්ටර්මාක් දරුවකු ලැබෙන තුරු ස්ත්‍රියකු හා පුරුෂයකු සංවාසයෙහි යෙදීම විවාහ ජීවිතය හැටියට නම් කරන්නේ නම්, එවැන්නක් අවිචාරවත් ලිංගික සම්බන්ධකම් යටතේ ඉතා හොඳින් ඇති විය හැකි අතර, එය අවිචාරත්වයට කොහෙත්ම ප්‍රති පක්ෂ නොවන බව කිව යුතුය. අවිචාරත්වය යනු සිරිත් විසින් ලිංගික සම්බන්ධකම් සීමා කිරීමට යොදා ඇති අවහිර රහිත දෙයකි. අවිචාරත්වය පෞද්ගලික හැඟීම පාගා දමන අතර එය හොඳම ලෙස නියෝජනය වන්නේ ගණිකා වෘත්තියෙහිය යන මතය වෙස්ටර්මාක් පිළිගනී.ගණිකා වෘත්තිය තුළින් ආදි කල්පික තත්වයන් දෙස බලන තුරු එය අවබෝධ කරගත නොහැකිය යනු මගේ අදහසය. කාණ්ඩ විවාහය ගැන විස්තර කිරීමේදී අපි මේ කරුණ වෙත යළිත් පැමිණෙමු.

මේ අවිචාර ලිංගික සම්බන්ධකම් සහිත මූලික තත්ත්වය නිසා මෝර්ගන් කියන පරිදි, සමහර විට ඉතා ඈත අවධියකදී මෙවැනි තත්ත්වයක් ඇති විය:

1. ලේඥාති ක්‍රමය සහිත පවුල, මෙය පවුලේ පළමුවැනි අවධියයි. මෙහි විවාහ කාණ්ඩ පරපුර අනුව බෙද වෙන්කර ඇත. සියලු ආච්චිලා හා සීයාලා පවුල් සීමාව තුළ අන්‍යොන්‍ය අඹු සැමියෝ වෙති. එයම ඔවුන්ගේ දූ දරුවන් වන පිය හා මවුවරුනට බලපායි. ඔවුන්ගේ දූ දරුවන් විසින් අන්‍යොන්‍ය අඹු සැමියන්ගෙන් යුත් තෙවැනි කවය සෑදේ. මී මුණුපුරන්ගෙන් සහ මී මිණිපිරියන්ගෙන් යුත් පරපුර විසින් සතරවැනි කවය සෑදේ. ඒ අනුව, මේ පවුල් ක්‍රමය විසින් පියමුතු පරපුරු සහ ඔවුන්ගෙන් පැවත එන්නන්ද දෙමාපියන් සහ දරුවන්ද පමණක් එකිනෙකා විවාහ කර ගැනීමේ (අප කියන පරිදි) අයිතිවාසිකම් හා යුතුකම්වලින් නිදහස් කරන ලදී. සහෝදරයන් සහ සහෝදරියන්ද, පළමුවැනි, දෙවැනි හා ඈත ඥාති සහෝදර සහෝදරියන්ද, මේ සියලු දෙනාම අන්‍යොන්‍ය සහෝදර-සහෝදරියෝ වෙත්. ස්ථිර වශයෙන්ම මෙම හේතුව නිසාම ඔවුහු සියලු දෙනාම අන්‍යොන්‍ය අඹු සැමියෝ වෙත්. මේ අවධියේදී සහෝදරයා සහ සහෝදරිය අතර සම්බන්ධතාවයට සිරිතක් වශයෙන් ලිංගික සම්බන්ධතාවයන්ද ඇතුළු* විය. මේ ක්‍රමය අනුව යුවලකින් පැවත එන පවුලකින් මෙය ආවේණික විය, මේ අය අතර හැම කෙනෙකුම සහෝදර සහෝදරියෝ වෙති. එම හේතුව නිසාම ඔවුහු අඹු සැමියෝද වෙත්.

ලේ නෑකම් ඇති පවුල අභාවයට ගොසිනි. පවුලේ මේ ආකාරය පිළිබඳ දැනගත හැකි නිදසුන් ඉතිහාසයෙහි සඳහන් ආදී තම මිනිසුන්ගෙන් පවා දැනගත නොහැක. කෙසේ හෝ මැවැනි ක්‍රමයක් පැවති බව අපට පිළිගැනීමට සිදුවී තිබෙනුයේ තවමත් පොලිනීසියාවේ හවායි දූපත්වල පවතින ලේ ඥාති ක්‍රමය නිසාය. මෙයින් පෙන්වන ලේ ඥාති ක්‍රමය ඇති විය හැක්කේ පවුල් විධියකිනි. මේ පවුල් විධිය හෙවත් ආකාරය අවශ්‍ය ප්‍රාථමික අවධියක් පිළිගන්නාවූ, තවත් දුර පවුල් සංවර්ධනයක් නිසා එවැනි නිගමනයක් පිළිගැනීමට අපට සිදුවී ඇත.

2. පුනාලුවා පවුල. පවුල් සංවිධානයේ පළමුවැනි වර්ධනය දෙමාපියන් හා දරුවන් අතර අන්‍යොන්‍ය ලිංගික සම්බන්ධකම් අහෝසිකර දැමීම නම්, දෙවැනි වර්ධනය ඇති වූයේ සහෝදර සහෝදරයින් අතර එය අහෝසි කර දැමීමෙනි. ලිංගික සංවාසයට සහභාගි වන්නන්ගේ වයස වඩාත් සමාන වීම නිසා මේ පියවර වඩාත් වැදගත් විය. එහෙත් මුල් පියවරට වඩා මෙය දුෂ්කර විය. එය ක්‍රමයෙන් සම්පූර්ණ කළේ ස්වාභාවික සහෝදර (එනම් මවුගේ පැත්තෙන්) ලිංගික සම්බන්ධතාවලින් වෙන් කර දැමීමෙන් විය යුතුය. මෙය ආරම්භ වූයේ වෙන්වූ සිද්ධීන් වශයෙනි. අනතුරුව ක්‍රමයෙන් එය රීතිය බවට පත්විය. (වත්මන් සියවසේදී පවා හවායි දූපත්වල මේ නීතියට exception තවම පවතී), එය අවසන් වූයේ එක් ගෝත්‍රයක සහෝදර සහෝදරියන් අතර හෝ අද අප කියන පරිදි, පළමුවැනි, දෙවැනි හා තෙවැනි ඥාති සහෝදරයින් අතර විවාහය තහනම් කිරීමෙනි, මෝර්ගන්ගේ මතය අනුව මෙය ''ස්වාභාවික වරණ මූලධර්ම ක්‍රියාවට යෙදවීමේ හොඳ නිදසුනකි''. සහෝදර සහෝදරියන් අතර ගෝත්‍රය තුළ විවාහ වීම සීමා කළ ගෝත්‍ර, එලෙස විවාහවීම් නීතියක් හා යුතුකමක් වශයෙන් සැළකූ ගෝත්‍රවලට වඩා සීඝ්‍ර ලෙස වර්ධනය වූවාට සැක නැත. මේ වර්ධනය කොතරම් බලපෑවේදයත්, වංශ ඇති වීමෙන් ඒ බව ඔප්පු වේ. මෙසේ

---

* වාග්නර්ගේ ''නිබෙලුන්ග්'' ගීතිකාවෙහි ආදිකාලීන යුගය ගැන පල් බොරු ලියා ඇතැයි 1882 වසන්තයේදී පෙන්වාදුන් මාක්ස්, එය දැඩි ලෙස හෙළා දක්කේය. වාග්නර්ගේ නිබෙලුන්ග් ලිපියෙහි මෙසේ සඳහන් විය: ''සහෝදරයෙක් සිය සහෝදරිය මනාලියක ලෙස වැළඳගන්නා සැටි ඇසුවේ කව්ද?'' ව්‍යාභිචාරී ලෙස නව ලතාවකින් ආදරය ගැන වණන වාග්නර්ගේ මේ දුරාචාරී දෙවිවරුන්ට මාක්ස් පිළිතුරු දෙයි: ''ආදීතම කාලයේදී සහෝදරිය බිරිඳ වූවාය. එද එය සදචාර ධර්මයක් වූයේය''. (එංගල්ස්ගේ සටහනකි).

වාග්නර් අගය කරන සහ ඔහුගේ මිතුරකු වන ප්‍රංශ ජාතිකයෙක් මේ සටහන සමග එකඟ නොවෙයි. “Ögisdrecka” — ''පැරණි Edda” — වාග්නර් නිදසුනක් ලෙස ගෙන ඇති බව ඔහු පවසයි. එහි වීරයකු වන ලෝකී, ප්‍රෙයියාට මෙසේ ශාප කරයි: ''නුඹේම සොහොයුරා දෙවියන් ඉදිරිපිටදී නුඹ වැළඳ ගත්තෙහිය''. ඒ කාලයේදී සහෝදර සහෝදරියන් අතර විවාහය තහනම් කර තිබුණු බව ඔහු කියයි. ආදි කල්පික දේවකතා පිළිබඳ විශ්වාසය සම්පූර්ණයෙන්ම බිඳී තිබුණු අවධියක “Ögisdrecka” කතාව පළවිය. එය දෙවිවරුන්ට විරුද්ධව ලියන ලද උපහාසයකි. මෙපිස්ටෝපෙලස් මෙන් ලෝකී විසින් ප්‍රෙයියා හෙළා දකින්නේ නම්, එය වාග්නර්ට එදිරිව තර්කයකි. වසර කීපයකට ඉක්බිතිව ලෝකී නියෝර්ඩ්ට මෙසේ පවසයි. ''නුඹ නුඹේ සොහොයුරියගෙන් (එවැනිම) පුතකු ලැබුවේය (vidh systur thinni gartu slikan mög)”. දැන් නියෝර්ඩ් ආසයකු නොව වානයෙකි. ඉංලින්ගා දේවකතාවල එන පරිදි සහෝදර සහෝදරියන් අතර විවාහ වීමේ සිරිත පැවැතියේ වාන දේශයේ බව ඔහු පිළිතුරු දෙයි. එය ආසවරුන් අතර සිරිතක් නොවිය. වානවරුන් ආසවරුන්ට වඩා පැරණි දෙවිවරුන් බව මින් පෙනේ. නියෝර්ඩ් ආසවරුන් අතර සමකයකු ලෙස ජීවත්වීමද, “Ögisdrecka” කෘතිය, දෙවියන් අතර වූව, සහෝදර-සහෝදරියන්ගේ විවාහය පිළිබඳ කරුණු ඔප්පු කරයි. නෝර්වීජියානු දේවකතාවල ඇති මේ සිරිත නිසා ඒ කාලයේදී පිළිකුලක් ඇති නොවූ බව පෙනේ. වාග්නර් ආරක්ෂා කිරීම සඳහා “Edda” වෙනුවට ග්යොතේ උපුටා දක්වීම උචිතය. ''දේව හා අභිසාරිකා ගීතය'' මගින් ග්යොතේ ස්ත්‍රිය ආගමික වශයෙන් යටත්වීම ගැන එවැනිම වරදක් කරයි. එයම වත්මන් ගණිකා වෘත්තියට බෙහෙවින් සමාන බව ඔහු පෙන්වා දෙයි. (සතරවැනි සංස්කරණයට එංගල්ස් ලියූ සටහනකි).

පැනනැගී වංශ බොහෝදුරට දියුණු විය. ලෝකයේ සියලු එසේ නැතිනම් බහුතර සංඛ්‍යාවක් අශිෂ්ටයින්ගේ සමාජවල පදනම වූ අතර ග්‍රීසියේදී හා රෝමයේදී අපි එම තත්වයේ සිට සභ්‍යත්වයට පා තබමු.

ආදි කාලීන හැම පවුලකටම වැඩිම වශයෙන් පරම්පරා කීපයකට පසුව split up සිදුවිය. අශිෂ්ටත්වයේ මධ්‍යම අවධියේ අවසාන භාගය දක්වා පැවැති මුල් කොමියුනිස්ට්වාදී ගෘහ පාලනය විශේෂතාවයක් නැතිව පවුලේ උපරිමය තීරණය කළේය. මෙය ඒ ඒ තත්වයන් අනුව වෙනස් වුවද, හැම පෙදෙසකම එය සෑහෙන නියමිත සංඛ්‍යාවකින් යුක්ත විය. එකම මවකගේ දරුවන් අතර ලිංගික සම්බන්ධතාවය නොහොබිනා දෙයක්ය යන හැඟීම ඇති වූ විගසම එය පැරණි පවුල්වල බෙදීම මත සහ අලුත් පවුල්වල (Hausgemeinden) පදනම මතද බලපෑ බවට සැක නැත (කෙසේ වුවද, මෙය පවුල් කාණ්ඩ මත ඒකීභූත නොවීය). සහෝදරියන් එක් කණ්ඩායමක් හෝ කණ්ඩායම් කීපයක් එක් ගෘහයක න්‍යෂ්ටිය බවටද, ඔවුන්ගේ සහෝදරයෝ තවත් ගෘහයක න්‍යෂ්ටිය බවටද පත්වූහ. මෙයට හෝ මෙයට සමාන ආකාරයකට අනුව පුනාලුවාන පවුල ලේ ඥාති සම්බන්ධය ඇති පවුලෙන් වර්ධනය විය. හවායි සිරිත අනුව සහෝදරියන් කණ්ඩායමක් එක මවකගේ දූවරුන් හෝ ප්‍රාසාංගික සහෝදරියන් (පළමුවැනි, දෙවැනි හා තෙවැනි ඥාති සහෝදරියන්) පොදු සැමියන්ගේ පොදු බිරියෝ බවට පත්වූහ. මේ සැමියෝ එකිනෙකා සහෝදරයින් ලෙස අමතා නොගත්හ. එසේ ඇමතීමට වුවමනාවක්ද නොතිබිණි. එහෙත් පුනාලුවා හෙවත් කොටස් කරුවා, සගයා යන අරුත ඇති වචනයෙන් එකිනෙකා ඇමතූහ, ඒ ආකාරයටම එක මවකගේ පුත්තු හා ඥාති පුත්තු තම සොහොයුරියන් නොවන ස්ත්‍රීන් සංඛ්‍යාවක් පොදු විවාහයකින් තබා ගත්හ. මේ ස්ත්‍රීන් එකිනෙකා ඇමතුවේ පුනාලුවා යන වචනයෙනි. වෙනස්කම් කීපයකට භාජන වූ පසුවද, පිළිගන්නා ලද පවුල් ආකෘතියේ චිරාගත ආකාරය (Familienformation) මෙයයි. නියමිත පවුල් කවයක් තුළ අන්‍යොන්‍ය සැමියන්ගේ හා බිරියන්ගේ කණ්ඩායමක් ඇති වීම මෙහි ආවේණික ලක්ෂණයක් විය. කෙසේ හෝ මෙයින් බිරියන්ගේ සොහොයුරන්ද — පළමුව එක පවුලක සොහොයුරන්ද, අනතුරුව ඥාති සහෝදරයින්ද — වෙන් කරන ලදී. එම නීතියම අනික් අතට සැමියන්ගේ සහෝදරියන්ටද බලපෑවේය.

ඇමෙරිකන් ක්‍රමය ප්‍රකාශ කරන ඥාති ක්‍රමයේ පිළිවෙළ අතිශයින්ම නිවැරදි ලෙස මේ පවුල් ක්‍රමය අපට ලබා දෙයි. මගේ මවගෙ සොහොයුරියන්ගේ දරුවෝ ඇගේම දරුවන් මෙන් සලකන ලදහ. මගේ පියාගේ සහෝදරයින්ගේ දරුවෝ ඔහුගේ දරුවන් මෙන් සලකනු ලැබූහ. මේ ළමයි සියලු දෙනම සහෝදර සහෝදරියෝ වෙති. එහෙත් දූන් මගේ



මවගේ සොහොයුරන්ගේ දූදරුවෝ අගේ බෑණලා හා ලේලිලා වෙත්. මගේ පියාගේ සොහොයුරින්ගේ දූදරුවෝ ඔහුගේ බෑණලා හා ලේලිලා වන අතර ඒ සියලු දෙනාම මගේ ඥාති සහෝදරයෝය, සහෝදරියෝය. මගේ මවගේ සොහොයුරියන්ගේ සැමියන් තවම ඇගේද සැමියන් වන අතර, මගේ පියාගේ සහෝදරයින්ගේ බිරියන් එමෙන්ම ඔහුගේ බිරියන්ද වේ. — මෙය එකකෝ අයිතියෙනි, නැතිනම් නිතරම නියමිත වශයෙනි — සහෝදරයන් හා සහෝදරියන් අතර ලිංගික සම්බන්ධකම් ප්‍රතික්ෂේප කිරීම නිසා මෙතෙක් කිසිදු භේදයක් නොමැතිව සහෝදරයින් හා සහෝදරියන් ලෙස සලකනු ලැබූ ඥාති සහෝදර සහෝදරියන් පංති දෙකෙකට බෙදිණි. සමහරු පෙර මෙන්ම (ප්‍රාසාංගික) සහෝදර සහෝදරියන් වූහ. එක අතකින් සහෝදරයන්ගේ දරුවන්ද, අනික් අතින් සහෝදරියන්ගේ දරුවන්ද පෙර මෙන් සහෝදර, සහෝදරියන් විය නොහැකි අතර ඔවුනට පෙර මෙන් පොදු දෙමාපියන්ද පොදු මවක හෝ පියකු සිටිය නොහැක. පෙර පැවැති පවුල් ක්‍රමය අනුව තේරුමක් නැති බෑණලා හා නැනලාද පළමුවැනි වරට අවශ්‍ය වෙයි. එක්තරා ආකාරයක පෞද්ගලික විවාහයක් අනුව පදනම් කොට ඇති හැම පවුල් ක්‍රමයකම පෙනෙන ඇමෙරිකානු ලේ ඥාති ක්‍රමය හේතු සහිතව විස්තර කිරීම සහ ඉතා සුළු විස්තර අනුව වුවද, ස්වාභාවිකව සාධාරණ ලෙස පෙන්වා තිබෙනුයේ පුනාලුවන් පවුල විසිනි. ලේ ඥාති ක්‍රමයේ මේ ආකාරය පැතිර ගිය තරමටම, එනම් එතරම් ප්‍රමාණයකට පුනාලුවා පවුල නොහොත් එයට සමාන පවුල් ක්‍රමයක් පැවතුණු බව සිතිය හැකිය.

හවායිහි මේ පවුල් ක්‍රමය සැබවින්ම පැවති බවට ඔප්පු කොට ඇත. ඇමෙරිකාවේ ස්පාඤ්ඤ ජාතික චපල පූජකයින් මෙන් ක්‍රිස්තියානි නොවන මේ සිරිත පිළිගැනීමට හැකියාවක් පෙන්වූයේ නම්, මෙය සමහර විට පොලිනීසියාව පුරා ප්‍රත්‍යක්ෂවම පැතිර යනු ඇත*. අශිෂ්ටත්වයේ මධ්‍යම අවධියේ පසු වූ බ්‍රිතාන්‍යයින් "දස දෙනෙකුගේ හෝ දොළොස් දෙනෙකුගේ හෝ කණ්ඩායම් පොදුවේ බිරියන් තබාගෙන සිටි බවත්, එය වැඩි වශයෙන් සහෝදරියන්ද, දෙමාපියන් සමග දරුවන්ද එසේ හැසුරුණු බවත් ජූලියස්

---

* බහෝපන් විසින් සොයාගත්හයි විශ්වාස කරන Sumpfzeugund හෙවත් අවිචාරවත් ලිංගික සම්බන්ධතාවය අප, කාණ්ඩ විවාහය දක්වා ආපසු ගෙනගිය බවට සැකයක් නැත. "පුනාලුවා විවාහ 'නීති විරෝධී' ලෙස බහෝපන් පිළිගන්නේ නම්, ඒ කාලයේදී වාසය කළ මිනිහෙක් අද පවතින විවාහ සිරිත, එනම් පියාගේ සහ මවගේ පාර්ශ්වයේ ඥාති සහෝදරයකු හා විවාහ වීම ව්‍යාභිචාරී දෙයක් ලෙස පිළිගනු ඇත. මන්දයත් එය ලේ නෑකමක් ඇති සහෝදරයන් හා සහෝදරයින් අතර සිදුවන විවාහයක් වන බැවිනි" (මාක්ස්). — (එංගල්ස්ගේ සටහනකිනි.)

සීසර් අපට කියන විට, එය ඉතා හොඳින් විස්තර කළ හැක්කේ කාණ්ඩ විවාහ වශයෙනි. ම්ලේච්ඡ මවුවරුනට පුතුන් දහ දෙළොස් දෙනා බැගින් නොසිටිය අතර පොදුවේ බිරිඳන් තබා ගැනීමට තරම් ඔවුහු වයසින් මෝරා නොසිටියහ. එහෙත් පුනාලුවා පවුලට අනුරූප ඇමෙරිකන් ලේ ඥාති ක්‍රමය සහෝදරයින් විශාල සංඛ්‍යාවක් ඇති කරයි. මන්දයත්, මිනිසකුගේ දුර හා ළඟ නෑයන් ඔහුගේ සොහොයුරන් වන බැවිනි. ''දෙමාපියන් සමග දරුවන්'' නැමැති ප්‍රකාශනය සීසර්ට වූ වැරදීමක් ලෙස සිතිය හැකිය. කෙසේ වුවද, මේ ක්‍රමය එක් පියෙක් හා පුතෙක්ද, මවක් හා දුවක්ද එකම විවාහ කණ්ඩායමකට ඇතුළුවීම නොවළක්වයි. එහෙත් එවැනි කණ්ඩායම් තුළට පියෙකු හා දුවකද, මවක හා පුතකුද ඇතුළු වීම වළක්වයි. ම්ලේච්ඡ හා අශිෂ්ට මිනිසුන් අතර පොදු බිරියන් කාණ්ඩ සිටීම ගැන හෙරොඩෝටස් සහ අනිකුත් ආදි කාලීන ගත් කරුවන් ඉදිරිපත් කළ වාර්තා මේ ආකාරයට හෝ මෙයට සමාන කාණ්ඩ විවාහ ගැන හෝ ඉතා සරළ විස්තර ඉදිරිපත් කරයි. වොට්සන් සහ කේ විසින් ලියන ලද ''ඉන්දියාවේ මිනිස්සු'' නැමැති පොතේ ඖඩ්හි (ගංගා නදියට උතුරින්) ටිකුර්වරුන් ගැන කරන විස්තරයට මෙය ගැළපෙයි: ''ඔවුහු කිසිම විචාරත්වයකින් තොරව එකට (එනම් ලිංගික සම්බන්ධකම් අනුව) විශාල සමූහ වශයෙන් වාසය කරති. නාමික බැඳීමක් වශයෙන් පමණක් දෙදෙනෙකු විවාහ වූහයි ගණන් ගනිති.''

සිද්ධීන්ගේ බහුතර සංඛ්‍යාව අනුව බලනවිට වංශ ඇතිවීම කෙළින්ම පුනාලුවා පවුලෙන් මුලසිටම ඇතිවූ දෙයක් බව පෙනෙන්නට තිබේ. මේ ගැන මුල් පටන්ගැනීමේ සාක්ෂ්‍යයක් ඕස්ට්‍රේලියානු පංති ඉදිරිපත් කරයි*. ඕස්ට්‍රේලියානුන්ට වංශ ඇත. එහෙත් ඔවුන්ගේ පවුල් ක්‍රමය පුනාලුවා පවුලට සමාන නොවන අතර එය වඩාත් රළු කාණ්ඩ විවාහ ක්‍රමයකි.

නොයෙක් විධිවලට අයත් කාණ්ඩ පවුල්වල දරුවකුගේ පියා කව්ද යන්න අස්ථිරය, එහෙත් මව කව්ද යන්න ස්ථිරය. රාශිභූත පවුලේ සියලුම දරුවන් තමාගේ දරුවන් වශයෙන් ඇය විසින් නම් කරනු ලැබුවද, එමෙන්ම ඇය මවක මෙන් සියලු යුතුකම් ඉටු කළද ඇගේ කුසින් උපන් දරුවන් අනෙකුත් ළමයින්ගෙන් වෙන්කොට හඳුනා ගැනීමෙහි ඇය සමත්ය. කාණ්ඩ විවාහ ක්‍රම කුමක් වුවද, පරම්පරාව සොයාගත හැක්කේ මවගේ පැත්තෙන් බව ඒ අනුව පැහැදිලි වන අතර, පරම්පරාව පිළිගන්නා ලද්දේ මවගේ පැත්ත අනුව පමණකි. සියලුම ම්ලේච්ඡයන් අතර සහ අශිෂ්ටත්වයේ පහළ අවධියේ පසුවන්නන් අතරද ඇත්ත වශයෙන්ම එය එසේම පවතී,

* මෙතැනදිත්, පසුවත් ඕස්ට්‍රේලියානු මුල් වැසියන්ගේ විවාහ කාණ්ඩ ගැන කතුවරයා සඳහන් කරයි. — සංස්කාරක.



මෙය පළමුවෙන්ම සොයාගැනීම බහෝපන්ගේ දෙවැනි විශාල ජයග්‍රහණයයි. පරම්පරාව මවගේ පැත්තෙන් පමණක් විශේෂයෙන් පිළිගැනීමද, කාලයාගේ ඇවෑමෙන් ඉන් පැන නැඟුණු උරුම ක්‍රමයද ඔහු හඳුවන්නේ මව් අයිතිය නමිනි. සංක්ෂිප්ත බවේ නාමයෙන් මම මේ යෙදුම එලෙසම පාවිච්චි කරමි. කෙසේවුවද, එය අසතුටුදායකය. මන්දයත්, මේ සමාජමය අවධියේදී නීතියේ තේරුම අනුව අයිතියක් නොතිබුණු බැවිනි.

පුනාලුවා පවුලේ කාණ්ඩ දෙකින් එක් කණ්ඩායමක් අප පිරික්සා බලන්නේ නම්, සොබාවික හා ප්‍රාසාංගික සහෝදරියන් සංඛ්‍යාවක්ද (එනම්, පළමුවැනි, දෙවැනි හෝ වඩාත් ඈත ගණයක ලා සැළකෙන සොබාවික සහෝදරියන්ගෙන් පැවත එන්නන්) මව් පාර්ශ්වය අනුව ඔවුන්ගේ සොබාවික හෝ ප්‍රාසාංගික සහෝදරයන් සහ ඔවුන්ගේ දරුවන් සමග එකතු කරගත් විට (අපේ උපනය අනුව ඔවුන්ගේ සැමියන් නොවන අය), වංශයේ මූලික විධියේදී ඇතිවූ වංශිකයින්ගෙන් යුත් එම පුද්ගලයින්ගේ කවය අපට ස්ථිර වශයෙන්ම ලැබේ. මොවුන් සියලු දෙනාටම පොදු මී මුත්තණියක් සිටි අතර , ඇගෙන් පැවත එන සියලු ස්ත්‍රීහු පරම්පරාවන් පරම්පරාවට ඇගෙන් පැවත එන නිසාම සහෝදරියන් වෙති. කෙසේ හෝ මේ සහෝදරියන්ගේ සැමියන් පෙර මෙන් ඔවුන්ගේ සහෝදරයන් වීමට බැරිය. එනම් ඔවුන් අර මී මුත්තණියගේ පරම්පරාවට අයත් නොවීමය. ඒ නිසා පසුව වංශය වශයෙන් හැඳින්වුණු එම ලේ නෑයින්ගේ කණ්ඩායමට ඔවුන් අයත් නැත. එහෙත් ඔවුන්ගේ දරුවන් එම කණ්ඩායමට අයත්ය. මන්දයත්, මවගේ පාර්ශ්වයෙන් ඇති පරම්පරාව පමණක් තීරණාත්මක බැවිනි. මන්දයත්, එය පමණක් ස්ථිර වූ බැවිනි. මවගේ පාර්ශ්වය අනුව ඈත ප්‍රාසාංගික නෑයින් ඇතුළු සහෝදර සහෝදරියන් අතර ලිංගික සබඳකම් තහනම් කිරීමෙන් පසු, ඉහත සඳහන් කණ්ඩායම වංශයකට පෙරළේ — එනම්, එම කණ්ඩායම ස්ත්‍රී පාර්ශ්වය අනුව අතිශයින්ම දැඩි සීමාසහිත ලේ නෑයින්ගේ කවයක් බවට පත්වේ. මේ අය අතර අන්‍යොන්‍ය විවාහය තහනමිය. මෙතැන් සිට මේ වංශය අනිකුත් පොදු සමාජමය හා ආගමික ස්වරූපයක් දරන ආයතනයක් මගින් ස්ථිර බවට පත්වේ, ඒ අතර එකම ගෝත්‍රයේ අනිකුත් වංශවලින් එය වෙන්වී සිටී. මේ ගැන අපි පසුව සවිස්තරව කියමු. කෙසේ හෝ වංශ අවශ්‍යයෙන්ම පමණක් නොව, ඇත්ත වශයෙන්ම පුනාලුවා පවුලෙන් පරිවර්තන වී පැවතෙන බව අපට පෙනේ නම්, වංශ පිළිබඳ ආයතන සොයාගත හැකි මේ පවුල් විධිය — එනම්, සියලු අශිෂ්ට හා ශිෂ්ට ජනතාව අතර ස්ථිර වශයෙන්ම පැවතිනැයි කීමට තරම් ස්ථිර පදනමක් ඇත්තේය.

මෝර්ගන් ඔහුගේ පොත ලියන කාලයේදී කාණ්ඩ විවාහ ගැන අපේ දැනීම අතිශයින්ම සීමාසහිත විය. පංති වංශයෙන් සංවිධාන වී සිටි ඕස්ට්‍රේ-

ලියානුන් අතර ප්‍රකට කාණ්ඩ විවාහය ගැන අප දැන සිටියේ මඳ වශයෙනි. මෙයට අමතරව 1871 තරම් ඈත කාලයේදී, හවායිහි පුනාලුවා පවුල ගැන තමාට ලැබුණු ආරංචි මෝර්ගන් විසින් පළකරන ලදී. එක් අතකින් අමෙරිකානු ඉන්දියානුන් අතර ඇති ලේ නෑදෑ ක්‍රමය පුනාලුවා පවුල විසින් සම්පූර්ණයෙන්ම විස්තර කර තිබේ. මෝර්ගන්ගේ පරීක්ෂණවල මුලපටන් ගැනීමේ ක්‍රමය මෙය විය. අනිත් අතින් මව් අයිතිය අනුව වංශයේ ප්‍රභවය සඳහා සෑහෙන සාක්ෂි මෙයින් ඉදිරිපත් කැරිණි. අවසාන වශයෙන් එය ඕස්ට්‍රෙලියානු පංතිවලට වඩා අතිශයින් උසස් සංවර්ධන අවධියක් නියෝජනය කළේය. එමනිසා යුගලන පවුලට පෙරාතුව අවශ්‍යයෙන්ම ඇතිවූ වර්ධනයක් ලෙස මෝර්ගන් විසින් පුනාලුවා පවුල ගණන් ගැනීමද, අතීතයේදී එවැනි විධියක් පොදුවේ පැවති බව පිළිගැනීමද තේරුම් ගත හැකිය. ඉන්පසු කාණ්ඩ විවාහ පිළිබඳ වෙනත් විධි කීපයක්ම අපි දැන ගතිමු. උසස් අවධියක් දක්වා පරිවර්තනය වූ විධිය ඉතා ලෙහෙසියෙන්ම විස්තර කළ හැකි විධිය වන උසස්තම, ආචීර්ණකල්පික කාණ්ඩ විවාහ තම පුනාලුවා පවුල තුළින් විස්තර කිරීමේ ගෞරවය මෝර්ගන් සතු විය.

කාණ්ඩ විවාහය ගැන අපේ දැනීම අතිශයින්ම යෝග්‍ය ලෙස පොහොසත් කරවීම ගැන ලොරිමර් පිසන් නම්වූ ඉංග්‍රිසි මිෂනාරි තැනට අප ණය ගැතිය. මන්දයත්, ඔහු මේ පවුල් විධිය එහි ආචීර්ණ කල්පික භූමිය වන ඕස්ට්‍රෙලියාවේදී හැදෑරූ බැවිනි. දකුණු ඕස්ට්‍රෙලියාවේ ගැම්බියර් කඳුවැටිවල වාසය කළ ඕස්ට්‍රෙලියානු නීග්‍රෝවරුන් ඉතාම පහත් සංවර්ධන අවධියක පසුවන බව ඔහු සොයා ගත්තේය. මෙහි මුළු ගෝත්‍රයම විශාල පංති දෙකකට එනම්, ක්‍රෝකි සහ කුමයිට් වශයෙන් බෙදී තිබිණ. මේ එක් එක් පංතියක් තුළ ලිංගික සංසර්ගය සම්පූර්ණයෙන් තහනම් විය.එහෙත් අනිත් අතින් එක් පංතියක හැම මිනිහෙකුම අනික් පංතියේ ගැහැණියකගේ උපන් සැමියෙකි,ගැහැණියද එලෙසම සියලුම පුරුෂයින්ට උපන් බිරිඳකි, පුද්ගලිකයින් නොව පංතිය පංතියක් සමග, සම්පූර්ණ කණ්ඩායම් එකිනෙකට විවාහ කර ඇත. එකිනෙකට බාහිර පංතිවලින් විවාහවීමේ පංති දෙකෙහි වෙනස හැරණු විට, වයස් භේදය හෝ විශේෂ ලේ නෑකම ආදි කිසිම භේදයක් බල නොපාන බව සඳහන් කළ යුතුය. ක්‍රෝකියෙක් නීත්‍යානුකූලව හැම කුමයිට් ගැහැණියක්ම තම බිරිය කොට ගනී. තමා නිසා කුමයිට් ගැහැණියකුගේ කුසින් උපන් තම දුව පවා මව් අයිතිය අනුව කුමයිට් කතක් වන බැවින්, ඇයද ඇගේ පියා ඇතුළු සියලුම කුමයිට්වරුන්ට උපන් බිරිඳකි. හැම අවධියකදී මෙන්ම මෙතැනදීද පංති සංවිධානය සීමාවන් නොකරයි. දෙමාපියන් හා දරුවන් අතර ලිංගික සංසර්ගය විෂම දෙයක් ලෙස තවම නොසැලකූ කාලයක, කිට්ටු නෑයන් අතර සංසර්ගය සීමාකිරීම සඳහා නොපැහැදිලි හැඟීම් ඇතිවූ කාලයක, එක්කෝ



මේ සංවිධානය පැන නැංගා විය යුතුය. එසේත් නැතිනම් පංති පැන නැගි විටදී, එයට පෙර දෙමාපියන් හා දරුවන් අතර සිරිත් විසින් සංසර්ගය තහනම් කර තුබුණා විය යුතුය. එය එසේනම්, වත්මන් තත්ත්වය ලේ නෑකම් සහිත පවුල වෙත අප ගෙනයයි. එසේම එය පසුකරමින් ලැබූ වර්ධනයද එයයි. පසු කී නිගමනයට වඩාත් හේතු සහගතය. මා දන්නා පමණින් දෙමාපියන් හා දරුවන් අතර විවාහ සබඳකම් ඕස්ට්‍රෙලියාවෙන් වාර්තා වී නැත. තම පංතිය තුළින් විවාහවීමේ පසු කී විධියද, මව් අයිතිය අනුව පැවතෙන වංශයද, නීතියක් වශයෙන්, සිය ආයතනය මත පැවැති තහනමක් විලෝමය වශයෙන් ඇතිබව නිහඬව ඇඟවීමකි.

දකුණු ඕස්ට්‍රෙලියාවේ ගැම්බියර් කඳු හැර මේ ද්විපංති ක්‍රමය, ඩාලිං ගඟ ඔස්සේද, වඩාත් නැගෙනහිරද, ක්වීන්ස් ලන්තයේද, ඊශාන පෙදෙසේද එසේම ඉතා පුළුල් ලෙස පැතිර පවතී. මේ ක්‍රමය අනුව සහෝදරයන් හා සහෝදරියන් අතර, මව් පාර්ශ්වයෙන් පැවතෙන සහෝදරයන්ගේ හා සහෝදරියන්ගේ දරුවන් අතරද පමණක් විවාහය තහනම් කර ඇත්තේ මේ අය එකම පංතියකට අයත් බැවිනි. අනිත් අතින් සහෝදරයෙකුගේ හා සහෝදරියකුගේ දරුවන් අතර විවාහයට අවසර ඇත. ඩාලිං ගඟ ඔස්සේ නිව් සවුත් වේල්ස් පෙදෙසේ කමිලරෝයි වරුන් අතර, කිට්ටු නෑයන් අතර සංසර්ගයෙන් සිදුවන උපත් නැවැත්වීම පිණිස තවත්දුර පියවරයන් ගෙන තිබේ. මෙහි මුල් පංති දෙක පංති හතරක් දක්වා බෙදා වෙන්කර ඇත. මේ එක් එක් පංතියක්, මුළුමනින්ම තවත් නියමිත පංතියකට විවාහ කොට ඇත. පළමුවැනි පංති දෙක එකිනෙකාගේ ජන්ම අඹු සැමියෝ වෙති. මොවුන්ගේ දරුවන් තමන්ගේ මව අයත් පළමුවැනි හෝ දෙවැනි පංතිය අනුව තුන්වැනි හා සතරවැනි පංතිවලට අයත් වේ; මේ අය ඒ අනුව එකිනෙකාට විවාහ වන අතර ඔවුන්ගේ දරුවන් නැවතත් පළමුවැනි හා දෙවැනි පංතිවලට අයත් වේ; ඒ අනුව එක් පරම්පරාවක් නිතරම පළමුවැනි හා දෙවැනි පංතියටද අයත් වන අතර අනික් පරම්පරාව තෙවැනි හා සතරවැනි පංතිවලටද, ඉන්පසු පරම්පරාව නැවත පළමුවැනි හා දෙවැන පංතිවලටද අයත්වේ. මේ ක්‍රමය අනුව, සහෝදර සහෝදරියන්ගේ දරුවන් (මවගේ පාර්ශ්වය අනුව) අඹු සැමියන් නොවන අතර, කෙසේ හෝ ඔවුන්ගේ මුණුබුරන් හා මිණිබිරියන් අඹුසැමියන් වනු ඇත. පුදුමලෙස සංකීර්ණ මේ ක්‍රමයට, මව් අයිතිය ඇති වංශ කෙසේ හෝ පසුව ඒකාබද්ධ කිරීමෙන් වඩාත් සංකීර්ණ කර ඇත. එහෙත් අපට ඒ ගැන පිරික්සා බැලිය නොහැක. කිට්ටු නෑයන් අතර සංසර්ගයෙන් ඇතිවන උපත් වැළැක්වීම සඳහා හැඟීම් ඇතිවන සැටි වරින් වර දැකිය හැක, එහෙත් එවැනි හැඟීම් අඳුරේ අතපත ගෑමක් මෙන්ද, පැහැදිලි ඉලක්කයෙන් තොරවද ඉබේ පැන නැඟ ඇත.

කාණ්ඩ විවාහය ඕස්ට්‍රේලියාවේ නම් තවම පංති විවාහයකි. මුළු මහත් මහා ද්වීපය පුරා නිතර පැතිර සිටින පුරුෂයින්ගෙන් යුත් පංතියක්, එලෙසම පුළුල් ලෙස පැතිර සිටින ස්ත්‍රීන් පංතියක සමග විවාහවීමකි. මේ කාණ්ඩ විවාහය වඩාත් ළඟින් නිරීක්ෂණය කරන විට ගනිකා මඩම් සහිත හැඟීම් වලින් යුත් අවරසිකයින් හිතන තරම් බියජනය නොවේ. අනිත් අතින් එවැන්නක් පැවතිණැයි සැක කිරීමට පෙර දීර්ඝ කාලයක් ගෙවීගිය අතර, ඇත්ත වශයෙන්ම එය විවාදයට ලක්කොට ඇත්තේ මෑතක සිටය. නොගැඹුරු නිරීක්ෂකයාට මෙය පෙනියන්නේ ලිහිල් ඒක භාර්යා විරතයක් හැටියටත්, ඉඳහිට ඇතිවන මිථ්‍යාචාරය සහිත සමහර තැන්වල බහු භාර්යා විරතයක් හැටියටත්ය. ක්‍රියාවෙන් සාමාන්‍ය යුරෝපීය-යාට තම විවාහ සිරිත් සිහියට නංවන, මේ විවාහ කොන්දේසි නිසිලෙස පාලනය කරවන නීති සොයාගැනීම සඳහා පිසන් හා හොවිට් මෙන් අවුරුදු ගණනක් ගත කළ යුතුය. තම ගෙදරින් සැතැපුම් දහසක් ඈත, රටේ බස නොදැන, එහෙත් කඳවුරෙන් කඳවුරටද, ගෝත්‍රයෙන් ගෝත්‍රයටද යමින් සිටින ආගන්තුකයෙකුට පවා අකපට ලෙස විරෝධය නොපා ස්ත්‍රියක් යටත් වන විට, නීතිය අනුව බිරියන් කීපදෙනෙකු ඇති නීග්‍රෝ ජාතිකයෙකු අමුත්තාට රෑ ගත කිරීම පිණිස එක් බිරියක් පවරා දීමකි. යුරෝපීයයා මෙය දුශ්චරිතයක් හා නීති විරෝධී දෙයක් හැටියට පමණක් බැලුවද, නියම නීතිය ක්‍රියාවේ යෙදීමකි. ස්ත්‍රිය ආගන්තුකයාගේ විවාහ පන්තියට අයත්ය, එබැවින් ඇය ඔහුගේ ජන්ම බිරියකි. එකිනෙකට අයත් විවාහ පංතිවලට පිටින් සංසර්ගයෙහි යෙදීම තහනම් කර ඇති අතර එය කඩ කරනවුන් පංතියෙන් පිටුවහල් කරන එම අධ්‍යාත්මික නීතියම විසින් එකෙකු අනිකාට පවරා දී තිබේ. බොහෝවිට කරනු ලබන්නාවූත්, සමහර පළාත්වල නීතියක්ව පවතින්නාවූත්, ස්ත්‍රීන් පැහැරගෙන යාමේදී පවා මේ නීතිය අකුරටම පිළිපදී.

ස්ත්‍රියක් පැහැරගෙන යාමේදී පවා පෞද්ගලික විවාහයක් දක්වා පරිවර්තන වීමේ සේයාවන් දැකියහැකිය, යටත් පිරිසෙයින් යුගලන පවුලක විධියක් මෙයින් දක්නට ලැබේ. තම මිතුරන්ගේ ආධාරය ඇතිව තරුණ-යෙක් තරුණියකු පැහැරගෙන ගිය විට හෝ දෙදෙනාම රහසින් පැන ගිය පසු හෝ ඔවුන් සියලු දෙනාම පිළිවෙළින් තරුණිය සමග සංසර්ගයෙහි යෙදේ, එහෙත් ඒ තරුණිය පැහැරගෙනයාම ආරම්භ කළ තරුණයාගේ බිරිඳ ලෙස ගණන් ගනී. අනිත් අතට පැහැරගෙන යනු ලැබූ ස්ත්‍රිය සිය සැමියාට හොරෙන් පැන ගියේ නම්,එසේ යනවිට තවත් පුරුෂයෙකු විසින් ඇය අල්ලාගෙන ලැබුවේ නම්,ඇය පසු කී පුරුෂයාගේ බිරිඳ බවට පත්වන අතර, පළමු සැමියාගේ වරප්‍රසාදයද අහිමි වෙයි. ඒ අනුව පොදුවේ දිගටම පැවැති කාණ්ඩ විවාහ ක්‍රමය සහ එයට සමාන්තරව විශේෂ නෑකම්ද,



දීර්ඝ හෝ කෙටි කාලයකට ජෝඩුවීම්ද, ඒ සමග බහු භාර්යා විරතයද එකවර ඇතිවිය. මෙහිද කාණ්ඩ විවාහය ක්‍රම කමයෙන් අභාවයට යමින් පවතී. යුරෝපීයයන්ගේ බලපෑමේ ප්‍රතිඵලයක් වශයෙන් පැන නැඟ ඇති ප්‍රශ්නය මෙයයි — පළමුවෙන් අතුරුදහන් වනුයේ කාණ්ඩ විවාහයද නැතිනම් එය අනුගමනය කරන නීග්‍රෝවරුන්ද?

කෙසේ හෝ ඕස්ට්‍රේලියාවේ පවතිනාවූ සමූහ වශයෙන් පංති විවාහය, කාණ්ඩ විවාහයේ ඉතා පහත් හා නොදියුණු විධියකි. අනිත් අතින් අප දන්නා පරිදි සංවර්ධනයේ ඉතාම උසස් අවධිය පුනාලුවා පවුලයි. පෙරකී විවාහ ක්‍රමය තැනින් තැන යන මිලේච්ඡයන්ගේ සමාජ තත්ත්වයට අනුකූ-ලයැයි සිතිය හැකි අතර පසුකී ක්‍රමය සාපේක්ෂිත ලෙස ස්ථිර කොමියුනි-ස්ට්වාදී ජනපදවලට අයත්ය.ඒ සමගම එම වඩාත් උසස් සංවර්ධන අවධිය දක්වා කෙළින්ම මග පෙන්වයි. මේ දෙක අතර අතර එක්තරා අන්තර් අවධියක් සහතික ලෙස සොයාගත හැකි වනු ඇත. මෙතැන අප ඉදිරියේ ඇත්තේ මේ දැන් විවෘත කළ සහ පරීක්ෂණයකට යම්තම් පත් කළ ක්ෂේ-ත්‍රයක් පමණකි.

3. යුගලන පවුල. කාණ්ඩ විවාහ කාලයේදී හෝ ඊට පෙර හෝ දීර්ඝ හෝ කෙටි කාලයකට එක්තරා විධියක ජෝඩුවීමක් ඇතිවිය. තම බිරියන් අතුරෙන් පුරුෂයාට එක් ප්‍රධාන බිරිඳක් සිටියාය. (ඇය ඔහුගේ ප්‍රියතම බිරිඳයැයි තවම කිව නොහැකිය.) එමෙන්ම සැමියන් අතුරෙන් ඔහු ඇගේ ප්‍රධාන සැමියා විය. කාණ්ඩ විවාහය අවිචාර ලෙස බිරියන් කණ්ඩායමක් තබාගෙන සිටීමක් ලෙසද, හිතුවක්කාරී ලෙස පරදර සේවනයෙහි යෙදීමක් ලෙසද දුටු මිෂනාරිවරුන්ට, මේ තත්ත්වය විසින් සැහෙන ව්‍යාකූලත්වය-ක්ද ඇතිකරන ලදී. වංශ වර්ධනයවීමත් සමගම විවාහ විය නොහැකි "සහෝදරයින්ගේ" සහ "සහෝදරියන්ගේ" පංති සංඛ්‍යාවද වැඩිවීමත් සමගම, එලෙස සිරිත් පරිදි ජෝඩුවීමද කෙසේහෝ වඩ වඩාත් අවශ්‍ය ලෙසම තහවුරු විය. ලේ නෑයන් අතර විවාහ වලක්වාලීම සඳහා ඇතිකළ උනන්දුව නිසා කාරණය තවත්දුර දිග් ගැස්සිණ. අයිෂ්ටත්වයේ පහත් අවධියේදී ඉරෝකුවෝයිස් හා වෙනත් රතු ඉන්දියානු ගෝත්‍රවලින් වැඩි හරියක් තම ක්‍රම මගින් පිළිගෙන ඇති සියලු නෑයින් අතර විවාහ තහනම් කිරීමක් අපි දකිමු. මේ නෑකම් ක්‍රමයේ වර්ග සිය ගණනකි. විවාහ තහනමේ වර්ධනය වන සංකීර්ණත්වය විසින් කාණ්ඩ විවාහය වඩාත් නොකළ හැකි දෙයක් බවට පත්කරන ලදී. කාණ්ඩ විවාහ වෙනුවට යුගල හෙවත් යුගලන පවුල ඇතිවිය. මේ අවධියේදී එක් පුරුෂයෙකු එක් ස්ත්‍රියක් සමග වාසය කළේය. බහු භාර්යා විරතය ආර්ථික හේතූන් නිසා ප්‍රගුණ කළද, බහු භාර්යා විරතය හා ඉඳ හිට කෙරෙන මිථ්‍යාචාරයද පුරුෂයාගේ වරප්‍ර-සාදය වශයෙන් පැවතිණි. එහෙත් ඒ අතරම එක්ව වසන කාලය තුළදී

පතිව්‍රතාව දැඩිලෙස ඉල්ලා සිටින ලදී. ඇය පරදර සේවනයෙහි යෙදුනි නම් කෲරලෙස ඇයට දඬුවම් පමුණුවන ලදී. දෙපැත්තෙන් ඕනෑම පැත්තකට විවාහය කඩුගා දැමිය හැකිවූ අතර පෙර මෙන්ම දරුවන්ගේ තනි අයිතිය මවුට භාරවිය.

ලේ නෑයින් අතර විවාහය තහනම් කිරීම වඩාත් පුළුල් වීම සමගම සොබාවික තෝරාගැනීමද දිගටම ප්‍රතිඵල ගෙනදෙන්නට විය. මෝර්ගන්ගේ වචන අනුව ලේ නෑයින් නොවන වංශ අතර ඇතිවන විවාහයන් නිසා "ශාරීරික හා මානසික වශයෙන් වඩාත් ප්‍රබල පරම්පරාවක් බිහිවීමට මහ පැදිණි. දියුණු වෙමින් පවතින ගෝත්‍ර දෙකක් එකට මුහුං වූ විට... අළුත් හිස් කබල හා මොළය පුළුල් වෙන්නේ, ගෝත්‍ර දෙකෙහිම පොදු හැකියාවන් තරමටය". ඒ නිසා වංශ අනුව සැදුණු ගෝත්‍රවලට අඩු දියුණු ගෝත්‍ර මත සිය අණ සක පැනවීමට හෝ සිය ආදර්ශය මගින් තමන් වෙත නම්වා ගැනීමට හෝ පුළුවන් විය.

ඒ අනුව ප්‍රාග් ඉතිහාසීය කාලයේ පවුල් පරිණාමය, මුලදී මුළු මහත් ගෝත්‍රයටම පොදුවූ — ඒ තුළ ස්ත්‍රී පුරුෂ දෙපක්ෂය අතර විවාහය පැවති — දිගටම පටුවී ගෙන එන ඒ කවයෙන් යුක්ත විය. පළමුව කිට්ටු නෑයින් අතරද, ඉන්පසු දුර නෑයින් අතරද, අවසානයේදී විවාහය නිසා නෑයින් බවට පත්වූවන් අතරද විවාහවීම තහනම් කිරීම නිසා සෑම වර්ගයකටම අයත් කාණ්ඩ විවාහයන් සිදුකිරීම ක්‍රියාවෙන් කළ නොහැකි දෙයක් බවට පත්විය.අවසානයෙදී ඉතිරිවූයේ තවම ලිහිල් ලෙස බැඳී ඇති එකම යුගලනය හෙවත් අණුවය. මෙය විසුරුවා හැරීමෙන් විවාහය සම්පූර්ණයෙන්ම අභාවයට යයි. ඒක භාර්යා විරතයේ සම්භවය සමග, වචනයේ සමකාලීන තේරුම අනුව, ලිංගික ආලය කෙතරම් අඩුවෙන් බලපෑවේද යන්න මේ සත්‍යයෙන් පමණක් පෙනීයයි. මේ අවධියේ සියලු ජනතාවන්ගේ ප්‍රායෝගිකත්වය මෙයට තවත් සාක්ෂි ගෙනදෙයි. මීට ඉහත පැවති පවුල් ක්‍රමය අනුව පුරුෂයින්ට ස්ත්‍රීන්ගෙන් අඩුවක් නොවීය, ඒ වෙනුවට උවමනාවට වඩා වැඩියෙන් ස්ත්‍රීහු සිටියාහ. එහෙත් දැන් ස්ත්‍රීන් මදිවූ අතර ඔවුන් සොයා යාමට සිදුවිය. ඒ අනුව යුගලන විවාහයත් සමගම ස්ත්‍රිය පැහැරගෙනයාම සහ මිළදී ගැනීම ආරම්භවේ. වඩාත් ගැඹුරු ලෙස මුල්බැස ගත් වෙනසක පුළුල් ලෙස පැතිරගිය ලක්ෂණයක් මිස මෙය අන් කිසිවක් නොවීය. මේ ලක්ෂණ වූකලී ගැහැණුන් ලබා ගන්නා ක්‍රමයන් පමණක් විය. එසේවූවද මැක්ලෙනන් නම්වූ පණ්ඩිතමානී ස්කොට් ජාතිකයා එය පවුල්වල විශේෂ පංති වශයෙන් විකෘති කොට "පැහැරගෙන ගොස් විවාහවීම" සහ "මිළදීගෙන විවාහවීම" වශයෙන් නම් කළේය. කෙසේ හෝ ඇමෙරිකානු ඉන්දියානුන් අතර සහ (එම අවධියේම පසුවන) අනිකුත් ගෝත්‍රවලද විවාහයකට සූදනම් කිරීම දෙපක්ෂයට පමණක් සීමාවූවක් නොව, ඇත්ත වශයෙන්ම බොහෝ අවස්ථාවලදී ඔවුන්ගෙන් කැමැත්ත පවා විභාග නොකරනු ලැබේ. එහෙත් එය පිළියෙළ කරන්නේ දෙපක්ෂයේ මව්වරුන් විසිනි. මේ අනුව එකිනෙකා නොහඳුණන අමුත්තන් දෙදෙනෙකු විවාහ කරවන අතර ඔවුන් ඒ බව දැනගන්නේ විවාහ දිනය ළංවන විටය. විවාහයට පෙරාතුව, මනමාලයාගේ දෙමාපියන් විසින් මනාලියගේ වංශයට අයත් නෑයින්ට (එනම් මවගේ පැත්තෙන් ඇගේ නෑයින්ට, පියාගේ පැත්තේ නෑයින්ට නොවේ) තෑගි බෝග දෙනු ලැබේ. පවරාදෙනු ලැබූ තරුණිය මිළදී ගැනීමේ පඩුරු හැටියට මේ තෑගි ගණන් ගනු ලැබේ. පුරුෂයාගේ හෝ ස්ත්‍රියගේ උවමනාව අනුව විවාහය කඩුගා දැමිය හැක. ඒ කොයිහැටි වුවද, බොහෝ ගෝත්‍රවල, නිදසුනක් වශයෙන් ඉරොකුවෝයිස්වරුන් අතර මෙවැනි වෙන්වීම්වලට එදිරිව ජනතා හැඟීමක් වර්ධනය විය. මතභේදයන් පැන නැඟුණු විට, දෙපැත්තේම වංශවත් නෑයෝ ඉදිරිපත් වී එය සමථයකට පත් කිරීමට වෑර දරති, එවැනි වෑයම් නිෂ්ඵල වූ විට පමණක් වෙන්වීම් ඇතිවේ. දරුවන් මව සමග නවතී, දෙපක්ෂයටම නැවත විවාහවීමට නිදහස ඇත.

ස්වාධීන ගෘහ පාලනයක් අවශ්‍යවීමට තරම් හෝ එවැන්නක් උවමනායැයි කීමට තරම් හෝ යුගලන පවුල අස්ථිර හා දුර්වල වූ අතර, එය විසින් ආදි කාලයේ සිට පැවත ආ කොමියුනිස්ට්වාදී ගෘහ පාලනය කිසි ලෙසකින්වත් විසුරුවා නොහරින ලදී. එහෙත් කොමියුනිස්ට්වාදී ගෘහ පාලනය යනු ගෙදර ස්ත්‍රියගේ ප්‍රධානත්වය පිළිගැනීමය. සොබාවික පියා ස්ථිරලෙස නිශ්චය කළ නොහැකි නිසා සොබාවික මව විශේෂයෙන් පිළිගන්නාක් මෙන්ම, ස්ත්‍රියට උසස් තැනක් එනම් මවට උසස් තැනක් දෙනු ලැබේ. දහඅටවැනි සියවසේ ප්‍රබුද්ධ සමයේ සිට ලැබුණු එක් අමූලික බොරු මතයකි, සමාජයේ මුල පටන් ගැන්මේ සිටම ස්ත්‍රිය පුරුෂයාගේ වහලියක් බවට පත්වීයැයි යන්න, සියලුම ම්ලේච්ඡ සහ වනචාරී සමාජවල මැද හා පහත් අවධිවලදී පමණක් නොව, උසස් අවධියේදී අඩ වශයෙන්ද ස්ත්‍රිය ස්වාධීන පමණක් නොව අතිශයින්ම ගෞරවනීය ස්ථානයක්ද දැරුවාය. යුගලන පවුල පැවති කාලයේදී ස්ත්‍රියගේ තත්ත්වය කුමක්ද යන්න සහතික කොට කීමට සෙනෙකා ඉරෝකුවෝයිස්වරුන් අතර අවුරුදු බොහෝ ගණනක් වුසූ ආතර් රයිට් මිෂනාරි තැනට ඉඩදෙමු:

"පැරණි දිගැති ගෙවල්වල වාසය කරන කාලයේදී (පවුල් කීපයක් එකට වෙළාගත් කොමියුනිස්ට්වාදී ගෘහ පාලනය) ඔවුන්ගේ පවුල් ක්‍රමය මෙසේ විය. එක් වංශයක් (ගෝත්‍රයක්) අනික් වංශවලට වඩා ඉහළින් සිටියා විය හැකිය. අනිකුත් වංශවලින් (ගෝත්‍රවලින්) සැමියන් තෝරාගැනීම ස්ත්‍රීන් විසින් කරන ලදී... සාමාන්‍යයෙන් ස්ත්‍රීහු ගෘහ පාලනය කළහ. ගබඩා පොදුවේ පැවතිණි.අවාසනාවත් සැමියාට හෝ සිය කොටස

සැපයීමේදී අලස කම් දක්වන ආදරවන්තයාට හෝ වන්නේ මහත් දුකකි. ඔහුට දරුවන් කොපමණ සිටියද නැතිනම් ගෙතුළ ඔහු සතු බඩුමුට්ටු කොපමණ තිබුණද කම්බිලියත් රැගෙන ගෙදරින් පිටවන ලෙස ඕනෑම වෙලාවක ඔහුට අණ කරනු ඇත. එවැනි අණකිරීමකින් පසුව එය නොතකා එයට අකීකරුවීම නුවණට හුරු නොවේ. එම ගෘහය ඔහුට එදිරිව නැගී සිටිනු ඇත. ඔහුට තම (වංශයට) ගෝත්‍රයට ආපසු යාමට සිදුවේ. නැතිනම් බොහෝ විට කරන්නාක් මෙන් අන් නැනක් සොයාගෙන විවාහ සබඳකම් ඇතිකර ගනී. අන් හැමතැන මෙන්ම ගෝත්‍ර (වංශ) අතරද ස්ත්‍රිය සතුවූයේ මහා බලයකි. උචිත අවස්ථාව පැමිණි විට නායකයාගේ අං තට්ටුව ගළවාදමා — නායකයා පදවියෙන් නෙරපීම ඒ වචන වලිනි — ඔහු නැවත සාමාන්‍ය සෙබලකුගේ තත්ත්වය දක්වා පහත් කරදැමීමට ස්ත්‍රීහු පසුබට නොවූහ.''

කොමියුනිස්ට්වාදී පාලනයක් ඇති ගෙදරක ස්ත්‍රීන්ගෙන් වැඩි කොටස හෝ සම්පූර්ණ සංඛ්‍යාවම හෝ එකම වංශයකට අයත්වූ අතර, පුරුෂයෝ නොයෙකුත් වංශවලට අයත් වූහ. ආදී කාලයේදී පොදු වශයෙන් ස්ත්‍රීන් ලබාගත් උච්චස්ථානයේ ද්‍රව්‍යමය පදනම මෙය විය. බහෝපන් විසින් මෙය සොයගැනීම වූකලී ඔහු කළ තෙවැනි විශාල මෙහෙය වන්නේය. ම්ලේච්ඡයන් හා අශිෂ්ටයන් අතර ස්ත්‍රීන් බර වැඩෙහි යෙදීම ගැන සංචාරකයින් හා මිෂනාරිවරුන් විසින් කර තිබෙන වාර්තා ඉහත කී දේ සමග කොහෙත්ම සට්ටනය නොවන බව ම විසින් කිව යුතුය. ස්ත්‍රිය හා පුරුෂයා අතර ශ්‍රම විභජනය තීරණය වන්නේ, සමාජය තුළ ස්ත්‍රියගේ තත්ත්වය තීරණය කරන හේතූන්වලට වඩා හාත්පසින්ම වෙනස්වූ කරුණු වලිනි අප විසින් උචිත යැයි සලකන පමණට වඩා අමාරු අසීරු වැඩකරන ස්ත්‍රීන් ලබන ගරු සැලකිලි අපේ යුරෝපියයන් තම ස්ත්‍රීන් කෙරෙහි දක්වන සැලකිලිවලට වඩා බොහොසෙයින් වැඩිය. බොරු නම්බුවෙන් වටවී සහ නියම වැඩවලින් ඈත්වුණු සභ්‍ය කාන්තාවගේ සමාජමය තත්ත්වය තම ජනතාව අතර නියම කාන්තාවක් සේ (lady, frowa, Frau — මහත්මාව) සොබාවෙන්ම තම තත්ත්වය නිසාම ස්වාමි—දූවක් බවට පත් වූ බර වැඩ කරන වනචාරියුගයේ ස්ත්‍රියගේ තත්වයට වඩා බොහෝසෙයින්ම පහත්විය.

අමෙරිකාවේ කාණ්ඩ විවාහය වෙනුවට ජෝඩු පවුල ඇතිවූයේද නැතිද යන්න තීරණය කළ යුත්තේ තවමත් ම්ලේච්ඡ යුගයේ පසුවන වයඹදිග ජනතාව අතර සහ විශේෂයෙන්ම දකුණු අමෙරිකානු ජනතාවද පිරික්සා බැලීමෙනි. මේ පසුකී ගණයට අයත්වූවන් අතර ඇති ලිංගික ස්වාධීනත්වය ගැන බොහෝ දේ වාර්තා කර ඇති අතර පැරණි කාණ්ඩ විවාහය නැතිකර දමා ඇතැයි යන්න පිළිගත හැක්කේ අල්ප වශයෙනි. කෙසේ හෝ එහි පැරණි සේයාවන් තවම අතුරුදහන් වී නැත. උතුරු අමෙරිකාවේ ගෝත්‍ර



හතළිහක පමණ, එක් පවුලක වැඩිමහල් සොහොයුරිය විවාහ කරගන්නා පුරුෂයාට නියමිත වයස පැමිණි විට ඒ පවුලේ අනෙක් සියලු සොහොයුරියන් බිරියන් කරගැනීමේ අයිතිය තිබිණ. සොහොයුරියන් කණ්ඩායමකට සැමියන් කණ්ඩායමක් සිටීමේ නෂ්ටාවශේෂයකි මෙය. (ම්ලේච්ඡත්වයේ උසස් අවධියේ පසුවන) කැලිෆෝනියා අර්ධ ද්වීපයේ ගෝත්‍ර අතර එක්තරා උත්සවයන් කීපයක් පවත්වන බව කියන බැන්ක්‍රොෆ්ට්, මේ උත්සව කාලයේදී කිසිදු භේදයකින් තොරව ලිංගික සංසර්ගයෙහි යෙදීම සඳහා ඔවුන් එකතු වන බව පවසයි. මේවා එක් වංශයක ගැහැණුන් තවත් වංශයකට අයත් මිනිසුන් පොදු සැමියන් වශයෙන් තබාගත් සැටි සහ අනික් අතට එසේම මිනිසුන් ගැහැණුන් පොදු බිරියන් වශයෙන් තබාගත් සැටිද, එම වංශයට අයත් වූවන්ට ඉතා නොපැහැදිලි ලෙස සිහිපත් කරවන උත්සව වේ. මේ සිරිත තවමත් ඕස්ට්‍රෙලියාවේ පවතී. ජන කොටස් කීපයක වැඩිහිටියෝ, ප්‍රධානීහු හා යකැදුරු-පූජකයෝද බිරියන් සමූහයක් තබාගෙන, එම සමූහය තමන් රිසි සේ සූරාකන අතර ගැහැණුන්ගෙන් වැඩිදෙනා මත තම ආධිපත්‍යයද පතුරුවති. එහෙත් විශාල උත්සව කාලවලදී සහ රැස්වීම්වලදී, ඔවුන්ට පැරණි පොදු අයිතියට ඉඩදීමටද, තමන්ගේ තරුණ බිරියන්ට තරුණයන් සමග කම්සැප විඳීමට ඉඩදීමටද සිදුවිය. වෙස්ටර්මාක් (පිටු 28, 29), සෙනසුරු ග්‍රහයාට කැපකළ එවැනි උත්සව කීපයක් ගැන නිදසුන් දක්වමින්, එම උත්සව කාලවලදී පැරණි ස්වාධීන ලිංගික සංසර්ගය කෙටි කාලයකට ඇති වන බවත්, ඉන්දියාවේ හොස්, සන්ටාල්, පන්ජ, සහ කෝටාර්වරුන් අතරද, අප්‍රිකාවේ සමහර මිනිසුන් අතරද එසේ පැවැති බවට උදහරණ ගෙන හැර දක්වයි. කාණ්ඩ විවාහය ප්‍රතික්ෂේප කරන වෙස්ටර්මාක් පුදුමයකට මෙන්, මේ කරුණ ආදි මිනිසාට සහ සතුන්ට පොදුවූ සංවාස කාලයට අයත් නෂ්ටාවශේෂයක් බව පවසයි.

දැන් අපි බහෝපන්ගේ සතරවැනි මහා සොයාගැනීම වන, කාණ්ඩ විවාහයේ සිට යුගලන විවාහය දක්වා පරිවර්තන වීමට පැමිණියෙමු. දෙවියන්ගේ පැරණි අණ පනත් කඩකිරීම නිසා ගෙවීමට සිදුවූ වන්දියක් ලෙස, පතිවත අයිතියක් මෙන් ලබාගැනීම සඳහා ස්ත්‍රිය ගෙවූ වන්දිය බහෝපන් විසින් ගණන් ගත්තද, ඇත්ත වශයෙන්ම එය අනිකක් නොව, පැරණි සැමියන් සමූහයෙන් මිදී එක් පුරුෂයෙකුට පමණක් යටත්වීමේ අයිතිය මිළදී ගැනීම සඳහා ස්ත්‍රිය විසින් ගෙවනලද වන්දිය ගුඨවාදීලෙස විස්තර කිරීමක් පමණකි. මේ වන්දිගෙවීම සීමාසහිත යටත්වීමක හැඩයක් ගනී; මිලිට්ටාහි පන්සලට අවුරුද්දකට වරක් කැපවීමට බැබිලෝනියාවේ ස්ත්‍රීන්ට සිදුවිය. අනිකුත් මැද පෙරදිග ජනතාවෝ අවුරුදු කීපයකට තම තරුණියන් අනයිටිස්ගේ පන්සලට යැවූහ. මේ තරුණියන් විවාහවීමට පෙර තමන් රිසි අය සමග ස්වාධීන ලෙස හැසිරිය යුතුවිය. මධ්‍යධරණී

මුහුද සහ ගංගා නදිය අතර පෙදෙස්වල වුසූ සියලු ආසියාතිකයින්ට පොදුවූ ආගමික වෙස්ගත් සමාන සිරිත් විය. බහොපන් කියන පරිදි, ගැළවීම සඳහා කරන අනුග්‍රාහික පරිත්‍යාගයන් කාලයාගේ ඇවෑමෙන් ක්‍රම ක්‍රමයෙන් ලිහිල් බවට පත්වේ:

''අවුරුදු පතා කරන පරිත්‍යාගය එක් වරක් කිරීම දක්වා වෙනස්වෙයි; විවාහක කාන්තාවන්ගේ කාණ්ඩ විවාහය වෙනුවට තරුණියන්ගේ කාණ්ඩ විවාහය දක්වා වෙනස්විය. විවාහ සමයේදී කරන ප්‍රායෝගිකත්වය විවාහයට පෙර කිරීම දක්වාද, භේදයෙන් තොරව හැමදෙනාටම යටත්වීම වෙනුවට එක්තරා පුද්ගලයින් කීපදෙනෙකුට යටත්වීම දක්වාද වෙනස්විය.'' (''මව් අයිතිය'' පිටු XIX).

සමහර මිනිසුන් අතර ආගමික වෙස් දකින්නට නැත; සමහර ජනකොටස් අතර — ආදි කාලීන ත්‍රාසියන් හා සෙල්ට් සහ ඉන්දියාවේ බොහෝ ආදි ජන කොටස් බොහෝ ගණනක් අතරද දකුණු මුහුදු දූපත්වල වැසියන් හා ඇමෙරිකානු ඉන්දියානුන් අතරද — අද දක්වා පවතින සිරිතක් නම් විවාහ වන තුරුම තරුණියන් ඉතා පුළුල් ලෙස ලිංගික ස්වාධීනත්වය භුක්ති විඳීමය. දකුණු ඇමෙරිකාවේ අභ්‍යන්තරයට යම්තම් වත් වැදුණු ඕනෑම කෙනෙකු මෙය විශේෂයෙන් ඒරටට බලපාන බවට සාක්ෂි දෙනු ඇත. ඒ අනුව අගස්සි (''බ්‍රසිල සංචාරය'', බොස්ටන් සහ නිව් යෝක්, 1886, 226 පිටුව) ඉන්දීය පෙළපතකින් පැවත එන පොහොසත් පවුලක් ගැන මෙසේ කියයි: එම පවුලේ දුවට ඔහු හඳුන්වා දුන් පසු, ඇගේ මවගේ සැමියා ඇගේ පියායැයි සිතන ඔහු ඇගෙන් පියා ගැන විමසයි. මවගේ සැමියා පැරගුවාවට එදිරිව කරන යුද්ධයේ ක්‍රියාශීලී නිලධාරියෙකි. මව මඳ සිනා පාමින් ඔහුට මෙසේ පිළිතුරු දුන්නාය: não tem pai, é filha da fortuna — ඇයට පියෙකු නැත. ඇය අහම්බෙන් උපන්නියකි.

''ඉන්දියානු හෝ මුහුන් ගැහැණුන් අවජාතක දරුවන් ගැන වැරදි හැඟීමකින් හෝ ලජ්ජාවකින් තොරව කතා කරන සැටිය ඒ. මෙතෙක් මෙය විශේෂ සිද්ධියක් නොවන අතර එයට ප්‍රතිවිරෝධී සිද්ධිය විශේෂ වන්නේය. දරුවෝ (බොහෝවිට) තම මව ගැන (පමණක්) දනිති. මන්දයත්, ඔවුන් හදවැඩීමේ සියලුබර හා වගකීම මව පිට පැවරෙන බැවිනි. එහෙත් පියා ගැන ඔවුහු නොදනිති. තමා හෝ තම දරුවන් හෝ ඔහුගෙන් අයිතියක් ලැබිය යුතුය යන හැඟීමක් ඇයට නැත.''

සභ්‍ය මිනිසා පුදුමයට පත්කරවන සිද්ධිය නම් මවු අයිතිය අනුව පාලනය කිරීම සහ කාණ්ඩ විවාහයයි.

මනාලයාගේ යහළුවන්ද, නෑයින්ද, නැතිනම් මඟුල් ගෙදර අමුත්තන්ද තම පැරණි ගතානුගතික අයිතිය අනුව මනාලිය සමග සංසර්ගයෙහි යෙදීම සමහර ජනකොටස් අතර පවතින සිරිතකි. මනාලයා මනාලිය සමග එක්



වන්නේ ඉන් පසුවය. නිදසුනක් වශයෙන් බැලෙරික් දූපත්වල සහ පැරණි අප්‍රිකානු අවුගිලාවරුන් අතරද, අද දක්වාත් ඇබිසීනියාවේ බාරෙයාවරුන් අතරද මේ සිරිත පවතී. සමහර ජනකොටස් අතර — නිලධාරියෙක්, ගෝත්‍රයක හෝ වංශයක හෝ ප්‍රධානියෙක්, කැසික් හෙවත් අමෙරිකන් ඉන්දියන් ජන කොටස්වල නිලධාරියෙක්, යකැදුරෙක්, පූජකයෙක්, කුමාරයෙක් හෝ — නැතිනම් ජනකොටස නියෝජනය කරන්නාගේ නිලය කුමක් වුවද ඔහු මනාලිය සමග පළමුවැනි රාත්‍රිය ගතකිරීමේ අයිතිය භුක්ති විඳියි. තවද, නව විචිත්‍රවාදයේ සියලු වෑයම් නොතකා ඇලෙස්කාවේ මුල් වැසියන්ගෙන් බොහෝ දෙනා අතර කාණ්ඩ විවාවයේ නශ්ටාවශේෂයක් වශයෙන් jus primae noctis* නම්වූ මෙය අද දක්වාත් පවතී (බැන්ක්‍රොප්ට්, ''ස්ව ජාතීන්'' , 81 පිටුව). උතුරු මෙක්සිකෝවේ තාහුස්වරුන් අතරද (එම කෘතිය, 584 පිටුව) තවත් ජනකොටස් අතරද මේ සිරිත පවතී. නිදසුනක් වශයෙන් අරගොන්හි කාණ්ඩ විවාහයේ සිට පරිවර්තනය වූ මේ සිරිත මැද යුගයේදී පළමුව සෙල්ටික් රටවල ඇතිවිය. කැස්ටිල්හි ගොවියා කිසිදක ප්‍රවේණි දසයකු නොවූ අතර, 1486 දී කතෝලික පර්ඩිනැන්ඩ් විසින් ප්‍රවේණිදස ක්‍රමය නැතිකර දමන තුරුම අරගෝන්හි දුර්දන්ත ප්‍රවේණිදස භාවය පැවතිණ. මේ ප්‍රසිද්ධ පණතින් මෙසේ කියැවේ:

''ඉහත සඳහන් කරන ලද සාමිවරුන්ට'' (senyors, බැරන්වරුන්ට) ''... එදිරිව තීන්දු කරමින් අපි මෙසේ ප්‍රකාශ කර සිටිමු...ගොවියකු විසින් විවාහ කරගනු ලැබූ කාන්තාව සමග පළමු රැය ගතකිරීම හෝ මඟුල් රැය හෝ ගත කිරීමද, ඇය ගහනට ගිය පසු ඇගේ ඇඳට කඩා පැන තම අධිපතිබවේ සලකුණක් ලෙස ඇගේ සිරුරට ඉහළින් ඇඳ හරහා පැනීම නොකළ යුතුය. ගොවීන්ගේ දූ පුතුන්ගෙන් මුදල් ගෙවා හෝ නොගෙවා හෝ ඔවුන්ගේ කැමැත්තට එදිරිව ඔවුන්ගෙන් වැඩ නොගත යුතුය''. (සුගෙන් හයිම් විසින් කැටලෝනියානු බසින් ලියන ලද මූලාශ්‍රයෙන් උපුටා දක්වන ලදී. ''ප්‍රවේණිදසභාවය'', පිටර්ස්බුර්ග්, 1861, 355 පිටුව.)

බහෝපන් නම් කරන ''හිටයරිසම්'' (ගෝත්‍ර තුළ සිදුවූ කාණ්ඩ විවාහය) නැතිනම් "Sumpfzeugung" සිට ඒක භාර්යා විරතය දක්වාවූ පරිවර්තනය විශේෂයෙන්ම ස්ත්‍රිය විසින් ඇතිකරනු ලදූයි ඔහු තරයේ කියා සිටින විට ඔහු සම්පූර්ණයෙන්ම නිවැරදිය. ආර්ථික තත්ත්වය උසස්වීමේ ප්‍රතිඵලයක් වශයෙන්, වඩාත් පැරණි ගතානුගතික ලිංගික සබඳකම්වල තුබූ අව්‍යාජ භාවයද, ආදිකාලීණ වනචාරී ස්වරූපයද නැතිවිය. එනම් පැරණි කොමියුනිස්ට්වාදය පීඩාවට පත්වීම සමගම ජනගහනයේ ඝනත්වය වැඩිවීමද ස්ත්‍රියට පෙනීයන්නට ඇත්තේ වඩාත් අවමාන සහගත සහ

* මංගල රාත්‍රියේ අයිතිය. — සංස්කාරක.

පීඩාකාරී ලෙසටය. පතිව්රතාව සඳහා, එක් පුරුෂයකු සමග තාවකාලිකව හෝ නිත්‍ය වශයෙන් හෝ විවාහවීම ගැළවීමක් ලෙස සළකා ඒ සඳහා වඩාත් උනන්දුවෙන් ක්‍රියා කළා විය යුතුය. මේ දියුණුවට මුලපිරුවේ පුරුෂයා නොවේ. මන්දයත් ඔහු කිසිකලෙක — අද දක්වා වුවද — නියම කාණ්ඩ විවාහයේ ප්‍රීතිය භුක්ති විඳීමේ බලාපොරොත්තුව අතහැර දමා නැති බැවිනි. ස්ත්‍රිය විසින් යුගලන පවුල දක්වා පරිවර්තනය වීම ඉටුකරගත් පසු, පුරුෂයා ඒක භාර්යා ව්රතය දැඩිලෙස ක්‍රියාවට යෙදුවේය — සත්තකින්ම එය ස්ත්‍රියට පමණක් බලපායි.

මලේච්ඡත්වය හා වනචාරිත්වය අතරතුර කාලයේදී ප්‍රධාන වශයෙන් මලේච්ඡත්වයේ උසස් අවධියේදී සහ වනචාරිත්වයේ පහත් අවධියේදී තැනින් තැන පමණක් යුගලන පවුල් ඇතිවිය. කාණ්ඩ පවුල් විධිය මලේච්ඡත්වයටද ඒක භාර්යා ව්රතය සභ්‍යත්වයටද ආවේණික වූවාක් මෙන්ම යුගලන පවුල වනචාරිත්වයට ආවේණික වූවකි. මේ විධිය ස්ථිර ඒක භාර්යා ව්රතය දක්වා වැඩිදුරටත් වර්ධනයවීමට අප මීට ඉහතින් දුටු හේතුවලට වඩා වෙනස් හේතූන් ක්‍රියාකාරීවීම අවශ්‍යාවිය. යුගලන පවුලේදී කණ්ඩායම එහි අන්තිම ඒකකය දක්වා, එනම් පරමාණු දෙකකින් යුත් අණුවක් දක්වා — එක් පුරුෂයෙකු හා ස්ත්‍රියක් දක්වා අඩුවිය. සොබාවික වරණය විසින් කාණ්ඩ විවාහ කවය දිගටම අඩුකර දැමීමෙන් සිය කාරිය සපුරාලන ලදී. මේ අංශයේ කළ යුතු තවත් වැඩක් නොවීය. අලුත් සමාජමය ජංගමශීලි බලවේගයන් ක්‍රියාකාරී නොවූයේ නම්, යුගලන පවුලත්, අලුත් පවුල් විධියත් පැන නොනැගීමට හේතුවත් නොතිබිණ. එහෙත් මේ ජංගමශීලි බලවේගයන් ක්‍රියාකාරිවීමට පටන් ගත්තේය.

යුගලන පවුලේ ආචීර්ණ කල්පික භූමියවූ ඇමෙරිකාවෙන් අපි දැන් පිටවෙමු. ඇමෙරිකාව සොයාගෙන එය යටත් කරගැනීමට පෙර, වඩාත් උසස් පවුල් ක්‍රමයක් හෝ දැඩි ඒක භාර්යා ව්රතයක් එහි ඇතිවීයයි යන නිගමනයට බැසීමට තරම් සාක්ෂි අප ළඟ නොමැත. එහෙත් පැරණි ලෝකය මීට වඩා වෙනස් විය.

සතුන් හීලෑකිරීම හා සත්ව පාලනය නිසා මෙතෙක් නොතිබූ ධන ඉන්දනයන් වර්ධනය වූ අතර සම්පූර්ණයෙන්ම අලුත් සමාජ සබඳතා ක්‍රමයක් ද ඇති විය. වනචාරිත්වයේ පහත් අවධිය දක්වාවූ කාලයේදී ස්ථිර ධනය වශයෙන් ගැනුණේ ගෙවල්, ඇඳුම්, රළු ආභරණ, ආහාර ලබාගැනීමේ හා පිළියෙළ කිරීමේ උපකරණ, බෝට්ටු, අවි ආයුධ, සහ ඉතාම චාම් ගෘහ භාණ්ඩය. ආහාර සඳහා දිනපතා සටන් කොට ජය ගත යුතු විය. දැන් අශ්වයින්, බූරුවන්, ගවයින්, බැටළුවන්, එළුවන් සහ ඌරන් සහිත සත්ව ගාල් ඇති දියුණු එඬේර ජනතාව වන පංච නදීන්ගේ රටේ සහ ගංගා නදී තීරයේ ඉන්දියානු ආර්යයෝද, ජල සම්පත් අනුව



ඒ කාලයේදී වඩාත් පොහොසත්ව පැවති ඔක්සස් හා ජක්ස්ටාසස්හි ස්ටෙප්ස් බිම්හිද, යුප්රෙටස් හා ටෛග්‍රිස්හි සෙමයිට්වරුද වේගයෙන් දියුණු වන සත්ව පාලනය කිරීමටද, මස් හා කිරිවල ඇති අතිශයින්ම පෝෂ්‍යදයක ඵලය ලබාගැනීමටද අවශ්‍ය මූලික වැඩකිරිමට සහ එය පාලනය කිරීමට අවශ්‍ය දක්ෂතාවයද ලබාගත්හ. මීට ඉහත ආහාර ලබාගත් මාධ්‍යයන් සියල්ලම හමස් පෙට්ටියට වැටිණ. එක් කලෙක අවශ්‍ය දෙයක්වූ සතුන් දඩයම දැන් සුඛෝපභෝගී ක්‍රීඩාවක් බවට පත්විය.

එහෙත් මේ අලුත් ධනය අයත් වූයේ කාටද? මුලින්ම එය වංශයට අයත්වූ බවට සැක නැත. එහෙත් සත්ව ගාල් පිළිබඳ පෞද්ගලික අයිතිය ඉතාම ආදි කාලයකදී දියුණුවිය. මෝසස්ගේ පළමුවැනි පොත ලියූ කතුවරයාට අබ්‍රහම් පියතුමා පෙනීසිටියේ සත්ව ගාල්වල සහ රංචුවල අයිතිකාරයා වශයෙන්ද, නැතිනම් වංශයක පරම්පරාගත නායකයා වශයෙන් අයිතිය ලැබූවකු ලෙසද යන්න කීම උගහටය. දේපල හිමියා යන වචනයේ සමකාලීන තේරුම අනුව අප විසින් ඔහු නොසැලකිය යුතුය. සැබෑ ඉතිහාසයේ පටන් ගැන්මට ආසන්න කාලයේදී වනචාරිත්වයේදී, කලාත්මක භාණ්ඩ, ලෝහ භාණ්ඩ, සුඛෝපභෝගි වස්තු, අවසාන වශයෙන් මිනිස් සතුන් වන වහලුන් මෙන්ම හැම තැනම සත්වගාල් සහ රංචු පවුල් ප්‍රධානීන්ට අයත් දේපොළ බවට පත්වූ බව — එලෙසම සහතිකය.

මේ වනවිට වහල් ක්‍රමයද සොයාගෙන තිබිණ. පහත් අවධියේ සිටි වනචාරියාට වහලුන්ගෙන් ප්‍රයෝජනයක් නොතිබිණ. මේ හේතුව නිසාම අමෙරිකානු ඉන්දියානුවෝ තමන් අතින් පරාජය ලැබූ සතුරාට උසස් අවධියේදී සැලකූ ආකාරයට වඩා වෙනස් ආකාරයකට පහත් අවධියේදී සැලකූහ. පරාජය ලැබූ පුරුෂයන් එක්කෝ මරාදමන ලදී. නැතිනම් තම ගෝත්‍රයේ සොහොයුරන් ලෙස ඇතුළු කරගන්නා ලදී. ස්ත්‍රීන් බිරියන් ලෙස පාවාදෙන ලදී. නැතිනම් තම දරුවන් සමග ඔවුන් තම ගෝත්‍රයේ දරුවන් ලෙස පිළිගන්නා ලදී. මේ අවධියේදී මිනිස් ශ්‍රමය වියදමට වඩා අතිරික්තයක් එකතු නොකළේය. සත්ව පාලනය, ලෝහ වැඩ, රෙදි විවීම හා අවසාන වශයෙන් ගොවිතැන පටන් ගැනීමත් සමගම මෙය වෙනස් විය. පෙර ඉතා ලෙහෙසියෙන් ලබාගැනීමට හැකිවූ බිරියන් වෙනුවෙන් දැන් හුවමාරු වටිනාකමක් ගෙවීමට සිදුවූවාක් මෙන්ම, මිනිස් ශ්‍රමයටද, විශේෂයෙන්ම සත්ව ගාල් පවුල්වල පෞද්ගලික දේපල බවට පත්වීමෙන් පසු, මෙසේම සිදුවිය. සංඛ්‍යාවෙන් පවුල සතුන් තරම් වේගයෙන් වැඩි නොවීය. සතුන් හීලෑ කිරීම සඳහා මිනිසුන් වැඩි වැඩියෙන් උවමනා විය. යුද්ධයේදී අල්ලාගනු ලැබූවන් මේ කාරිය සඳහා යෙදවීමට හැකි වූ අතර ඔවුන්ද සතුන් මෙන්ම ඇතිකළ හැකිවිය.

එවැනි වස්තු, පවුල්වල පෞද්ගලික අයිතිය බවට පත්වූ පසු, යුගලන

පවුල සහ වංශයේ මව් අයිතිය මත පදනම්වූ සමාජයට තදබල පහරක් ගැසීමට සමත්විය. යුගලන පවුල, පවුලට නව අංගයක් එකතු කළේය. සොබාවික මව සමග නියම සොබාවික පියෙකු ඇති කළේය. වත්මත් අවධියේ බොහෝ පියවරුනට වඩා සමහර විට මොහු සැබෑ පියෙක් විය. එද පැවති පවුලේ ශ්‍රම විභජනය අනුව, ආහාර සොයාගැනීම, ඒ අනුව අවශ්‍ය උපකරණ සොයාගැනීම, ඒ නිසාම පසුකී දේවල අයිතියද පුරුෂයාට අයත්විය. වෙන්ව යන අවස්ථාවලදී මේ උපකරණ පුරුෂයා රැගෙන ගිය අතර ස්ත්‍රිය ගෘහ භාණ්ඩ තමා වෙත තබාගත්තාය. සමාජයේ එද පැවති සිරිත අනුව, ආහාරයේ නව උල්පත වන සතුන්ද පසුව ශ්‍රම උපකරණ වන වහලුන්ද අයත් ස්වාමියා බවට පුරුෂයා පත්විය. එම සමාජ සිරිත අනුව, කෙසේ හෝ, ඔහුගේ දරුවනට ඔහු සතු වස්තුව අයත් නොවීය, මන්දයත් ඒ පිළිබඳ තත්ත්වය මෙසේ වූ බැවිනි:

මව් අයිතිය අනුව, එනම්, පරම්පරාව ස්ත්‍රී පාර්ශ්වය අනුව පමණක් පිළිගන්නා තුරු, වංශයේ උරුමය ලැබීමේ මුල් සිරිත අනුව, වංශයේ සාමාජිකයෙකු මියගිය පසු ඔහු සතු දේ පළමුවෙන් ලබාගන්නේ වංශ නෑයින් විසිනි. බූදලය වංශය තුළ තිබිය යුතුය. පළමුව, වංවල දේපල ඉතා නොවැදගත්වූ නිසා, එහි උරුමය ළඟම වංශික නෑයාට — එනම් මවගේ පැත්තෙන් පැවතෙන ලේ නෑයාට — අයිතිවූවා විය හැකිය. මිය ගිය මිනිසාගේ දරුවන් ඔහුගේ වංශයට නොව මවගේ වංශයට අයත්ය. පළමුව ඔවුන් තම මවගේ උරුමයට — මවගේ අනිකුත් ලේ නෑයින් සමග හිමිකාරයෝ වූහ. පසුව සමහර විට මවගේ දේපලවල පළමුවැනි හිමිකාරයෝ වූවා විය හැකිය. එහෙත් පියාගේ දේපලවලට දරුවෝ හිමිකාරයෝ නොවූහ. මන්දයත්, දරුවන් පියාගේ වංශයට අයත් නොවූ බැවිනි. ඒ නිසා හිමියාගේ මරණින් පසු, ඔහුගේ සත්ව රංචුවේ සතුන් සහෝදරයන්ට හෝ සහෝදරියන්ට සහ සහෝදරියන්ගේ දරුවන්ට හෝ ඔහුගේ මවගේ සහෝදරියන්ගේ දරුවන්ට හෝ අයත්වේ. කෙසේ-හෝ, ඔහුගේ දරුවන්ට එය අහිමි විය.

ඒ අනුව, ධනය වැඩිවෙත්ම එක් අතකින්, පවුල තුළ ස්ත්‍රියට වඩා පුරුෂයාට වැදගත් තැනක් හිමිවිය. සම්ප්‍රදායික උරුමය තම දරුවන්ට අයත්කරදීම පිණිස මේ ශක්තිමත් තත්ත්වය පුරුෂයා තුළ ප්‍රබෝධයක් ඇති කළේය. මවගේ අයිතිය අනුව හිමිකම පැවරීම පවතින තුරු මෙය කළ නොහැකි දෙයක් විය. එම නිසා මේ ක්‍රමය නැතිකර දැමිය යුතුය, එය එසේම නැතිකර දමන ලදී. අද අපට පෙනීයන තරම් එය දුෂ්කර කාරියක් නොවීය. මිනිස් සංහතිය මුණ පෑ අතිශයින්ම තීරණාත්මක විප්ලවය කිරීමට වංශයේ එකම සාමාජිකයෙකුටවත් බාධා කිරීමට උවමනාවක් නොවීය. සියලුම සාමාජිකයින්ගේ පෙර තත්ත්වය එසේම පැවතිණි. පුරුෂයින්ගෙන් පැවත එන සියලු දෙනාම වංශය තුළම සිටිය යුතුය යන සරළ තීරණය පමණක් සෑහිණ. එහෙත් වංශයට අයත් ස්ත්‍රීන් එම වංශයෙන් ඉවත්කොට පියාගේ වංශයට පරිවර්තනය කරන ලදී. ස්ත්‍රියගේ පැත්තෙන් පරම්පරාව පිළිගැනීම සහ මවගෙන් උරුමය ලබාගැනීමේ අයිතිය අහෝසිකර දමා ඒ වෙනුවට පුරුෂයාගේ පැත්තෙන් පරම්පරාව සහ පියාගෙන් උරුමය ලබාගැනීමේ අයිතිය ඇතිකරන ලදී. මේ විප්ලවය සභ්‍ය ජනතාවන් අතර ඇතිවූයේ කෙසේද, කවදද යන්න ගැන අපි කිසිවක් නොදනිමු. ප්‍රාග් ඉතිහාසීය කාලයට මෙය සම්පූර්ණයෙන්ම අයත්විය. විශේෂයෙන්ම බහෝෆන් විසින් එකතු කරන ලද මව් අයිතිය පිළිබඳ බොහෝ සාක්ෂි නිසා මෙවැන්නක් සිදුවූ බව නිසැකයෙන්ම ඔප්පුකර ඇත. මෙය කොතරම් ලෙහෙසියෙන් සිදුවී තිබේද යන්න රතු ඉන්දියානු ගෝත්‍ර කීපයක් දෙස බැලීමෙන් පෙනේ. ධනය වැඩිවීම හා ජීවනෝපක්‍රම වෙනස්වීම නිසා (කැලෑවලින් තැනිතලාවල රෝපණය කිරීම) අඩවශයෙන්ද, සභ්‍යත්වයේ අධ්‍යාත්මික බලපෑම් සහ මිෂනාරීන්ගේ බලපෑම නිසා අඩවශයෙන්ද, මේ ගෝත්‍ර මෙය පටන් ගත්තේ නුදුරු කාලයකදීය. සමහර ගෝත්‍රවල මෙය තවම සිදුවෙමින් පවතී. මිසූරිහි ගෝත්‍ර අටකින් හයක පුරුෂ පාර්ශ්වය අනුවද දෙකක ස්ත්‍රී පාර්ශ්වය අනුවද උරුමය භාරදීමේ ක්‍රමය තවමත් පවතී. ෂෝනස්, මියාමී සහ දිලෙවාර් වරුන් අතර දරුවන් තම පියාගේ වංශයට පරිවර්තනය කිරීම සිරිතක් බවට පත්වී ඇත.පියාගේ උරුමය ඔහුගේ දරුවනට භාරදීම සඳහා ඔහුගේ පෙළපත් නම් වලින් එකක් ඔවුනට ලබාදෙයි. ''නම් මාරුකිරීමෙන් යමක් වෙනස්කළ හැකිය යන්න වැරදි ලෙස මනුෂ්‍යයින්ට සහජයෙන්ම ඇබ්බැහිවීමකි මේ. නියම උවමනාවන් සැහෙන පෙළඹීමක් ඇතිකරවන සෑම වාරයකදීම සම්ප්‍රදයයේ දුර්වල තැන් සම්ප්‍රදයකින් බිඳීමට තැත්කිරීමකි!' (මාක්ස්.) මෙහි විපාකයක් වශයෙන් හැමතැනම ව්‍යාකූල තත්ත්වයක් පැන නැඟිණ. තත්ත්වය බේරුම් කරගතහැකි වූයේත්, එසේම අඩවශයෙන් බේරුම් කරගත්තේත් පිය අයිතිය දක්වා පරිවර්තනය වීමෙනි. ''අතිශයින්ම සොබාවික පරිවර්තනය මෙය බව පෙනීයයි'' (මාක්ස්). පැරණි ලෝකයේ සභ්‍ය ජනතාව අතර මේ පරිවර්තනය කිනම් විධි හා කිනම් මාධ්‍ය අනුව සිදුවීද යන්න ගැන තුලනාත්මක නීති විශාරදයන් විසින් අපට කිව හැක්කේ ඒවා කල්පිතයන් පමණක් බවය. එම්. කොවලෙව්ස්කිගේ ''පවුලේ සහ දේපොලේ සම්භවය සහ පරිණාමය පිළිබඳ කටු සටහන'', ස්ටොක්හෝම්, 1890.

මව් අයිතිය පෙරළා දැමීම ස්ත්‍රී වර්ගයාගේ ජගත් ඓතිහාසික පරාජයකි. ගෘහ පාලනයද පුරුෂයා අල්ලා ගත්තේය. ස්ත්‍රිය අවමානයටද වසඟයටද ලක්විය. ඈ පුරුෂයාගේ කාම තෘෂ්ණාවට යටවූ වහලියකි, දරුවන් වැදීමේ යන්ත්‍රයක් පමණකි. ස්ත්‍රියගේ මේ පහත් තත්ත්වය ග්‍රිකයින්ගේ වීර

යුගයේදීද දක්නට ලැබුණු අතර, එය වඩාත් උග්‍ර ලෙස ආවීර්ණ කල්පික යුගයේදී ප්‍රකාශවිය. එය ක්‍රමයෙන් අලංකාර කිරීමෙන් සහ ව්‍යාජ ලෙස කොටස් වශයෙන් හෝ වසහකොට පෙන්වූවද, සම්පූර්ණයෙන්ම අහෝසි නොකරන ලදී.

දැන් ස්ථාපිත කළ පුරුෂයන්ගේ සම්පූර්ණ පාලනයේ පළමුවැනි ප්‍රතිඵල, පීතෘමූලික පවුල වන අන්තර් පවුල් විධිය තුළින් පෙන්වා දෙයි. එහි ප්‍රධාන ලක්ෂණය බහු භාර්යා ව්‍රතය නොවීය, ''ස්වාධීන හා පරාධීන පුද්ගලයින් සංඛ්‍යාවක් පවුලේ ප්‍රධානියාගේ පීතෘබලය යටතේ සංවිධාන කිරීමය. සෙමිටික් ක්‍රමය අනුව පවුලේ ප්‍රධානියා බහු භාර්යා ව්‍රතය රැකීය. දසයාට බිරියක් හා ළමයින්ද විය.මේ මුළු සංවිධානයේ පරමාර්ථය වූයේ සීමාසහිත පෙදෙසක් තුළ සත්ව ගාල් හා රංචු රැකබලා ගැනීමය''.

දසයින් හා පීතෘ බලය පවුල් ක්‍රමයට අනුබද්ධ කිරීම එවැනි පවුලේ මූලික ලක්ෂණ වීය. ඒ අනුව, මේ පවුල් ක්‍රමයේ අංග සම්පූර්ණ ආදර්ශය රෝමානු පවුලය. භාවාත්මක හැඟීම් සහ ගෘහමය අපස්වරය එක්කොට පෙන්වන නවීන අවරසිකයාගේ උත්කෘෂ්ට හැඟීම් Familia යන වචනය මුලදී නොපෙන්විය. රෝමන්වරුන් පවුල යනුවෙන් අදහස් කළේ බිරිඳ හෝ දරුවන් හෝ නොවේ. එයින් හැඳින්වූයේ වහලුන් පමණකි. Familia යන වචනයේ තේරුම ගෘහමය වහලා යන්නය. Famulus යනු එක් පුද්ගලයෙකුට අයත් වහලුන්ගේ ගණන කැටිකොට දක්වන වචනයකි. ගේයස්ගේ කාලයේදී පවා familia, id est patrimonium (එනම්, ඔප්පුවකින් පැවරීමය). රෝමන්වරුන් මේ වචනය සොයා ගත්තේ, මරාදැමීමේ හෝ ජීවිතදානය කිරීමේ පීතෘ බලයක් යටතේ බිරිඳත්, දූ දරුවන් හා වහලුන් සංඛ්‍යාවකුත් සිටින සමාජමය සංවිධානයක් විස්තර කිරීම පිණිසය.

''කුඹුරු ගොවිතැන ආරම්භ වූවායින් පසු, දසත්වය නීතිගත කිරීමෙන් පසු, එමෙන්ම ග්‍රීකයින් හා (ආර්ය) ලතිනයින් වෙන්වීමෙන් පසු ලතින් ගෝත්‍රවල ඇතිවූ අයෝමය පවුල් ක්‍රමයට වඩා මේ වචනය පැරණි නැත.''

එයට මාක්ස් මෙසේ එකතු කරයි: ''කලල රූප වශයෙන් නවීන පවුලට වහල්ක්‍රමය (servitus) පමණක් නොව ප්‍රවේණිදසත්වයද ඇතුළුවෙයි. මන්දයත්, එය මුල් ආරම්භයේ සිටම කෘෂිකාර්මික සේවයන් සමඟ සම්බන්ධ වී ඇති බැවිනි. සමාජය හා රජය තුළ පසුව වර්ධනය වූ සියලු ප්‍රතිවිරෝධීතාවයන් එය තුළ ගැබ්වී ඇති බැවිනි''.

යුගලන පවුල ඒක භාර්යා ව්‍රතය දක්වා පරිවර්තනය වීම එවැනි පවුල් ක්‍රමයක් විසින් නිරූපණය කරයි. බිරිඳගේ පතිව්‍රතාව, එනම් දූ දරුවන්ගේ පිතෘත්වය සහතික කිරීම් වස්, ස්ත්‍රිය පුරුෂයාගේ සම්පූර්ණ බලයට යටත් කරන ලදී. පුරුෂයා සිය බිරිඳ මරාදැමුවේ නම්, එයින් ඔහු කළේ තම අයිතිය පමණක් ක්‍රියාවේ යෙදවීමක් පමණකි.



පීතෘමූලික පවුලත් සමගම අපි ලිඛිත ඓතිහාසික යුගයට ඇතුළු වෙමු. මෙතැන් සිට තුලනාත්මක නීති විද්‍යාව අපට වැදගත් සහායක් දෙයි. ඇත්ත වශයෙන්ම මෙහිදී අපට එය සෑහෙන උපකාරයක් ලබා දී ඇත. සර්බියානුන් හා බල්ගේරියානුන් අතර Zádruga (සගයින්ගේ සමාජය) හෙවත් Bratstvo (සහෝදරත්වය) යන නම්වලින්ද, ආසියාතිකයින් අතර මඳක් වෙනස්ව පවතින්නාවූද, අද අප දකින පීතෘමූලික ගෘහ සමූහය, නවීන ලෝකය හඳුණන කාණ්ඩ විවාහයෙන් හා පවුල්වලින් පැන නැඟි මාතෘමූලික පවුලෙන් ඇතිවූ පරිවර්තනයක් බව ඔප්පුකිරීම නිසා මෙහිදී අප මැක්සිම් කොවලෙව්ස්කිට (පවුලේ හා පුද්ගලික දේපලේ සම්භවය පිළිබඳ කටු සටහන්, ස්ටොක්හෝම් 1890. 60—100 පිටු) ණය ගැතිය. පැරණි ලෝකයේ සභ්‍ය ජාතීන් වන ආර්යයන් සහ සෙමයිට්වරුන් පිළිබඳව නම් මෙය ඔප්පුකර ඇති බව පෙනීයයි.

දකුණු ස්ලාවික් Zádruga සංවිධානය එවැනි පවුල් සමූහයක් පිළිබඳ දැන් පවතින ඉතාම හොඳ නිදසුනකි. එකම පියෙකුගෙන් හා ඔහුගේ බිරියන්ගෙන් පැවත එන පරම්පරා කීපයක්ම එකට වෙළා ඇත. මේ අය එකම ගෙදරක වසති, ඔවුහු, තම ඉඩම් පොදුවේ වගා කරති, පොදු ගබඩාවකින් ආහාර හා ඇඳුම් පැළඳුම් ලබාගනිති. අතිරික්ත භාණ්ඩ එලෙසම පොදුවේ ඔවුනට අයත්ය. ගෘහ පාලකයා (domâćin) ගේ ශ්‍රේෂ්ඨ පාලනය යටතේ මේ සමූහය ක්‍රියා කරන අතර, බාහිර කටයුතුවලදී ඔහු සමූහය වෙනුවෙන් පෙනී සිටී. කුඩා වැඩ කටයුතු ඔහු තම අභිමතය අනුව කරන අතර, මුදල් ගනුදෙනු පිළිබඳ වගකීමද උසුලයි. එමෙන්ම එදිනෙද කටයුතු විධානය කරයි. ඔහු තෝරාපත් කැරෙන්නේ සමූහය විසිනි, එහෙත් ඔහු ජ්‍යෙෂ්ඨතම පුද්ගලයා වීම අවශ්‍ය නොවේ. ස්ත්‍රීන් හා ඔවුන්ගේ වැඩ කටයුතු ගෘහ පාලනියගේ (domàćica) යටතේ පවතී, ඇය සාමාන්‍ය යෙන් (domàćin) පාලකයාගේ බිරිඳය. තරුණියන් සඳහා සැමියන් තෝරා ගැනීමේදී ඇයගේ තීරණය වැදගත්ය, බොහෝවිට තීරණාත්මකය. කෙසේවුවද, ශ්‍රේෂ්ඨ බලය පවුල් කමිටුව අත පවතී. මේ කමිටුව සමූහයේ වැඩිහිටි ස්ත්‍රී පුරුෂයින්ගෙන් යුක්තය. පාලකයා මේ කමිටුව ඉදිරියේ වාර්තා කරයි. එය සියලු වැදගත් තීරණයන් ගනී; සාමාජිකයින් අතර නීතිය හා යුක්තිය ඉටුකිරීම, වැදගත් දේ සහ විශේෂයෙන්ම ඉඩම් මිළදීගැනීම හා විකිණීම ආදිය කරයි.

රුසියාවේ මෙවැනි විශාල පවුල් සමූහයන් ඇති බව ඔප්පු කරන ලද්දේ මීට අවුරුදු දහයකට ඉහතදීය, Obšćina හෙවත් ගම්බද සමූහය වශයෙන් හැඳින්වෙන මෙය රුසියාවේ සිරිත් අතර තදින් මුල් බැසගන්නක් ලෙස දැන් පොදුවේ පිළිගෙන ඇත. ඩැල්මැෂියන් නීති මෙන්ම, vervj නමින් හැඳින්වෙන යරොස්ලාව්ගේ “Pravda” නමැති අතිශය පැරණි

රුසියානු නීතිවල එවැන්නක් දැකිය හැකිය. පෝලන්ත හා චෙක් ඓතිහාසික සටහන් වල ඒවා ගැන සඳහන් වේ.

හොයිස්ලර් (''ජර්මන් අයිතිය පළිබඳ ආයතන'') කියන පරිදි, මුලින්ම ජර්මන් ආර්ථික ඒකකය වූයේ සමකාලීන අදහස අනුව ඇති පෞද්ගලික පවුල නොවේ. එහෙත් පරම්පරා කීපයකින් හෝ පෞදගලික පවුල් කීපයක් සහිත, බොහොවිට විශාල සංඛ්‍යාවක් දසයින්ගෙන් යුත් ගෘහ සමූහය (Hausgenossenschaft) ය, රෝමානු පවුලද මේ වර්ගයට අයත් බව සොයාගෙන තිබේ. ඒ අනුව, ගෘහ මූලිකයාගේ පූර්ණ බලයද, ඔහු අනුව බලන විට පවුලේ අනිත් සාමාජිකයින්ගේ බලහීනත්වයද ගැන දැන් ප්‍රශ්න මතුකර ඇත. උතුරු අයර්ලන්තයේ සෙල්ට්වරුන් අතරද එවැනිම පවුල් සංවිධාන තුබූ බව කියති. ප්‍රංශ විප්ලවය දක්වා parçonneries යන නමින් ප්‍රංශයේ ,නිවෙර්නෙහි එය පැවතිණ. Franche Comté පෙදෙසෙහි එය අද දක්වාත් අභාවයට ගොස් නැත. ලුවාන් දිස්ත්‍රික්කයේ (Saône et Loire) විශාල මධ්‍යම ශාලා සහිත ගොවි ගෙවල් දැකිය හැකිය. මේ මධ්‍යම ශාලා වටේ නිදන කාමර පිහිටා තිබේ. මේ කාමරවලට යාමට පඩි හයකින් හෝ අටකින් යුත් පඩි පෙළක් බැගින්ද ඇත. මේ ශාලාවල පරම්පරා කීපයකට අයත් පවුල් වාසය කරති.

ඉන්දියාවේ ගෘහ සමූහය පොදුවේ බිම් කෙටීම හා වගාකිරීම කළ බව මහා ඇලෙක්සැන්ඩර්ගේ කාලයේදී විසූ නියර්හුස් පවසයි. අද දක්වාත් මේ සමූහය පන්ජාබයේද, මුළු මහත් වයඹදිග ඉන්දියාවේද සිටී. කොකේසියාවේද මේ ක්‍රමය පවතින බව කොවලෙව්ස්කි සාක්ෂි දෙයි. ඇල්ජීරියාවේ කබිල් වරුන් අතර මෙය තවමත් පවතී. අමෙරිකාවේද මේ ක්‍රමය පැවති බව කියනු ලැබේ. සුරිටා විස්තර කළ මෙය පැරණි මෙක්සිකෝවේ calpullis * (කල්පුල්ලිස්) සමග හැඳින්වීමට වෑයම් දරා ඇත. යටත්විජිත සමය අවධියේදී පෙරුහි, බිම් වගාව එනම් පෞද්ගලික වගාව සඳහා කළින් කළ ඉඩම් දීම සහිතව එක්තරා විධියක මාර්ක් හෙවත් කෝරළය යනුවෙන් සංවිධානයක් (පුදුමයකට මෙන් මෙය පෙරුවහි macra යැයි නම් කර ඇත) තිබූ බව කුනොව් ප්‍රත්‍යක්ෂ ලෙස ඔප්පු කර ඇත ("Ausland", අංක 42—44. 1890)

කෙසේවුවද, මීට ඉහත තුබු වැදගත්කමට වඩා අමුතු වැදගත්කමක් පොදු ඉඩම් අයිතිය සමග මේ පීතෘමූලික ගෘහ සමූහය දරන්නට විය. පැරණි ලෝකයේ සභ්‍ය සහ අනිකුත් ජනතාවන් අතර මේ මාතෘ මූලික පවුල සහ ඒක භාර්යා පවුල අතර වැදගත් පරිවර්තනමය ක්‍රියාකලාපයක් මෙය ඉටුකළ බව කොහෙත්ම සැක කළ නොහැකිය. කොවලෙව්ස්කි

---

* Calpullis—Aztec සමූහ පවුල. — සංස්කාරක



කළ නිගමනයට අපි නැවත පැමිණෙමු. එනම්, පෞද්ගලික වගාව සඳහා, වගාකළ හැකි බිම් සහ තණ බිම් පළමුව එක්තරා කාලයකට පමණක් භාර දීමද, පසුව නිත්‍ය වශයෙන් භාරදීමද දක්වා ගම් හෝ මාර්ක (කෝරළ) වර්ධනය වූ සැටි පෙන්වීමකි.

මේ ගෘහ සමූහයන් තුළ පවුල් ජීවිතය ගැන සළකා බලන විට, යටත් පිරිසෙයින් රුසියාවේ ගෘහ මූලිකයා තම පදවියේ බලය අතිශයින්ම හිතුවක්කාරී ලෙස පාවිච්චි කරන සැටි පෙනේ, තරුණ ගැහැනුන් විශේෂයෙන්ම ඔහුගේ ලේලියන් දූෂණය කරන ඔහු බොහෝ විට ඔවුන් තම අන්තඃපුරයකට හරවා ගනී. මේ තත්ත්වය ඉතා මැනවින් රුසියානු ජන ගී වලින් විස්තර වේ.

මව් අයිතිය නැතිකර දැමීමෙන් පසු ඉතා ඉක්මණින් වර්ධනය වීමට පටන්ගත් ඒක භාර්යා විරතය ගැන විස්තර කිරීමට පෙර, බහු භාර්යා විරතය හා බහු පුරුෂ විරතය ගැන යමක් කිව යුතුය. එකම රටක් තුළ එකවරම පැන නැඟුනද, මේ විවාහ විධි දෙකම විශේෂ ක්‍රම වශයෙන්ද, ඓතිහාසිය ලෙස සුබොපභෝගී නිපැදවීම් වශයෙන් පමණක් පිළිගත හැකිය. එහෙත් මෙය මෙසේ නොවන බව ප්‍රකටය. බහු භාර්යා විරතයෙන් පහකරන ලද පුරුෂයෝ බහු පුරුෂ විරතයෙන් පහකරනු ලැබූ ස්ත්‍රීන් සමග එක්වීමෙන් සැනසීමක් නොලැබූ නිසාත් සමාජමය තත්ත්වයන් ගැන නොසලකා සංඛ්‍යා අනුව පුරුෂයින්ගේ හා ස්ත්‍රීන්ගේ ප්‍රමාණය සමාන වූ නිසාත්. මේ වර්ග දෙකින් එකක්වත් පොදු බලපෑමක් නොලැබුවේය. පුරුෂයාගේ බහු භාර්යා විරතය වහල් ක්‍රමයේ විපාකයක් වූ අතර එය විශේෂ අවස්ථා කීපයකට පමණක් සීමාවිය.සෙමිටික් පීතෘමූලික පවුල්වල, ප්‍රධානියා සහ වැඩිම වශයෙන් ඔහුගේ පුත්තු දෙතුන් දෙනෙක් බහු භාර්යා විරතය රැක්කාහ. අනිකුත් පුරුෂයින්ට එක් බිරියකුගෙන් පමණක් තෘප්තිමත් වීමට සිදුවිය. අද දක්වාත් නැගෙනහිර රටවල මෙය මෙලෙසම පවතී. බහු භාර්යා විරතය ධනවතුන්ගේ හා වංශාධිපතීන්ගේ වරප්‍රසාදයකි, ඔවුන් බිරියන් එකතු කරගන්නේ වහලියන් මිළදී ගැනීමෙනි. රටේ බහු ජනතාව ඒක භාර්යා විරතය රකී, මෙයට වඩා විශේෂයක් ඉන්දියාවේ හා ටිබැටයේ බහු පුරුෂ විරතය පෙන්වාදෙයි. මේ රටවල කාණ්ඩ විවාහය ගැන වඩාත් කිට්ටු පරීක්ෂණයක් කිරීම නොවැදගත් නොවේ. මුස්ලිම් භක්තිකයින්ගේ ඊර්ෂ්‍යා සහගත අන්තඃපුරවලට වඩා මෙහි තත්ත්වය ඉවසිය හැකිවූවකි. යටත් පිරිසෙයින් ඉන්දියාවේ නායර්වරුන් අතර, මිනිස්සු තුන් හතර දෙනෙක් හෝ ඊට වඩා වැඩි ගණනක් එක්ව එක් බිරිඳක් පොදුවේ තබා ගනිති. ඒ අතර මේ කණ්ඩායමේ එක් පුරුෂයෙක් තවත් තුන් හතර දෙනෙකු සමග එක්ව තවත් බිරිඳක් පොදුවේ තබාගනී. ඒ විධියට ඔහු තෙවැනි බිරියක්ද, හතරවැනි බිරියක්ද තබාගනී. මේ විවාහ

සංගම් අළුත් පංතියක් ලෙස මැක්ලෙනන් නොසොයා ගැනීම පුදුමයකි. මේ විවාහ සංගම්වල සාමාජිකත්වය සඳහා එක්තරා කාලයක් තුළදී පුරුෂයින් කැඳවති. මෙය මැක්ලෙනන් විසින්ම විස්තර කැරිණ. මේ විවාහ සංගම් ක්‍රමය කෙසේවුවද නියම බහු පුරුෂ විරතය නොවිය. ජිරෝ-ටෙයුලොන් විස්තර කළ පරිදි මෙය විශේෂ කාණ්ඩ විවාහ විධියකි. පුරුෂයෝ බහු භාර්යා විරතයද, ස්ත්‍රීහු බහු පුරුෂ විරතයද රකිති.

4. ඒක භාර්යා (පති) විරතය. ඉතා හොඳින් පෙන්වා දුන් පරිදි, මැද අවධියේ සිට උසස් අවධිය දක්වා වනචාරීන් පරිවර්තන වන යුගයේදී යුගලන පවුල (ජෝඩු පවුල) තුළින් ඒක භාර්යා පවුල ඇතිවිය. එහි අවසාන ජයග්‍රහණය වූයේ සභ්‍යත්වයේ ආරම්භයයි. එහි ප්‍රකාශිත පරමාර්ථය වූයේ උපන් දරුවන්ගේ පිතෘත්වය සැක රහිතව ස්ථිර කිරීමය. මේ පිතෘත්වය උවමනා වූයේ පියාගේ දේපොළවල නියම හිමිකාරකම යථා කාලයේදී දරුවනට ලබාදීම පිණිසය. ඒක භාර්යා පවුල යුගලන පවුලට වඩා වෙනස්වූයේ විවාහ සම්බන්ධය වඩාත් දැඩි නිසාය. එය දැන් පෙරමෙන් රිසි සේ කවුගා දැමිය නොහැකිය. දැන් නීතියෙන් කසාදය කවුගා දමා බිරිඳ අතහැර දැමිය හැක්කේ පුරුෂයාට පමණකි. කාම මිථ්‍යා චාරයෙහි හැසිරීමට යටත් පිරිසෙසින් පුරුෂයාට අවසර දෙන ලද අතර (විවාහ බිරිඳ සිටින ගෙදරට තම අන්තඃ පුරය නොගෙනෙන තාක් මේ අයිතිය නැපෝලියන් නීති සංග්‍රහය විසින් පුරුෂයාට ලබා දී ඇත) සමාජය වර්ධනය වනවාත් සමගම, මේ අයිතිය ඔහු විසින් වඩ වඩාත් ක්‍රියාවට යෙදිණි. පැරණි ලිංගික ප්‍රගුණත්වය මතක් කොට එය නැවත පටන්ගන්නා ලෙස බිරිඳ ඉල්ලා සිටියහොත් මින් පෙර නොවූ විරූ ලෙස ඇයට දඬුවම් කරනු ඇත.

ග්‍රීකයින් අතර ඉතා දැඩි ලෙස ක්‍රියාවේ යෙදෙන මේ පවුල් ක්‍රමය අපට පෙනේ. මාක්ස් නිරීක්ෂණය කළ පරිදි ග්‍රීක දේවකතාවල එන දෙවි වරුන් වඩාත් පැරණි කාලයකට අයත්වන අතර, එය ගැහැණිය සමාජයේ වඩාත් නිදහස් හා ගෞරවනීය තැනක් ලබාසිටි කාලයට අයත් විය. වීර යුගයේදී ස්ත්‍රිය පුරුෂයාට වඩා පහත් තත්ත්වයකට ඇද දමා තිබෙන සැටිත් වහල් ස්ත්‍රීන් අතර තරඟ ඇතිවන සැටිත් අපි දකිමු. ඔඩිසි කාව්‍යයේ ටෙලෙමාකුස් තම මව ගොරහැඩි ලෙස නිහඬ කරවන අයුරු සඳහන් වේ. යටත් කරගනු ලැබූ තරුණියන් ජයග්‍රාහිකයින් විසින් දූෂණය කරන සැටි හෝමර් විස්තර කරයි. නිලය අනුව යුද්ධ නායකයෝ තමන් රිසි රූමත් තරුණියන් තෝරා ගනිති. එක් වහල් තරුණියක අකිලස් හා අගමේම්නොන් අතර බෙදාගැනීමට බැරිවීම නිසා පැනනගින හබයක් වටා මුළු ඉලියඩ් කවි කතාව ගෙතී ඇත. හෝමර්ගේ හැම වැදගත් වීරයෙක්ම වහල් තරුණියක් සමග එක කුඩාරමක ජීවත්වෙමින් එකම ඇඳක ලගින සැටි එහි විස්තර වෙයි. ඇස්කිලස්ගේ කථාවේ අගමෙම්නොන් විසින් තම ගෘහයට කැසන්ඩ්‍රා ගෙනෙනු



ලැබූවාක් මෙන් මේ තරුණියන් වෛවාහික නිවෙස්වලට ගෙනයනු ලැබේ. මොවුන්ට දාව උපදින දරුවන්ට පියාගේ වස්තුවෙග් සුලු කොටසක් ලැබෙන අතර, ඔවුන් නිදහස් පුරවැසියන් මෙන් සලකනු ලැබේ. ටෙයුක්‍රොස් ටෙලමොන්ට දාව එලෙස උපන් අවජාතක දරුවෙකි. පසුව ඔහුට ටෙලමොන්ගේ පෙළපත් නාමය භාවිතා කිරීමට අවසර ලැබිණි. විවාහක ස්ත්‍රිය සැමියාගේ මේ සියලු නොහොබිනා කම් විඳදරා ගත යුතු අතර, පතිවතද දැඩිලෙස රැකිය යුතුය. වීර යුගයේ ස්ත්‍රිය සභ්‍ය යුගයේ ස්ත්‍රියට වඩා වැඩි ගෞරවයක් ලැබූ බව සත්‍යයකි. සැමියාට ඇය තම සහජාත දරුවන්ගේ මවය, ප්‍රධාන ගෘහ පාලනියය. තමන් රිසි පරිදි පුරුෂයා සාදගන්නා අන්තඃ පුරවල වසන වහල් ස්ත්‍රීන් පාලනය කිරීමද විවාහක බිරිඳට අයත්ය. එක් පැත්තකින් වහල් ක්‍රමයද අනිත් පැත්තෙන් ඒක පුරුෂ විරතයද එකවර පැවතියේය. රූමත් වහල් තරුණියන් පුරුෂයාට අයත් වූ අතර, ඒක පුරුෂ විරතය හෙවත් පතිවත රැකීම ස්ත්‍රියට පමණක් සීමා වූ දෙයක් බවට පත්විය. එහෙත් එය පුරුෂයාට බල නොපැවේය. මේ ස්වරූපය අද දක්වාත් එසේම පවතී.

ග්‍රීකයන් ගැන කියන විට අප ඩොරියන්වරුන් සහ ඉයෝනියන්වරුන් ගැනද කිව යුතුය, ඔවුන් අතර ඇති වෙනස ගැනද සඳහන් කළ යුතුය. ඩොරියන් වරුන්ගේ චිරාගත ආදර්ශය ස්පර්ටාවය. හෝමර් විසින් ලියන ලද විවාහ සබඳකම් වලටත් වඩා පැරණි සබඳකම් මොවුනට අයත් විය. රජය විසින් සංශෝධනය කරන ලද එද බල පෑ සිරිත් විරිත් හා විකල්පනායන් අනුව හැඩ ගැසුණු යුග පවුල් ක්‍රමයක් ස්පර්ටාහි අපි දකිමු. මේ ක්‍රමය තුළ කාණ්ඩ විවාහයේ ලක්ෂණයන් දැකිය හැක. දරුවන් නැති විවාහ කවු ගා දමන ලදී. ඇලෙක්සැන්ඩ්‍රිඩස් රජ (ක්‍රි. ව. පෙර 650) වඳ ස්ත්‍රියක් වූ තම පළමුවැනි බිසව අතහැර නො දමා, ඇය සිටියදීම තවත් බිරිඳක් පාවාගෙන මාලිගා දෙකක් නඩත්තු කළේය. මේ කාලයේදී වුසූ තවත් රජෙකු වන ඇරිස්ටෝනෙස්ගේ පළමුවැනි හා දෙවැනි බිසෝවරුන් වඳ ස්ත්‍රීන් වූයෙන්, ඔහු තෙවැනි වරටත් විවාහ විය. පසුව ඔහු විසින් එක් බිරිඳක් නිදහස් කරන ලදී. එහෙත් අනිත් අතට සහෝදරයෝ කීප දෙනෙක් පොදුවේ එක් ස්ත්‍රියකු පාවා ගත්හ. යහළුවකුගේ බිරියකට ඇළුම් කරන්නෙකුට ඇය සමග කම්සැප විඳීමට පුළුවන්කම එද තිබිණි. බිස්මාක් කී පරිදි පුරවැසියෙකු නොවූවද කාමුක "මීහරකෙකුගේ" සිතැඟියාවන් ඉටුකර ගැනීම පිණිස තම බිරිඳ දීම ශිෂ්ට ක්‍රියාවක් ලෙස එද සලකන ලදී. ෂේමන් කියන පරිදි, ප්ලුටාර්ක් ගේ කෘතියක එක් තැනෙක ස්පර්ටා ස්ත්‍රියක් තමාට ආලය කරමින්, තමා පසුපස එමින් සිටි පුරුෂයෙකු තම සැමියා ඉදිරියට යැවීමෙන් එද පැවති නිදහස් ලිංගික සබඳකම් වල තත්ත්වය මේ යැයි කියන නිදසුනක් පෙන්වයි. ඒ කාලයේදී සැමියාට සොරෙන් වෙනත් පුරු-

ෂයින් සමග කම් සැප විඳි ස්ත්‍රීන් ගැන අසන්නට පවා නොලැබිණි. ස්පාර්ටා රජයේ සමෘධිමත් කාලයේදී ගෘහ වහල් සේවයක් නොතිබිණි. හීලොට්වරු තම වතුවලට වී වෙන්වූ පවුල් ජීවිත ගත කළහ. මේ හේතුව නිසා ස්පර්ටියාට් වරුන්ට* හීලොට් ස්ත්‍රීන් සමග කාමයෙහි හැසිරීමට පොළඹවන අවස්ථාවක් නොතිබිණි. මේ සියලු තත්ත්වයන්වලදී අනිකුත් ග්‍රීක් කාන්තාවන්ට වඩා වැඩි ගරුත්වයක් ස්පර්ටාහි කාන්තාව භුක්ති වින්දය. පෞරාණිකයන් ගරු සැලකිලි දක්වමින් කතා කරන්නේ ස්පර්ටාහි ස්ත්‍රීන් ගැන හා පැරැණි ඇතැන්ස්හි අනියම් බිරියන්ගේ විශිෂ්ටතාවය ගැන පමණකි. ඔවුන්ගේ අදහස් වාර්තා කිරීමට තරම් වටිනා දේ ලෙස පැරැන්නෝ සැලකූහ.

ඉයොනියන්වරුන් අතර පැවති තත්ත්වය — මොවුන්ගේ විශේෂ ලක්ෂණය ඇතැන්ස් විය — මීට හාත්පසින්ම වෙනස් විය. තරුණියෝ නූල් කැටීම, රෙදි විවීම සහ මැසීම පමණක්ද, කලාතුරකින් ලිවීම සහ කියැවීමද ඉගෙනගත්හ. ගැහැණුන් සමාගම් පැවැත්වූයේ ගැහැණුන් සමග පමණකි. නිවසක ස්ත්‍රීන්ට අයත් කොටස වෙන්ව තබන ලදී. එය එක්කෝ දෙවැනි තට්ටුවේ හෝ පිටුපස ගොඩනැගිල්ලක හෝ විය. එතැනට පිරිමින්ට ලෙහෙසියෙන් යා නොහැකිවිය. පිරිමි අමුත්තන් නිවසට පැමිණි විට ගැහැණු තම කොටසට වදිති. වහල් ස්ත්‍රියක් සමග මිස කතක් තනිවම මහ මග බැස නොගියාය. ගෙදරදීත් ඔවුන් නිතර ආරක්ෂාව යටතේ තබන ලදී. ස්ත්‍රී දූෂකයින් බියගැන්වීම පිණිස මොලොස්සන් දඩයම් බල්ලන් ගෙවල්වල ඇති දැඩි කළ බව ඇරිස්ටොෆේන්ස් සඳහන් කරයි. ආසියාතික නගරවල ස්ත්‍රීන් ආරක්ෂා කිරීම සඳහා පණ්ඩකයින් සේවයට ගත්හ. හෙරොඩෝටස්ගේ කාලය තරම්වූ ඈත කාලයක සිටම චියෝස් නගරයේදී ඔවුන් කප්පාදු කරන ලදී. වාක්ස්මුත් කියන පරිදි මිලේච්ඡයන් සඳහා පමණක් නොවේ. එව්රිපිඩස් ගේ එක් කෘතියක එන බිරිඳ oikurema යනුවෙන් හැඳින්වෙයි. මෙහි තේරුම් ගෘහ පාලනය කරන මෙවලමක් යනුයි. (එම වචනය නපුංසක ලිංගයට අයත්ය). ඇතැන්ස් නුවර වාසීන්ගේ මතය හැටියට දරුවන් වැදීම හැරුණු විට බිරිඳ ප්‍රධාන ගෘහ මෙහෙකාරියක් පමණකි. සරඹ ව්‍යායාම්, දේශපාලන හා සමාජ වැඩකටයුතු සැමියාට තිබුණු අතර බිරිඳ මේවායින් වෙන් කොට තබන ලදී. මේවාට අමතරව ඔහුට නිතරම වහල් ස්ත්‍රීන්ද අයත්ව තිබිණි. ඇතැන්ස්හි ඉතාම සමෘධිමත් කාලයේදී රජයේ අනුග්‍රහය ලැබූ ගණිකා වෘත්තිය විශාල වශයෙන් පැතිර පැවතිණි. ග්‍රීක කාන්තාව වර්ධනය වූයේ විශේෂයෙන්ම මේ ගණිකා වෘත්තිය පදනම් කර ගෙනය. ස්පර්ටියාට් කාන්තාව සිය චරිත ශක්තිය නිසා පැරණි ස්ත්‍රීන්ගේ පොදු මට්ටමට වඩා බොහෝ සෙයින්ම ඉහළින් සිටියාක් මෙන්ම, ග්‍රීක කාන්තාවද තම චාතුර්යය සහ කලාත්මක රුචිය නිසා අනිකුත් ස්ත්‍රීන්ට වඩා ඉහළ තැනෙක වැජඹිණ. කාන්තාවක් වීමට නම් පළමුවෙන්ම ස්ත්‍රියක් අනියම් බිරියක් විය යුතුය යන මතය ඇතැන්ස් පවුලකට එදිරිව එල්ල කළ හැකි දෝෂාරෝපණයකි.

කල් යත්ම ඉයෝනියන්වරු පමණක් නොව, ග්‍රීසියේ අනිකුත් කොටස්ද, යටත් විජිතද වැඩි වැඩියෙන් ඇතැන්ස් පවුලේ ආදර්ශය අනුව තම ගෘහමය සබඳකම් ගොඩ නගාගත්හ. වෙන්කොට හා ආරක්ෂාව යටතේ තැබුවද ග්‍රීක ස්ත්‍රීන්ට තම සැමියන් රැවටීමට තරම් සෑහෙන අවස්ථා නිතර ලැබිණි. තම බිරිඳට ආලය කරන බව පැවසීමට ලජ්ජා වන සැමියෙක් අනියම් බිරියක් (ගණිකාවක්) සමග අනුරාගී ලෙස කම්සැප විඳී. ස්ත්‍රිය අපකීර්තියට පත් කිරීම නිසා, පුරුෂයාද ලාබාල තරුණයින් සමග විකෘති ලිංගික සබඳතා පවත්වා ගැනීමේ තත්ත්වය දක්වා පහතට ඇද වැටෙමින් අපකීර්තියට භාජන විය. ගැනිමීඩ් නම්වූ දෙවියාගේ මිථ්‍යා කතාව අනුව යමින් ඔවුහු තමන්ද, තම දෙවිවරුන්ද එම තත්ත්වයට ඇද දැමූහ.

ඉතාමත්ම යහතින් වර්ධනය වූ සහ අතිශයින්ම සභ්‍ය පැරණි ජනතාවගෙන් සොයා ගත හැකි ඒක භාර්යා විරතයේ සම්භවය මෙයයි. පෞද්ගලික ලිංගික ආදරය නිසා ඒක භාර්යා විරතය ඇති නොවීය. මේ දෙක අතර පොදුවේ කිසිවක් නොවීය. මන්දයත්, විවාහය පෙර මෙන්ම, සැපපහසු කමේ විවාහයක් වූ බැවිනි. ඒක භාර්යා විරතය ප්‍රකෘති තත්ත්වය මත නොව ආර්ථික තත්ත්වය මත, එනම්, සොබාවික ලෙස වර්ධනය වූ මූලික පොදු අයිතිය වෙනුවට පෞද්ගලික අයිතිය ජයගත් තත්ත්වය මත පදනම් වූ දෙයක් විය. පවුලේ පාලනයට පුරුෂයා පත්වීම, ඔහුට පමණක් ජාතක විය හැකි දරුවන් නම් කිරීම, ඔහුගේ දේපල ඔවුනට භාරදීම, ඒක භාර්යා විරතයේ විශේෂ අරමුණු හැටියට පැරණි ග්‍රීකයින් දුටුවේ ඒවා පමණකි. ඉතිරි හරිය බරකි, දෙවියන්ට, රජයට හා මුතුන් මිත්තන්ට ඔවුන් විසින් කළ යුතු මෙහෙයකි. ඇතුන්ස් නීතිය විවාහය පමණක් නොව, අවමය වශයෙන් මිනිසකු විසින් කළ යුතු වෛවාහික යුතුකම්ද අනිවාර්ය කරන ලදී.

ඒක භාර්යා විරතය ඉතිහාසය ඉදිරියේ පෙනී සිටින්නේ මිනිහා හා ගැහැණිය අතර සමාදනයේ ප්‍රතිඵලයක් වශයෙන් නොවේ, එවැනි සමාදනයක උසස් විධියක් හැටියටද නොවේ. එහෙත් ඒ වෙනුවට, එක් පක්ෂයක් තවත් පක්ෂයක් යටපත් කරගැනීමක් ලෙසිනි. ඉතිහාසයට පූර්ව යුගයේදී මිනිසා කොහෙත්ම නොදුන සිටි අරගලයක් ප්‍රකාශ කිරීමක් ලෙසය. මාක්ස් හා මවිසින් 1846 දී ලියන ලද එහෙත් පළ නොකරන ලද අත් පිටප-

* ස්පර්ටියාට්වරු — හීලොට් වරුන් හා සසඳන විට සම්පූර්ණ පූරවැසි අයිතිය භුක්ති වින්දූ වූ කොටසකි. — සංස්කාරක

තක මෙසේ සඳහන් වේ: ''ළමයින් ඇති දැඩි කිරීම සඳහා පුරුෂයා හා ස්ත්‍රිය අතර පළමුවැනි ශ්‍රම විභජනය ඇති විය''*. දැන් මෙයට තවත් එකතු කළ හැකිය. ඉතිහාසයේ පෙනෙන පළමුවැනි පංතිමය ප්‍රතිවිරුද්ධතාවය ඒක භාර්යා විරතය නිසා පුරුෂයා සහ ස්ත්‍රිය අතර පැන නැගි ප්‍රතිවිරුද්ධතාවය සමගද පුරුෂයා විසින් ස්ත්‍රිය පළමුවරට පංතිමය වශයෙන් පෑගීමත් සමගම එකවර සිදුවිය. ඒක භාර්යා විරතය විශාල ඓතිහාසික ඉදිරිගමනකි. එහෙත් මෙය ඒ සමගම වහල් ක්‍රමය සහ පෞද්ගලික ධනය නමැති යුගය සොයා ගත්තේය. මේ යුගයේ හැම ඉදිරිගමනක්ම එකවර සාපේක්ෂ වශයෙන් ආපසු යාමක්ද වන්නේය. මෙහි එක් කණ්ඩායමකගේ ශුභ සිද්ධිය හා සංවර්ධනය තවත් කණ්ඩායමකගේ දුගී දුක හා අවරෝධනය මත රැඳී පවතී. එය ප්‍රතිවිරෝධීතාවයන්ගේ හා ප්‍රතිපක්ෂබවේ ප්‍රකෘති ස්වභාවය පසුව සම්පූර්ණයෙන් වර්ධනය වන අනාගත සභ්‍ය සමාජයක සෛලමය රූපයයි.

යුගලන පවුලේ සහ ඒක භාර්යා විරතයේ පවා ජයග්‍රහණයන් සමගම ලිංගික සබඳකම් පිළිබඳව පැවති පැරණි සාපේක්ෂක නිදහස අහෝසි වී යැයි මින් කොහෙත්ම අදහස් නොකෙරේ.

''පුනාලුවා කණ්ඩායම් ක්‍රම ක්‍රමයෙන් අහෝසි වී අභාවයට යාම තුළින් වඩාත් පටු සීමාවන්ට පත්වූ පැරණි වෛවාහික ක්‍රමය ඉදිරියට යන පවුල තවමත් වැළඳ ගනිමින් සිටියේය. එය අවසානයේදී පවුල මත කළු පැහැති සේයාවක් සේ සභ්‍යත්වයේදීද මිනිස් සංහතිය පසු පස ලුහුබඳින හෙටයරිස්මයේ නව ආකාරයේදී අත්රු දහන් විය.''

හෙටයරිසම් යනුවෙන් මෝගන් අදහස් කරන්නේ පුරුෂයින් හා අවිවාහක ස්ත්‍රීන් අතර ඒක භාර්යා විරතය සමගම එකවර පවතින, අප දන්නා පරිදි සභ්‍ය යුගයේදී විවිධ ක්‍රම අනුව වර්ධනය වූ එක එල්ලේම ගණිකා වෘත්තිය දක්වා වැඩෙමින් පවතින්නාවූ විවාහයට පිටින් පවතින ලිංගික මෛථුන්දමය. විවාහයට බාහිර වශයෙන් පවතින මේ ලිංගික සබඳතා කෙළින්ම කාණ්ඩ විවාහයටත්, පති විරතාවේ අයිතිය ලබාගත්, ස්ත්‍රියගේ පරිත්‍යාගශීලි යටත්වීමටත් සම්බන්ධ කළ හැකිය. මුදලට යටත්වීම මුලදී ආගමික සිරිතක් විය. ආලයේ දෙව්දුවගේ දේවාලයේදී එය සිදුවිණි. මේ මුදල් දේවාලයේ භාණ්ඩාගාරයට ලැබිණ. ආර්මීනියාවේ අනයිටිස් දේවාලයේ සහ කොරින්ත්හි ඇප්‍රොඩයිට් දේවාලයේ හිරොඩ්‍යුලස්**

*"Die deutsche Ideologie" (ජර්මන් දෘෂ්ටිවාදය) I හා II කොටස්වල ඉංග්‍රීසි පරිවර්තනය, නිව් යෝර්ක්, 1939. — සංස්කාරක.

** හිරොඩ්‍යුලස් —දේවාලයේ මෙහෙකාරියන් වන වහල් ස්ත්‍රීන්ය.— සංස්කාරක.



වරියෝ සහ ඉන්දියාවේ දේවාලවල නාට්‍යාංගනාවෝ වන බයඩරස් වරියෝද, (මේ වචනය පෘතුගීසි bailadeira නැමති වචනයෙන් බිඳ ගත්තකි. එහි තේරුම නාට්‍යාංගනාව යන්නය.) පළමුවැනි ගණිකාවෝ වූහ. පෙර සියලුම ස්ත්‍රීන්ට අනිවාර්ය වූ පරිත්‍යාගශීලි යටත්වීම පසුව, අනිකුත් ස්ත්‍රීන් වෙනුවෙන් දේවාලයේ යාජකීයන් විසින් පමණක් කරන ලදී. විවාහයට පිටතින් පැවති ලිංගික සම්බන්ධතාවය අනිකුත් ජනතාවන් අතර වර්ධනය වූයේ, විවාහයට පෙර තරුණියන් භුක්ති විඳි ලිංගික නිදහස නිසාය. කාණ්ඩ විවාහයේ නෂ්ටාවශේෂයක් බඳුවූ මෙය අප වෙත පැමිණ සිටිනුයේ වෙනත් මඟකිනි. දේපොල ආන්තරයේ පැන නැගීමත් සමගම — එනම් වනචාරි යුගයේ උසස් අවධියේ සිට — වහල් ශ්‍රමයත් සමගම තැනින් තැන වේතන ශ්‍රමයක් තිබුණු බැව් පෙනීයයි. එකවරම එහි අවශ්‍ය සම්බන්ධනය වශයෙන්, වහල් ස්ත්‍රිය බලාත්කාරයෙන් යටත් කරගැනීමත් සමගම නිදහස් ස්ත්‍රීන්ගේ ගණිකා වෘත්තියද පැවති බවකි. ඒ අනුව කාණ්ඩ විවාහය විසින් සභ්‍යත්වයට දයාද කොට දුන් මෙයද උභයාංශය; සභ්‍යත්වය විසින් දයාදකොට ගත් අන් හැමදෙයක්ම උභයාංශ, දිව දෙකේ, ස්වයං ප්‍රතිපක්ෂ හා ප්‍රතිවිරෝධිතා ලක්ෂණ වලින් යුක්තය. එක් අතකින් ඒක භාර්යා විරතයද අනිත් අතින් විවාහයට බාහිරව ඇතිවන ලිංගික සම්බන්ධතාවයන් හා එහි සීමාන්තය වන ගණිකා වෘත්තියද මෙසේය. විවාහයට බාහිරව පැවති ලිංගික සම්බන්ධතාවය අනිකුත් ඕනෑම සමාජ ආයතනයක් මෙන්ම ඒවාට සමාන වූවකි. පුරුෂයාට පක්ෂව ලිංගික ස්වාධීනත්වය දිගටම ගෙනයන සම්ප්‍රදායකි එය. ඇත්ත වශයෙන්ම මෙයට විරුද්ධ නොවූවා පමණක් නොව, විශේෂයෙන්ම පාලක පංතිය විසින් මහත්වූ උනන්දුවකින් මෙය ප්‍රගුණ කරනු ලැබේ. එහෙත් එය වචනයෙන් පමණක් ඔවුහු හෙළාදකිති. කෙසේවුවද මේ හෙළාදැකීම නිසා පීඩා විඳින්නේ එයින් තෘප්තියට පත් පුරුෂයින් නොවේ, ස්ත්‍රීන් පමණකි. ඔවුන් සමාජයෙන් නෙරපා ගෝත්‍රයෙන් පිට කරනුයේ පුරුෂ වර්ගයා ස්ත්‍රී වර්ගයා මත සම්පූර්ණ ආධිපත්‍යය පතුරුවා තිබෙන බව සහ එය සමාජයේ මූලික නීතියක් බව නැවතත් වරක් ප්‍රකාශ කර සිටීම සඳහාය.

ඒක භාර්යා විරතයත් සමගම තවත් ප්‍රතිවිරෝධීතාවයක් පැන නැගිණ. විවාහයට බාහිරව කරන ලිංගික සම්බන්ධතාවයන්ගෙන් පිරි ජීවිතයක් ගත කරන සැමියා අසල නොසැලකිල්ලට භාජන වූ බිරිඳය. ඇපල් ගෙඩියක කොටසක් කා දැමූ පසු සම්පූර්ණ ඇපල් ගෙඩිය ඉතිරි නොවන්නා සේම ප්‍රතිවිරෝධීතාවයක එක පැත්තක් පමණක් ඉතිරි නොවේ. කෙසේවුවද තම බිරියන් තමන්ට හරිහැටි උගන්වන තුරු පුරුෂයෝ වෙනත් විධියකට කල්පනා කළහ. මීට ඉහත නොදුටු සමාජමය නිත්‍ය චරිත දෙකක්, එනම් සොර සැමියා සහ පතිවත නොරකින ස්ත්‍රීන්ගේ සැමියා බිහිවිය.

පුරුෂ වර්ගයා ස්ත්‍රී වර්ගයා අභිබවා ජයගත්තද, ජයග්‍රාහකයාට ඔවුනු පැළැන්දවීම පරාජයට පත්වූ ස්ත්‍රිය විසින් උදර ලෙස කරන ලදී. කාම මිථ්‍යාචාරය වරදක් බවත්, එයට තදබල දඬුවම් දෙන බවත් ප්‍රකාශ කළ නමුදු, කාම මිථ්‍යාචාරය තහනම් කරන ලද, දැඩි ලෙස දඬුවම් පමුණුවන ලද නමුදු, එය මැඩලිය නො හැකි වූ අතර, ඒක භාර්යා සේවනයට සහ හෙටයරිස්මයට සමාන්තරව නොවැළැක්විය හැකි සමාජයීය ආයතනයක් බවට පත් විය. දරුවන්ගේ පීතෘත්වය පෙර මෙන්ම, අධ්‍යාත්මික වැටහීම මත පදනම් විය. නොවිසඳිය හැකි මේ ප්‍රතිවිරුද්ධතාවය විසඳනු වස් නැපෝලියන් නීති සංග්‍රහයේ 312 වගන්තිය මෙසේ තීරණය කරයි:

“L’enfant conçu pendant le mariage a pour père le mari” විවාහ කාලය තිස්සේ ස්ත්‍රී කුස තුළ පිළිසිඳ ගත් දරුවාගේ පියා ඇගේ සැමියාය''.

ඒක භාර්යා විරතයේ අවුරුදු තුන් දහසක ඉතිහාසය ලබාදුන් අවසාන ප්‍රතිඵලය මෙයයි.

එවැනි අවස්ථාවලදී ඒක භාර්යා විරතය සහිත පවුල ඓතිහාසික සම්භවය නිසි ලෙස පිළිබිඹු කරයි. ස්ත්‍රිය හා පුරුෂයා අතර තියුණු ගැටීමද, පුරුෂයාගේ විශේෂ ජයග්‍රහණයද පැහැදිලි ලෙස පෙන්වයි.සභ්‍යත්වය පටන්ගත් ද සිට දෙකඩ වී ගිය සමාජය තුළ පැන නැඟී ඇති ප්‍රතිවිරෝධීතාවයන් හා ප්‍රතිපක්ෂ භාවයන් ප්‍රමාණයෙන් කුඩා කොට පෙන්වන පින්තූරයකි අප ඉදිරියේ තිබෙනුයේ. ඒක භාර්යා විරතයට හා ආයතනයක් වශයෙන් එහි මුල් පදනමට බලපාන නීතිවලට හා ස්වරූපයට අනුකූල, එහෙත් සැමියාගේ ආධිපත්‍යයට එදිරිව බිරිඳ නැගී සිට කැරලි ගසන, විවාහයක් ගැන පමණකි මා මෙහි සඳහන් කරන්නේ. සියලුම විවාහයන් පිළිබඳව මෙය රජය පාලනය කරනවා තබා ගෙදර පාලනය ගැන වත් හරි හැටි නොදත් ජර්මන් අවරසිකයාට වඩා වෙන කිසිවෙකු නො දනී. ඔහු පාලනයට කොහෙත්ම සුදුසු නැති නිසා ඔහුගේ බිරිඳ එය සියතට සම්පූර්ණයෙන්ම ගනී. ඒ කෙසේ වෙතත් ඔහුට වඩා නිතර අභාග්‍යයට මුණ පාන ඔහුගේ ප්‍රංශ සගයාට වඩා ඔහු උසස් යැයි සිතමින් සැනසීමක් ලබාගනී.

කෙසේවුවද, ග්‍රීකයින් අතර හටගත් විරාගත දැඩි ස්වරූපයෙන් ඒක භාර්යා විරතය සහිත පවුල හැම තැනමත් නිතරමත් පැන නැංගේ නැත. අනාගත ලෝක පාලකයින් වශයෙන් රෝමන්වරුන් අතර ග්‍රීකයින්ට වඩා අඩු විනීත හැඟීමක් — කාන්තාව වඩාත් නිදහස්ය ඇයට ගරු කළ යුතුය — ඇතිවීමට දිගු කලක් ගතවිය. ස්ත්‍රියගේ ජීවිතය හා මරණය කෙරෙහි පුරුෂයා බලපාන බැවින් ඇගේ පතිවත සැහෙන ලෙස ආරක්ෂා වන්නේ යැයි රෝමන්නු විශ්වාස කළහ. ඇරත් පුරුෂයාට මෙන්ම ස්ත්‍රියටද සිය කැමැත්ත අනුව විවාහය කවුගා දැමිය හැකිවිය. එහෙත් ඒක භාර්ය



විරතයේ විශාලතම ඉදිරිගමන ඇතිවූයේ ජර්මන් වරුන් ඉතිහාසයට ඇතුළුවීමත් සමගය. යුගලන පවුලේ සිට ඒක භාර්යා විරතය දක්වා තවම විකාශනය වී නැත්තේ සමහර විට ඔවුන්ගේ දුප්පත්කම නිසා විය හැක. ටැසිටස් සඳහන් කරන කරුණු තුනක් නිසා අපි මේ නිගමනයට බසිමු: පළමුවැන්න, විවාහයේ පරිශුද්ධත්වය ගැන ඔවුන්ගේ විශ්වාසය එසේ පැවතුනද — ''හැම පුරුෂයෙකුම එක බිරිඳක් නිසා සෑහීමට පත්වීම සහ ස්ත්‍රිය පතිදම්වලින් වටකොට තැබීම'' — උසස් නිල දැරුවන් හා ගෝත්‍ර නායකයින් අතර බහු භාර්යා විරතය පැවතිණ. යුග පවුල් ක්‍රමය පැවති රතු ඉන්දියානුන් අතරද මෙයට සමාන තත්ත්වයක් ඇතිවිය. දෙවැන්න, මව් අයිතියේ සිට පිය අයිතිය දක්වා පරිවර්තන වූයේ මෑතකදී වීම — මව් අයිතිය අනුව ගෝත්‍රික වශයෙන් කිට්ටු පිරිමි නෑයා, එනම් මවගේ සහෝදරයා දරුවාගේ පියාටත් වඩා කිට්ටු නෑයකු වීම — මෙයද ඇමෙරිකන් ඉන්දියානුන්ගේ මතවලට සමානවීම. මාක්ස් නිතර කී පරිදි ඉතිහාසයට පූර්ව යුගය අවබෝධ කර ගැනීම පිණිස අපට නිතැතින්ම මෙය ආධාර වෙයි. තෙවැන්න, ජර්මනුන් විසින් කාන්තාව උසස් ගරුත්වයකින් පුදනු ලැබූ අතර ප්‍රසිද්ධ කටයුතු වලදී ඈ බල පෑවාය. මෙය ඒක භාර්යා විරතයේ පුරුෂ ආධිපත්‍යයට කෙළින්ම පටහැනි වූවකි. මේ හැම කරුණකදීම ජර්මනුන් ස්පාර්ටන් වරුන්ට සමාන විය. අප මීට ඉහත දුටු පරිදි ස්පාර්ටන් වරුන් අතරද යුගලන විවාහ සම්පූර්ණයෙන් අහෝසිවී ගොස් නොතිබිණි. ඒ අනුව ජර්මනුන් ඉතිහාසයට ඇතුලු වීමත් සමගම සම්පූර්ණ අලුත් බලවේගයක් ලෝකාධිපත්‍යය ලබා ගත්තේය. රෝමානු ලෝකයේ නටබුන් මත ජාතීන් කවලම් වීම නිසා පැන නැඟුණු අලුත් ඒක භාර්යා විරතය පුරුෂ ආධිපත්‍යයේ රළු බව අඩු කළේය. යටත් පිරිසෙයින් බාහිර වශයෙන් හෝ ආචීර්ණ කල්පික පැරණි සමාජය නොදූන සිටි නිදහසක් හා ගරුත්වයක් ස්ත්‍රියට ලැබිණි. ඒක භාර්යා විරතය නිසා පළමුවරට විශාලතම අධ්‍යාත්මික දියුණුවක් ඇතිවිය. එබැවින් අපි ඒක භාර්යා විරතයට ණය ගැති වෙමු. ඒක භාර්යා විරතය තුළින් හෝ ඊට සමාන්තරව හෝ ඊට විරුද්ධව හෝ ඒ, ඒ, තත්ත්වයන් අනුව මුලු මහත් ලෝකයම කලින් නොදූන සිටි දෙයක්, එනම් පෞද්ගලික ලිංගික ආලය ඇතිවිය.

කෙසේවුවද, මේ ඉදිරිගමන ඇතිවූයේ ජර්මනුන් තවමත් යුගලන පවුල් ක්‍රමය තුළ ජීවත්වෙමින් මේ තත්වයට ගැළපෙන පරිදි ඒක භාර්යා විරතයට බලපෑ බැවිනි. ඒක භාර්යා විරතයට අයත් දැවෙන අධ්‍යාත්මික ප්‍රතිවිරුද්ධතා හෙළි නොකළ යුගලන පවුල් ක්‍රමයට පමණක් ප්‍රගුණත්වයෙන් සීමා වී සිටි ජර්මනුන්ගේ අධ්‍යාත්මික පරිශුද්ධ බව කියන මනඃ ප්‍රකෘතිය පිළිබඳ සුරඟනා කතා නිසා මෙය කොහෙත්ම සිදු නොවීය. විලෝම වශයෙන් විශේෂයෙන් අග්නි දිග නෝර්මඩ්වරුන් වාසය කළ කළු මුහුදේ ස්ටෙප්ස්

දක්වා සංක්‍රමණය වූ ජර්මන්නු සැහෙන අධ්‍යාත්මික දිරාපත්වීමකට මූණ පෑහ. අසුන් පිට යාමේ දක්ෂතාවය හැරුණු විට ටයිපාලි ගැන ඇමියානුස් කරන විස්තර වාර්තාවද හෙරුලි ගැන ප්‍රොකෝපියස් කරන වාර්තාවද අනුව ඔවුන් බරපතල අස්වාභාවික දුශ්චරිතවලට හසු වූ බව ඔප්පු වේ.

සමකාලීන ලිංගික ආලය වර්ධනය විය හැකි අප දන්නා එකම ක්‍රමය ඒක භාර්යා විරතය වුවද, සැමියාගේ හා බිරිඳගේ අන්‍යොන්‍ය ආලය වශයෙන් මෙය එය තුළින් පමණක් වර්ධනය වූ බවක් හෝ වැඩි වශයෙන් එයින් පමණක් වර්ධනය වූ බවක් හෝ මින් අදහස් නොකෙරේ. පුරුෂයාගේ ආධිපත්‍යය යටතේ පවතින දැඩි ඒක භාර්යා විරතමය විවාහයේ ස්වභාවය නිසා එවැන්නකට ඉඩ නැත. ඓතිහාසික වශයෙන් ක්‍රියාකාරී පංති අතර එනම් සියලුම පාලක පංති අතර යුගලන පවුල ඇතිවූ කාලයේ සිටම විවාහය එලෙසම පැවැතියේය — එනම් දෙමාපියන් විසින් පහසුව තකා පිළියෙළ කරන ලද්දකි. ඓතිහාසික වශයෙන් රාගයක් ලෙස පැන නැගී ලිංගික ආලයේ පළමුවැනි ක්‍රමය, ලිංගික ආවේගයේ උසස්තම විධිය මෙන් ඕනෑම පුද්ගලයෙකුට (යටත් පිරිසෙයින් පාලක පංතියට) භුක්ති විඳීමට අයිතියක් තිබේ. එහි විශේෂ ලක්ෂණය එනම් මැද යුගයේ ධීර වීර ආලයේ පළමුවැනි විධිය — මෙය කොහෙත්ම වෛවාහික ආලය නොවිය. අනිත් අතින් එහි විරාගත විධිය අනුව, ප්‍රොවෙන්සාල්වරුන් අතර එය සම්පූර්ණයෙන්ම පරදාර සේවනය දක්වා දියුණුවිය. ඔවුන්ගේ කවියන් මෙය පසසමින් කවි පද බැඳ ඇත. ප්‍රොවෙන්සාල්වරුන්ගේ අනගිතම පෙම් ගීත ''ආල්බස්'' (albas — අරුණෝදයේ ගීත) නමින් හැඳින්වෙයි. යුද නායකයෙක් තම පෙම්වතිය — තව'කෙකුගේ බිරිඳක් සමග යහන් ගතවී සිටින සැටි විචිත්‍ර ලෙස මේ ගීයෙන් වනයි. දොරටුව අසල මුරකරුවා රාත්‍රි අඳුර ගෙවී අරුණෝදය ඇතිවෙත්ම යුද නායකයාට අසුනොවී පැන යාමට සංඥා කරයි. පෙම්වතුන්ගේ සමුගැනීම ගීතයේ පරමෝත්කර්ෂයයි. උතුරු ප්‍රංශුවෝ හා උසස් ජර්මන්නු මේ ලතාව අනුව කවි ලියූ අතර, එයට අනුරූප වන ධීර වීර ගති පැවතුම්ද එකතු කළහ. මේ මාතෘකාව අනුව අපේ පැරණි වොල්ෆ්‍රම් වොන් එෂෙන්බාහ් ඉතා අගනා අරුණෝදයේ ගී තුනක් අපට දී ඇත. ඔහු විසින් ලියන ලද දීර්ඝ වීර කාව්‍යයනට වඩා මම ඒවා අගය කරමි.

අපේ කාලයේ ධනපති විවාහයන් වර්ග දෙකකට බෙදෙයි. කතෝලික රටවල දෙමාපියෝ පෙර මෙන්ම දූනුදු තම තරුණ ධනපති පුතුට සැහෙන බිරියක් සොයා දෙති. මෙහි දුර්විපාකය නම් ඒක භාර්යා විරතයට ආවේණික වූ ප්‍රතිවිරෝධීතා පැන නැගී සැමියා පර ස්ත්‍රී සේවනයේත්, බිරිඳ පර පුරුෂ සේවනයේත් යෙදීමය. මරණයට මෙන්ම පර ස්ත්‍රී පුරුෂ සේවනයටද පිළියමක් නැතැයි කතෝලික පල්ලිය සිතූ නිසා දික්කසාද වීම තහනම්



කළ බවට සැක නැත. ප්‍රොතෙස්තන්ත හෙවත් රෙප්‍රමාදු රටවල අනිත් අතින්, අඩු වැඩි වශයෙන් නිදහස් ලෙස ධනපති පුතුට තම පංතිය තුළින් බිරියක් සොයා ගැනීමට ඉඩහැරීම සිරිතකි. මේ නිසා විනීත බවේ නාමයෙන් ප්‍රොතෙස්තන්ත කපටි කමට ගැළපෙන සේ විවාහය එක්තරා ප්‍රමාණයකට ආලය මත පදනම් වී ඇති බව නිතර පිළිගැනේ. මෙවැනි විවාහ නිසා පුරුෂයින් අතර පර ස්ත්‍රී සේවනය තරමක් අඩුවෙන් සිදු වේ. ස්ත්‍රීන් අතර පරපුරුෂ සේවනයද රීතියක් වශයෙන් සිදු නොවේ. හැම විවාහයකදීම කෙසේ හෝ මිනිසුන් විවාහයට පෙර සිටි තත්ත්වයේම සිටින බැවින්, ප්‍රොතෙස්තන්ත රටවල ධනපතීන් බොහෝ දෙනා අවරසිකයින් නිසා, මේ ප්‍රොතෙස්තන්ත විවාහය, ඉතාම හොඳ විවාහයන්ගේ සාමාන්‍ය අනුපාතය අනුව, ගෘහමය ප්‍රමෝදය මෙන් හඳුන්වනු ලබන අතර එය ඉවසිය නොහැකි වෙහෙසට පත් කරවයි. මේ විවාහ දෙක පිළිබිඹු කොට පෙන්වන ඉතාම හොඳ කැඩපත නවකතාවය. කතෝලික විවාහයට ප්‍රංශ නව කතාවද ප්‍රොතෙස්තන්ත විවාහයට ජර්මන් නව කතාවද වේ. මේ නව කතා දෙකෙහිම වීරයා 'ජය ලබයි', ජර්මන් නව කතාවේ තරුණයා තරුණිය ලබා ගනී, ප්‍රංශ නව කතාවේ සැමියා බිරිඳ විසින් රැවටේ. වඩාත් ගැඹුරු ලෙස අමාරුවට මූණ පාන්නේ මේ දෙදෙනාගෙන් කවිද යන්න තෝරා බේරා ගැනීම නිතර ලෙහෙසි නොවේ. ජර්මන් නව කතාවේ නීරසය නිසා ප්‍රංශ ධනපතීන් අතර ඇති වන බියජනක බවට සමාන හැඟීමක් ප්‍රංශ නව කතාවේ 'අශික්ෂිත බව' විසින් ජර්මන් ධනපති පංතිය තුළ ඇති කරවයි. බර්ලිනය රාජධානි අගනුවරක් වූ පසු තරමක් අඩු බයාදු කමකින් යුතුව, ජර්මනියේ බොහෝ කල් සිට පවතින පර ස්ත්‍රී සේවනය හා පර පුරුෂ සේවනය ගැන ජර්මන් නව කතාව ලියන්නට පටන් ගෙන තිබේ.

මේ දෙවර්ගයට අයත් විවාහය තීරණය කරන්නේ එයට සහභාගිවන්නන්ගේ පංතිමය තත්ත්වය අනුවය, එනිසා එය පහසුකමේ විවාහය හැටියට ගැනෙයි. පහසුකම තකා කෙරෙන මේ විවාහ දෙවර්ගය බොහෝ විට අතිශයින්ම විශාල ගණිකා වෘත්තිය දක්වා හැරෙයි. සමහර විට බිරිඳ හා සැමියාද, නමුත් බොහෝ විට බිරිඳ ද මෙ ලෙස ගණිකා වෘත්තියෙහි යෙදෙති. මෙතැනදී බිරිඳ වැටුප් ලබන කම්කරුවෙකු කෑලි ගණනට වැඩ කරන්නා සේ සිය ශරීරය විකුණන ගණිකාවක මෙන් නොව, වහල් භාවයට සිය ශරීරය සදහටම විකුණූ එකියක බවට පත්වෙයි. පහසුව තකා ඉටුකරන සියලු විවාහයන්ට පූරියේගේ කියමන බලපායි: ''ව්‍යාකරණයෙහි ප්‍රතිෂේධ දෙකක් එක් සකාර්යයක් ඇති කරන්නා සේම විවාහයේ අධ්‍යාත්මික ගුණ අනුව වේශ්‍යාකම් දෙකක් එක් සදාචාරයකට පෙරළෙයි''. සැමියා හා බිරිඳ අතර ඇතිවන ලිංගික ආලය රීතියක් බවට පත්විය හැක්-

කේ පැගෙන පංති තුළ පමණකි, එනම් මේ සබඳතාවය නිල වශයෙන් ස්ථිර කළද, නොකළද වත්මන් නිර්ධන පංතිය තුළ පමණකි. එහෙත් මෙතැනදී ආවර්ණකල්පික ඒක භාරයා ව්‍රතයේ සියලු පදනම් අස්කර දමා ඇත. පෞද්ගලික දේපොල ආරක්ෂා කිරීමට හා උරුමය ලබාදීමට ඒක භාර්යා ව්‍රතය හා පුරුෂ ආධිපත්‍යය ඇතිකළ දේපොල මෙතැන නැත්තේය. පුරුෂ ආධිපත්‍යය තහවුරු කිරීම සඳහා උත්තේජනයන්ද කොහෙත්ම මෙහි නැත. මේ සඳහා මාධ්‍යයන්ද කොහෙත්ම නැතියි. පුරුෂාධිපත්‍යය ආරක්ෂා කරන ධනපති නීතිය පවතින්නේ ධනපති දේපොල හිමි පංතීන් සඳහාත් ඔවුන්ට නිර්ධන පංතියට එදිරිව එය යෙදීම සඳහාත්ය. මේ සඳහා මුදල් උවමනාය, කම්කරුවාගේ දුගී බව නිසා ඔහු තම බිරිඳ කෙරෙහි දක්වන ආකල්පය වලංගු නැත. සම්පූර්ණයෙන්ම වෙනත් වර්ගයකට අයත් පෞද්ගලික හා සමාජමය සබඳකම් මෙහිදී තීරණාත්මක සාධක ලෙස බලපායි. කෙසේ හෝ විශාල කර්මාන්ත ඇතිවීම නිසා ස්ත්‍රීය ගෙදර සිට ශ්‍රම වෙළඳ පොළටද පැක්ටරියටද පරිවර්තන වූ අතර නිතර පාහේ ඈ පවුලේ හරි හම්බ කරන එකම සාමාජිකාව බවටද පත්වූවාය. ඒක භාර්යා ව්‍රතය පිහිටුවීමත් සමගම දැඩිලෙස මුල් බැසගත් ස්ත්‍රීයට විරුද්ධව කරන කෲර කම් වලින් සමහරක් හැරුණු විට, නිර්ධන පංති ගෙවල්වලින් පුරුෂආධිපත්‍යයේ අවසාන නටබුන්ද අහෝසි වී ගොස් ඇත. සැමියාගේ හා බිරිඳගේ ආලය අතිශයින්ම අනුරාගික වුවද, ඔවුනතර ඉතාම දැඩි අවංකත්වයක් තිබුණද, අධ්‍යාත්මික හා ලෞකික ආශිර්වාද ඔවුන් කොතරම් ලැබුවද, නිර්ධන පංති පවුල වචනයේ පරිසමාප්ත අර්ථයෙන් ඒක භාර්යා ව්‍රතයට අයත් නැත. ඒක භාර්යා ව්‍රතයේ සදාකාලික පාප කර්මයන් දෙකක් වන පර ස්ත්‍රී සේවනය හා පර පුරුෂ සේවනය මෙහිදී ඉතාමත් අඩු ක්‍රියා කලාපයක් ඉටු කරයි. ස්ත්‍රීය ඇත්ත වශයෙන්ම වෙන්වීමේ අයිතිය නැවත ලබාගත්තාය. ස්ත්‍රීයට හා පුරුෂයාට එක්ව ජීවත්වීම අපහසු වූ විට ඔවුහු වෙන්වීමට කැමති වෙති. නිරුක්ති විද්‍යාව අනුව නිර්ධන පංති විවාහය ඒක භාර්යා ව්‍රතයට අයත් වුවද, ඓතිහාසික අදහස අනුව එය කොහෙත්ම ඊට අයිති නැත.

ස්ත්‍රීයගේ දුක් ගැනවිලි බොහෝ දුරට මහහැරවීමට නීති විද්‍යාවේ වර්ධනයට පුළුවන් වනු ඇතැයි අපේ නීතිඥයෝ කියති. සමකාලීන සභ්‍ය නීති විද්‍යාව වැඩි වැඩියෙන් මෙසේ පිළිගනී: පළමුවැනිව, හොඳ ප්‍රතිඵල ලැබීමට නම් දෙපක්ෂය සිය කැමැත්තෙන් ඉදිරිපත්වී කරන විවාහයක් විය යුතුය. දෙවැනිව, විවාහ කාලය තුළදී දෙපක්ෂයම සම තත්ත්වයකින් යුතුව එකිනෙකාගේ අයිතියට හා යුතුකම්වලට ගරු කළ යුතු ය. කෙසේ වුවද, මේ ඉල්ලීම් දෙක නොකඩවා ඉටු කරන්නේ නම් ස්ත්‍රීයගේ මන දෙළ සම්පූර්ණයෙන්ම ඉටුවනු ඇත.



රැඩිකල් සමූහාණ්ඩුවාදී ධනපතියා නිර්ධන පංතියට දෙන පිළිතුරු මෙයට සමාන වූවකි, නීතිඥයාගේ මේ තර්කය අනුව ශ්‍රම ගිවිසුමද දෙපක්ෂය අතර සිය කැමැත්තෙන් කළ යුතු දෙයකි. කඩදසිය මත නීතිය විසින් දෙපක්ෂයම සම තත්ත්වයකින් සිටිතැයි ප්‍රකාශ කළ විගසම එය සිය කැමැත්තෙන් සිදු වූවක් ලෙස පිළිගනිති. තම පංතිමය පදනම නිසා එක් පක්ෂයකට ලැබී තිබෙන බලයද, අනිත් පක්ෂය මත යෙදවීමට හැකි පීඩනයද, දෙපක්ෂයේම නියම ආර්ථික තත්ත්වයද ආදී මේ හැම දෙයක්ම නීතිය නොසලකයි. එක් හෝ තවත් පක්ෂයක් උවමනාවෙන්ම අතහැර නොදමන්නේ නම්, ශ්‍රම ගිවිසුම පවතින කාලය තුළදී දෙපක්ෂයටම සමාන අයිතියක් තිබෙන බව කියති. ස්ථිර ආර්ථික තත්ත්වය නිසා සමාන අයිතියේ සේයාව පවා අතහැරදැමීමට කම්කරුවාට සිදුවී තිබේ. එහෙත් මෙතැනදීත් නීතියට පිහිටවිය නොහැක.

විවාහය ගැන පමණක් බලන්නේ නම්, දෙපක්ෂයම විවාහවීමට ඇති සිය කැමැත්ත ලියා පදිංචි කළ පසු ඉතාම ප්‍රගතිවාදී නීතිය වුවද සෑහීමට පත්වේ. නීතියේ තිරයට පිටුපසින් සැබෑ ජීවිතය නිරූපනය වන විට සිදුවන්නේ මොනවාද, මේ ඉච්ඡානුගත ගිවිසුමට එළඹුණේ කෙසේද යන්න ආදිය ගැන සෙවීම නීතියට අයිති නැත. එහෙත් නීතිවල ඉතාම වාම් සැසඳීමකින් මේ ඉච්ඡානුගත ගිවිසුම්වල නියම තත්ත්වය නීතිඥයාට දැනගත හැකිය. දෙමාපියන්ගේ දේපොලවලින් එක්තරා කොටසක් දරුවන්ට පවරාදීම සමහර රටවල නීතියෙන් සහතික කොට තිබේ. මෙයට නිදසුනකි, ජර්මනිය, ප්‍රංශ නීතිය බලපාන හා වෙනත් රටවල්. විවාහවීමේදී දරුවෝ තම දෙමාපියන්ගේ අවසර ලබාගත යුත්තාහ. ඉංග්‍රීසි නීතිය බලපාන රටවල විවාහවීමට දෙමාපියන්ගේ අවසරය අවශ්‍ය නොවේ. තම දේපල පවරාදීමේ සම්පූර්ණ නිදහස දෙමාපියන් සතුය. ඔවුන්ට උවමනා නම් දරුවන්ට සිලිමක් පමණක් වුවද වෙන්කළ හැකිය. එම නිසා මෙය නොසලකමින්, නැතිනම් මේ කරුණ නිසාම උරුමයෙන් ලබාගත යුතු යමක් ඇති පංතිවලට විවාහවීමේ නිදහස එංගලන්තයට වඩා ඇමෙරිකාවේ හෝ ප්‍රංශයට වඩා ජර්මනියේ කොහෙත්ම වැඩි නැත.

විවාහයේදී ස්ත්‍රීය හා පුරුෂයා අතර නීතිමය සමානත්වය පිළිබඳ තත්ත්වයද සතුටුදයක නැත. මීට ඉහත පැවති සමාජමය කොන්දේසි නිසා ලැබූ උරුමය වන නීතිය ඉදිරියේ අසමාන තාවය ආර්ථික වශයෙන් ස්ත්‍රීය පාගාදැමීම නිසා ඇතිවූ හේතුව නොව ප්‍රත්‍යයකි. ජෝඩු කීපයක් හා ඔවුන්ගේ දරුවන් සහිත පැරණි කොමියුනිස්ටවාදී ගෙවල්වල ගෘහ පාලනය ස්ත්‍රීයට භාර කොට තිබුණු අතර, එය පුරුෂයින් ආහාර සොයා ගෙගෙන්නාක් මෙන්ම සමාජමය වශයෙන් අවශ්‍ය ප්‍රධාන කාර්යයක් විය. පීතෘ මූලික පවුලේදී මේ තත්ත්වය වෙනස් විය, ඒක භාර්යා ව්‍රතය සහිත

පෞද්ගලික පවුලේදී එය වඩාත් වෙනස් විය. ගෘහ පාලනයේ පොදු ස්වරූපය නැතිවිය. වැඩිදුරටත් එය සමාජයේ කාර්යයක් නොවීය. එය පෞද්ගලික සේවාවක් බවට පත්විය. සමාජමය නිෂ්පාදනයෙන් පිටකර දමනු ලැබූ බිරිඳ පළමුවැනි ගෘහ සේවිකාව බවට පත්වූවාය. ඇයට නැවත දොර විවෘත කළේ නූතන මහ කර්මාන්තයයි. සමාජමය නිෂ්පාදනයට මහ පැදුණේ නිර්ධන පංතික ස්ත්‍රියට පමණකි. ඇගේ පවුලේ පෞද්ගලික සේවය සපුරාලීමට ඇය ඉදිරිපත් වුවහොත් ඇය පොදු සේවයෙන් කොන්වී කිසිවක් උපයා ගැනීමට බැරිවන ආකාරයටය එය හැඩගැසී තිබුණේ. පොදු කර්මාන්තයේ නිරත වී ස්වාධීන දිවි පෙවෙතක් ගත කිරීමට ඇය ඉදිරිපත් වුවහොත්, ඇගේ පවුලේ කටයුතු ඉටුකිරීමට නොහැකි තත්ත්වයකට ඇය වැටේ. මේ නිසා පැක්ටරියේදී මෙන්ම වෛද්‍ය හා නීති වෘත්තීන් ඇතුළු අනිකුත් සියළු වෘත්තීන්හිදී මේවා ඇයට බලපායි. නූතන පෞද්ගලික පවුල විසින් ස්ත්‍රිය ප්‍රසිද්ධියේ හෝ වෙනත් විධියකින් හෝ ගෘහමය වහල් බවට ඇද දමනු ලැබීමේ පදනමක් මත ඇතිවූවකි. සිය අණුව වශයෙන් පෞද්ගලික පවුල පදනම් කරගත් පවුල් රාශියකින් අද සමාජය සෑදී තිබේ. අද බහුතර සංඛ්‍යාවක් යටත් පිරිසෙයින්, දේපොල සතු පවුල්වල පුරුෂයා පවුලට ආහාර සපයන්නා බවට පත්ව සිටීම නිසා ඔහුට ප්‍රධාන තැන හිමිවී තිබෙන අතර ඒ සඳහා නීතිගත වරප්‍රසාදයක් අවශ්‍ය නැත. පවුල තුළ පුරුෂයා ධනපතියාය, ස්ත්‍රිය නිර්ධන පංතිය නියෝජනය කරන්නීය. ධනපති පංතියේ සියලු විශේෂ නීතිගත වරප්‍රසාද අහක දැමූ පසුද, පංති දෙක අතර සම්පූර්ණ නීති සහගත සමානත්වයක් පිහිටවූ පසුද, කර්මාන්ත ලෝකයේ නිර්ධන පංතිය යටකර දැමීමේ ආර්ථික පීඩනය හොඳ හැටි කැපී පෙනේ. ප්‍රජාතන්ත්‍රවාදී ජනරජයක් පංති දෙක අතර ඇති ප්‍රතිවිරෝධීතාවය අහෝසි නොකරයි. එහෙත් ඒ වෙනුවට එය විසඳීම සඳහා සටන් කිරීමට ක්ෂේත්‍රයක් ලබාදෙයි. ඒ අනුව නූතන පවුලේ ස්ත්‍රිය මත ඇති පුරුෂ ආධිපත්‍යයේ විශේෂ ස්වරූපයද, දෙදෙනා අතර සමාජමය සමානතාවය ඇතිකිරීමේ අවශ්‍යතාවය හා විධියද, සම්පූර්ණයෙන් විසඳාලිය හැක්කේ දෙදෙනාම නීතිය ඉදිරිපිට සම්පූර්ණයෙන්ම සමාන වූ දටය. මුළු මහත් ස්ත්‍රී වර්ගයාම ප්‍රසිද්ධ කර්මාන්තයෙහි යෙදීම ඔවුන් මුදලීමේ පූර්වායවය බව එවිට පෙනීයයි. පෞද්ගලික පවුල සතු ගුණය වන සමාජයේ ආර්ථික ඒකකය අහෝසි කර දැමීම මෙය නැවතත් ඉල්ලා සිටී.

* * *

ප්‍රධාන විවාහ ක්‍රම තුනක් අපි දුටුවෙමු. අඩුවැඩි වශයෙන් මේ ක්‍රම තුන මිනිස් සංවර්ධනයේ ප්‍රධාන අවධි තුනට අනුරූපය. ම්ලේච්ඡ යුගයට කාණ්ඩ විවාහයද, වනචාරී යුගයට යුග විවාහයද සභ්‍යත්වයට පර ස්ත්‍රී පුරුෂ සේවනය හා ගණිකා වෘත්තිය ඇතුළු ඒක භාර්යා විරතයද අයත් ය. වනචාරී යුගයේ උසස් අවධියේදී යුග පවුල හා ඒක භාර්යා විරතය අතර තුර කාලයේදී වහල් ස්ත්‍රීන් මත පුරුෂ ආධිපත්‍යය ඇතිවීම සහ බහු භාර්යා සේවනයද යම්තමින් ආරම්භ විය.

අපේ විවරණය පෙන්වා දී ඇති පරිදි, කාණ්ඩ විවාහයේ සිට වැඩි වැඩියෙන් ස්ත්‍රියට ලිංගික ස්වාධීනත්වය සීමා කරන අතර පුරුෂයාට එවැනි සීමාවන් නොතිබුණු බව පිළිවෙලින් පෙන්වා දෙයි. ඇත්ත වශයෙන් ම, පුරුෂයාට අද දක්වාත් කාණ්ඩ විවාහය ඇත. කාන්තාවට දැඩි නීත්‍යානුකූල හා සමාජමය දඬුවම් ලැබිය හැකි අපරාධයක් පුරුෂයෙකුට ගරුත්වයක් ලැබිය හැකි දෙයක් ලෙසද, වැඩිම වශයෙන් ඔහු ඉතා සතුටින් විඳ දරාගන්නා අධ්‍යාත්මික කැළලක් වශයෙන් ද ගැනෙයි. වඩාත් පැරණි සම්ප්‍රදයානුකූල පර ස්ත්‍රී සේවනය, නූතන ධනවාදී භාණ්ඩ නිෂ්පාදනය විසින් වෙනස් කර තිබෙන අතර එයට අනුරූපව සහ එයටත් වැඩියෙන් නොසැඟවුණු ගණිකා වෘත්තිය දක්වා පරිවර්තනය වී ඇත. එහි දුර්විපාක වඩාත් අධෛර්යයට පත් කරවයි. ස්ත්‍රියට වඩා මේ නිසා පුරුෂයින් අධෛර්යයට පත් කරවයි. ස්ත්‍රීන් අතර අපකීර්තියට පත්වන්නේ ගණිකා වෘත්තියේ දෑඪ ග්‍රහණයට හසුවූ අවාසනාවන්තියන් පමණකි. මේ අය පවා පොදුවේ අප සිතන තරම් පහත් තත්ත්වයකට වැටී නැත. එහෙත් අනිත් අතින් මුළු මහත් පුරුෂ වර්ගයාගේම ස්වරූපය අපකීර්තියට පත්ව ඇත. ඒ අනුව දහයෙන් නවයක් දීර්ඝ කාලීන විවාහ ගිවිසුම් ප්‍රායෝගික වශයෙන් කාම මිථ්‍යාචාරයෙහි හැසිරීමට ඉඩකඩ ලබාදෙන පාසලක් වැන්න.

මෙතෙක් පැවති ඒක භාර්යා විරතයේ සහ එහි අතිරේක අංගයක් වන ගණිකා වෘත්තියේ ආර්ථික පදනම් සියල්ලක්ම අහෝසි වන සමාජමය විප්ලවයක් දක්වා අපි ලංවෙමින් සිටිමු. එක් පුද්ගලයෙකු අත අති විශාල ධනයක් ඒක රාශිවීම නිසා ද — එක් පුද්ගලයෙකු තමාගේ ධනය ඔහුගේ දූ දරුවනට මිස අන් කිසිවකුට ලබා නොදීමට අධිෂ්ඨාන කරසිටිනනිසාද ඒක භාර්යා විරතය පැන නැගිණි. මේ කාර්ය සඳහා ස්ත්‍රියගේ සේවය අවශ්‍ය විය. එහෙත් පුරුෂයාගේ සේවය අවශ්‍ය නොවීය. ස්ත්‍රියගේ ඒක පුරුෂ විරතය පුරුෂයාගේ ප්‍රසිද්ධ හෝ අප්‍රසිද්ධ හෝ බහු භාර්යා සේවනයට බාධා නොකළ යුතුය. නොදුරු අනාගතයේදී එන සමාජමය විප්ලවය නිෂ්පාදන කිරීමේ මාධ්‍යයන් වන උරුමය අනුව ලැබිය හැකි නිත්‍ය ධනයේ විශාල කොටසක් සමාජමය වස්තුව බවට හැරවීමෙන්, උරුමය විසින් ලැබිය හැකි වස්තුව අවමය ප්‍රමාණයක් දක්වා පහත දමනු ඇත. ඒක භාර්යා විරතය පැන නැගුණේ ආර්ථික හේතූන් නිසා නම් එම හේතූන් අහෝසි වන විට එයත් අතුරුදහන් වන්නේ ද?

යම් කිසිවකු මෙසේ පිළිතුරු දුනහොත් එය අසාධාරණ නොවේ: එය අතුරුදහන් වෙනවා කෙසේ වුවද නියම ලෙස ක්‍රියාවේ යෙදවීමට පටන් ගන්නේ එවිට පමණකි. නිෂ්පාදන මාධ්‍යයන් සමාජමය සන්තක වන විට වැටුප් ශ්‍රමයද, නිර්ධන පංතියද, ඒ සමගම සංඛ්‍යාලේඛන වශයෙන් ගණන් ගත හැකි, මුදලට යටවන ස්ත්‍රීන් සංඛ්‍යාවක්ද අතුරුදහන් වනු ඇත. ගණිකා වෘත්තිය අතුරුදහන් වෙයි; ඒක භාර්යා ව්‍රතය පහත වැටෙනවා වෙනුවට අවසානයේදී පුරුෂයාට බලපාන සත්‍යයක් බවට පෙරළෙන්නේය.

කොයි හැටි වුවද, පුරුෂයාගේ තත්ත්වය සෑහෙන ලෙස වෙනස් වෙයි. එහෙත් ස්ත්‍රියගේ තත්ත්වය, සියලු ස්ත්‍රීන්ගේ තත්ත්වය වැදගත් ලෙස වෙනස්වෙයි. නිෂ්පාදන මාධ්‍යයන් සමාජ සන්තක කරනු ලැබූ පසු පෞද්ගලික පවුල සමාජයේ ආර්ථික ඒකකය වශයෙන් ක්‍රියා විරහිත වේ. පෞද්ගලික ගෘහ පාලනය සමාජමය කර්මාන්තයක් බවට පත් වෙයි. දරුවන් බලාගැනීම හා ඔවුනට අධ්‍යාපනය ලබාදීම ප්‍රසිද්ධ කාර්යයක් බවට පත්වෙයි. විවාහක හා අවිවාහක දෙමාපියන්ගේ දරුවන් වශයෙන් භේදයක් නොකොට සියලුම ළමයින්ට සමාජය රැකවරණය ලබා දෙයි. තරුණියක් තමා ආලය කරන පුරුෂයෙකුට නිදහස් ලෙස යටත්වීම නිසා ඇතිවිය හැකි ''දුර්විපාක'' පිළිබඳ චකිතය, අධ්‍යාත්මික හා ආර්ථික වශයෙන් අද ගණන් ගනු ලබන වැදගත් සාධකය, අතුරුදහන් වනු ඇත. වඩාත් වැඩි අසංවර ලිංගික තෘප්තියකටද ඒ සමගම ස්ත්‍රියගේ කන්‍යා භාවය හා කාන්තා ලජ්ජාව ගැන වඩාත් මෘදු මහජන මතයක්ද ඇතිවීමට මෙය සෑහෙන හේතුවක් නොවන්නේද? නූතන ලෝකයේ ඒක භාර්යා ව්‍රතය සහ ගණිකා වෘත්තිය එකිනෙකට ප්‍රතිවිරෝධී දේ වුවද එකිනෙක වෙන් නොකළ හැකි, එකම සමාජමය තත්ත්වයන් නිසා පැන නැගී අංශ දෙකක් බව අවසාන වශයෙන් නොදකිමුද? ඒක භාර්යා ව්‍රතය පාතාලයට ඇදගෙන නොයමින් ගණිකා වෘත්තිය අහෝසි වී යන්නේද?

මෙතැනදී නව සාධකයක් ක්‍රියාකාරී වෙයි. ඒක භාර්යා ව්‍රතයේ වර්ධනයේ කලල රූප අවධියේ සිට පැවති සාධකයක් වන පෞද්ගලික ලිංගික ආලයය එය.

මැද යුගයට පෙර පෞද්ගලික ලිංගික ආලය යනුවෙන් කිසිවක් නොතිබිණි. ස්ත්‍රිය හා පුරුෂයා අතර ලිංගික සම්බන්ධකම් පිළිබඳ ආශාව පැන නැගීමට හේතුවන පෞද්ගලික අලංකාරයද, කිට්ටු ආශ්‍රයද, සමාන රුචිය ආදියද බලපෑවේය. අතිශයින්ම කිට්ටු මේ සම්බන්ධය ඇතිකර ගැනීමේදී පුරුෂයා මෙන්ම ස්ත්‍රියද ඒ ප්‍රශ්නය ගැන සම්පූර්ණ නොසැලකිල්ලක් දැක්වූහ යි කිව නොහැක. එහෙත් මෙය නූතන කාලයේ ලිංගික ආලයට වඩා බොහෝ වෙනස් වූවකි. පුරාණ කාලයේ සිටම විවාහයන් දෙමාපියන්



විසින් සූදනම් කරන ලදී; මේ දෙපක්ෂය කලබල රහිතව එකඟ වූහ. පුරාණ කාලයේ පැවති අල්පමය වෛවාහික ආලය ආත්මික රුචියක් නිසා ඇතිවූවක් නොව, වාස්තවික යුතුකමක් නිසා පැනනැගුණු එකක් විය. එය හේතුවක් නොව විවාහයේ සම්බන්ධනයකි. පුරාණ කාලයේදී නූතන අර්ථය අනුව ප්‍රේම සම්බන්ධයන් ඇති වූයේ නිල සමාජයෙන් පිටය. එඬේරුන්ගේ ආලයේ ප්‍රීතිය හා දුක තියොක්‍රිටස් සහ මොස්හුස් හෝ ලොන්ගස් විසින් ගයන ලදහ. ඩැප්නිස් සහ ක්ලෝයේ වහල් දසයෝය. නිදහස් පුරවැසියන්ට මෙන් ඔවුන්ට රජයේ කොටස් නැත. වහලුන් අතර හැරුණු විට, ප්‍රේම සම්බන්ධකම් පැරණි ලෝකයේ දිරාපත්වීම විස්තර කරන දේ හැටියට අපි දකිමු.නිල සමාජයේ සීමාවලින් පිටත ස්ත්‍රීන් සමග හිටරිස්මය හෙවත් පිටස්තර ස්ත්‍රීන් හෝ නිදහස් ස්ත්‍රීන් සමග ද, ඇතැන්ස් හි වැටීම ආරම්භ වූ සමයේදී ද, රෝමානු අධිරාජ්‍යයන්ගේ කාලයේදී රෝමයේද මෙසේ විය.නිදහස් පුරුෂයින් හා ස්ත්‍රීන් අතර ප්‍රේම සම්බන්ධකම් ඇත්ත වශයෙන්ම සිදුවූයේ නම්, එය පර ස්ත්‍රී හා පර පුරුෂ සේවනයන්ගේ ස්වරූපයක් පමණක් ගත්තේය. ලිංගික ආලය පිළිබඳ අප දරන මතය පැරණි ආචීර්ණ කල්පික මතයට වඩා කොතරම් වෙනස්ද යත්, පැරණි අනක්‍රෙඔන් කියන පරිදි තම ආදරවන්ත අයගේ ලිංගය ඔහුගේ සැලකිල්ලට පවා භාජන නොවීය.



පැරණින්නන්ගේ හුදු ලිංගික ආශාව වන eros ට අපේ ලිංගික ආලය විශාල වශයෙන් වෙනස් ය. පළමුවැනිව, ආදරවන්තයා ආදරවන්තියගේ අන්‍යෝන්‍ය ආලය බලා පොරොත්තු වෙයි, මේ අනුව ස්ත්‍රිය පුරුෂයාට සමාන පදනමක සිටී. එහෙත් පැරණි කාමය පිළිබඳව ස්ත්‍රියගේ අදහස් කොහෙත්ම සැලකුවේ නැත. දෙවැනිව, එකිනෙකා අයත්කර නොගෙන හෝ එකිනෙකාගෙන් වෙන්වීම විශාල හෙවත් විශාලතම අභාග්‍යය හැටියට සැලකීමට තරම් උච්ච අවස්ථාවකට ලිංගික ආලය පැමිණීම හා එය ස්ථිරවීම. එකිනෙකා තම තමන් අයත් කර ගැනීම සඳහා ජීවිත අවදානම පවා නොතකා විශාල හිරිහැරවලට මුණ පෑම. පුරාණ කාලයේදී මෙය සිදුවූයේ පර ස්ත්‍රී-පුරුෂ සේවනයේදී පමණකි. අවසාන වශයෙන් ලිංගික සංසර්ගය නව අධ්‍යාත්මික පදනමක් මත විනිශ්චය කෙරෙනු ඇත. එවැනි සංසර්ගයන් නිත්‍යානුකූලද, නීති විරෝධී ද යන්න පමණක් නොව එවැන්නක් ඇතිවූයේ අන්‍යෝන්‍ය ආලය පදනම් කරගෙනද? යන්න ප්‍රශ්න කරනු ඇත. රදළවාදී හෝ ධනවාදී හෝ ක්‍රම තුළ මේ අලුත් තත්ත්වය අනිකුත් අධ්‍යාත්මික ගුණාංගයන් මෙන්ම අමතක කර දමා තිබේ. එහෙත් එය අනිකුත් ඒවාට වඩා පහත් තත්ත්වයක් නොදරයි. එයද, අනිකුත් ඒවා මෙන්ම කඩදාසිය මත පිළිගෙන ඇත.

මෙයට වඩා යමක් දැනට පිළිගත නොහැක. ලිංගික ආලය පටන්

ගැන්මත් සමග පුරාතන යුගය අහෝසි විය. මැද යුගයේදී එය පටන් ගත්තේ පර ස්ත්‍රී-පුරුෂ සේවනයෙනි. අරුණෝදයේ ගීත විස්තර කරන ධීර වීර ආලය ගැන මීට ඉහත සඳහන් කළෙමු. විවාහය කඩා බිඳ දැමීම අරමුණු කොට ගත් මේ මාදිලියේ ආලය සහ විවාහයේ අරමුණ සහ විවාහයේ පදනම වන ආලයත් අතර විශාල භේදයක් ඇත්තේය. ධීර වීර යුගය මේ දෙක අතර ඇති භේදය සම්පූර්ණයෙන්ම තුනී කිරීමට සමත් නොවීය. නිස්සාර ලතිනයන්ගේ සිට ගුණවත් ජර්මනුන් දක්වා අප යන විට "Nibelungenlied" නම්වූ කෘතියේ ක්‍රිම්හිල්ඩා සිග්ප්‍රිඩ්ට රහසින් ආලය කරන අතර — ඔහුද ඇයට එලෙසම ආලය කරයි. ගුන්තර් ඇය වෙනත් සිටුවරයෙකුට විවාහකරදීමට සූදනම් බව ඉඟිකරමින් ඔහුගේ නම පවා ඇයට නොදන්වයි. ඔහුට පිළිතුරු දෙන ක්‍රිම්හිල්ඩා මෙසේ කියයි: ''ඔබ ඇසිය යුතු නැත. ඔබේ නියමයට මම සඳහටම යටත් වන්නෙමි. මගේ සැමියා හැටියට ඔබ මට තෝරාදෙන තැනැත්තාට මම කැමැත්තෙන් ගිවිසුම් දෙමි''. ඇගේ ආලය මෙතැනදී සැලකිල්ලට භාජන කළ යුතුයැයි ඇයට කිසිවිටක කල්පනා නොවේ. ගුන්තර්, කිසිදක නොදුටු බ්රුන්හිල්ඩා විවාහ කරගැනීමට බලාපොරොත්තු වෙයි. ක්‍රිම්හිල්ඩා සමග විවාහවීම එට්සෙල්ගේ අදහස ය. අයර්ලන්තයේ සිග්බාන්ට් නෝර්වේහි යූට් සමගද, හෙගලින්ගන්හි හෙටෙල් අයර්ලන්තයේ හිල්ඩා සමග ද, මෝර්ලන්ඩ්හි සිග්ප්‍රිඩ්ද ඔර්මන්හි හර්ට්මුට්ද සීලන්ඩ්හි හර්විග්ද ගුඩ්රුන් සමගද විවාහ වීමට බලාපොරොත්තු වන සැටි "Gudrun" කථාව කියයි. පළමුවැනි වරට සිය කැමැත්ත අනුව ගුඩ්රුන් හර්විග් තෝරාගන්නීය. රීතියක් වශයෙන් තරුණ කුමාරයෙකුගේ මනාලිය තෝරාගැනීම ඔහුගේ දෙමාපියන්ගේ කාරියකි. දෙමාපියන් ජීවතුන් අතර නැතිනම් නිලකාර ප්‍රධානීන්ගේ කැමැත්ත අනුව — මොවුන්ගේ අදහස්වලට සැහෙන බලයක් ඇත — සුදුසු මනාලියක් තෝරාගත යුතුය. මෙයට වඩා වෙනස් විධියක් නැත. කුමාරයෙකුට මෙන්ම සිටුවරයාටත් ප්‍රභූවරයාටත් විවාහය දේශපාලනමය ක්‍රියාවකි. අලුත් ඥති මිත්‍ර සබඳකම් අනුව බලය ලබා ගැනීම සඳහා උසස්වීමට එක් අවස්ථාවකි. වලව්වේ උවමනාවන් පෙරදැරි කරගෙන වැඩ කිරීම මිස පෞද්ගලික සිතැඟියාවන් තීරණාත්මක සාධකයන් නොවේ. විවාහය පිළිබඳ අවසාන වචනය දීමට තරම් ආලයට බලාපොරොත්තුවක් තිබේද?

මැද යුගයේ ව්‍යාපාරික ශ්‍රෙණිවලට අයත් වූවන්ගේ තත්ත්වයද එසේ විය. ඔවුන් ආරක්ෂා කළ වරප්‍රසාදයන් — විශේෂ නීති ඇති ශ්‍රෙණි ව්‍යාපාර ව්‍යවස්ථාද, අනිකුත් එවැනිම ව්‍යාපාරවලින් ඒවා වෙන් කිරීමේ කෘත්‍රිම සීමාවන්ද, තමන්ගේ සහෝදර ශ්‍රෙණි ව්‍යාපාරිකන්ගෙන්, කුලී කරුවන්ගෙන් හා පුහුණු වන්නන්ගෙන් තමා වෙන්කර තැබීමේ නීති රීතින්ද



නිසා ශ්‍රෙණි ව්‍යාපාරිකයාට සුදුසු සහකාරියක් සොයාගැනීම සැහෙන ලෙස සීමාවිය. ඉතාමත්ම සුදුසු තැනැත්තිය කවිද යන්න සංකීර්ණ ක්‍රමයක් මගින් තීරණය කළ අතර එය පුද්ගලික උවමනාවන් අනුව නොව පවුල් උවමනාවන් අනුව කරන ලදී.

මේ නිසා මැද යුගයේ අවසානය දක්වා සිද්ධීන් බහුතර සංඛ්‍යාවක් අනුව, මුල පටන්ගැන්මේ සිට පැවති විධියටම පැවතිණ, එනම් ප්‍රධාන දෙපාර්ශ්වයේ කැමැත්ත පරිදි තීරණය වූවක් නොවීය. මුලදී කෙනෙකු ලොව පහළ වූයේ විවාහ වී ගෙනය, ස්ත්‍රියකු පුරුෂ පක්ෂයේ සම්පූර්ණ කණ්ඩායමකටද පුරුෂයකු ස්ත්‍රීන්ගේ සම්පූර්ණ කණ්ඩායමකටද විවාහ වී ගෙන ය, එසේ උපන්නේ. කාණ්ඩ විවාහයේ මෑත විධි අනුවද එවැනිම සම්බන්ධකමක් තිබූ බවට සිතිය හැකිය. මෙහිදී කණ්ඩායම එන්ට එන්ටම පටුවිය. යුගලන විවාහ ක්‍රමයේදී මව්වරුන් සිය දූ දරුවන්ගේ විවාහ පිළියෙළ කිරීම රීතියක් විය. මෙහිදීද වංශය හා ගණ ගෝත්‍රය තුළ තරුණ යුවලගේ තත්ත්වය ශක්තිමත් කෙරෙන නෑ සබඳකම් ගැන කල්පනා කිරීම තීරණාත්මක සාධකයයි. පොදු දේපොල වෙනුවට පෞද්ගලික දේපොල බලපෑමට පටන්ගත් පසු, උරුමය අත්කරදීමේ උවමනාව ඇතිවූ පසු, පිය අයිතිය සහ ඒක භාර්යා විරතය නැගී විත්, විවාහය අත් කවර කලකටත් වඩා ආර්ථික හේතූන් වලට යටත් වනු ඇත. මිලයට ගෙන විවාහවීමේ ක්‍රමය අතුරු දහන් වී යයි. මේ ගනු දෙනුව කොතරම් උත්සන්න වන්නේද යත්, ස්ත්‍රිය පමණක් නොව පුරුෂයාවද තක්සේරු කරන අතර, ගණන් ගනු ලබන්නේ ඔහුගේ පෞද්ගලික ගුණයන් නොව වත් පොහොසත් කම්ය. විවාහය සඳහා ප්‍රධානතම හේතුව විය යුත්තේ මනාලියගේ සහ මනාලයාගේ අන්‍යොන්‍ය කැමැත්ත යන්න පාලක පංතීන් අතර මුල සිටම නොඇසූ විරූ දෙයකි. එවැනි දේ ඇත්ත වශයෙන්ම සිදුවූයේ ප්‍රෙම සම්බන්ධවලදී පමණකි. නැතිනම් සැලකිල්ලට භාජන නොවූ පීඩිත පංතිවල පමණකි.

භූගෝල ශාස්ත්‍රීය වශයෙන් රටවල් සොයා ගැනීමේ යුගයෙන් පසු ලෝක වෙළඳාම හා නිෂ්පාදනය මගින් ලෝකය අල්ලාගැනීමට ධනවාදී නිෂ්පාදනය ඉදිරිපත් වන විට පැවති තත්ත්වය එයය. මේ විවාහ ක්‍රමය එයට ඉතා හොඳින් ගැළපිණැයි යමෙකුට සිතිය හැකිය. එය ඇත්ත වශයෙන්ම එසේය. එහෙත් ලෝක ඉතිහාසයේ ව්‍යාජෝක්තිය මැණිය නොහැකි සේ ගැඹුරු ය. මෙහි තීරණාත්මක උල්ලංඝණයක් ඇති කළේ ධනවාදී නිෂ්පාදනයයි. සෑම දෙයක්ම භාණ්ඩ බවට පත් කිරීමෙන් සියලු පැරණි සම්ප්‍රදගත සබඳකම් විසුරුවා හරින ලදී. පරම්පරාගත චාරිත්‍ර හා පැරණි ඓතිහාසික අයිතිවාසිකම් වෙනුවට ''නිදහසේ'' මිළදී ගන්නා හා විකුණනු ලබන ගනුදෙනු ක්‍රමයක් ඇති කළේය. තරාතිරමේ සිට

ගිවිසුම දක්වා, එනම් උරුමයෙන් පැවත ආ රාජ්‍යමය කටයුතුවල සිට සිය කැමැත්ත අනුව ගිවිසුම් ඇතිකර ගැනීමේ තත්ත්වය දක්වා පැමිණීම, අනිකුත් යුග සමග සසඳා බලන විට විශාල වර්ධනයෙකැයි එච්.එස්.මෙයින් නැමති ඉංග්‍රිසි නීති වේදියා පැවසූ විට ඔහු විශාල සොයා ගැනීමක් කළ බව විශ්වාස කළේය. මේ නිවැරදි ප්‍රකාශනය, ඊට බොහෝ කලකට පෙර කොමියුනිස්ට් ප්‍රකාශනයේ සඳහන් විය.

තමන්ට අයත් මිනිසුන්, ක්‍රියා සහ වස්තුව නිදහස් ලෙස යෙදවිය හැකි සමාන තත්ත්වයක් අනුව මූණ ගැසෙන පුද්ගලයින්ගේ ගිවිසුමක් ඇතිකරගැනීම අහවයි. ධනපති නිෂ්පාදනයේ ප්‍රධාන කාර්යයක් නම් එවැනි ''නිදහස්'' ''සමාන'' මිනිසුන් නිර්මාණය කිරීමය. මුලදී මෙය අර්ධ සංවිඥානක විධියකට පටන් ගත්තද, එයට තවත් ආගමික මුහුණුවරක්ද ලැබිණ. මිනිසකු තම ක්‍රියාවලට මුළුමනින්ම වගකිව යුත්තේ, එම ක්‍රියාව කරන අවස්ථාවේදී ඔහුට සම්පූර්ණ නිදහස තිබුනොත් පමණකැයිද ආචාර ධර්මය නොවන ක්‍රියාවන් කිරීමට ඇති බලකිරීම්වලට විරුද්ධවීම ආචාර ධර්මයකැයි ද යන මූලධර්මය දැඩි ලෙසම ක්‍රිස්තියානි ආගමේ ලූතර් හා කැල්වින් ප්‍රතිසංස්කරණය විසින් ක්‍රියාවේ යොදවන ලදී. එහෙත් පැරණි විවාහ චාරිත්‍රයන් සමග මෙය ගැළපෙන්නේ කෙසේද? ධනවාදී මතය අනුව විවාහය එක්තරා ගිවිසුමකි, නීත්‍යානුකූල කටයුත්තකි, ඇත්ත වශයෙන්ම ඉතා වැදගත් කාරණයේ වනුයේ දෙදෙනෙකුගේ ශාරීරික හා බුද්ධිමය ඉරණම සඳහටම තමන්ට රිසි සේ තීරණය කිරීමය. බාහිර වශයෙන් මේ ගිවිසුම සිය කැමැත්තෙන් කළ බව ඇත්තය. විවාහයට ඇතුළු වන දෙදෙනාගේ කැමැත්ත නොවිමසා විවාහ ගිවිසුම ඇති කරනොගන්නා ලදී. එහෙත් මේ කැමැත්ත ලබාගන්නේ කෙසේද? විවාහය ඇත්ත වශයෙන්ම සූදනම් කළේ කව්ද? යනාදිය හොඳහැටි ප්‍රකට කරුණුය. සියලුම ගිවිසුම් තීරණය කිරීම සඳහා නියම නිදහස ඉල්ලා සිටින්නේ නම් විවාහයටත් එය නොඉල්ලන්නේ මන්ද? ජෝඩු කිරීමට භාජන වී සිටින තරුණියට හා තරුණයාට තමන්ගේ ශරීර හා එහි ඉන්ද්‍රියයන් තම අභිමතසේ ක්‍රියාවේ යෙදවීමට බලයක් නොමැතිද? ධීර වීර යුගයේ විපාකයක් වශයෙන් ලිංගික ආලය මෝස්තරයක් බවට පත් නොවීද, රදළ සිටුවරයින්ගේ පරදර ආලය වෙනුවට සැමියාගේ හා බිරිඳගේ ආලය නියම ධනපති විධිය නොවන්නේද? විවාහයට පත් මිනිසුන්ගේ යුතුකම එකිනෙකාට ආලය කිරීම නම්, ආදරවන්තයින්ගේ යුතුකම අන්කිසිවකු සමග නොව, ඔවුනොවුන් විවාහවීම නොවන්නේද? මේ ආදරවන්තයින්ගේ අයිතිය, දෙමාපියන්ගේ නෑයින්ගේ හා සම්ප්‍රදායානුකූල මඟුල් කපුවන්ගේ අයිතියට වඩා උසස් නොවන්නේද? නිදහස් පෞද්ගලික පිරික්සීමේ අයිතිය ගරුසරු නැතිව බලයෙන් පල්ලියට හා ආගමට ඇතුළු වී නම්, තරුණ පරපුරේ



සැප හා දුක, දේපල, ශරීරය හා ආත්මය ගැන තමන්ට රිසි පරිදි තීරණ ගත හැකියැයි කියා සිටින වැඩිමහල් පරපුරේ නොඉවසිය හැකි ඉල්ලීම ඉදිරියේ එයට නැවතිය හැක්කේ කෙසේද?

පැරණි සමාජමය සබඳකම් ලිහිල්වූ සහ සම්ප්‍රදායානුකූල මතවල පදනම් සොළවා දැමූ අවධියක මේ ප්‍රශ්න මතු වනු නියතය. හදිසියෙන්ම ලෝක පරිමාණය දස ගුණයකින් වැඩිවී ඇත. භූගෝලයේ අටෙන් කොටසක් පමණක් වෙනුවට බටහිර යුරෝපියයන්ගේ බැල්මට මුළු මහත් පෘථිවියම හසුවී ඇත. ඔවුහු ඉතිරි හත් කොටසේ තම ආධිපත්‍යය පතුරුවා හැරීමට යුහුසුළු වෙති. මධ්‍යකාලීන බාධිත චින්තන ක්‍රමය විසින් අවුරුදු දහස් ගණනක් තිස්සේ ඇතිකළ අවහිරකම් සියල්ලක්ම, මව්බිමේ පැරණි දේශ සීමාවන් මෙන්ම අහෝසිවී ගියේය. මිනිසාගේ බාහිර හා අභ්‍යන්තර අක්ෂියට සීමාරහිත නව ක්ෂිතිජයක් විවෘත විය. ඉන්දියාවේ ධනය නිසාද, මෙක්සිකෝවේ හා පොටොසිහි රන් සහ රිදී ආකර නිසාද පෙළඹී සිටි තරුණයාට, වැදගත්කමේ සුහද හැඟීම්වලින්ද පරම්පරා ගණනක් තිස්සේ උරුමවූ ගරුකටයුතු ගිල්ඩ් වරප්‍රසාදවලින්ද ඇති ඵලය කුමක්ද? ධනපති ක්‍රමයේ වික්‍රමාන්විත යුගය එය විය; එය චින්තා වෛචිත්‍රයෙන්ද, පෙම්බර සිහිනවලින්ද යුක්ත විය. එහෙත් ඒවා ධනපති පදනමක් මත විය, අවසාන විශ්ලේෂණයේදී ධනපති පරමාර්ථයන් ඉටුකර ගැනීමේ පරමාර්ථය ඇති වූවකි.

පවතින ක්‍රමය අන් හැම රටකටම වඩා තදින් දෙදරුම් කා ගිය, විශේෂයෙන් ප්‍රොතෙස්තන්ත රටවල, නැඟී එන ධනපති පංතිය, විවාහයටත් නිදහස් ගිවිසුම් ක්‍රමය තිබිය යුතුයැයි වැඩි වැඩියෙන් පිළිගනිමින් ඉහත සඳහන් ආකාරයට එය ක්‍රියාවේ යෙදවීය. විවාහය පංතිමය විවාහයක් වශයෙන් ඉතිරිවිය. එහෙත් පංතිමය සීමාවන් තුළ දෙපක්ෂයටම එක්තරා ප්‍රමාණයකට තෝරාගැනීමේ නිදහස දෙන ලදී. කාව්‍යමය විස්තරවලදී මෙන්ම, කඩදසිය මත හා අධ්‍යාත්මික න්‍යායය අනුව, අන්‍යෝන්‍ය ලිංගික ආලය පදනම් කරගනිමින් සහ පුරුෂයා සහ ස්ත්‍රිය අතර නිදහස් ගිවිසුමක් මත නොසිදුවන විවාහය අශික්ෂිත විවාහයක් ලෙස සලකන ලදී. කෙටියෙයෙන් කියතොත් ආලය නිසා විවාහවීම මිනිස් අයිතියක ලෙස ප්‍රකාශ කරන ලදී. පුරුෂයාගේ අයිතිය (droit de l'homme) පමණක් නොව විශේෂයෙන් ස්ත්‍රියගේ අයිතිය (droit de la femme) ලෙසද එය පිළිගැනිණ.

අනිකුත් සියළුම ඊනියා මිනිස් අයිතිවාසිකම් වලින් මෙය වෙනස්වූයේ එක් කරුණකිනි. පසු කී මේ අයිතිය ප්‍රායෝගික ලෙස පාලක පංතියට, ධනපති පංතියට පමණක් සීමාවිය. නිර්ධන පංතියට නියම ලෙස හෝ අනියම් ලෙස ඒවා භුක්ති විඳීමට ඉඩ නොලැබිණි. ඓතිහාසික ව්‍යාජෝ-

ක්තිය මෙතැනදී නැවතත් තහවුරු වෙයි. පාලක පංතිය දිගටම ආර්ථික බලපෑම්වලින් මිරිකී ඇති හෙයින් නියම ලෙස සිය කැමැත්තෙන් කරන විවාහයක් පෙන්වා දිය හැක්කේ විශේෂ අවස්ථාවලදී පමණකි. එහෙත් අප දැක ඇති පරිදි අධිපත්‍යය උසුලන පංතිය තුළ රීතිය එයයි.

ඒ අනුව විවාහවීමට සම්පූර්ණ නිදහස ඇතිවිය හැක්කේ ධනපති නිෂ්පාදනයද, එය විසින් ඇති කරන ලද දේපළ පිළිබඳ සබඳකම්ද නැතිකර දැමීමෙන් පසුවය, සහකරුවෙකු තෝරාගැනීමේදී අතිශයින් බලපාන අප්‍රධාන සියලු ආර්ථික සාධක නැතිකර දැමීමෙන් පසුවය. ඉන්පසු අන්‍යොන්‍ය හිතවත්බව හැර අන් කිසිවක් ඉතිරි නොවේ.

සොබාවෙන්ම ලිංගික ආලය විශේෂතාවයක් දරන නිසා — මේ විශේෂතාවය අද සම්පූර්ණයෙන්ම බලපාන්නේ ස්ත්‍රියට පමණක් වුවද — ලිංගික ආලය මත පදනම්වූ විවාහය ඒක භාර්යා ව්‍රතය වේ. කාණ්ඩ විවාහයේ සිට ඒක පුද්ගල විවාහය දක්වා දියුණුවීමක් ඇතිවූයේ ප්‍රධාන වශයෙන්ම ස්ත්‍රියගේ සේවය නිසා යැයි බහොපන් කියන විට, ඔහු කොතරම් නිවැරදිද යන්න අපි දුටුවෙමු. යුගලන විවාහයේ දියුණු ක්‍රමයේ සිට ඒක භාර්යා ව්‍රතය දක්වාවූ වෙනස පමණක් පුරුෂයාගේ සේවය හැටියට ගණන් ගත හැක. ඓතිහාසික වශයෙන් මෙය ස්ත්‍රියගේ තත්ත්වය අයහපත් කළ අතර පුරුෂයාට කාම මිථ්‍යාචාරයේ හැසිරීමට පහසුකම් ලබා දුන්නේ ය. සිරිතක් වශයෙන් පැවත ආ පුරුෂයාගේ කාම මිථ්‍යාචාරය විඳදරා ගැනීමට බලකළ ආර්ථික හේතූන් අහෝසි වී යාමත් සමගම— තම ජීවිතය ගැන සිත් තැවුලද ඊටත් වඩා තම දූ දරුවන්ගේ අනාගතයද— ලබාගන්නා සමානත්වය විසින්, ලබන ලද අත්දැකීම් අනුව විනිශ්චය කරන විට, ස්ත්‍රිය බහු පුරුෂ ව්‍රතය රකිනවාට වඩා බොහෝ වැඩියෙන් පුරුෂයා ඒක භාර්යා ව්‍රතය රකිනු ඇතැයි කිව හැකිය.

කෙසේවුවද, ඒක භාර්යා ව්‍රතයෙන් නියත වශයෙන්ම අතුරුදහන් වී යන්නේ, දේපල සබඳකම් නිසා පැන නැගී සියලු අංග ලක්ෂණයන් ය. මේවා නම් පළමුවැනිව පුරුෂ ආධිපත්‍යය සහ දෙවනුව, විවාහය කඩුගා දැමිය නොහැකි භාවයය. විවාහය මත ඇති පුරුෂාධිපත්‍යය ආර්ථික අධිපත්‍යය නිසා ඇතිවූවක් බැවින්, එයත් සමගම එයද ඉබේම අහෝසි වනු ඇත. විවාහය කඩුගා නොදැමිය හැක්කේ ඒක භාර්යා ව්‍රතය පැන නැගී ආර්ථික තත්ත්වයන්ගේ ප්‍රතිඵල අඩවශයෙන් බලපෑ නිසාය. මේ ආර්ථික තත්ත්වයන් හා ඒක භාර්යා ව්‍රතයේ සම්බන්ධකම් ආගම හරිහැටි තේරුම් නොගත් නිසාත් ඒවා අතිශයෝක්තියෙන් ගත් නිසාත් විවාහය කඩුගා දැමීමට අඩවශයෙන් ඒවා බලපෑවේය. අද මෙය දහස් වාරයකින් කඩ කොට ඇත. ආලය මත පදනම් කර ගත් විවාහ පමණක් සදචාරාත්මක නම්, ආලය පමණක් සහිත දෙය සදචාර වන්නේය. පෞද්ගලික ආලය



පිළිබඳ මහත් උනන්දුවත් කාලය ඒ ඒ පුද්ගලයා අනුව වෙනස් වෙයි. මෙය විශේෂයෙන්ම පුරුෂයින්ට බලපානු ලැබේ. නියත වශයෙන්ම ඇලුම්කිරීම අවසන්වීම නිසා හෝ බලවත් හැඟීමෙන් යුත් අළුත් ප්‍රේමයක් නිසා හෝ දික්කසාදවීම දෙපක්ෂයටත් එමෙන්ම සමාජයටත් ආශීර්වාදයක් වනු ඇත. දික්කසාදවීමේ උසාවි කටයුතු නම්වූ ගොහොරුවෙන් පමණක් මිනිසුන් නිදහස ලබනු ඇත.

ධනවාදී නිෂ්පාදනය අකා මකා දැමීමෙන් පසු, ලිංගික සබඳතාවයන්ගේ විධිමත් කිරීමක් ගැන අපට උත්ප්‍රේක්ෂනය කළ හැක්කේ එහි අතුරුදහන් වන අංගයන් ගැන පමණකි. එහෙත් එයට එකතු වන්නේ මොනවාද? නව පරම්පරාවක් ඇතිවූ පසු එය නිරාකරණය කරනු ඇත. මුදල් නිසා හෝ වෙන යම් කිසි සමාජමය බලපෑමක් මගින් හෝ ස්ත්‍රියකගේ යටත්වීම කිසිම දවසක මිලට නොගත් පුරුෂ පරපුරක් සහ නියම ආලය හැර අන් කවර කරුණක් නිසා හෝ පුරුෂයෙකුට යටත්වීමට කිසිදු වුවමනාවක් නැත්තාවූද, ආර්ථික දුර්විපාකයන් නිසා තම ආදරවන්තයාට යටත්වීමට නොහැකි තත්ත්වයකට මූණ නොපාන ස්ත්‍රී පරපුරක් ඇතිවූ පසු එය නිරාකරණය කරනු ඇත. ඔවුන් කළ යුත්තේ කුමක්ද යන්න ගැන අප අද සිතන දේ පිළිබඳ තඹයකටවත් නොසලකන මිනිසුන් එවිට ඇතිවනු ඇත. ඔවුන් තමන් රිසි පරිදි කටයුතු කරනු ඇත. තමන්ගේම මහජන මතයක් ඔවුන් ගොඩනගනු ඇත. එක් එක් පුද්ගලයාගේ සැපපහසුව සහිත ප්‍රායෝගිකත්වයක් ගොඩනැගීමෙන් එම කාරිය සම්පූර්ණ වනු ඇත.

ඒ අතර, අප සැහෙන ලෙස ඉවත්වී ගිය මෝර්ගන් වෙතට නැවත හැරෙමු. සභ්‍ය යුගයේදී වර්ධනය වූ සමාජමය ආයතනයන්ගේ ඓතිහාසික පිරික්සීමකට ඔහුගේ පොතෙහි ඉඩකඩ නොමැත. ඒ අනුව, මේ කාලය තුළදී ඒක භාර්යා ව්‍රතයේ ඉරණම ගැන පමණක් කෙටියෙන් ඔහු හදරයි. ඒක භාර්යා පවුල වර්ධනයවීම දියුණුවක් ලෙසද, ස්ත්‍රී පුරුෂ සමානත්වයට ළංවීමක් ලෙසද සලකන ඔහු, කෙසේ හෝ එම අරමුණ කරා පැමිණ ඇතිබව නොසලකයි. එහෙත් ඔහු මෙසේ කියයි: "පවුල ක්‍රම හතරක් තුළින් ගමන් කොට දැන් පස්වැනි ක්‍රමයට පැමිණ සිටී. අනාගතයේ වුව මේ ක්‍රමය නිත්‍යද යන ප්‍රශ්නය දැන් පැන නැග ඇත. එයට දිය හැකි එකම පිළිතුර නම් පෙරදී සිදුවූ පරිදි සමාජය දියුණුවන විට එයද දියුණුවිය යුතුය, සමාජය වෙනස්වන විට එයද වෙනස්විය යුතුය, යන්නය. එය සමාජ ක්‍රමයේ නිර්මානයක් වන අතර එය සංස්කෘතිය පිළිබිඹු කරයි. සභ්‍යත්වය පටන්ගත් කාලයේ සිට සහ නූතන කාලයේ ඉතාම වැඩියෙන් දියුණුවට පත් ඒක භාර්යා පවුල ස්ත්‍රී පුරුෂ සමානත්වය ඇතිවනතෙක් වැඩි දුරටත් දියුණුවනු ඇතැයි සිතිය හැකිය. ඇත අනාගත-

යේදී ඒක භාර්යා විරතමය පවුල සමාජයේ උවමනාවන් පිරිමසාලීමෙහි අසමත් වුවහොත්, ඉන් පසු ඇතිවන පවුල් ක්‍රමයේ ස්වභාවය ගැන අනාවැකි කීමට අපොහොසත් වන්නෙමු''.

## III

## ඉරෝකුවොයිස් වංශ

ලේ නෑ ක්‍රම අනුව පවුලේ ආදි කල්පික විධිය නැවත ගොඩනැගීම තරම්ම වැදගත් මෝර්ගන්ගේ තවත් සොයා ගැනීමකට අපි දැන් ළඟාවෙමු. ඇමෙරිකන්-ඉන්දියන් ගෝත්‍රය තුළ ලේ නෑ ක්‍රමයට අයත් උදවිය සතුන්ගේ නම්වලින් හැඳින්වීම පෙන්වාදීම මූලික වශයෙන් ග්‍රීක genea වංශ හා රෝම gentes වංශ හැඳින්වීමට කිසිසේත්ම වෙනස් නොවේ. වංශයේ මූලික ක්‍රමය ඇමෙරිකන් ක්‍රමය වූ අතර පසුව ඇතිවූ ග්‍රීක හා රෝම ක්‍රම එහි ව්‍යුත්පන්න ඒවා වේ. ආදි කාලීන ග්‍රීකයින්ගේ හා රෝමන්වරුන්ගේ වංශ, මුළු සමාජ සංවිධාන ඇමෙරිකන් ඉන්දියානුන්ගේ ක්‍රමයට ඉතා ළංව සමාන්තරව පිහිටා ඇත. (අප දැනට දන්නා කරුණු අනුව) සියළු වනචාරීන් සභ්‍ය යුගයට ඇතුළුවීම දක්වාද ඉන්පසුවද වංශ, ඔවුන්ගේ පොදු ආයතනයකි. මේ සොයාගැනීම නිසා පුරාතන ග්‍රීක හා රෝම ඉතිහාසයේ ඉතාම අසීරු කොටස් පැහැදිලි වී ඇත. එසේම, මෙය රජය ඇතිවීමට පෙර යුගයේදී පැවති මූලික සමාජමය ව්‍යවස්ථා බලාපොරොත්තු රහිත ලෙස එළිදරව් කරයි. මේවා ගැන දැනගත් පසු පහසු දේවල් ලෙස කෙනෙකුට පෙනීගියද, මෝර්ගන් ඒවා සොයාගත්තේ මෑතකදීය. සාමාන්‍යයෙන් දැඩි ආත්ම විශ්වාසයකින් සිටි ඉතිහාසයට පූර්ව කාලය පිළිබඳ ඉංග්‍රීසි ඉතිහාස කාරයින් මීයන් මෙන් නිහඬ කළ ඒ සොයා ගැනීම 1871 පළකළ තම කෘතිය තුළින් මෝර්ගන් සොයා ගෙන නොසිටියේය.

ලේ නෑයින්ගේ සංවිධානය නම් කිරීම සඳහා මෝර්ගන් යොදන gens (වංශය) යන ලතින් වචනයද, ග්‍රීකයින් යෙදූ genos යන වචනයද ආර්ය gan යන මුල් ධාතුවෙන් බින්න වූවකි. (ජර්මන් බසින් 'g' ශබ්දය 'k'තෙක් වෙනස්වී kan යන්න සෑදී ඇත), මෙහි තේරුම උපද්දනවා යන්නය. Gens, genos, සංස්කෘත janas, ගොතික් බසින් kuni (ඉහත සටහන් රීතිය අනුව), පැරණි නෝඩික් සහ ඇන්ග්ලෝ-සැක්සන් kyn, ඉංග්‍රිසි බසෙහි kin, මැද උස් ර්ර්මන් බසෙහි künne ආදි මේ හැම වචනයක්ම සමාන ලෙස නෑකම හා පරම්පරාව හඳුන්වයි. කෙසේ වුවද ලතින් බසෙහි gens යන්නද ග්‍රීක් බසෙහි genos යන්නද ලේ නෑකම් පොදු වංශයක් ගර්විත ලෙස හැඳින්වීම සඳහා යොදන වචන වේ (මෙහිදී මේ හැඳින්වීම එක



පොදු පුරුෂ මී මුත්තෙකුගෙනි). මෙය සමහර සමාජමය හා ආගමික ආයතනයන් තුළින් එක් විශේෂ සමූහයකට සම්බන්ධ කර තිබෙන අතර, එහි සම්භවය ප්‍රකෘති සොබාව අපේ සියලු ඉතිහාසකාරයින්ට මෙතෙක් නොපැහැදිලි දෙයක් විය.

වංශයක් මූලික වශයෙන් සෑදෙන්නේ කෙසේද යන්න පුනාලුවා පවුල සම්බන්ධයෙන් අපි දැනටමත් දුටුවෙමු. පුනාලුවා පවුලට ඇතුළුවන සියළු පුද්ගලයින්, විවාහයේ බලය අනුව හෝ, එහි අවශ්‍යයෙන් බලපාන මතාන්තර අනුව හෝ පරපුරේ ප්‍රාරම්භික මීමිත්තණියකගෙන් පැවත එන්නෝ වෙති. පිය අයිතිය, මේ පවුල් ක්‍රමය නිසා සැක සහිත බැවින් මව් පාර්ශ්වය පමණක් ස්ථිර වශයෙන් සැලකිය හැකිය. සහෝදරයින්, සහෝදරියන් සමග නොව, වෙනත් පරපුරකට අයත් ස්ත්‍රීන් සමග විවාහ වන නිසා, එවැනි විවාහයකින් උපදින දරුවන් මව් අයිතිය අනුව වංශයට බාහිරව සලකනු ලැබේ. ඒ අනුව දූවරුන්ගේ දරුවන් පමණක් ඒ පෙළපත් කණ්ඩායමට අයත් වේ. පුතුන්ට ජාතක වන දරුවන් ඔවුන්ගේ මව්වරුන්ගේ පෙළපතට අයත් වේ. මෙසේ ලේ නෑකම අනුව සෑදුණු කණ්ඩායමක්, ගෝත්‍රය තුළ ඇති අනිකුත් සමාන කණ්ඩායම්වලට විරුද්ධව සංවිධානය වූවිට සිදුවන්නේ කුමක්ද?

සෙනෙකා ගෝත්‍රයට අයත් ඉරෝකුවොයිස් වංශය, වංශ ඇතිවීමේ ආචීර්ණ කල්පික නිදසුන වශයෙන් මෝර්ගන් පෙන්වා දෙයි. පහත සඳහන් සතුන්ගේ නම්වලින් හැඳින්වෙන පෙළපත් අටක් මේ වංශය තුළ ඇත. 1. වෘකයා. 2. වලසා. 3. කැස්බෑවා. 4. බීවරයා. 5. මුවා. 6. කැස්වටුවා. 7. කොකා. 8. උකුස්සා. පහත සටහන් චාරිත්‍ර එක් එක් වංශය තුළ පැවතිණ.

1. එය සාකෙම් කෙනෙකු (සාම කාලීන ප්‍රධානියා) සහ නායකයෙකු (යුද්ධ නායකයෙකු) තෝරා පත් කරගනී. සාකෙම් කෙනෙකු වංශය තුළින් තෝරා පත් කරගත යුතු අතර එය වංශයේ පරපුර අනුව පැවත එන නිලයකි, එනම් ඇබෑර්තුවක් ඇතිවූ විගස එය පිරවිය යුතුය. යුද්ධ නායක ධුරයට වංශයට පිටින් වුවද කෙනෙකු තෝරාගත හැකිවූ අතර සමහර කාලවලදී එම නිලය පුරප්පාඩුව තිබිය හැකි විය. හිටපු සාකෙම්ගේ පුතා කිසිදිනෙක එම ඇබෑර්තුවට තෝරා පත් නොවේ. මන්දයත්, ඉරෝකුවොයිස්වරුන් අතර මව් අයිතිය බලපෑ බැවින් සාකෙම්ගේ පුතා, ඒ අනුව වෙනත් වංශයකට අයත්වන බැවිනි. සාකෙම්ගේ සොහොයුරා හෝ සොහොයුරියකගේ පුතෙකු එම තනතුරට නිතරම පාහේ පත් කරගනු ලැබීය. මෙවැනි මැතිවරණයකදී ස්ත්‍රී පුරුෂ හැම දෙනෙක්ම ඡන්දය දුන්හ. එහෙත් මේ තේරීම අනිකුත් වංශ හත මගින්ද සම්මත කළ යුතු විය. ඉරොකුවෝයිස් ගෝත්‍රයේ ප්‍රධාන මණ්ඩලය මගින් උත්සවාකාරයෙන්

තනතුර භාර දෙන්නේ ඉන් පසුවය. මෙහි වැදගත්කම පසුව පෙනෙනු ඇත. වංශය තුළ සාකෙම්ගේ අධිපත්‍යය හුදු පීතෘත්වයක් හා පිරිසුදු අධ්‍යාත්මික බවක් දැරීය. ඔහුගේ අධිපත්‍යය යටතේ බලාත්කාරකම් කිරීමට කිසිදු මාධ්‍යයක් නොතිබිණි. නිල බලය නිසා ඔහු සෙනෙකාවරුන්ගේ ගෝත්‍ර සභාවේද එමෙන්ම සියලු ඉරෝකුවෝයිස්වරුන්ගේ ප්‍රධාන මණ්ඩලයේද සාමාජිකයෙක් විය. යුද්ධ නායකයාට අණ දිය හැකිවූයේ යුද කටයුතුවලදී පමණකි.

2. සාකෙම් සහ යුද නායකයා තමන් රිසි පරිදි අස්කර දැමීමට වංශයට බලය ඇත. මෙයද එම වංශයට අයත් ස්ත්‍රී පුරුෂ සෑම දෙනාගේම සමූහ කැමැත්ත අනුව කරනු ලැබේ. ඉන්පසු නිලයෙන් පහකරනු ලැබූ තැනැත්තා සාමාන්‍ය සෙබලකු හෝ ගෝත්‍ර සාමාජිකයෙකු ලෙස හෝ සිය කටයුතුවල යෙදෙයි. වංශයක් විරුද්ධ වුවද ගෝත්‍රයේ මණ්ඩලයකට සාකෙම් කෙනෙකු නිලයෙන් පහකළ හැක.

3. සාමාජිකයෙකුට තම වංශය තුළින් විවාහවීම තහනම්ය. වංශයේ ප්‍රධාන රීතිය මෙයයි. ඔවුන් සියලු දෙනාම එක්කොට තබන බැම්ම මෙයයි. අතිශයින්ම සකාර්ය ලේ සබඳකමක් නිසා කෙරෙන ප්‍රතිෂේධනාත්මක ප්‍රකාශනයකි මේ. මෙහි බලය නිසා එයට සම්බන්ධ වී සිටින පුද්ගලයින් වංශයක් බවට පත්වේ. මේ සරල සත්‍යය සොයාගැනීම නිසා මෝර්ගන් පළමුවැනි වරට වංශවල ප්‍රකෘති ගතිය හෙළිකළේය. මීලේච්ඡයන්ගේ හා වනචාරීන්ගේ විවිධ කොටස් ඇතුළත් වංශ සංවිධානය හැඳින්වීමට නොදැනුවත්කම නිසා හෝ අවිචාරවත්බව නිසා හෝ ගෝත්‍රය, වර්ගය හා සමූහය ආදී වචන යෙදූ බව පුරාණ වාර්තා අනුව පෙනීයයි. මෙම සොයාගැනීමට පෙර වංශ ගැන කොතරම් අඩුවෙන් දැන සිටියේද යන්න මින් අවබෝධ වෙයි. මේ අනුව ඕනෑම සංවිධානයක් තුළ විවාහවීම තහනම් වූ බවද එලෙසම සිතූහ. මැක්ලෙනන් මහතාට නැපෝලියන් කෙනෙකුට සිදුවූ පරිදි අතදැමීමට මේ ආකූල ව්‍යාකූලත්වය ඉඩ ලබාදුන්නේය: ගෝත්‍ර තුළ විවාහ තහනම් කොට (බාහිර විවාහ) ඇති සහ ගෝත්‍ර තුළ විවාහ තහනම් කොට නැති (අන්තර් විවාහ) වශයෙන් ගෝත්‍ර දෙවර්ගයක් ඔහු වෙන් කරයි. මේ විධියට ඔහු සම්පූර්ණයෙන්ම කටයුතු පටලවා ගත් පසු ඔහුගේ මේ අභූත පංති දෙකෙන්, කිනම් පංතිය, එනම්, බාහිර විවාහ ගෝත්‍රය හෝ අන්තර විවාහ ගෝත්‍රය හෝ වඩාත් පැරණිද යන්න ගැන ඔහු පරීක්ෂණ පවත්වයි. ලේ නෑකම අනුව පදනම් වුණු වංශ සහ ඒ අනුව එහි සාමාජිකයින් අතර විවාහය නොවිය හැක්කක් බවට පත්කරවන වංශය සොයාගත් පසු මේ විකාරය ඉබේටම නැවතිණ. ඉරෝකුවෝයිස්වරුන් අතර මේ අවධියේදී වංශය තුළ විවාහවීමේ තහනම පිළිබඳ නීතිය දැඩිලෙසම පිළිපැද ඇති බැව් අපට පෙනේ.



4. මියගිය සාමාජිකයෙකුගේ දේපල වංශයේ ඉතිරි සාමාජිකයින් අතර බෙදදෙනු ලැබීය. එම දේපල වංශය තුළම තිබිය යුතුවිය. ඉරෝකුවෝයිස් කෙනෙකුට තබා ගිය හැකි දේපල කොතරම් නොවැදගත්ද යත්, ඒවා වංශය තුළ තම කිට්ටු නෑයින් අතර බෙද දිය හැකිය. මිනිසකු මිය ගිය විට ඔහුගේ සොබාවික සහෝදරයින් සහ සහෝදරියන් අතරද, මව් පාර්ශ්වයට අයත් මාමාවරුන් අතරද, එය බෙදදිය හැකිවිය. ස්ත්‍රියක් මිය ගිය විට ඇගේ ළමයින් සහ සොබාවික සොහොයුරියන් අතරද බෙදදිය හැකිවූ අතර ඇගේ සහෝදරයින්ට ඒවා හිමි නොවීය. සැමියාට හා බිරිඳට එකිනෙකාගේ දේපල අයත් නොවන්නේද, පියාගේ දේපල ඔහුගේ දරුවන්ට අයත් නොවන්නේද මේ හේතුව නිසාය.

5. වංශයට අයත් සාමාජිකයෝ එකිනෙකාට ආධාර කිරීමටද, ආරක්ෂාවද සළසාදීමටද විශේෂයෙන් පිටස්තර උදවිය කරන පහරදීම් වලදී පළිගැනීමට උදව්දීමටද බැඳී සිටියහ. තම ආරක්ෂාව සඳහා පුද්ගලයෙකුට වංශයේ ආරක්ෂාව පැතිය හැකි විය. එසේම එය ඔහුට ලැබිණි. එකෙකුට පහරක් ගැසීම මුළු වංශයටම ගැසූ පහරක් ලෙස සලකනු ලැබීය. මෙයින්, එනම් වංශයේ ලේ නෑකම් නිසා, ඉරෝකුවෝයිස්වරුන් කොන්දේසි විරහිතව පිළිගත් ලේවල පළිගැනීමේ අනිවාර්යය ඇතිවිය. වංශයෙන් පිට කෙනෙකු විසින් වංශයේ සාමාජිකයෙකු මරනු ලැබුවහොත්, මැරුම්කනු ලැබූ තැනැත්තා අයත් වංශය ලේවල පළිගැනීමට දිවුරුම් දෙයි. පළමුව වියවුල බේරීමට වංශය මැදිහත් වේ. මැරූ පුද්ගලයා අයත් වංශයේ මණ්ඩලය රැස්වී මැරුම් කනු ලැබූ පුද්ගලයාගේ වංශයේ මණ්ඩලය වෙත යෝජනා ඉදිරිපත් කරයි. සිදුවූ වැරැද්දට සමාව ඉල්ලා සිටීම සහ වටිනා තෑගිබෝග පිරිනැමීම මෙහි සිරිතය. මේ යෝජනා පිළිගත්තේ නම් අවුල එතැනින් නිමා වෙයි. එසේ නැතිනම් මැරුම් කෑ පුද්ගලයාගේ වංශ මණ්ඩලය, පළිගන්නකු හෝ පළිගන්නන් කීප දෙනෙකු පත් කරයි. ඔවුන්ගේ කාරිය මිනී මරුවා ලුහුබැඳ ඔහු මරා දැමීමය. මෙය සාර්ථක වුණි නම්, පසුකී වංශයේ අයට දුක්ගැණවිලි ඉදිරිපත්කිරීමට අයිතියක් නැත. එම කාරිය සමතයකට පත්වූ දෙයක් ලෙස සලකනු ඇත.

6. මුළු ගෝත්‍රය තුළම වංශයට පමණක් අයත් නියමිත නම් හා නාමවලියක් ඇති අතර ඒවා පාවිච්චි කිරීමට අයිතියක් ඇත්තේ එහි සාමාජිකයිනට පමණකි. පුද්ගලයාගේ නම අනුව ඔහු අයත් වංශය සඳහන් වෙයි. වංශ නාමය විසින් වංශික අයිතිවාසිකම් තීරණය වේ.

7. වංශයකට පිටස්තර පුද්ගලයෙකු ඇතුළු කර ගත හැක. ඒ අනුව ඔහු ගෝත්‍රයටද ඇතුළු වෙයි. මරා නොදමනු ලබන යුද්ධ සිරකරුවන් වංශයකට ඇතුළු කරගෙන එමගින් ඔවුහු සෙනෙකා ගෝත්‍රයේද සාමාජිකයෝ බවට පත්වෙති. ඒ අනුව ඔවුහු ගෝත්‍රික හා වංශික සම්පූර්ණ

අයිතිවාසිකම් ලබා ගත්හ. පිටස්තර පුද්ගලයා වංශයේ පිරිමින් විසින් සහෝදරයෙකු ලෙස හෝ සහෝදරියක් ලෙස සලකනු ලැබූ අතර ස්ත්‍රීන් ඔහු හෝ ඇය ගණන් ගත්තේ දරුවකු ලෙසය. මෙය සම්මත කිරීම සඳහා වංශය උත්සවාකාරයෙන් පිළිගැනීමක් පවත්වයි. කිසියම් වංශයක සාමාජික සංඛ්‍යාව අඩුවූවහොත්, වෙනත් වංශයක කැමැත්ත අනුව ඉන් සාමාජිකයින් විශාල වශයෙන් ලබාගනී. වංශයට ඇතුළු කරගැනීම පිණිස පවත්වන උත්සවය ඉරෝකුවොයිස්වරුන් අතර පවත්වන්නේ ප්‍රසිද්ධ රැස්වීමක වශයෙනි, මෙය ප්‍රායෝගික වශයෙන් ආගමික උත්සවයකට හැරෙයි.

8. ඉන්දියානු වංශවල විශේෂ ආගමික සිරිත් ඇතැයි ඔප්පු කිරීම උගහටයි. එහෙත් ඒ අතරම ඉන්දියානුන්ගේ අඩු වැඩි වශයෙන් ඒ ආගමික සිරිත් වංශ සමග වෙළී පවතී. ඉරොකුවොයිස්වරුන් අතර ඇති වාර්ෂික ආගමික උත්සව හයේදී, වංශවලට අයත් සකෙම්වරුන් හා යුද නායකයින් ''ආගමික සම්ප්‍රදයයන්ගේ ආරක්ෂකයින්'' හැටියට නිල බලයෙන් පිළිගනු ලබන අතර ඔවුහු පූජකයින් මෙන්ද කටයුතු කරති.

9. වංශවලට පොදු සොහොන් බිමක්ද විය. සුද්දන් විසින් තල්ලු කර දමන ලද නිව්යෝර්ක් ජනපදයේ ඉරොකුවොයිස් වරුන්ගේ සොහොන් බිම දැන් නැත. එහෙත් එය පෙර පැවතිණි. ටුස්කරෝරා ගෝත්‍රය වැනි ඉන්දියානු ගෝත්‍ර අතර තවමත් මේ සිරිත පවතී. මේ ගෝත්‍රය ක්‍රිස්තියානි නමුදු, ඉරොකුවොයිස් ගෝත්‍රයට කිට්ටු සම්බන්ධකමක් පෙන්වීය. ඔවුන්ගේ සොහොන් බිමෙහි එක් එක් වංශය සඳහා විශේෂ පේලි සකස් කොට තිබිණ. මෙහි සහ දරුවන් එකම පෙළෙහි භූමදාන කළ නමුදු, පියාට ඒ අයිතිය අහිමිවේ. ඉරොකුවොයිස්වරුන් අතරද වංශයට අයත් සියලු දෙනාම එක්ව දුක්වෙති, එකට එක්වී අවමංගල්‍ය කටයුතු හා ආගමික චාරිත්‍ර සිදු කරති.

10. වංශයටද මණ්ඩලයක් ඇත. වංශයට අයත් සියළු ස්ත්‍රී පුරුෂයින්ට සමාන චන්ද බලයක් ඇති ප්‍රජාතාන්ත්‍රික සංවිධානයකි මෙය. සංකම්වරුන් හා යුද නායකයින්ද, ''ආගමික සම්ප්‍රදයයන්ගේ ආරක්ෂකයින්'' තෝරා පත් කිරීම සහ පහකර දැමීමද මේ මණ්ඩලය මගින් කරනු ලැබීය. මැරුම් කෑ වංශ සාමාජිකයින් සඳහා වන්දි වශයෙන් ලැබිය යුතු පඩුරු (wergeld) හෝ ලේවල පළිය ගැනීම හෝ පිළිබඳ ප්‍රශ්න මේ මණ්ඩලය තීරණය කරයි.කෙටියෙන් කියතොත්,වංශවල පූර්ණ බලය මේ මණ්ඩලය සතුවිය.

නියම ඉන්දියානු වංශයක බලය එසේය. ''පෞද්ගලික වශයෙන් ඉරොකුවොයිස් වංශයක සියලු සාමාජිකයින් නිදහස්ය, ඔවුන් එකිනෙකාගේ නිදහස ආරක්ෂා කළ යුතුය. වරප්‍රසාද සහ අයිතිය අනුව ඔවුහු සමයෝවෙත්, සකෙම් සහ නායකයින් ආධිපත්‍යයක් ඉල්ලා නොසිටිති, නෑකම් නිසා ඇතිවූ සහෝදරත්වයකින් ඔවුහු එකට බැඳී සිටිත්.නිදහස, සමානත්වය



සහ සහෝදරත්වය ක්‍රමවත්ව නොදැක්වුවද, වංශයේ ප්‍රධානතම මූලධර්ම වූයේ ඒවාය. ඉන්දියානු සමාජය සංවිධානය වූ පදනමේ සමාජමය ඒකකය වංශයයි. ඉන්දියානු චරිතයට විශ්වමය ලෙස ආවේණිකවූ ස්වාධීනතත්වය සහ පෞද්ගලික ගරුත්වය විස්තර කිරීමට [මෙය] සෑහේ''.

උතුරු ඇමෙරිකාවේ ඉන්දියානුන් සොයා ගන්නා කාලයේදී ඔවුන් සියලු දෙනාම මව් අයිතිය අනුව වංශවලට සංවිධානයවී සිටියහ. ඩැකෝටාස් වරුන් අතර මෙන් ගෝත්‍ර සුළු ගණනක වංශ විනාශයට පත්වී ගොස් තිබුණු අතර ඔජිබ්වා සහ ඔමහා වැනි සමහර ගෝත්‍ර පිය අයිතිය අනුව සංවිධානය වූහ.

වංශ පහකින් හෝ හයකින් යුත් ඉන්දියානු ගෝත්‍ර විශාල ගණනක් අතර වංශ තුනක්, හතරක් සහ ඊට වැඩි ගණනක් එකට එක්වී සිටිති. මෙය හැඳින්වීම සඳහා මෝර්ගන් ඉන්දියානු වචනයට සමාන ග්‍රීක් වචනයක්වූ ප්රාට්රි (සහෝදරත්වය) යන්න යොදයි. ඒ අනුව සෙනෙකා ගෝත්‍රය සහෝදරත්ව දෙකකින් යුක්තය. 1 සිට 4 වැනි වංශය දක්වා එක් සහෝදරත්ව කණ්ඩායමක්ද 5 සිට 8 දක්වා තවත් සහෝදරත්ව කණ්ඩායමක්ද ඇත. මේ සහෝදරත්ව කණ්ඩායම් ඉතා කිට්ටුවෙන් පිරික්සා බැලීමේදී, ගෝත්‍රය මුලදී බෙදීගිය මූලික වංශ නියෝජන කරන බව පෙනී යයි. මන්දයත්, මේ වංශ තුළ විවාහය තහනම් කර ඇති බැවින්, ස්වාධීන පැවැත්මක් සඳහා එක් ගෝත්‍රයක් තුළ යටත් පිරිසෙයින් වංශ දෙකක්වත් තිබිය යුතු වීමය. ගෝත්‍රය විශාල වත්ම හැම වංශයක්ම තවත් වංශ දෙකකට හෝ ඊට වැඩි ගණනකට හෝ බෙදිණ. එහෙත් ඒ අතරම සියළුම දුහිතෘ වංශ ඒකරාශී කරන මුල් වංශය සහෝදරත්වය වශයෙන් පෙනී සිටී. සෙනෙකා ගෝත්‍රයේ සහ බොහෝ ඉන්දියානු ගෝත්‍රවල එක් සහෝදරත්ව කණ්ඩායමකට අයත් වංශ සහෝදරත්ව වංශ වශයෙන් හැඳින්වෙයි. වෙනත් සහෝදරත්ව කණ්ඩායමකට අයත් වංශ මේ කණ්ඩායම හඳුන්වන්නේ ඥාති සහෝදර වංශ හැටියටය. අප දුටු පරිදි අමෙරිකානු ලේ නෑ ක්‍රමයේ වැදගත්කම එළිදරව් කරන යථාර්ථවාදී බවක් මේවායේ ඇත. මුලදී සෙනෙකා වරුන්ට තම ''සහෝදරත්වය'' තුළින් විවාහවීමට අවසර නොතිබිණි. එහෙත් මේ තහනම බොහෝ කලක සිට යල් පැන ගියෙන් එය වංශයට පමණක් සීමා විය. වලසා නමින් හා මුවා නමින් පෙනී සිටි වංශ මුල් වංශ ලෙස සම්ප්‍රදායානුකූලට පිළිගත් සෙනෙකාවරු අනිකුත් වංශ ඒවායින් ඇතිවූ බව පිළිගත්හ. මේ අළුත් ආයතනය දැඩි ලෙස ශක්තිමත්වූ පසු ඒවා උවමනාවන් අනුව සංශෝධන කරන ලදී, තුලනතාවය රැකගනු පිණිස අභාවයට පත්වුණු වංශ වලට වෙනත් සහෝදරත්ව වලින් වංශ ඉඳහිට මාරුකරන ලදී. එකම නාමයක් ඇති වංශ විවිධ ලෙස කාණ්ඩවලට එක්වී සිටීමේ හේතුව මෙයයි.

ඉරොකුවොයිස්වරුන් අතර සහෝදරත්වයේ ක්‍රියාකාරීත්වය අඩවශයෙන් සමාජමය වන අතර අඩ වශයෙන් ආගමික වන්නේය. 1) බෝල ක්‍රීඩාව සහෝදරත්ව විසින්, එකිනෙකට එදිරිව කෙරෙන තරඟයක් ලෙස පැවැත්වේ. මේ සඳහා සහෝදරත්වයේ ඉතාම හොඳ ක්‍රීඩකයින් යොදවති. සහෝදරත්වයේ සෙසු සාමාජිකයෝ, එම සංවිධානය අනුව ප්‍රේක්ෂකයින් වෙති. ඔවුහු තම තමන්ගේ සහෝදරත්වය ජයගන්නා බවට ඔට්ටු අල්ලති. 2) ගෝත්‍ර මණ්ඩලයේදී එක් එක් සහෝදරත්වයකට අයත් සකෙම්වරු සහ යුද නායකයෝ ඔවුනොවුනට මූණ ලා වාඩිවෙත්. හැම කථිකයෙක්ම එක් එක් සහෝදරත්වය අමතන්නේ වෙන් වෙන් සංවිධානයක් ලෙස ය. 3) ගෝත්‍රය තුළ මිනීමැරුමක් ඇතිවිණි නම්, මැරුම් කෑ පුද්ගලයා සහ මිනීමරුවා එකම සහෝදරත්වයකට අයත් නොවන්නේ නම්, පීඩාවට පත් වංශ අනිකුත් සහෝදර වංශවලට අභියාචනයක් කරයි. මේ වංශ එක්වී සහෝදරත්ව මණ්ඩලයේ රැස්වීමක් පවත්වා සංවිධානයක් වශයෙන් අනෙක් සහෝදරත්වයට ඉල්ලීමක් කොට, අවුල විසඳන ලෙස ඉල්ලා සිටී. මෙතැනදී නැවතත් සහෝදරත්වය මුල් වංශයෙන් සහ එයින් පැන නැගි වංශයට වඩා විශාල සාර්ථකත්වයක් ලබා ගැනීමට හැකි සංවිධානයක් ලෙස පෙනීසිටී. 4) වැදගත් පුද්ගලයින් මියගිය විට අනිත් සහෝදරත්වයේ අය විසින් අවමඟුල් කටයුතු හා භූමදාන කිරීම කරනු ලබන අතර මියගිය පුද්ගලයාගේ සහෝදරත්වය අවමඟුලට සහභාගී වෙයි. යම්කිසි සහෝදරත්වයක සාකෙම් ධූරයක් දරන්නෙක් මළොත් ඒ බව අනික් සහෝදරත්වය විසින් ඉරෝකුවොයිස්වරුන්ගේ පෙඩරල් මණ්ඩලයට දන්වනු ලැබේ. 5) සාකෙම් කෙනෙකු තෝරාපත් කර ගන්නා විට නැවතත් සහෝදරත්වයේ මණ්ඩලය පෙරමුණ ගනී. සහෝදර වංශ එය සම්මත කිරීම සාමාන්‍ය දෙයකි. එහෙත් අනිත් සහෝදරත්වයේ වංශ මෙයට විරුද්ධවීමට ඉඩ ඇත. එවැනි අවස්ථාවකදී සහෝදරත්වයේ මණ්ඩලය රැස්වී, එම විරුද්ධත්වය හේතු සහිත නම්, එම පත්වීම අවලංගු කරනු ඇත. 6) සුද්දන් විසින් ''බෙහෙත් වාඩි'' නමින් හඳුන්වනු ලැබූ විශේෂ ආගමික අභිරහස් ඉරෝකුවොයිස්වරුන්ට තිබිණි. සෙනකාවරුන් අතර මෙය ආගමික සහෝදර සංවිධාන දෙකක් විසින් කරන ලදී. එක් සහෝදරත්වයකට එකක් බැගින්වූ මෙය නිතිපතා අළුත් සාමාජිකයින් සඳහා ආගමික චාරිත්‍ර සිදු කළේය. 7) යටත් කරගැනීමේ කාලයේදී ට්ලස්කලාහි මන්දිර සතර, පෙළපත් (නෑකම අනුව) සතර විසින් අයත් කරගත්තාක් මෙන්ම, ග්‍රීකයින් අතර තිබූ සහෝදරත්වය මෙන්ම, ජර්මන්නුන් අතර තිබූ එයට සමාන පොදු ලේ නෑ ක්‍රම ඇති පිරිස් යුද්ධමය ඒකකයන් වශයෙන් ක්‍රියා කර ඇත. මේ පෙළපත් සතර වෙන වෙනම සේනාවන් මෙන් සටන් වැදුනහ. මේ



එක් එක් සේනාවකට තමන්ට අයත් නිල ඇඳුම්ද, කොඩි සහ නායකයකුද විය.

වංශ කීපයක් එකතුව සහෝදරත්වයක් සෑදෙන්නාක් මෙන්ම, සහෝදරත්ව කීපයක් එක්ව චිරාගත ක්‍රමයට ගෝත්‍රයක් සෑදිණ. දුර්වල ගෝත්‍ර තුළ මැද පුරුක හෙවත් සහෝදරත්වය නැතිය. ඇමෙරිකාවේ ඉන්දියානු ගෝත්‍රයක වැදගත් ලක්ෂණ මොනවාද?

1. තමන්ට අයත් භූමි ප්‍රදේශයක් හා තමන්ගේම නමක් තිබීම. වාසය කිරීම සඳහා ඇති ප්‍රදේශය හැරුණු විට දඩයම් කිරීම සහ මාළු බෑම සඳහා අතිරේක පෙදෙස් තිබිණ. මේ හැර අනික් ගෝත්‍රයට අයත් ප්‍රදේශය දක්වා පළල් මධ්‍යස්ථ ප්‍රදේශයක් විය. ගෝත්‍ර දෙකක භාෂා එකිනෙකට සම්බන්ධ නම් මේ මධ්‍යස්ථ භූමි ප්‍රමාණය විශාල නොවීය. එම ගෝත්‍රවල භාෂා එකිනෙකට වෙනස් නම් මධ්‍යස්ථ බිම් පෙදෙස විශාල විය. එවැනි මධ්‍යස්ථ බිම් ජර්මනුන්ගේ සීමාව දක්වන කැලෑ විය. සීසර්ගේ සුයෙවි තම බිම් වටා ඇතිකළ නිසරු බිම්ද, ඩෙන්මාක් වැසියන් හා ජර්මනුන් අතර ïsarnholt (ඩේනිෂ්වරුන්ගේ jarnved, limes Danicus) නම්වූ බිම්තීරුවද, සැක්සන් කැලෑ සහ branibor ද (ස්ලාවික් බසින් ආරක්ෂක කැලෑව) එවැනි සීමාවන් විය. ජර්මනුන් සහ ස්ලාව් ජාතීන් අතර බ්‍රැන්ඩන්බුර්ග් යන නම බිඳී ආවේද එම branibor නැමති වචනයෙනි. මේ විධියට අස්ථිර ලෙස විග්‍රහ කරන ලද සීමාවන් තුළ වූ බිම් පෙදෙස ගෝත්‍රයේ සමූහ ඉඩම් විය, මේ අයිතිය අසල්වැසි ගෝත්‍රය විසින්ද පිළිගෙන තිබිණ. දේශ සීමාවන්වල අස්ථිර බව වැඩි හරියක්ම අපහසුකම්වලට මග පෑදුවේ ගෝත්‍රවල ජනගහනය වැඩි වීමෙන් පසුවය. ගෝත්‍රනාම තෝරා ගැනීම හොඳින් හිතාමතා කළ දෙයකට වඩා අහම්බෙන් සිදුවූවක් ලෙස ගණන් ගත හැක. කල් යත්ම කිසියම් ගෝත්‍රයක්, තම අසල්වාසී ගෝත්‍ර, ඔවුනට අයත් නමට වඩා වෙනත් නමකින්, ජර්මන්වරුන්ගේ මෙන් die Deutschen) හැඳින්වීම නිතර පාහේ සිදුවිය. මේ ගෝත්‍රයේ පළමුවැනි ඓතිහාසික වශයෙන් Germani (Germanen) නැමති පොදු නම පිරිනමන ලද්දේ සෙල්ට්වරුන් විසිනි.

2. එක් ගොත්‍රයකට පමණක් සීමාවූ විශේෂ උපබසක් විය. ඇත්ත වශයෙන්ම උපබස හා ගෝත්‍රය සෑහෙන තරම් සමවිස්තෘත විය. උතුරු ඇමෙරිකාවේ අළුත් ගෝත්‍ර හා අළුත් උපබස්වල බෙදීම අනුව ඒවායේ වර්ධනය මෑතක් දක්වා සිදුවූ අතර අද දක්වා වුවද එය අවසන්වීයැයි කිව නොහැක. දුර්වල ගෝත්‍ර දෙකක් එක්වූ විට එකම ගෝත්‍රයක් තුළ එකිනෙකට කිට්ටුවෙන් සම්බන්ධ වූ උපබස් දෙකක් කතා කරති (මෙය සිදු වන්නේ කලාතුරකිනි). ඇමෙරිකන් ගෝත්‍රවල සාමාන්‍ය ජන සංඛ්‍යාව 2,000 කි. එහෙත් චිරෝකී වරුන්ගේ සංඛ්‍යාව 26,000 කි. එකම උපබසක්

කතා කරන, ඇමෙරිකා එක්සත් ජනපදයේ විශාලතම ඉන්දියානු ගෝත්‍රය මෙයයි.

3. වංශ විසින් සාකෙම්වරුන් හා යුද නායකයින් තෝරාපත් කරගනු ලැබීම, සහ

4. ඔවුන්ගේ වංශයේ කැමැත්තට විරුද්ධව වුවද ඔවුන් නිලවලින් පහකර දැමීමේ අයිතිය. මේ සාකෙම් වරුන් සහ යුද්ධ නායකයින් ගෝත්‍ර මණ්ඩලවල සාමාජිකයින් බැවින් ගෝත්‍රයට අයත් එම බලය ඉබේටම විස්තර වෙයි. ගෝත්‍ර කීපයක සම්මේලනයක් ඇති තැනෙක ඉහත සටහන් එම අයිතිය ගෝත්‍රවල පැඩරල් මණ්ඩලයට අයත් වෙයි.

5. පොදු ආගමික අදහස් (දේව කථා) සහ වැඳුම් පිදුම් කිරීමේ සිරිත් තිබීම.

“වනචාරීන්ගේ සිරිත අනුව ඇමෙරිකන් ඉන්දියන්වරුන් ආගමික ජනතාවක් විය”.

කෙසේ වුවද ඔවුන්ගේ දේව කථා විචාරාත්මක ලෙස විග්‍රහ කර නැත. ඔවුන්ගේ ආගමික අදහස්වලට ඔවුන් සප්‍රාණික බවක් ගෙන දෙමින් ක්‍රියා කළහ. නොයෙක් භූතයන් මෙයට අයත් වේ. ගෝත්‍ර ගතකළ වනචාරීත්වයේ පහළ අවධියේ ඔවුන්ට නිර්මාණික නියෝජිතත්වයක් දේව රූපාදිය නොතිබිණි. මෙය බහු දේවවාදය දක්වා යන ප්‍රකෘති ස්වභාව සහ භූතයන් ඇදහීමක් විය. විවිධ ගෝත්‍රවලට නියමිත නොයෙකුත් වැඳුම් පිදුම් ක්‍රම, විශේෂයෙන් නැටුම් හා ක්‍රීඩා ක්‍රමද තිබිණ. සියලුම ආගමික උත්සවවලදී නැටුම් විශේෂ තැනක් දරන ලදී. හැම ගෝත්‍රයක්ම තම තමන්ගේ නැටුම් වෙන වෙනම නැටූහ.

6. පොදු වැඩ සඳහා ගෝත්‍ර මණ්ඩලයක් තිබීම. සියළුම පුද්ගලික වංශවල නියම නියෝජිතවරුන් වන සාකෙම්වරුන් හා යුද්ධ නායකයින් එම මණ්ඩලයට අයත්වූයේ ඔවුන් ඕනෑම වෙලාවක නිලයෙන් පහකර දැමිය හැකිවූ බැවිනි. මණ්ඩලයේ සභා රැස්වීම් ප්‍රසිද්ධියේ පැවැත්වූහ. එම රැස්වීම්වල සාකච්ඡාවලට සහභාගිවීමටද, ඔවුන්ගේ අදහස් කියාපෑමටද ගෝත්‍රයේ සියලුම සාමාජිකයින්ට බලය තිබුණු අතර තීරණයන් ගැනීම මණ්ඩලය මගින් කරනු ලැබීය. රීතියක් වශයෙන් ගෝත්‍රයේ ඕනෑම සාමාජිකයෙකුට මණ්ඩලය ඉදිරිපිටට විත් එය අමතා කතා කිරීමට බලයක් තිබිණ. තමන් රිසි කථිකයෙකු මගින් තම අදහස් ඉදිරිපත් කිරීමට ස්ත්‍රීන්ට පවා අයිතියක් තිබිණ. ඉරෝකුවොයිස්වරුන් අතර, හැම තීරණයක්මද ජර්මන් මාර්ක් සමූහවල බොහෝ තීරණයන්ද සම්මත කරගන්නා ලද්දේ ඒකච්ඡන්දයෙනි. විශේෂයෙන්ම, අනිකුත් ගෝත්‍ර සමග සබඳකම් සකස්කර ගැනීමේදී වගකීම ගෝත්‍ර මණ්ඩල වෙත පැවරිණ. තානාප-





තිවරුන් යැවීම හා පිළිගැනීමද යුද්ධ ප්‍රකාශ කිරීමද සාමය ඇතිකිරීමද ගෝත්‍ර මණ්ඩලය මගින් කැරිණි. යුද්ධයක් ඇතිවූ විට ප්‍රධාන වශයෙන් එය ස්වේච්ඡා සේවකයින් මගින් කරගෙන යන ලදී. සාම ගිවිසුමක් ඇති නොකරගත් ගෝත්‍ර අතර මූලධර්මයක් වශයෙන් යුද්ධමය තත්ත්වයක් පැවතිණ. එවැනි යුද්ධ වැඩි වශයෙන් සංවිධාන කරන ලද්දේ ප්‍රකට යුද්ධ නායකයින් කීපදෙනෙකු විසිනි. ඔවුහු යුද්ධ නැටුමක් නටති, එම යුද්ධමය නැටුමට සහභාගී වන හැම කෙනෙකුම ඒ අනුව යුද කිරීමට සූදනම් බව ප්‍රකාශ කරයි. අනතුරුව යුද සේනාංකයක් වහාම සංවිධානය කොට යුද්ධ කිරීම සඳහා පිටත් කොට හරිති. ගෝත්‍රයකට අයත් දේශ සීමාවකට පහර දුනහොත් ප්‍රධාන වශයෙන් ස්වේච්ඡා සේවකයින්ගෙන් සැදුම් ලත් පාලන ක්‍රමයක් අනුව ආරක්ෂක සටන් කරති. එවැනි සේනාංක පිටත්ව යාමේදීත් හැරී ඒමේදීත් ප්‍රසිද්ධ උත්සව පවත්වති. මෙවැනි යුද්ධමය ක්‍රියා සඳහා මණ්ඩලයේ අනුමතිය අනවශ්‍ය විය. එවැන්නක් ලබාගැනීමටද දීමටද කිසිවකු ඉදිරිපත් නොවිය. ටැසිටස් විස්තර කළ පරිදි, ජර්මන් භටයින්ගේ පෞද්ගලික යුද්ධ ක්‍රියාවලට සම්පූර්ණයෙන්ම මෙය සමාන ය. ජර්මන් භට හමුද වඩාත් නිත්‍ය ස්වරූපයක් ගත් අතර සාම කාලයේදී සංවිධාන කරන ලද ශක්තිමත් න්‍යෂ්ටියක් වටා යුද්ධ කාලයේදී ස්වේච්ඡා සේවකයෝ කාණ්ඩ ගැසී පෙරමුණ ගත්හ. මෙවැනි යුද්ධමය සේනාංකයක් සංඛ්‍යාත්මක වශයෙන් විශාල නොවිය. ඉන්දියානුන්ගේ ඉතාම වැදගත් යුද්ධමය ගමන් වලදී පවා එයට සහභාගි වූයේ කුඩා යුද්ධමය බලකායකි. මෙවැනි භට කණ්ඩායම් කීපයක් එකට රැස්වූ විටදී වුවද, ඒ ඒ කණ්ඩායම තම තමන්ගේ නායකයාට පමණක් කීකරු විය. මේ නායකයින්ගෙන් යුත් මණ්ඩලයක් මගින් අඩු වැඩි වශයෙන් යුද්ධමය ව්‍යාපාරයන්ගේ සමගිය සහතික කරනු ලැබේ. අම්මියානුස් මර්සෙලීනුස් විසින් විස්තර කරන ලද හතරවැනි සියවසේදී උඩ රයින්හි සිදුවූ යුද්ධයේදී අලමාන්නි වරුන් අනුගමනය කළ යුද්ධ ක්‍රමයද මෙයයි.

7. බලය අඩු මහප්‍රධානියෙකු (Oberhäuptling) සමහර ගෝත්‍රවලදී අපි දකිමු. මණ්ඩලය රැස්වී අවසාන තීරණයක් ගන්නා තුරු තාවකාලික පියවරයන් ගැනීම සඳහා හදිසි කාර්යයන් කරන කකෙම් කෙනෙකි මොහු. මෙය දුර්වල නමුත්, පසුව ඇතිවන සිද්ධීන් පෙන්වා දෙන පරිදි, කෘත්‍යාධිකාරි බලය සහිත නිලධාරියෙකු ඇතිකිරීම සඳහා ගන්නා ලද ඵල රහිත අසම්පූර්ණ උත්සාහයකි. ඇත්ත වශයෙන්ම පසුව පෙනෙන පරිදි, සැමවිටම නැතිනම් වැඩි වශයෙන් එවැනි නිලධාරියෙකු බවට පත්වූයේ උසස්තම යුද්ධ නිලධාරියාය (oberster Heerführer).

ගෝත්‍ර වශයෙන් ඒක්වීමේ අවධිය ඉක්මවා ඇමෙරිකන් ඉන්දියානුන්ගෙන් බහුතර සංඛ්‍යාව ගොස් නැත. සංඛ්‍යා අතින් කුඩාවූ මේ ගෝත්‍ර

විශාල දේශසීමා වලින් වෙන්වී සිටියහ. යුද්ධ නිසා හෙම්බත් වී සිටි මොව්හු විශාල ප්‍රදේශයන්ට හිමිකම් කීවද, සංඛ්‍යාවෙන් අල්ප වූහ. නෑදෑ ගෝත්‍ර අතර කිසියම් තාවකාලික හදිසි අවධියකදී මිත්‍ර ගිවිසුම් ඇති. කර ගත්තද එවැනි හදිසිතාවයන් නැතිවූ විට, එම ගිවිසුම් කඩා දමන ලදී. මුල් කාලයේදී නෑදෑයින්ව සිටියද, පසුව අසමගි වූ ගෝත්‍ර ස්ථිර සම්මේලනවලට ඒකාබද්ධ වීමෙන් ජාතීන් වශයෙන් සංවිධානවීම සඳහා මුල් පියවර ගත්හ. මෙවැනි ක්‍රමයක අතිශයින්ම දියුණු සංවිධානයක් ඇමෙරිකා එක්සත් ජනපදයේ ඉරොකුවොයිවරුන් අතර තිබුණු බව අපට පෙනේ. බටහිර මිසිසිපිහි වූ මුල් නිවසින් සංක්‍රමණ වී, මහ ඩැකෝටා පවුලේ එක් ශාඛාවක් වශයෙන් ගිණිය හැකි මොව්හු දීර්ඝ ලෙස සංචාරය කිරීමෙන් පසු, අද නිව් යෝර්ක් ජනපදය වශයෙන් හැඳින්වෙන පෙදෙසෙහි පදිංචි වූහ. ඔව්හු ගෝත්‍ර පහකට බෙදුණහ: සෙනෙකාස්, කයුගාස්, ඔනොන්ඩගාස්, ඔනෙයිඩාස් මොහෝක්ස් වශයෙනි. මසුන් ඇල්ලීම, සතුන් දඩයම් කිරීම හා දළ උයන්වතු ගොවිතැන ආදියෙන් ජීවත්වූ මොවුහු උල්කල ඉනි වැටවල් වලින් ආරක්ෂා වූ ගම්වල ජීවත්වූහ. විසි දහසකට නොවැඩි ජනගහණයකින් යුත් මොවුන්ගේ ගෝත්‍ර පහට පොදුවූ වංශ කීපයක් විය. ඔවුන් එකම බසකට අයත් එකිනෙකට කිට්ටු සමානකම් ඇති උප භාෂාවල් කතා කළ අතර එකට යාබද ප්‍රදේශයක වාසය කළහ. ඔවුහු ගෝත්‍ර පහකට බෙදී සිටියහ. මේ ප්‍රදේශය අළුතින් අල්ලා ගත් බැවින්, ඔවුන් විසින් පන්නාදමනු ලැබූ අයට එදිරිව මේ ගෝත්‍ර අතර පරිචිත සමගියක් තිබුණේය. පහළොස් වැනි සිය වසෙහි මුල් භාගයේදී පමණ මෙය ක්‍රමවත් ''නිත්‍ය සමූහයකට'' පරිවර්තනය විය. තම ශක්තිය ගැන හැඟීමකින් යුත් මේ සමූහය වහාම ආක්‍රමණශීලී ස්වරූපයක් ගනිමින් ක්‍රියාකළ අතර ඔවුන්ගේ බලය උච්චස්ථානයට නැඟ තිබූ අවධිය වන 1675 පමණ අනිකුත් වැසියන් පන්නා දමමින් හෝ ඔවුන්ට කප්පම් ගෙවීමට සළස්වමින් හෝ විශාල භූමි ප්‍රදේශයක් ඔවුහු අල්ලා ගත්හ. වනචාරීත්වයේ පහළ යුගයෙන් ඔබ්බට නොගිය (මෙක්සිකන්වරුන්, නිව් මෙක්සිකන්වරුන් සහ පෙරුවියන්වරුන් හැරුණු විට) ඉන්දියානුන් විසින් ලබාගත් දියුණුතම සමාජමය සංවිධානය ඉරොකුවොයිස් සම්මේලනයයි. එම සම්මේලනයේ මූලික ලක්ෂණ මෙසේය:

1) සම්පූර්ණ සමානතාවයක් මත පදනම්වූ ලේ නෑ ගෝත්‍ර පහේ නිත්‍ය මිත්‍රත්වයක් සහ අභ්‍යන්තර ගෝත්‍ර කටයුතුවලදී සම්පූර්ණ නිදහස. සම්මේලනයේ නියම පදනම වූයේ මේ ලේ නෑ ක්‍රමයයි. මේ ගෝත්‍ර පහෙන් තුනක් පිය ගෝත්‍ර වශයෙන් හැඳින්විණි. ඔවුන් එකිනෙකා හඳුන්වා ගනු ලැබුවේ සහෝදර ගෝත්‍ර යනුවෙනි. ඉතිරි ගෝත්‍ර දෙක පුත්‍ර ගෝත්‍ර වශයෙන් හඳුන්වනු ලැබූ අතර ඔවුන් එකිනෙකා ඇමතුවේ සහෝදර ගෝත්‍ර වශයෙනි.



ඉතාම පැරණි වංශ තුනක් ගෝත්‍ර පහක නියෝජිතත්වය ලැබ සිටි අතර තවත් වංශ තුනක් ගෝත්‍ර තුනක නියෝජිතත්වය ලබාගෙන සිටියහ. මේ වංශයට අයත් සාමාජිකයෝ එම ගෝත්‍ර පහ තුළ එකිනෙකා සහෝදරවරුන් වශයෙන් හඳුන්වා ගත්හ. කතා කිරීමේදී සුළු වෙනසක් ඇතිවීම හැර එකම පොදු භාෂාවක් කතාකිරීම එකම පරම්පරාවකින් පැවත එන බවට සාක්ෂියක් විය.

2) සම්මේලන සංවිධානය, සමාන හා පූර්ණ බලතල ඇති සාකෙම්වරුන් පනස් දෙනෙකුගෙන් යුත් පෙඩරල් මණ්ඩලයක් විය. සම්මේලනයට බලපාන සියලු කරුණු ගැන මේ මණ්ඩලය අවසාන තීරණ ගත්තේය.

3) සම්මේලනය පිහිටවූ අවධියේදී මේ සාකෙම්වරු පනස්දෙනා ගෝත්‍ර හා වංශ අතර නව නිලයේ දූතයින් වශයෙන් බෙදී විශේෂයෙන් සම්මේලනයේ පරමාර්ථයන්ට උචිත වන සේ ක්‍රියා කළහ. ඇබෑර්තුවක් ඇතිවූ විට ඔවුන් වංශ විසින් තෝරාපත් කර ගත් අතර, ඕනෑම වේලාවක ඔවුන් නිලයෙන් පහකර දැමීමටද බලය තිබිණ. ඔවුන්ට නිල වශයෙන් බලතල පැවරීමේ අයිතිය පැඩරල් මණ්ඩලය සතුවිය.

4) පැඩරල් සාකෙම්වරු ඒ අතරම තම තමන්ගේ ගෝත්‍රවලද නියෝජිතවරු වූහ. මොවුන් හැම කෙනෙකුටම ආසනයක් හා ඡන්දයක්ද සතුවිය.

5) පැඩරල් මණ්ඩලයේ සියලු තීරණ ඒකච්ඡන්දයෙන් සම්මත විය යුතුය.

6) ඡන්දය දීම ගෝත්‍ර අනුව කෙරිණ. එබැවින් හැම ගෝත්‍රයක්මද, හැම මණ්ඩලයකම සාමාජිකයින්මද සියලු දෙනාටම බලපාන තීරණයක් ගැනීමට පෙර එකඟවිය යුතුව තිබිණ.

7) ගෝත්‍ර පහෙන් ඕනෑම එකකට පෙඩරල් මණ්ඩලය රැස්කළ හැකි නමුදු පෙඩරල් මණ්ඩලයට එවැන්නක් කිරීමේ බලයක් නොතිබිණ.

8) මේ මණ්ඩලයේ රැස්වීම්, එතැනට රැස්ව සිටින ජනතාව ඉදිරිපිට පවත්වන ලදී. හැම ඉරොකුවොයිස් ගෝත්‍රිකයෙකුටම කතා කිරීමට බලය තිබිණ. තීරණ ගැනීමේ බලය මණ්ඩලය සතුවිය.

9) සම්මේලනයට නිල නායකයෙකු හෝ ප්‍රධාන කෘත්‍යාධිකාරියෙකු හෝ සිටියේ නැත.

10) කෙසේවුවද, මේ මණ්ඩලයට සම ආධිපත්‍යය සහ සම බලතළ ඇති ප්‍රධාන යුද්ධ නායකයෝ දෙදෙනෙක් සිටියහ (ස්පාර්ටන්වරුන්ගේ ''රජවරු'' දෙදෙනාද රෝමයේ පුරෝහිතයින්ද දෙදෙනාද මෙනි).

ඉරොකුවොයිස්වරුන් අවුරුදු හාර සියයකට අධික කාලයක් තිස්සේත්, දැනුත් ජීවත්වන්නේ මේ සමාජමය ව්‍යවස්ථාව යටතේය. මෝර්ගන්ගේ විස්තරය මා මෙතැනදී ඉදිරිපත් කරන්නේ, තවම රජයක් ගැන නොදත් සමාජයක සංවිධානය පිරික්සා බැලීමට අපට එය අවස්ථාවක් දෙන බැවිනි.

7—1205

හැම කරුණකදීම බලපාන, සමස්තයෙන් වෙන්කර ගත් විශේෂ ප්‍රසිද්ධ ආධිපත්‍යයක් රජය අභවයි. මවුරර් නියම ඉවකින් යුතුව ජර්මන් මාර්ක් සංස්ථාපනය, පසු කලෙකදී විශාල වශයෙන් රජය පිහිටුවීමේ පදනම වුවද, එය රජයෙන් මූලික වශයෙන් වෙනස්වූ සමාජමය ආයතනයක් හැටියට පිළිගනී. එම නිසා මවුරර් තමාගේ කෘතීන් මගින් මාර්ක් ගම්, නින්දගම් සහ නගර වල මූලික සංවිධානයෙන් හා එය සමග ප්‍රසිද්ධ ආධිපත්‍යය ක්‍රම ක්‍රමයෙන් වර්ධනයවූ සැටි පිරික්සා බලයි. මුලදී එක්සත් වූ ගෝත්‍රයක් ක්‍රම ක්‍රමයෙන් විශාල මහ ද්වීපයක් මත පැතිර ගිය සැටි උතුරු ඇමෙරිකානු ඉන්දියානුවෝ පෙන්වති. ගෝත්‍ර වෙන්වී යාම නිසා ජන කොටස් හා ගෝත්‍ර කණ්ඩායම් ඇතිවූ සැටිද, භාෂාවන් එකිනෙක හඳුනාගත නොහැකි තරම් පමණක් නොව, මුල් සබඳකම්වල එකද සේයාවක් පවා නොතබා ඒ භාෂාවන් වෙනස් වූ සැටිද, එක් වංශයක් එකම ගෝත්‍රයක් තුළ කීප වරක් බෙදී ගිය සැටිද, පැරණි මව් වංශය සහෝදරත්වය නමින් පැවති සැටිද, දීඝී කාලයකට පෙර වෙන්වූ ඈත පෙදෙස්වල ඇති පැරණිතම වංශවල නම් — ඉන්දියානු ගෝත්‍රවල බහුතර කොටසකගේ නම් වෘකයා සහ වලසා ආදි වශයෙන් පවතින සැටිද, උතුරු ඇමෙරිකානු ඉන්දියානුවෝ පෙන්වා දෙති. නෑ ගෝත්‍ර සමග සම්මේලන ඇතිකර ගැනීම දක්වා බොහෝ ගෝත්‍ර වර්ධනය නොවූවද, පොදු වශයෙන් බලන විට ඉහත සඳහන්කළ සංවිධාන ක්‍රමය සැම ගෝත්‍රයකටම බලපායි.

එහෙත් සමාජමය ඒකකයක් වශයෙන් වංශය පැන නැගි පසු වංශ, සහෝදරත්වය සහ ගෝත්‍ර ක්‍රමය බලාත්කාරයෙන් යොමු කර වීමේ අවශ්‍යතාවයකින් යුතුව වර්ධනය වූයේ, ස්වාභාවික වශයෙන්ම මේ ඒකකයෙනි. විවිධාකර ප්‍රමාණ අනුව මේ කාණ්ඩ තුනම ලේ නෑයින් වන අතර එක් එක් කණ්ඩායමක් තනි වශයෙන් සම්පූර්ණ වන්නේය, එමෙන්ම සිය කාර්යයන් තනිවම ඉටුකර ගනී. ඒ අතර එක් කණ්ඩායමක් අනිකට අතිරේක වේ. මේ කාණ්ඩ මත පැවරී ඇති වැඩ කටයුතුවල ක්ෂේත්‍රය පහත් අවධියේ වනචාරීන්ගේ ප්‍රසිද්ධ කටයුතු වල සමස්තය විය. එබැවින් ජනතාවගේ සමාජමය ඒකකයක් වශයෙන් වංශයක් අප සොයාගන්නා හැම අවධියකදීම ඉහතකී ආකාරයට විස්තර කරන ලද ගෝත්‍ර සංවිධානයක් අපට දැකිය හැකිය; නිදසුනක් වශයෙන්, ප්‍රභවය පිළිබඳ සෑහෙන විස්තර ඇති තැන්වලදී, ග්‍රීකයින් හා රෝමන්වරුන් අතර අප එවැනි දෙයක් දකිනවා පමණක් නොව, සෑහෙන ලෙස එවැනි විස්තර නැති තැන්වලදී, ඇමෙරිකන් සමාජමය සංවිධාන සමග සසඳා බැලීමෙන් අතිශයින්ම අමාරු සැක හා ගුප්ත තැන්වලදී, එවැන්නක් ඇති බව සැක රහිතව අපට වටහාගත හැකි වනු ඇත.

සරල ගතියෙන් යුත් මේ වංශ සංස්ථා සංවිධානය අතිශයින්ම අපූරුය!



සෙබළුන්, යුද පොලිස් භටයින් හා පොලිස් කාරයින්, ප්‍රභූවරුන්, රජවරුන්, ආණ්ඩුකාරයින්, නගරපතීන්, හෝ විනිශ්චය කරුවන් නැතිවද, සිරකරුවන්ගෙන් හා නඩු විභාග වලින් තොරවද හැමදෙයක්ම අගේට සිදුවිය. හැම අරගලයක්ම එයින් බලපාන මුළු මහත් ජනකාය විසින් — වංශය හෝ ගෝත්‍රය හෝ වේවා, වංශයේ පුද්ගලයින් හෝ වේවා — තමන් විසින්ම විසඳා ගන්නා ලදී. සභ්‍ය සමාජයේ සියලු වාසි සහ අවාසි අඩංගු අපේ මරණ දණ්ඩන ක්‍රමය මෙන්ම ලේවල පළිගැනීමට තර්ජනය කරනුයේ උච්ච හෝ විරල හෝ පියවරක් ලෙසය. දැනට වඩා විශාල වශයෙන් පොදු දේ එද තිබුණද — ගෘහ පාලනය පොදුවේ සහ කොමියුනිස්ට්වාදී ලෙස පවුල් කීපයක් විසින් ගෙනයන ලදී, ඉඩම් පොදුවේ ගෝත්‍රයට අයත් විය, කුඩා ගෙවතු පමණක් තාවකාලික වශයෙන් පෞද්ගලික ගෙවල්වලට දී තිබිණ — දැනට අපට තිබෙන පරිදි විශාල හා සංකීර්ණ පරිපාලන යන්ත්‍රයක් ඔවුනට උවමනා නොවීය. එය බලපාන අය විසින් තීරණය කරන ලදී. බොහෝ අවස්ථාවලදී සියවස් ගණන් පැරණි චාරිත්‍ර විසින් හැම දෙයක්ම නිසි ලෙස ක්‍රියාවේ යොදවන ලදී. දුප්පතුන් හා පුලන්නන් ඇතිවීමට හේතු නොවීය. කොමියුනිස්ට්වාදී ගෘහ පාලනය සහ වංශය වෘද්ධයින්ට රෝගීන්ට හා යුද්ධය නිසා අංග විකල වූවන්ට සළකන සැටි දැන සිටියහ. ස්ත්‍රීහු ඇතුළු හැමදෙනෙක්ම සමානයෝ වූහ, නිදහස් වූහ. තවම මෙහි වහලුන්ට ඉඩක් නොතිබිණි, රීතියක් වශයෙන් පිටස්තර ගෝත්‍රයක් යටපත් කරගැනීමක්ද නොතිබිණ. ඉරොකුවොයිස්වරු ඒරයිස්වරුන් හා ''මධ්‍යස්ථ ජාතීන්'' 1651 දී පමණ පරාජය කළ විට, ඔවුහු ඔවුන්ට සමයන් සේ තම සම්මේලනයට බැඳෙන ලෙස යෝජනා කළහ. පරාජිත වූවන් එම යෝජනාව ප්‍රතික්ෂේප කළ විට, ඔවුන් ඔවුන්ගේ බිම්වලින් පන්නා දමන ලදී. මෙවැනි සමාජයක් විසින් බිහිකරන ලද ස්ත්‍රී පුරුෂයන්ගේ සැටි, දූෂණය නොවූ ඉන්දියානුන් මුණ ගැසුණ හැම සුදු ජාතිකයෙකුම මේ වනචාරීන්ගේ උදරත්වය, නොවක් ගතිය, චරිත ශක්තිය ගැන අතිශයින්ම පැහැදී සිටින බව දැකිය හැකිය.

අප්‍රිකාවේ මේ වීරත්වය පිළිබඳ උදහරණ අපි මෑතකදී දැක ඇත්තේමු. මාස කීපයකට පෙර* නුබියන් වරුද, මීට අවුරුදු කීපයකට පෙර සූලු කාපිරියෝද — මේ ගෝත්‍ර දෙකෙහිම වංශ සංවිධාන තවම අභාවයට ගොස් නැත — කිසිම යුරෝපීය යුද්ධ හමුදාවකට කළ නොහැකි වීර කම් පෑහ. හෙල්ල සහ තෝමර වලින් පමණක් සන්නද්ධව තුවක්කු නැතිව, වෙඩි උණ්ඩ වර්ෂා පතනයකට මුහුණදී, ඉංග්‍රීසි පාබල හමුදාවේ බයිනේත්තු

* 1879 දී බ්‍රිතාන්‍යයින් හා සූලුවරුන් අතර යුද්ධයද 1883 දී බ්‍රිතාන්‍යයින් නුබියන් වරුන් අතර යුද්ධයද ගැනය. — සංස්කාරක.

වලට කෙළින්ම මුහුණ දී, සටන් ක්‍රම අතින් ලෝකයේ ඉතාම උසස් යැයි සම්මත ඉංග්‍රිසි හමුදව අවුල් කොට, කීපවරක්ම ඔවුන් පසුබැස්වීමෙහිද සමත්වූහ. යුද්ධායුධ අතින් විශාල ලෙස අසමාන තාවයක් තිබියදීත් යුද්ධ සේවය හෝ යුද්ධාභ්‍යාස කුමක්ද යනු නොදැන සිටියදීත්ය, මේ සියලු දස්කම් ඒ ගෝත්‍රිකයින් පෑවේ. පැය විසිහතරක් තුළදී අශ්වයෙකුට වඩා වේගයෙන් හා ඌට වඩා වැඩි දුරක් යාමෙහි කාපිරියෙකු සමත්බව ඉංග්‍රිසින් කියා සිටීමෙන්, ඔවුන්ගේ ශක්තිය හා සහිෂ්ණුතාවය ඉතා හොඳින් ඔප්පුවේ. ඉංග්‍රිසි සිත්තරෙක් කියන පරිදි, ඔවුන්ගේ මාංශ පේශීන් කසයක් මෙන් තදට සහ ශක්තිමත්ව වර්ධනය වී ඇත.

පංති විභජනය ඇතිවීමට පෙර මිනිස් සංහතිය සහ මිනිස් සමාජය පැවතුණේ ඒ අන්දමටය. නූතන සභ්‍ය සමාජයේ බහුතර සංඛ්‍යාව වන වත්මන් නිර්ධන පංතියද, කුඩා ඉඩම් හිමි ගොවියන්ගේද තත්ත්වය පැරණි නිදහස් වංශිකයා සමග සසඳා බලන්නේ නම් වෙනස ඉමහත් බව පෙනේ.

පින්තූරයේ එක් පැත්තක් එසේය. කෙසේවුවද, මේ සංවිධානය විනාශයට මූණ පා තිබුණු බව අප අමතක නොකළ යුතුය. ගෝත්‍රයෙන් ඔබ්බට එය වර්ධනය නොවීය. ගෝත්‍රයන් සම්මේලනයකට ඒකාබද්ධ වීමද, අප පසුව දකින පරිදි, ඉරොකුවොයිස්වරු අනිකුත් අය යටපත් කර ගැනීමට වැර දැරීමද නිසා එහි විනාශය ළඟාවිය. ගෝත්‍රයෙන් පිටත ඇති දෙය නීතියෙන් පිටත ඇති දෙයක් විය. සාම ගිවිසුමක් නොතිබුණු තැන්වලදී ගෝත්‍ර අතර යුද්ධ ඇතිවිය. ආත්මාර්ථකාමය සඳහා පමණක් පසුව අඩු කළ, මිනිසා සතුන් සැම දෙනාගෙන්ම වෙන් කොට පෙන්වන කෲරත්වය සහිතව යුද්ධය දිගටම කර ගෙන ගියේය. අපට පෙනියන පරිදි ඇමෙරිකාවේ වංශ සංවිධාන ක්‍රමය සමෘධියේ ඉහළම පෙත්තට නැඟ තිබිණ. මේ ක්‍රමය අතිශයින්ම නොදියුණු නිෂ්පාදන ක්‍රමයක් ඇති කළේය, එනම් විශාල පෙදෙසක අතිශයින්ම කුඩා ජනගහණයක් පැතිර සිටීමය.එමනිසා තමන්ට බාහිර විරුද්ධ පිටස්තර ප්‍රකෘති ස්වභාවය විසින් මිනිසා යටපත් කර ගැනීම ආකූල දෙයක් විය, ඔහුගේ ළපටි ආගමික අදහස්වල එම ආධිපත්‍යය පිළිබිඹු විය. තමන්ට පමණක් නොව පිටස්තර උදවියට පවා ගෝත්‍රය සීමාවක් විය. ගෝත්‍ර, වංශය සහ ඔවුන්ගේ සංවිධාන ශුද්ධවූ සහ නොකෙලෙසිය යුතු දේ හැටියටද, ඒවා ප්‍රකෘති සොබාදහම විසින් ස්ථාපිත කළ උත්තරීතර බලයක් හැටියටද ගැනිණ. මේවාට මිනිසා සිතින් ගතින් හා ක්‍රියාවෙන් සම්පූර්ණයෙන්ම යටවිය. මේ යුගයේ මිනිස්සු සිත්ගන්නා සුලු අය වශයෙන් අපට පෙනුනද, ඔවුන් එකිනෙකාට නොවෙනස්ය, මාක්ස් කී පරිදි, ඔවුන් තවමත් ආදිම සමූහ නැමති පෙකනි වැල සමග සම්බන්ධ වී ඇත. මේ ආදි සමූහවල බලය බිඳිය යුතුව තිබිණි, එසේම බිඳ දමන ලදී. බැලූ බැල්මට අපට පහත බැසීමක් පෙනෙන ආදි වංශ



සමාජයේ වාම් අධ්‍යාත්මික විභූතියෙන් පහත වැටීමක් සේ පෙනන බලපෑමක් විසින් එය කඩා දමන ලදී. අතිශයින්ම පහත් කෑදරකම, තිරිසන් කාමුකත්වය, අධම ධන තෘෂ්ණාව, පොදු දේපොල කොල්ල කෑමේ ආත්මාර්ථකාමය — මේවා නව සභ්‍ය සමාජයේ, පංතිමය සමාජයේ රජ කරයි. අතිශයින්ම සහාසික මාධ්‍යයන් වන සොර කම, ස්ත්‍රී දූෂණය, රැවටීම, කූට උපක්‍රම ආදිය පැරණි පංති රහිත වංශ සමාජය පීඩාවට පත්කොට පෙරළා දමයි. අවුරුදු 2500 ක් තිස්සේ පවතින නව සමාජය වූ කලී බහුතර සංඛ්‍යාව සූරාකෑම හා යටපත් කිරීම මගින් අතිශයින්ම කුඩා සංඛ්‍යාවකගේ වර්ධනය පෙන්වීමක් මිස අන් කිසිවක් නොවේ, අන් කවර කලකටත් වඩා අද මෙය සත්‍යයකි.

## IV

## ග්‍රීක වංශ

ප්‍රාග් ඉතිහාසීය කාලයේදී ග්‍රීක්, පෙලස්ජියන් සහ අනිකුත් අදළ මනුෂ්‍ය කොට්ඨාශ ඇමෙරිකානුන් මෙන්ම සංවිධාන වූහ, එනම් වංශ, ගෝත්‍ර, සහෝදරත්වය සහ ගෝත්‍ර සම්මේලන ආදිය මෙනි. නිදසුනක් වශයෙන් ඩොරියන්වරුන් අතර මෙන්ම සහෝදරත්වය නොතිබුණා විය හැකිය. හැම අවධියකදීම ගෝත්‍ර සම්මේලනයද සම්පූර්ණයෙන්ම වර්ධනයවී යැයි කිව නොහැක. එහෙත් හැම තැනම ඒකකය වූයේ වංශයයි. ග්‍රීකයින් ඓතිහාසික යුගයට පා තබන අවධියේදී ඔවුහු සභ්‍යත්වයේ දොරටුවට පැමිණ සිටියහ. ඉහත සඳහන් කරන ලද ඇමෙරිකානු ගෝත්‍ර සහ ග්‍රීකයින් අතර සම්පූර්ණ වශයෙන් විශාල සංවර්ධන අවධි දෙකක් ඇත. වීර යුගයේ ග්‍රීකයෝ ඉරොකුවොයිස් වරුන්ට වඩා බොහොසෙයින් දියුණුවී සිටියෝය. මේ හේතුව නිසාම ග්‍රීක වංශ ඉරොකුවොයිස් වංශවල පෞරාණික ස්වරූපය නොදැරිය, කාණ්ඩ විවාහය සැහෙන ලෙස මැකීයාමට පටන් ගත්තේය. මව් අයිතිය පිය අයිතියට ඉඩදී තිබිණ. ඇති වෙමින් පවතින පෞද්ගලික ධනය එමගින් වංශ සංවිධාන ක්‍රමයේ පළමුවැනි උල්ලංඝනය ඇති කළේය. පළමුවැනි උල්ලංඝනය සමගම දෙවැන්නද ඇතිවිය. පිය අයිතිය ඇති කිරීමත් සමගම පොහොසත් උරුමක්කාරියකගේ ධනය විවාහය නිසා සැමියාට හිමිවිය, එනම් වෙනත් වංශයකට අයත් විය. ඒ අනුව වංශ සංවිධාන පදනමට අයත් සියලු නීති රීති උල්ලංඝනය කරන ලදී. මෙවැනි අවස්ථාවලදී තම ධනය වංශය තුළම තබාගැනීම පිණිස තරුණියකට වංශය තුළ විවාහවීමට අවසර දුන්නා පමණක් නොව, එසේ කිරීමටද සිදුවිය.

ග්‍රෝට්ගේ "History of Creece" (ග්‍රීසියේ ඉතිහාසය) අනුව, ඇතිනියානු වංශ විශේෂයෙන් එක් කොට තබන ලද්දේ පහත සටහන් හේතූන් නිසාය:

1. පොදු ආගමික උත්සව, වංශයේ ආදි කාලීන මී මුත්තා වශයෙන් ගැනෙන නියමිත දෙවියෙකුට ගරු කරන පූජකයින්ගේ විශේෂ වරප්‍රසාද, මේ තත්ත්වය අනුව එය විශේෂ පෙළපත් නමකින් හැඳින්වීම.

2. පොදු සොහොන් බිමක් (ඩෙමොස්තීනස්ගේ "Eubulides" කෘතිය සසඳන්න).

3. උරුමය පිළිබඳ අන්‍යෝන්‍ය අයිතිය.

4. ප්‍රචණ්ඩ ක්‍රියාවලට එදිරිව එකිනෙකාට උදව්, ආරක්ෂාව සහ ආධාර දීම.

5. විශේෂයෙන්ම අනාථ දූ වරුන් හා හිමිකාරියන් සහිත අවස්ථාවලදී විවාහවීම වංශය තුළින්ම කරගැනීමට ඇති අන්‍යෝන්‍ය අයිතිය සහ අවශ්‍යතාවය.

6. සමහර අවස්ථාවලදී පමණක් වුවද, පොදු දේපොළද අර්හොන් (විනිසුරු කෙනෙක්) සහ භාණ්ඩාගාරිකයෙකු විසින් පොදුවේ තබාගැනීම.

වංශ කීපයක් එකට බැඳ තබන සහෝදරත්වය කුළුපග බවෙන් අඩුවිය. මෙහිදීද සමාන ස්වරූපයක් දරන අන්‍යෝන්‍ය අයිතිය සහ යුතුකම් ද, විශේෂ ආගමික චාරිත්‍ර ද සහෝදරත්වයට අයත් සාමාජිකයෙකු මරා දැමූ විට ඔහු වෙනුවෙන් පළිගැනීම් දක්නට ලැබේ. තවද ප්‍රභූවරුන් (eupatrides) අතුරෙන් තෝරාගන්නා ලද phylobasileus (ගෝත්‍ර විනිසුරු) කෙනෙකුගේ සභාපතිත්වය යටතේ ගෝත්‍රයකට අයත් සියලු සහෝදරත්ව කලින් කල සමහර පොදු ආගමික උත්සව පැවැත්වූහ.

ඒ අනුව ග්‍රෝට් සහ මාක්ස් මෙසේ පවසති:— ''ග්‍රීක වංශය තුළ මිලේච්ඡයා (නිදසුනක් වශයෙන් ඉරොකුවොයිස්වරුන්) පැහැදිලිව පෙනේ''. තවත් දුර අප පිරික්සා බලත්ම ඔහු තවත් දුරට විද්‍යමාන වේ.

මන්දයත්, ග්‍රීක වංශවලට පහත සඳහන් ගුණාංග අයත් වේ:

7. පිය අයිතිය අනුව පරම්පරාව පිළිගැනීම.

8. උරුමක්කාරිය පිළිබඳ ප්‍රශ්නයේදී හැර අන් අවස්ථාවලදී වංශය තුළ විවාහවීම තහනම්විය. නියෝගයක් වන මේ විශේෂතාවය හා රීතිය පැරණි නීතියේ වලංගු භාවය පැහැදිලිව ඔප්පු කරයි. ස්ත්‍රියක් විවාහවූ විට ඇගේ ආගමික විශ්වාසය අතහැර දමා, ඇය සිය සැමියාගේ වංශයට අයත් ආගම පිළිගැනීමද, ඇය එම සහෝදරත්වයට ඇතුළු කර ගැනීමද යන පිළිගත් නීතියෙන් මෙය පැවත එයි. මෙයද ඩිකෙආර්කුස්ගේ කෘතියෙන් ගත් කොටසක්ද විසින්, වංශයට පිටින් සිදුකළ බව ඔප්පු කෙරේ. "Charicles"කෘතිය තුළින් බෙකර් ඔහුගේ හෝ ඇගේ වංශය තුළ විවාහවීම තහනම් බව කියා සිටී.



9. වංශයට ඇතුළු කරගැනීමේ අයිතිය; පවුලට ඇතුළු කර ගැනීමෙන් එය කළ නමුදු ප්‍රසිද්ධ චාරිත්‍ර විධි අනුව සිදු විය. මෙයද විශේෂ අවස්ථාවලදී පමණකි.

10. නායකයින් තෝරාපත් කිරීමේ සහ පහකිරීමේ අයිතිය. හැම වංශයකටම අර්හොන් කෙනෙකු (විනිසුරු) සිටි බව අපි දනිමු. එහෙත් මේ නිලය සමහර පවුල්වල පරම්පරාවෙන් පරම්පරාවට අයිති වන්නක් සේ අපි නොදකිමු. අසභ්‍යත්වයේ අවසානය දක්වා වූ නිලමය උරුමය පරපුරෙන් බාර ගැනීම, වංශය තුළ දුප්පතුන් හා පොහොසතුන් අතර පැවති සමාන තත්ත්වයට සම්පූර්ණයෙන්ම පටහැනි වූ බව සැළකිය යුතු ය.

ග්‍රෝට් පමණක් නොව නීබුර් සහ මොම්සෙන්ද විරාගත පෞරාණිකත්වය පිළිබඳ ඉතිහාස කාරයින් සියලු දෙනාමද වංශ පිළිබඳ ගැටළුව විසඳීමෙහි අසමත් වූහ. වංශයේ බොහෝ අංග නිවැරදි ලෙස ඔවුන් සටහන් කළද, ඔවුන් එය පවුල්වලින් සැදුනු කණ්ඩායමක් ලෙස නිතර සැළකූ අතර ඒ අනුව වංශයේ ප්‍රකෘති ස්වභාවය හා සම්භවය අවබෝධ කරගැනීමට තමන්ම අසමත් වූහ. වංශ සංවිධානය අනුව පවුල කිසිවිටෙක සංවිධානාත්මක ඒකකයක් නොවීය, එයට එසේ වීමටද නොහැකිය. මන්දයත්, පුරුෂයා සහ ස්ත්‍රිය අවශ්‍යයෙන්ම එකිනෙකට වෙනස් වංශවලට අයත්වූ බැවිනි. වංශය සමස්තයක් වශයෙන් සහෝදරත්වයටද, සහෝදරත්වය ගෝත්‍රයටද අයත්විය. නමුත් පවුල ගැන බලන විට, පුරුෂ පාර්ශ්වයේ වංශයට අඩ වශයෙන්ද ස්ත්‍රී පාර්ශ්වයේ වංශයට අඩ වශයෙන්ද එය අයත් විය. ප්‍රසිද්ධ නීතිය අනුව, අද වුවද පවුල රජය විසින් පිළිනොගනු ලැබේ. අද වන තුරුත් මෙය පවතින්නේ ප්‍රජා නීතියේ පමණකි. කෙසේවුවද, සමාජය හා රජය, සභ්‍යත්වයට වඩා යන්තමින් පැරණි ආයතනයක් වන ඒක භාර්යා පෞද්ගලික පවුල නමැති න්‍යෂ්ටිය වටා කැටි ගැසීමෙන් ඇතිවීයැයි යන, දහඅටවැනි සියවසේදී උල්ලංඝනය නොකළ හැකිවූ විකාර නිගමනයට සියලු ලිඛිත ඉතිහාසය බැස තිබේ.

''ග්‍රෝට් මහත්මයා මෙය සලකුණු කර ගන්නයැ'' යි කියන මාක්ස් මෙසේද ලියයි: ''ග්‍රීකයින් තම වංශ දේව කථාවලින් ගත් බව කීවද වංශ, ඔවුන් විසින්ම නිර්මාණය කරන ලද දෙව්වරුන් හා උපදේවතාවන් සම්බන්ධ දේව කථාවලට වඩා පැරණිය''.

මෝර්ගන් විශේෂතාවයක් දක්වමින් ග්‍රොට්ගෙන් කොටස් ගෙනහැර දක්වන්නේ ප්‍රසිද්ධ සහ කොහෙත්ම සැක නොකරන සාක්කිකරුවෙකු මෙනි. තව දුරටත් කරුණු දක්වන ඔහු හැම වංශයකටම ප්‍රසිද්ධ මීමුත්තෙකුගේ නමක් තිබුණු බව පවසයි. පොදු රීතියක් වශයෙන් සොලොන්ගේ කාලයට පෙර හා ඉන් පසුව මිනිහෙකු අන්තිම කැමැත්තක් නැතිව මළ-

හොත් ඔහුගේ වංශිකයිනට (gennêtes) එම බූදලය අයත්විය. මිනිහෙකු මරා දැමුවහොත් පළමුව ඔහුගේ නෑයින්ටද පසුව ඔහුගේ gennêtes වරුන්ටද, අවසානයේදී සහෝදරත්ව සංවිධානයටද අපරාධකාරයාට එදිරිව අධිකරණය මගින් ක්‍රියා කිරීමේ අයිතියක් තිබිණ. "පැරණි ඇතීනියානු නීති ගැන අප අසන හැම දෙයම එහි වංශ හා සහෝදර බෙදීම් මත පදනම් වූවකි".

මාක්ස් කී පරිදි පොදු මී මුතු පරම්පරාවකින් වංශ පැවත ඒම අතිපණ්ඩිත අවරසිකයින්ගේ මොළ අවුල් කරන ගැටළුවකි. ස්වභාවයෙන්ම මේ මී මුත්තන් හුදු දේව කතාවලින් පැවත එන්නන් යැයි ඔවුන් කීවද, මුලින්ම එකිනෙකට සම්පූර්ණයෙන්ම වෙනස් හා විශේෂ නෑසබඳකමක් නොමැති පවුල්වලින් මේ වංශ කෙසේ වර්ධනයවී දැයි විස්තර කිරීමට ඔවුහු අපොහොසත් වෙති. වංශවල පැවැත්ම විස්තර කිරීමට නම් මේ ගැටළුව ඔවුන් විසින් ලිහා දැමිය යුතුය. එනිසා ඔවුහු වචන ගොඩක් වටේ යමින් මේ වාග්මාලාව ඉදිරිපත් කරති: වංශාවලිය නම් ඇත්ත වශයෙන්ම මිථ්‍යාවකි, එහෙත් වංශය නම් සත්‍යයකි. අවසානයේදී ග්‍රෝට් මෙසේ කියයි — වරහන් තුළ ඇති ප්‍රකාශනය මාක්ස්ගේය: — අප මේ වංශාවලිය ගැන අසන්නේ කලාතුරකිනි, මන්දයත් උසස් හා ගරු කටයුතු අවස්ථාවලදී පමණක් මෙය ජනතාව ඉදිරියට ගෙනෙන බැවිනි. එහෙත් නිහතමානී වංශවලට පොදු චාරිත්‍ර [ඇත්ත වශයෙන් විශේෂයෙකි ග්‍රෝට් මහත්මයාණෙනි] ඇත. පොදු අති ශ්‍රේෂ්ඨ මී මුත්තා සහ වංශාවලිය එමෙන්ම වඩාත් ප්‍රසිද්ධ (නිහතමානී වංශවල මෙය කොතරම් ලොකු විශේෂතාවයක්ද ග්‍රෝට් මහත්මයාණෙනි!) පරිපාටිය සහ අධ්‍යාත්මික පදනම (ආදරනීය මහත්මයාණෙනි! අධ්‍යාත්මික නොව ද්‍රව්‍යමය germanice* fleischlichl) එකක්ම විය".

මෙයට මෝර්ගන් සපයන පිළිතුර මාක්ස් සම්පිණ්ඩනය කරන්නේ මෙසේය: "වංශවලට අනුරූප ලේ නෑ ක්‍රමය එහි මුල් විධිය තුළ — අනිකුත් මිනිසුන් මෙන්ම ග්‍රීකයින්ටද එක් කලෙකදී මෙය තුබුණි — වංශවල සියළුම සාමාජිකයින්ගේ අන්‍යෝන්‍ය සබඳකම් පිළිබඳ දැනීම ආරක්ෂා කර ඇත. ළපටි ළමා කාලයේ සිටම මේ වැදගත් තීරණාත්මක සත්‍යය ඔවුහු ප්‍රගුණත්වයෙන් ඉගෙන ගත්හ. ඒක භාර්යා පවුල පැමිණීමත් සමගම මෙය අභාවයට ගියේය. වංශ නාමයෙන් බිහි වූ වංශාවලිය සමග සසඳා බලන විට පෞද්ගලික පවුලේ පෙලපත නොවැදගත් සේ පෙනේ. මේ වංශයෙන් පැවත එන්නන්ගේ පොදු පරම්පරාව පෙන්වීමේ සාධකයක් වශයෙන් එම නාමය දැන් යොදන ලදී. එහෙත් මෑත පොදු පරම්පරාවක්

* චාම් ජර්මන් බසින්. — සංස්කාරක.



සීමා සහිත ලෙස පෙන්වීම හැරුණු විට, වංශවල ඒ වංශාවලිය කොතරම් පැරණිදයත්, අන්‍යෝන්‍ය නියම නෑකම පෙන්වීමට එහි සාමාජිකයෝ අසමත් වූහ. වංශ නාමය ගැනීමේ අවස්ථාවන් හැරුණු විට, එම නාමය පොදු පෙළපතක් ඔප්පු කරන්නක්, අංග සම්පූර්ණ ලෙස ඔප්පු කරන්නක් විය. ග්‍රෝට් හා නීබූර් විසින් වංශ අතර සියලු නෑකම් සැබවින්ම ප්‍රතික්ෂේප කිරීමද, වංශ, කල්පිත චරිත බවටද, සිතීම් වැලක නිර්මාණයක් බවටද පත්කිරීම අනිත් අතින් හුදකළාව සිටින පොත්ගුල්ලන්ද 'පරමාදර්ශ' විද්‍යාඥයින්ද උතුම් කොට තැකීමකි. මන්දයත්, විශේෂයෙන්ම ඒක භාර්යා චරිතය සහිත පරම්පරා අනුබන්ධනය කිරීම ඈතට ඉවත්කර ඇති බැවිනි, මිථ්‍යා සුරහනා කතාවල අතීතයේ සත්භාවය පිළිබිඹු වන බැවිනි, තමන් රිසි වංශාවලිය නියම වංශ බිහි කළේයැයි හොඳ පැරණි අවරසිකයින් නිගමනය කළ බැවිනි, තවමත් නිගමනය කරන බැවිනි".

ඇමෙරිකන් වරුන් අතර මෙන්ම සහෝදරත්වය මව් වංශයකි, මෙයින් දුහිතෘ වංශ කීපයක් බිඳී ගොස් ඇති අතර ඒවා සමගි කර ඇත්තේ බොහෝ විට ඒ සියල්ලම පොදු මී මුතු පරම්පරාවකට ඈඳමිනි. ඒ අනුව ග්‍රෝට් මෙසේ පවසයි: "හෙකටේයුස්ගේ සහෝදරත්වයට අයත් සියලු නූතන සාමාජිකයිනට සිය පොදු දෙවියා වශයෙන් පරම්පරා දහසයකට උඩදී විසූ මී මුත්තෙකු ඇත".

එම නිසා සහෝදරත්වය තුළ සියලුම වංශ වචනයේ පරිසමාප්ත අර්ථයෙන්, සහෝදර වංශ විය. නෙස්ටර් අගමෙම්නොන්ට උපදෙස් දෙන කොටසේදී, හෝමර් සහෝදරත්වය හඳුන්වන්නේ යුද්ධමය ඒකකයක් වශයෙනි: ගෝත්‍රවලින් හා සහෝදරත්ව වලින් යුද්ධ හමුද ලබා ගන්න, එවිට සහෝදරත්වය සහෝදරත්වයකටද, ගෝත්‍රය ගෝත්‍රයකටද ආධාර කරනු ඇත.

සහෝදරත්වයේ සාමාජිකයෙකු මැරුවකුට එදිරිව නඩු විභාග කිරීමේ අයිතියක් හා යුතුකමක් සහෝදරත්වයකට තිබිණ. මින් පෙන්වන්නේ පෙරකාලවලදී සහෝදරත්වයකට ලේවල පළිගැනීමේ අයිතිය තිබුණු බවයි. මේ හැර මෙවැනි සංවිධානයකට පොදු අභය භූමි හා උත්සව ඇත්තේය. මන්දයත්, විරාගත පැරණි ආර්ය ස්වභාවික පූජාවිධියෙන් වර්ධනය වූ ග්‍රීක මිථ්‍යා කතා වංශ හා සහෝදරත්ව මාර්ගයෙන් ඒවා තුළම ඇතිවූ බැවිනි. මේ සහෝදරත්ව වලට phratriarchos නමින් ප්‍රධානියෙකු සිටියේය. ඩී. කුලාංජ් කියන පරිදි, බලපාන තීරණ මණ්ඩලයන්ද, අධිකරණයත් සහ පරිපාලනයක්ද තිබිණ. පසු කලෙක පැන නැගි රජය පවා වංශය පිළිනොගත් අතර සමහර ප්‍රසිද්ධ කටයුතු සහෝදරත්වයනට පැවරීය.

නෑසබඳකම් ඇති සහෝදරත්ව කීපයකින් ගෝත්‍රයක් සෑදිණ. ඇටිකාහි

ගෝත්‍ර හතරක් තිබිණ. මේ එක් ගෝත්‍රයකට සහෝදරත්ව තුන බැගින්ද, එක් සහෝදරත්වයකට වංශ තිහ බැගින්ද විය. මේ ක්‍රමවත්ව, දැඩි පරීක්ෂාකාරී ලෙස කර ඇති කාණ්ඩ බෙදීම, ඉබේ සිදුවන වෙනස්කම්වලට උවමනාවෙන්ම බාධා කිරීමක් ලෙස පෙනේ. මෙය කවද සහ කුමක් නිසා කළේද යන්න ග්‍රීක ඉතිහාසය හෙළි නොකරයි, මන්දයත් වීර යුගයෙන් ඔබ්බට ග්‍රීකයින් තම මතකය ආරක්ෂා නොකළ බැවිනි.

සංසන්දනාත්මක ලෙස කුඩා ප්‍රදේශයක වාසය කළ ග්‍රීකයින්ගේ උප භාෂා අතර ඇති වෙනස විශාල ඇමෙරිකානු කැලෑ වල වාසය කළ ගෝත්‍රවල උප භාෂාවල වෙනසට වඩා අඩුවෙන් කැපී පෙනේ. කෙසේවුවද, මෙහිදී පවා ප්‍රධාන උප භාෂාව කතාකරන ගෝත්‍ර විශාල වශයෙන් සමගවී තිබෙන බව අපට පෙනේ. පසු කලෙකදී ග්‍රීක කාව්‍ය කෘතීන්හි ප්‍රධාන භාෂාව බවට පත්වූ වෙනම උප බසක් පුංචි ඇටිකාවට පවා තිබිණ.

ග්‍රීක ගෝත්‍ර කුඩා ජනකොටස්වලට එක්වී සිටින සැටි හෝමර්ගේ කෘතීන් තුළින් පොදුවේ අපට දැකිය හැක. කෙසේවුවද මේවා තුළ වංශවලට, සහෝදරත්වයනට සහ ගෝත්‍රවලට සම්පූර්ණ නිදහස තිබිණ. ඔවුහු ඒ වනවිට ප්‍රාකාර වලින් වටකළ නගරවල ජීවත්වූහ. සත්ව කංඩායම්, ගොවිතැන හා හස්ත කර්මාන්ත වල වර්ධනයත් සමගම ජනගහණයද වැඩිවිය. මේ සමග ධනයේ විශාල වෙනස්වීමක් ඇතිවූ නිසා පැරණි ස්වාභාවික ප්‍රජාතන්ත්‍රවාදීත්වය තුළ කුලීනයින් ඇතිවිය. ඉතාම හොඳ ඉඩම් ලබාගැනීම සහ කොල්ලකෑම් සඳහා කුඩා ජන කොටස් නිත්‍යලෙස යුද්ධවල නිරතවූහ. යුද්ධ සිරකරුවන් වහල්බවට ගැනීම මේ වනවිට පිළිගත් චාරිත්‍රයක් බවට පත්ව තිබිණ.

මේ ගෝත්‍රවල හා කුඩා ජන කොටස්වල සංස්ථා සංවිධානය මෙසේය:

1. නිත්‍ය ආධිපත්‍යය, මණ්ඩලය (bulê) විය. මුලදී මෙය වංශවල නායකයින්ගේ සෑදී තිබුණේ යැයි සිතිය හැකි වුවද, පසුව එහි සාමාජික සංඛ්‍යාව විශාල වූ පසු කුලීනයන්ගේ වර්ධනයට හා ශක්තියට අවස්ථාව ලබා දෙනු වස් එයට සාමාජිකයින් පත් කරන ලදී. වීර යුගය කුලීනයින් (kratistoi) ගෙන් සමන්විත වූ බව ඩිඔනිසියස් ස්ථිර ලෙසම ප්‍රකාශ කරයි. වැදගත් කරුණු වලදී අවසාන තීරණය ගැනීමේ බලය මණ්ඩලය සතු විය. තීබස් මණ්ඩලය එටිඕක්ලස්ගේ මළ සිරුර ගරු බුහුමන් ඇතිව වැළලීමටද, පොලිනිකස්ගේ සිරුර බල්ලනට දැමීමටද තීරණය කළ හැටි ඇස්කීලස් විස්තර කරයි. පසුව රජය පැන නැගීමත් සමගම මේ මණ්ඩලය සෙනේට් සභාව දක්වා පරිවර්තනය විය.

2. මහජන සභාව (agora). ඉරෝකුවොයිස් වරුන්ගේ මණ්ඩලය වටා සිටගන්නා සෙසු ජනතාව ක්‍රමවත් විධියකට සාකච්ඡාවට සහභාගි වෙමින් එහි තීරණවලට බලපාන සැටි අපි දුටුවෙමු. හොමෙරික් ග්‍රීකයින් අතර මේ Umstand*, ජර්මන් පැරණි නීති වාක්‍ය විධිය අනුව, සම්පූර්ණයෙන්ම මහජන මණ්ඩලයක් බවට පරිවර්තනය විය. ඉපැරණි ජර්මනුන් අතරද මෙවැනිම සංවිධානයක් විය. වැදගත් කරුණු තීරණය කර ගැනීම සඳහා මණ්ඩලය විසින් සභාව කැඳවනු ලැබීය: හැම මිනිහෙකුටම කතා කිරීමේ බලය තිබිණ. තීරණය ගන්නා ලද්දේ අත උස්සා ඡන්දය දීමෙනි (ඇස්කීලස්ගේ The Suppliants මෙනි) නැතිනම් ප්‍රීති ඝෝෂා පැවැත්වීමෙනි. එය ශ්‍රෙෂ්ඨ හා අවසාන තීරණය විය. මන්දයත් "ග්‍රීසියේ පුරාවස්තු" නම් වූ කෘතියෙහි ෂේමන් මෙසේ සඳහන් කරන බැවිනි: "ක්‍රියාවේ යෙදවීම සඳහා ජනතාවගේ සහයෝගිතාවය අවශ්‍යවන යම්කිසි කරුණක් සාකච්ඡා කරන විට, ජනතාවගේ හැඟීම්වලට විරුද්ධව එය බලෙන් ක්‍රියාවේ යොදවන මාධ්‍යයක කිසිදු සළකුණක් හෝමර් සඳහන් නොකරයි". ගෝත්‍රයේ සෑම වැඩිහිටි සාමාජිකයෙකුම යුද්ධ නායකයෙකුවූ මේ අවධියේදී තවම ජනතාවගෙන් වෙන්කළ හැකි, ජනතාවට එදිරිව ගොඩනැගිය හැකි ප්‍රසිද්ධ ආඥාපතියක් නොතිබිණි. ආදි කාලීන ජන සම්මත වාදය සම්පූර්ණයෙන්ම ක්‍රියාවේ යෙදවිණි. මණ්ඩලයේ හා basileus වරුන්ගේද බලය හා තත්ත්වය නිශ්චය කිරීමේදී ප්‍රධාන කරුණ මෙය විය යුතුය.

3. යුද්ධ නායකයා (basileus). මේ කරුණ ගැන මාක්ස් මෙසේ පවසයි: "වැඩි වශයෙන් කුමාරයින්ගේ උපන් වහලුන් වන යුරෝපීය පණ්ඩිතයින් basileus ඉදිරිපත් කරන්නේ සමකාලීන අදහස අනුව රජෙකු වශයෙනි. යැංකි රිපබ්ලිකන්වාදී මෝර්ගන් මෙයට විරුද්ධවෙයි. අතිශයින්ම උපහාසාත්මක වුවද, සැබෑ ලෙසම ඔහු වාටු බස් දෙඩන ග්ලැඩ්ස්ටන් ගැන සහ ඔහුගේ "Juventus Mundi")** ගැන කියයි: වීර යුගයේ රජවරුන් සහ කුමාරවරුන් උසස් මහාත්ම ගති සමග තම කියවන්නන් වෙත ඉදිරිපත් කරන ග්ලැඩ්ස්ටන් මහතාට, පොදු වශයෙන් ගත් විට, ඔවුන'තර ඍජු උරුමය පිළිබඳ අයිතියක් සම්ප්‍රදායික වශයෙන් තිබුණද එය දැඩි ලෙස ප්‍රකට නොවූ බව පිළිගැනීමට සිදුවිය.'' ඇත්ත වශයෙන්ම, එවැනි උවමනාවට වඩා පැහැදිලි වී නැති, ඍජු උරුමය පිළිබඳ සීමිත ක්‍රමයක් වැඩකට නැති දෙයක් බව ග්ලැඩ්ස්ටන් මහත්මයාට පිළිගැනීමට සිදුවී ඇත.

ඉරොකුවොයිස් හා වෙනත් ඉන්දියානුන් අතර ප්‍රධානීන්ගේ තනතුරු



* උම්ස්ටාන්ඩ්වරු — වටේට කවයක් මෙන් සිටගන්නා අය. — සංස්කාරක

* W. E. Gladstone, "Juventus Mundi (ජගත් යෞවනත්වය). The Gods and Men of the Heroic Age", London, 1869 .— සංස්කාරක.

හා පරම්පරාව අනුව එය පැවරීම සම්බන්ධයෙන් තත්ත්වය මීට ඉහතදී අපි දුටුවෙමු. වැඩි වශයෙන්ම වංශය තුළ නිලධාරීන් තෝරා පත් කර ගැනීම නිසා එතෙක් දුරට එය වංශය තුළ පරම්පරාගත පැවරීමක් විය. ඇබෑර්තුවක් සඳහා වංශ නෑයා එනම් සහෝදරයා හෝ සහෝදරියගේ පුතා — ඔහු තෝරාගැනීම අතහැරීමට සෑහෙන හේතු නොතිබිණි නම් — ක්‍රමයෙන් තෝරාගැනීම සිරිතක් විය. පිය අයිතිය අනුව ග්‍රීසියේ basileus තනතුර පොදු වශයෙන් පියාගෙන් පුතුට හෝ පුතෙකුට හෝ පැවරුණේ මහජන චන්දය අනුව පුතුන් තෝරාගැනීමට වැඩි කැමැත්තක් දැක්වූ නිසා විය හැකිය. එය මහජන චන්ද විමසීමකින් තොරව පරම්පරාව අනුව නීති මගින් පත්කරන ලදැයි කොහෙත්ම සිතිය නොහැක. වංශය තුළ විශේෂ කුලීන පරම්පරාවක මූලික ලක්ෂණ ඉරෝකුවොයිස්වරුන් හා ග්‍රීකයින් අතරද, පරම්පරාව අනුව පවරන ප්‍රධාන ධූරයක හෝ අධිපති ධූරයක මූලික ග්‍රීකයින් අතරද අපි දකිමු. රෝමානුවරුන් අතර ''රජු'' (rex) මෙන්ම ග්‍රීකයින් අතර ග්‍රීකයින්ගේ basileus ධූරයද මහජන චන්දය අනුව හෝ ඔවුන්ගේ පිළිගත් නියෝජිත මන්ත්‍රීමණ්ඩලය මගින් හෝ අගෝරාව මගින් හෝ පත්කළ බව සිතිය හැක.

"Iliad" කතාව අනුව මිනිසුන්ගේ පාලකයා වන අගමෙම්නොන් වටකරනු ලැබූ නගරයක් ඉදිරියේ පෙනී සිටින්නේ ග්‍රීකයින්ගේ රජු හැටි-යට නොව, පෙඩරල් යුද්ධ හමුදවක ප්‍රධාන සේනාධිනායකයා හැටියටය. ග්‍රීකයින් අතර මතභේදයක් ඇතිවූ අවස්ථාවේ ඔහුගේ මේ තත්ත්වය ගැන ඔඩිසෙයි පහත සටහන් කොටසින් මෙසේ කියයි: බොහෝ දෙනෙකු අණදීම හොඳ වැඩක් නොවේ. අපට එක් අණදෙන නිලධාරියෙකු සිටිය යුතුය. (රාජ යෂ්ටිය පිළිබඳ ජනප්‍රිය කවියක් පසුව මෙයට එකතු කරන ලදී). ආණ්ඩු ක්‍රමය ගැන ඔඩිසියස් දේසනා නොකරයි. යුද පිටියට වැදී සිටින යුද්ධ හමුදවේ ප්‍රධාන සේනාධිනායකයාට කීකරු වන ලෙසය ඔහු ඉල්ලා සිටින්නේ. ට්‍රොයි බල කොටුව ඉදිරියේ යුද්ධ හමුදවක් ලෙස පමණක් පෙනී සිටින ග්‍රීකයිනට agora හි විවාද හා කටයුතු සෑහෙන තරම් ප්‍රජාතන්ත්‍රවාදීය. යුද්ධමය තෑගි ගැන එනම් කොල්ලකා ගත් දේ බෙදගැනීමේදී අභිලස් අග්මෙම්නොන්ව හෝ වෙන යම්කිසි basileus කෙනෙකු බෙදන්නා හැටියට නම් නොකරන අතර එම ධූරය ඇතියන්ව-රුන්ගේ පුතුනට හෙවත් ජනතාවට භාර කරයි. 'සීයස් විසින් පෝෂණය කරනු ලැබ', 'සියස්ට දව උපන්' ආදී වාක්‍ය මෙහිදී කිසිවක් ඔප්පු නොකරයි. මන්දයත්, හැම වංශයක්ම කිසියම් දෙවියකුගෙන් පැවත එන අතර, වංශ නායකයින්ගේ පෙළපත ''විශිෂ්ඨ'' දෙවියෙකුගෙනි, මෙහිදී සීයස්ගෙන් පැවත එන බැවිනි. "Iliad" කාව්‍යයට වඩා පසු කාලයක ලියන ලද "Odyssey" මහා කාව්‍යයේ පවා ඌරන් පාලනය කරන එවුමේඋස් වැනි



දසයින් පවා 'දෙවියන් ය' (dioi නැතිනම් theioi) දූතයෙකු වන මුලිඔස් සහ අන්ධ කිවිවරයෙකු වන ඩෙමොඩොකස් "Odyssey" කෘතිය විසින් heros (වීරයින්) හැටියට හැඳින්වීමෙන් අපි එය දකිමු. හෝමර්ගේ ඊනියා රාජත්වය හැඳින්වීමට ග්‍රීක ගත්කරුවෝ basileia යන වචනය යොදති (මන්දයත්, යුද්ධමය නායකත්වය එහි සම්භාවණීය සලකුණ බැවිනි) මණ්ඩලය හා මහජන නියෝජිත මණ්ඩලයත් සමගම පවතින එහි තේරුම යුද්ධමය ප්‍රජාතන්ත්‍රවාදයක් යන්නය''. (මාක්ස්).

Basileus වරුන්ට යුද්ධමය වැඩ කටයුතු සමග පූජක හා නීතිය පිළිබඳ කාර්යයන්ද තිබිණ. පසුකී වැඩ ස්ථිර ලෙස සඳහන් නොකර තිබුණද, ඔහු විසින් යුද්ධමය කටයුතු කරන ලද්දේ ගෝත්‍රයේ උසස්තම නියෝජිතයා හැටියට හෝ ගෝත්‍ර සම්මේලනයේ උසස්තම නියෝජිතයා වශයෙනි. සිවිල් හා පරිපාලන වැඩ කටයුතු ගැන කොතැනකවත් සඳහන් කර නැත. එහෙත් ඔහු ex officio (නිල බලයෙන්) පාලන මණ්ඩලයේ සාමාජිකයෙකි. නිරුක්ති ශාස්ත්‍රය අනුව basileus යන වචනය රජ යනු-වෙන් පරිවර්තන කිරීම නිවැරදිය, මන්දයත් King (kuning) යන වචනය Kuni, künne යන වචනයෙන් බිඳී ගොස් ඇති අතර එය වංශ නායකයා යන අරුතය ගෙන දෙන බැවිනි. එහෙත් රජ නමැති වචනයේ නූතන අරුතය පැරණි ග්‍රීක basileus යන වචනයට කොහෙත්ම නොගැලපේ. පැරණි basileia යන වචනය තුසිඩිඩෙස් හඳුන්වන්නේ patrikê යනුවෙනි, මෙයින් සීමාසහිත නියමිත වැඩ කොටසක් ඉටුකරන්නෙකු හඳුන්වයි. වීර යුගයේදී basileia යනුවෙන් හඳුන්වනු ලැබුවේ නිදහස් මිනිසුන්ගේ නායකත්වයයිද එමෙන්ම basileus ගේ ධූරය දැරූ පුද්ගලයා යුද්ධ නායක පදවියද, විනිසුරු පදවිය හා ප්‍රධාන පූජක පදවියද දැරූ බව ඇරිස්-ටෝටල් පවසයි. ඒ අනුව, basileus ට පසුකී අදහස අනුව ආණ්ඩු බලයක් නොතිබිණ.*

---

* ග්‍රීක basileus මෙන්ම ඇස්ටෙක් යුද්ධ නායකයින් ද නූතන අදහස අනුව කුමාරයින් හැටියට වැරදි ලෙස නම් කර ඇත. පළමුව වැරදි අවබෝ-ධයක් ලබාගෙන පසුව අතිශයෝක්තියට නැඟූ රටත් පසුව උවමනාවෙන්ම වැරදි ලෙස භාවිතා කළ ස්පාඤ්ඤ ජාතිකයින්ගේ වාර්තා පළමුවරට ඓතිහාසික ලෙස විවේචන කළේ මෝර්ගන් විසිනි. මැක්සිකන්වරුන් වනචාරීත්වයේ මැද අවධියේ පසුවන නමුදු, ඔවුන් නව මෙක්සිකෝ පුඑබ්ලෝ ඉන්දියන්වරුන්ට වඩා උසස් අවධියක පසුවූ අතර, ලබාගත් ප්‍රවෘත්ති අනුව ඔවුන්ගේ ව්‍යවස්ථාව මෙසේ විය: ගෝත්‍ර තුනක සම්මේ-ලනයකි, මෙයට කප්පම් ගෙවන ගෝත්‍ර කීපයකි, මේ සම්මේලනය පාලනය කළේ පෙඩරල් මණ්ඩලයක් හා යුද්ධ නායකයෙකු විසිනි. ස්පාඤ්ඤවරු මේ යුද්ධ නායකයා 'අධිරාජ්‍යයෙකු' බවට පත් කළේය. [එංගල්ස්ගේ සටහනකි]

ඒ අනුව වීර යුගයේ ග්‍රීක ව්‍යවස්ථාව තුළ පැරණි වංශ ක්‍රමය සම්පූර්ණයෙන්ම බලපාන සැටි අපට පෙනේ. එහෙත් එහි දිරාපත්වීමේ ආරම්භයද අපි දකිමු: පිය අයිතිය සහ දරුවන් විසින් උරුමය අයිතිකර ගැනීම. මේ නිසා පවුල තුළ ධනය ගොඩගැසීම. වංශවලට එදිරිව පවුල් වලට බලය පසුව ලැබීම. ධන විභජනය නිසා සමාජමය සංස්ථිතිය වෙනස්වී වංශාධිපතියන්ගේ හා රජුන්ගේ පෙළපතක මූලික ලක්ෂණ පහළ විය: පළමුව වහල්බව සීමාවූයේ යුද්ධ සිරකරුවන්ට පමණක් වුවද, නමුත් දැනටමත් ඒ ගෝත්‍රයේ සාමාජිකයින් පමණක් නොව වංශයේ සාමාජිකයින්ද යටකර ගනිමින් පැන නැගිණි. ජීවිකාව ගෙනයාමේ මාධ්‍යයන් වශයෙන්, ගව මහිසාදී සතුන්ද, මිනිසුන්ද, වස්තුවද පැහැර ගැනීම දක්වා පැරණි අන්තර් ගෝත්‍රික යුද්ධ පිරිහිණි. ධනය අගනා වස්තුව මෙන් සළකා එයට ගරු බුහුමන් දක්වන අතර පැරණි වංශමය ආයතන විකෘති කොට ඇත්තේ ධනය බලාත්කාර ලෙස උදුරාගැනීම සාධාරණ දෙයක් සේ පෙන්වීමටය. මෙහිදී එක් අඩුපාඩුවකි: වංශය තුළ පැවති කොමියුනිස්ට් සම්ප්‍රදයයන්වලට එදිරිව පුද්ගලයින් විසින් අළුත ලබාගත් දේපල ආරක්ෂා කිරීම පමණක් නොව, ඉස්සර සෑහෙන ලෙස සැහැල්ලු සම්මාන ලැබූ පෞද්ගලික දේපල ශුද්ධවූ දෙයක් ලෙස සැළකීම ද, මිනිස් සමාජයේ උසස්තම පරමාර්ථයවූ මේ ශුද්ධවූ වස්තුව ලබාගැනීමද, එපමණක් නොව, ක්‍රමයෙන් වර්ධනය වෙමින් පවතින දේපොල ලබාගැනීමේ නව ක්‍රම ස්ථිර කිරීමද, ඒ අනුව, ධනයේ වැඩිවීම ස්ථිරවම වේගවත් කිරීමද සමග එයට පොදු ජන වලංගුවක් ලබා දීමද කරන ආයාතනයක් නො තිබිණ. අළුත සිට නැග එන සමාජමය විභජනයද ධනය ඇති පංතියට ධනය නැති පංතිය සූරාකෑමේ අයිතිය සහ ඉහතකී පංතිය පසුකී පංතිය පාලනය කිරීමද ස්ථාපිත කරන ආයතනයක් නොතිබිණි.

මෙසේ මේ ආයතනය බිහිවිය. රජය සොයා ගන්නා ලදී.

## V

## ඇතැන්ස් රජයේ නැගීම

රජය වර්ධනය වූයේ වංශ ව්‍යවස්ථාවට අයත් සමහර සංවිධාන පරිවර්තන කිරීමෙන්ද, අළුත් සංවිධාන ඇති කිරීමෙන්ද, සමහර සංවිධාන වෙනස් කිරීමෙන්ද අවසානයේදී නියම ආණ්ඩුකාර බලධාරීන් ඒවා සියල්ලතම ඉහලින් සිටීමෙනි — වංශ, සහෝදරත්ව ගෝත්‍ර ආදිය මගින් ආරක්ෂා කරන ''අවිගත් ජනතාවක්'' වෙනුවට ''අවිගත් ප්‍රසිද්ධ බලයක්'' මේ බලධාරීන්ගේ සේවය යටතේ ඇතිවීම සහ එම නිසාම එම බලය ජනතාවට



විරුද්ධව යෙදවිය හැකිවීම — මේ සියල්ලම පැරණි ඇතැන්ස්හි තරම් හොඳට, අඩු තරමින් එහි මූලික අවධියේදී සොයා ගැනීමට වෙන කිසිම තැනක නොහැකිය. මෝර්ගන් විසින් ප්‍රධාන වශයෙන් වෙනස්වූ ක්‍රම විස්තර කර ඇත. ඒ වෙනස්වීම් වලට තුඩු දුන් ආර්ථික හේතූන් වැඩි වශයෙන් එකතු කිරීමට මට සිදුවිය.

වීර යුගයේදී ඇතැන්ස් වාසීන්ගේ ගෝත්‍ර හතර ඇටිකාහි වෙන් වෙන් පෙදෙස්වල පදිංචි වී සිටියාහ. මේ ගෝත්‍ර හතර සංයුක්ත වී ඇති සහෝදර සංවිධාන දෙළහට පවා සෙක්‍රොප්ස්හි නගර දෙළහක වෙන වෙනම ආසන තිබිණ. ව්‍යවස්ථාව වීර යුගයට අයත් වූවකි: මහජන මන්ත්‍රී මණ්ඩලයක්, මහජන සභාවක් සහ basileus (යුද්ධ නායකයෙකි). ලිඛිත ඉතිහාසය අනුව ඉඩම් පෞද්ගලික දේපොල හැටියට බෙදී ගිය සැටි අපට දැකිය හැකිය. මෙය සාපේක්ෂ වශයෙන් වර්ධනයවූ භාණ්ඩ නිපදවන තත්ත්වයට සහ වනචාරිත්වයේ උසස් අවධියේ අවසාන කාලයට සරිලන භාණ්ඩ හුවමාරු වෙළඳාමකටද අනුරූප විය. ධාන්‍ය වගාවලට අමතරව වයින් හා තෙල් වර්ග සෑදීමද ආරම්භ විය.ඊජියන් මුහුදේ වෙළහෙළඳාම පීනිසියන් වරුන්ගේ සිට ඇටික් වරුන් අතට පත්විය. ඉඩම් මිලදී ගැනීම සහ විකිණීමද, කෘෂිකාර්මික, හස්ත කර්මාන්තමය, වාණිජ හා නැව් සේවය ආදී වශයෙන් ශ්‍රම විභජනයක් ඇතිවීමද නිසා වංශ, සහෝදරත්ව හා ගෝත්‍රවලට අයත් සාමාජිකයින් එකම ගෝත්‍රයට අයත්වූ නමුදු ඒ ඒ සහෝදරත්වයන්ට හා වංශයන්ට අයත් නොවූ නිසා එම ප්‍රදේශයේම පදිංචි වූ අය එහිම අමුත්තන් ලෙස පිළිගන්නා ලදහ. මේ අය මේ සංවිධාන වලට අයත් නැති නිසා තම පදිංචි ස්ථානවල අමුත්තෝ වූහ. සාම කාලයේදී මහජන මන්ත්‍රී මණ්ඩලයේ හෝ ඇතැන්ස්හි යුද්ධ නායකයාගේ උපදෙස් නොවිමසා හැම සහෝදරත්වයක්ම සහ ගෝත්‍රයක්ම සිය පරිපාලන කටයුතු කර ගෙන ගියහ. එහෙත් සහෝදරත්වයට හෝ ගෝත්‍රයට හෝ අයත් ප්‍රදේශවල පදිංචි වී සිටි, එම සංවිධාන වල සාමාජිකයින් නොවන මිනිසුන්ට, පරිපාලන කටයුතු වලට හවුල්වීමට නොහැකි විය.

මේ සියල්ලම වංශ ව්‍යවස්ථාවේ සාමාන්‍ය ක්‍රියාකාරිත්වය කෙතරම් උල්ලංඝනය කළේදයත්, වීර යුගයේදී පවා මෙයට ප්‍රතිකර්මයක් අවශ්‍ය විය.ටෙසේයස් විසින් කෙටුම්පත් කරන ලදැයි කියන ව්‍යවස්ථාවක් ඉදිරිපත් කරන ලදී. මේ වෙනස් කිරීමේ ප්‍රධාන ලක්ෂණය වූයේ ඇතැන්ස්හි මධ්‍යම පාලනයක්, එනම් මෙතෙක් ස්වාධීනව ගෝත්‍ර විසින් කරගෙන ගිය සමහර කටයුතු පොදු කටයුතු ලෙස ප්‍රකාශ කොට, ඒවා සඳහා ඇතැන්ස්හි රැස්වූ ප්‍රධාන මණ්ඩලයක් ඇතිකිරීමය. මේ අනුව ඇමෙරිකාවේ මුල් වැසියන් කිසි දිනෙක නොගත් පියවරක් ඇතීනියන්වරු ගත්හ. අසල්වැසි ගෝත්‍රවල සම්මේලනයක් වෙනුවට දැන් සියලුම ගෝත්‍ර වලට අයත් ජනතාව

ඒකාබද්ධ කිරීමක් ඇති විය. ගෝත්‍ර හා වංශවලට අයත් නීතියට ඉහලින් පොදු ඇතැන්ස් නීති පද්ධතියක් මේ නිසා පැන නැගිණ. තමන්ගේ ගෝත්‍රවලට අයත් නැති ප්‍රදේශවල පදිංචි වී සිටින ඇතැන්ස් පුරවැසියනට සමහර අයිතිවාසිකම් සහ අමතර නීත්‍යානුකූල ආරක්ෂා මේ නීති පද්ධතිය මගින් ප්‍රදානය කරන ලදී. කෙසේ හෝ මෙය වංශයේ ව්‍යවස්ථාව යටපත් කර දැමීමේ පළමුවැනි පියවර විය. ඇටික් ගෝත්‍රවලට අයත් නොවන ඇතැන්ස් වංශ ව්‍යවස්ථාවට සම්පූර්ණයෙන්ම පිටින් සිටි පුර වැසියන් පසුව ඇතුළු කර ගැනීම සඳහා ගත් පළමුවැ නිපියවර මෙය විය.ටෙසේයස් විසින් ඉදිරිපත් කරන ලද දෙවැනි නීතිය ගෝත්‍ර සහෝදරත්ව සහ වංශ භේද නොතකා සියලුම ජනතාව කොටස් තුනකට — හෙවත් ප්‍රභූවරුන්, හෙවත් ගොවීන්, හෙවත් කර්මාන්ත කාරයින් වශයෙන් — බෙදීමත්, එමෙන්ම ප්‍රභූවරුන්ට පාලක මණ්ඩවලට පත්වීමේ විශේෂ අයිතිය පවරා දීමත්ය. ප්‍රභූවරුන්ට පාලක මණ්ඩලවලට පත්වීමේ අයිතිය හැරුණු විට, මේ විභජන ක්‍රියාත්මක නොවුණු බව සබැයැයි කිව හැක්කේ පංති අතර වෙනත් නීත්‍යානුකූල වෙනස්කම් ඇති නොකළ බැවිනි. කෙසේ වුවද, මෙය අපට වැදගත් වන්නේ, හෙමින් වර්ධනය වූ සමාජමය බලවේගයන් හෙළි කරන බැවිනි. සමහර පවුල් විසින් සිරිතක් වශයෙන් වංශය තුළ නිලතල දැරීම එම පවුල්වල වරප්‍රසාදයක් බවට පත්වීමද, එයට විරුද්ධවීම කලාතුරකින් සිදුවූවක් බවද පෙන්වා දෙයි. ධනය නිසා බලවතුන් වූ මේ පවුල් වංශයට බාහිරව වරප්‍රසාද ලත් පංතියක් ලෙස සංවිධානවීමට පටන් ගති. ක්‍රමයෙන් වැඩී එන රජය මේ අයුතු පැහැර ගැනීම ස්ථිර කළේය. සත්ව පාලකයින් හා හස්ත කර්මාන්ත කාරයින් අතර මේ ශ්‍රම විභජනය වංශවලට හා ගෝත්‍රවලට අයත් පැරණි සමාජමය විභජනයේ ආධිපත්‍යයට අභියෝග කරන්නක් බව වැඩි දුරටත් පෙන්වා දුන්නේය. වංශ සමාජය හා රජය අතර නොවිසඳිය හැකි ප්‍රතිවිරෝධී තාවයක් මින් ප්‍රකාශ කරන ලදී. මිනිසුන් වරප්‍රසාද ලැබූ පංතියක් සහ පහත් පංතියක් වශයෙන්ද පසුකී පංතිය වෘත්තීන් අනුව දෙකඩ කිරීමෙන්ද, එමගින් එක් පංතියකට විරුද්ධව තවත් පංතියක් ඇති කිරීමෙන්ද වංශ සංවිධානය කඩා බිඳ දමා රජයක් ඇති කිරීමට දරූ ප්‍රයත්නය මෙසේ විය.

සොලොන්ගේ කාලය දක්වාවූ ඇතැන්ස්හි දේශපාලන ඉතිහාසය ප්‍රසිද්ධවී ඇත්තේ අසම්පූර්ණ වශයෙනි.Basileus තනතුර අභාවයට ගියේය. ප්‍රභූවරුන් අතරින් තෝරාගත් archon වරු රජයේ ප්‍රධානීන් වූහ. ප්‍රභූවරුන්ගේ පාලනය ක්‍රි. ව. පූර්ව 600 දක්වා — ඉවසා ගත නොහැකි තත්ත්වයක් දක්වා — වේගයෙන් දියුණු විය. ප්‍රභූවරුන්ගේ නිදහස යටපත් කිරීමේ ප්‍රධාන මාධ්‍යය වූයේ මුදල් සහ අධික පොලී අයකර ගැනීමය. ප්‍රභූවරු මුහුදුබඩ වෙළහෙළඳාමද ඉඳහිට කොල්ලකෑම්ද ඇතිවූ ඇතැන්ස් පුරය



හා ඒ වටා පදිංචි වූහ. මේවා වලින් මූල්‍ය ධනය රැස්කරගත් ප්‍රභූවරු පොහොසත් වූහ. මේ අනුව වර්ධනය වී ගෙන ආ මුදල් ක්‍රමය, සොබාවික ආර්ථිකයක් මත ගොඩ නැඟුණු ගම්බද ගතානුගතික ජීවිතය තුළට වැදුණේ හැම දෙයක්ම පුළුස්සා දමන ඇසිඩ් වර්ගයක් මෙනි. වංශවලට අයත් ව්‍යවස්ථාව මුදල් ක්‍රමය සමග කොහෙත්ම නොගැලපේ. ඇටික්හි කුඩා ඉඩම් හිමි ගොවියාගේ විනාශය ඔහු ආරක්ෂා කළ පැරණි වංශ බැඳීම් ලිහා දැමීමත් සමග එකට සිදුවිය. ණයහිමියාගේ බිල් පත් සහ උකස් පිළිත පත් — මේ වන විට ඇතැන්ස් නුවර වැසියෝද උකස් තැබීම දන සිටියහ — වංශ හෝ සංහෝදරත්ව හෝ නොසැළකිය. එහෙත් පැරණි වංශ ක්‍රම ව්‍යවස්ථාව මුදල්, ණයදීම, මුදල් ණයවීම නොදන සිටියේය. එම නිසා නිත්‍ය වශයෙන් ප්‍රසාරණය වන ප්‍රභූවරුන්ගේ මුදල් නීතිය නව නීතියකට එනම් ණය කාරයාට විරුද්ධව ණය හිමියා ආරක්ෂා කිරීමද කුඩා ඉඩම් හිමි ගොවීන් මුදල් හිමියා විසින් සූරාකනු ලැබීම සම්මත කිරීමද රීතියක් වශයෙන් තහවුරු විය. ඇටිකාහි ගම්බද පළාත් වල අසවල් ඉඩම අසවල් මිළකට උකස් කොට ඇත්තේය යන පාඨ සහිතව උකස් නාම පුවරු හැම තැනම පැන නැඟිණි. එවැනි පුවරු නැති ඉඩම් එක්කෝ නියමිත කාලයට නිදහස් කර නොගැනීම නිසා හෝ නැති නම් පොළිය නොගෙවීම නිසා හෝ පොළිකාර ප්‍රභූවරයාට සින්න වී තිබිණ. එම ඉඩමේ අඳ ගොවියකු මෙන් වැඩ කරමින්, හයෙන් පස් කොටසක් අළුත් ඉඩම් හිමියාට දී හයෙන් කොටසක් තමාට තබා ගැනීමට අවසර ලැබෙන්නේ නම්, එය තෑග්ගක් ලෙස ගොවියා සැලකුවේය. එපමණක්ද නොව, ගොවියාට අයත් ඉඩම විකුණා ලැබෙණ මුදල ණය හිමියාගේ ණය මුදලට ප්‍රමාණවත් නොවේ නම් හෝ පොරොන්දුවකින් එම ණය සුරක්ෂිත නොකර තිබුනේ නම්, ණය කාරයාගේ ඉල්ලීම සපුරාලීම සඳහා ණය ගත් පුද්ගලයාට තම දරුවන් පිට රටකට වහලුන් මෙන් විකිණීමට සිදුවිය. පියා විසින් තම දරුවන් විකුණා දැමීම — පිය අයිතියේ සහ ඒක භාර්යා ව්‍රතයේ පළමුවැනි ඵලය එයයි! ලේ උරා බොන්නා එයින්ද සෑහීමට පත් නොවූයේ නම් ගොවියාට ණය හිමියාගේ වහලෙකු මෙන් යටත් වීමට සිදුවිය. ඇතැන්ස්හි ජනතාව අතර සභ්‍යත්වය උදාවූයේ මේ විධියටය.

පෙර ජනතාවගේ ජීවන තත්ත්වය වංශ සංවිධාන ව්‍යවස්ථාවට අනුකූලව පැවති කාලයේදී එවැනි විප්ලවයක් කිරීමට කොහෙත්ම හැකියාවක් නොතිබිණ. එහෙත් මෙහිදී එය සිදුවූයේ කෙසේද යන්න කීමට කිසිවකුට නොහැකිය. අපි මොහොතකට ඉරොකුවොයිස් වරුන් වෙත හැරෙමු. ඇතැන්ස් පුරවැසියන් මත පැටවූවාක් වැනි දෙයක් ඉරොකුවොයිස් වරුන් මත පැටවීම, එනම් ඔවුන්ගේ කැමැත්තට විරුද්ධව එවැන්නක් පැටවීම සිතා ගැනීමට පවා බැරිය. ඉරොකුවොයිස් වරුන්ගේ දිවි පෙවෙත රැක

ගැනීම සඳහා කර ගෙන ගිය නිෂ්පාදන මාධ්‍යය හැමදම එකාකාරව නො-වෙනස්ව පැවතින, එවැනි ප්‍රතිවිරුද්ධතාවයන් පැන නැගීමක් නොවීය, ධනවතුන් හා දුප්පතුන් අතර සූරාකන්නන් හා සූරාකනු ලබන්නන් අතර ප්‍රති පක්ෂ භාවයක් බාහිර වශයෙන් පැටවීමක් ඇති නොවීය. ස්වභාව-ධර්මයේ බලවේගයන් මැඩීමට තවම ඉරෝකුවොයස් වරුන්ට නොපුළු-වන. එහෙත් සොබාදහම විසින් ඔවුන්ට දී තිබුණු සීමාවන් තුළ ඔවුන්ගේ නිෂ්පාදනයෙහි ඔවුහු ස්වාමිවරු වූහ. තමන්ගේ කුඩා වතුවලින් ලබන අයහපත් අස්වැන්නද, තම ගංගා හා ඇල දෙල වලින් ලබාගන්නා මසුන් අහෝසිවී යාමද, නැතිනම් දඩ මස් ලබාගැනීම අහෝසිවීයාමද හැරුණු විට, ඔවුන්ගේ ජීවිකාව කරගෙන යාම සඳහා වූ නිෂ්පාදන මාධ්‍යයේ දුර්විපාකය කුමක්ද යන්න ඔවුහු දන සිටියහ. එහි ප්‍රතිඵලය මෙසේ වනු ඇත: පෝෂණය හිඟ වුවද, බහුල වුවද කලින් අරමුණු නොකළ සමාජමය විපර්යාසයක් නොගෙනෙනු ඇත, වංශමය බැඳීම් කඩා බිඳ නොදමනු ඇත, එසේත් නැතිනම් එකිනෙකට විරුද්ධව සටන් කරන ප්‍රතිවිරෝධී පංතීන් හැටියට වංශවල හා ගෝත්‍රවල සාමාජිකයින් නොබෙදනු ඇත. නිෂ්පාදනය අතිශයින්ම සීමාසහිත ලෙස කරගෙන ගිය නුමුදු නිෂ්පාදකයා තම නිෂ්පාදනය පාලනය කළේය. සභ්‍යත්වයේ පැමිණීමත් සමග නැතිව ගිය වනචාරි නිෂ්පාදනයේ අතිමහත් වාසිය මෙය විය. ස්වාභාවික බල වේගයන් මත මිනිසා විසින් ඇති කරන ලද ඉමහත් පාලනය සහ දැන් ක්‍රියාත්මක කළ හැකි ස්වාධීන සබඳතාවයන්ද මත පදනම් කර ගනිමින් එය නැවත දිනාගැනීම අනාගත පරම්පරාවල කාර්ය භාරය වන්නේය.

ග්‍රීකයින් අතර මෙසේ නොවීය. ගව මහීසාදී සතුන් සහ සුඛෝපභෝගී භාණ්ඩ පෞද්ගලික දේපොල බවට පත්වීම නිසා පුද්ගලයින් අතර හුවමාරු කර ගැනීම් ඇතිවිය, නිෂ්පාදිතයත් හුවමාරු භාණ්ඩ බවට පෙරළිණ. ඇතිවූ විප්ලවයේ මුල මෙය විය.නිෂ්පාදකයා විසින් නිෂ්පාදනය කරන ලද නිෂ්පාදිතය කෙළින්ම පරිභෝජනය කිරීම අතහැර දැමූ පසු, නිෂ්පාදිතය මත ඇති පාලනයද ඔහු අතින් ගිලිහී ගියේය. නිෂ්පාදිතයට මොනවා වන්නේද යන්න නිෂ්පාදකයෝ නොදත්හ. නිෂ්පාදිතය කවදු හෝ නිෂ්පාදකයාට විරුද්ධව යෙදවීමේ හැකියාවද, ඔවුන් පෑගීමට හා සූරාකෑමට එය පාවි-ච්චි කිරීමේ හැකියාවද පැන නැගිණි. ඒ අනුව, පුද්ගලයින් අතර හුවමාරුව අහෝසි නොකරන්නේ නම් සීමා රහිත කාලයකට තම නිෂ්පාදනයෙහි ස්වාමියා වීමට කිසිම සමාජයකට නොහැකි අතර එහි නිෂ්පාදන ක්‍රියාවලියේ සමාජය විපාකයන් පාලනය කිරීමට ද අපොහොසත් වන්නේය.

කෙසේවුවද, පෞද්ගලික හුවමාරුව පිහිටවූ විගසම සහ නිෂ්පාදිත ද හුවමාරු භාණ්ඩ බවට පත්වූ විගසම නිෂ්පාදිතය නිෂ්පාදකයා මත සිය පාලනය ප්‍රකාශ කරන බව ඉක්මණින්ම ඇතැන්ස් පුර වැසියෝ දැන



ගත්හ. හුවමාරු භාණ්ඩ නිපදවීමත් සමගම තමන්ගේ ප්‍රයෝජනය සඳහා බිම් වගා කිරීමට පෞද්ගලික ගොවීන්ට සිදුවිය, ඉක්මණින්ම පෞද්ගලික ඉඩම් අයිතියද ඇතිවිය. සියළුම භාණ්ඩ හුවමාරු කිරීමේ විශ්ව භාණ්ඩය වන මුදල් ඇතිවිය. මිනිස්සු මුදල් සොයාගත් විට, මුළු මගත් සමාජයම හිස නමන විශ්ව බලවේගය බවට එය පත්වන්නේ යැයි ඔවුහු සැක නොකළහ. තම නිර්මාණකයින්ගේ චේතනාව හා දැනීම නොතකා හදිසියේ පැන නැඟුනු මේ නව බලවේගයට දුෂ්ට ලෙස යටත්වීමට ඇතැන්ස් පුර වැසියනට සිදුවිය.

කළ යුත්තේ කුමක්ද? පැරණි වංශ සංවිධානය ජයග්‍රාහී ලෙස ඉදිරියට යමින් සිටින මුදල් ඉදිරියේ බෙලහීන වූවා පමණක් නොවේ; මුදල්, ණය දෙන්නන්, ණය කාරයින්, බලාත්කාරයෙන් ලබා ගැනීම වැනි දේ වලට මේ සංවිධාන තුළ ඉඩක් ලබාදීමටද අසමත් විය. එහෙත් නව සමාජමය බලවේගයන් පැන නැගිණි. ශ්‍රද්ධාවත් හැඟීම් හෝ පැරණි හොඳ කාලයට නැවත හැරී ඒම පිළිබඳ ආශාව හෝ මුදල් සහ පොළී අය කිරීම අහෝසි කර දැමීමෙහි අසමත් විය. ඇරත් වංශ සංවිධාන ව්‍යවස්ථාවේ සුළු උල්ලංඝණයන් කීපයක් කර තිබිණි. මුළු මහත් ඇටිකාවේ සහ විශේෂයෙන් ඇතැන්ස් නුවර තුළ ඇති වංශ හා සහෝදරත්වයන් ව්‍යාකූල ලෙස මිශ්‍ර කිරීමද පරම්පරාවෙන් පරම්පරාවට වැඩිවූයේ තම වංශයෙන් පිටතට ඉඩම් කැබැලි විකිණීමේ බලය සහ ඒ වනවිට පවා තම නිවස විකිණීමේ තහනමද නොතකාය. කර්මාන්තයේ හා වාණිජයේ දියුණුවත් සමගම නිෂ්පාදනයේ විවිධ අංශ වන කෘෂිකාර්මිකය, හස්ත කර්මාන්තය, කර්මාන්තාංශවල විවිධ නිපුණත්වයද, වෙළඳාමද නැව් පැදවීමද ආදියෙහි ශ්‍රම විභජනයක් ඇතිවිය. ජන ගහණය දැන් වෘත්තීය අනුව සැහෙන ලෙස කාණ්ඩවලට බෙදී සිටියහ. වංශවල හෝ සහෝදරත්වවල නොතිබූ අළුත් හා පොදු උවමනාවන් කීපයක්ම මේ කණ්ඩායම් වලට තිබිණි. මේ නිසා ඔවුනට සරිලන අළුත් නිලතල ඇතිකිරීමට සිදුවිය. වහලුන්ගේ සංඛ්‍යාව අති විශාල වශයෙන් වැඩිවූ අතර මේ ආදි අවධියේ සිටි නිදහස් ඇතැන්ස් වාසීන්ගේ සංඛ්‍යාවට වඩා එය බොහොසෙයින් වැඩි වී යැයි ගිණිය හැක. වංශ ව්‍යවස්ථාව වහලුන් ගැන නොදන සිටි නිසා මේ දස පිරිස් පාලනය කිරීමේ මාධ්‍යයන් නොදන සිටියේය. අවසාන වශයෙන් වෙළඳාම පිටස්තර බොහෝ දෙනාගේ සිත් ගත් අතර ඇතැන්ස් නුවර මුදල් හම්බකිරීමට පහසු බැවින් ඔවුහු එහි පදිංචි වූහ. පැරණි ව්‍යවස්ථාව අනුව මේ නොරටුන්ට අයිතියක් හෝ ආරක්ෂාවක් නීතිය මගින් නොලැබිණි. ගතානුගතික ඉවසීම හැරුණු විට ඔවුහු කරදරකාරී හා විදේශීය කොටස් වශයෙන් එහි රැඳුණාහ.

කෙටියෙන් කියන්නේ නම් වංශ ව්‍යවස්ථාව අවසානය කරා එමින් තිබිණි. සමාජය වැඩි වැඩියෙන් ඉන් පිටතට වැඩෙමින් පැවතිණ. තම

ඇස් ඉදිරි පිට වැඩෙමින් පවතින දුෂ්ට ලක්ෂණයන් මකා දැමීමට හෝ තුනී කිරීමට එය අසමත් විය. මේ අතර කෙසේවුවද, රජය හෙමිහිට වර්ධනය විය. ශ්‍රම විභජනය නිසා පළමුවැනි කණ්ඩායම් පළමුව නගරය හා ගම අතරද පසුව නගර කර්මාන්තයේ විවිධ ශාඛා අතරද පැන නැගිණි. ඔවුනු සිය අයිතිය ආරක්ෂා කර ගැනීම සඳහා නව සංවිධාන ඇති කර ගත්හ. නොයෙක් මාදිලියේ මහජන නිලතල ඇති කරන ලදී හැමටම වඩා මේ යෞවන රජයට අවශ්‍යවූයේ යුද්ධ හමුදවකි. මුහුදු යන ඇතැන්ස් පුර වැසියන් අතර මෙය නාවුක හමුදවක් විය. ඉඳ හිට ඇතිවන යුද්ධවලට හා වෙළඳ නැව් ආරක්ෂා කිරීම සඳහා මෙය යොදවන ලදී සොලොන්ට පෙර අනුමාන කාලයකදී ගෝත්‍ර දෙළහ බැගින්වූ කුඩා දිස්ත්‍රික්ක නවුක්රාරි සංවිධාන විසින් පිහිටුවන ලදී. මේ හැම නවුක්රාරි සංවිධානයක්ම යුද්ධායුද හා භටයින්ගෙන් සමන්විත එක් යුද්ධ නැවක්ද, ඊට අතිරේකව අසරුවන් දෙදෙනෙකුද සැපයිය යුතුය. මේ යෙදීම වංශ සංවිධානයට දෙයාකාර පහර දීමක් විය. පළමුව, අවිගත් ජනතාව සමස්තයක් වශයෙන් නියෝජනය නොකරන මහජන බලයක් පළමුවරට එය නිර්මාණය කිරීමය. දෙවනුව, නෑදෑ කාණ්ඩායම් අනුව, පොදු පදිංචිය අනුව මහජන පොදු කාර්යයන් සඳහා ජනතාව බෙදීමය. මෙයින් ඇඟවෙන්නේ කුමක්ද යන්න අපට පසුව පෙනෙනු ඇත.

සූරාකනු ලැබූ ජනතාවගේ පිටිවහලට වංශ සංවිධානවලට ඉදිරිපත්වීමට නොහැකිවීම නිසා නැගී එන රජයේ ආධාරය ගැන පමණකි, ඔවුනට බලාපොරොත්තු විය හැකි වූයේ. රජය සොලොන්ගේ ව්‍යවස්ථාවෙන් පිහිට ලබාදුන් අතර පැරණි ව්‍යවස්ථාවෙන් ගත යුතු දේ ගනිමින් සිය ව්‍යවස්ථාව ශක්තිමත් කර ගත්තේය. දේපොල පැහැර ගනිමින් ඊනියා දේශපාලන විප්ලව වැලක්ම සොලොන් පටන් ගත්තේය. ක්‍රි. ව. පෙර 594 දී ඔහුගේ ප්‍රතිසංස්කරණ ක්‍රියාවට යෙදූ ආකාරය ගැන අපි මෙහිදී නොසළකමු. මෙතෙක් සිදුවූ සියළු විප්ලව එක් විධියක දේපොලක් තවත් විධියක දේපොලකින් ආරක්ෂා කිරීම සඳහා කළ විප්ලවයන්ය. එක් විධියක් එය උල්ලංඝණය නොකොට තවත් විධියක් ආරක්ෂා කළ නොහැක. ප්‍රංශ මහා විප්ලවයේදී ධනවාදී දේපොල ආරක්ෂා කිරීම සඳහා රදළවාදී දේපොල පරිත්‍යාග කරන ලදී. සොලොන්ගේ විප්ලවයේදී ණය හිමියාගේ දේපොලවල වාසිය තකා ණයගැති පුද්ගලයාගේ දේපොලවලට පීඩා විදීමට සිදුවිය. ණය අහෝසි කර දමන ලදී. නියම විස්තර අපි නිසිලෙස නොදනිමු. එහෙත් ණයට යටත්ව තුබූ ඉඩම්වල උකස් දැන්වීම් පුවරු ගලවා දමා පැන ගිය අයට සහ ණය නිසා විදේශවලට විකුණා දැමූ සියලු පුද්ගලයින්ට නැවත පැමිණීමට ඉඩ ලබා දුන් බව පවසමින් සොලෝන් තම කවි මගින් උදම් අනන බව අපි දනිමු. මෙය කළ හැකි වන්නේ පවතින



දේපොල අයිතිය උල්ලංඝණය කරමිනි. ඇත්ත වශයෙන්ම, සියලුම ඊනියා දේශපාලන විප්ලවවල පරමාර්ථය එක් විධියක දේපලක් අල්ලා ගනිමින්, සොරකම් කරමින් තවත් විධියක දේපොලක් ආරක්ෂා කිරීමය. අවුරුදු 2500 ක් තිස්සේ පැවැති පෞද්ගලික දේපොල හිමිකම ආරක්ෂා කළ හැක්කේ දේපොල අයිතිය උල්ලංඝණය කරමිනි.

නිදහස් ඇතැන්ස් පුර වැසියන් නැවත වහල් බවට ඇද දැමීම වලක්වාලන විධියක් දැන් සොයා ගත යුතුව තිබුණි. මෙය පළමුවෙන් ඉටුකර ගත්තේ පොදු පියවරයන් ගැනීමෙනි; නිදසුනක් වශයෙන් ණය ගැත්තා පෞද්ගලිකව උකස් තැබීම තහනම් කර තිබිණ.එක් පුද්ගලයෙකුට අයත් කර ගත හැකි ඉඩම්වල වැඩිම ප්‍රමාණය නියම කරන ලදී. ගොවීන්ගේ ඉඩම් ගිල ගැනීම සඳහා ඉදිරිපත්වූ ප්‍රභූවරුන්ගේ දෙළඳුක සීමා කිරීම සඳහා මේ පියවර ගන්නා ලදී. ඉන්පසු ව්‍යවස්ථාදයක අතුරු නීති ඇතිවිය. ඉන් ඉතාම වැදගත් ඒවා මෙසේය:

මන්ත්‍රී මණ්ඩලයේ සාමාජික සංඛ්‍යාව 400 දක්වා, එනම් එක් ගෝත්‍රයකින් සාමාජිකයින් සියයක් දක්වා වැඩි කරන ලදී. තවම ගෝත්‍රය පදනම වශයෙන් සේවය කළේය. අළුත් දේශපාලන සංවිධානයට අනුබද්ධ කරනු ලැබූ මෙය පැරණි සංස්ථාවෙන් කොටසක් පමණක් විය. ඉතිරි හරියට සොලොන් ජනතාව කොටස් හතරකට — අයත් ඉඩම්වල ප්‍රමාණය හා අස්වැන්න අනුව — බෙදීය. පළමුවැනි, දෙවැනි හා තුන්වැනි පංතිවල අඩුම අස්වැන්න ධාන්‍ය මෙඩිම්නි පන්සියය, තුන්සියය, හා එකසිය පනහක් බැගින්වේ. (එක් මෙඩිම්නසයක් ලීටර් 41ක් පමණවේ. මෙයට වඩා අඩු අස්වැන්නක් ඇති හා ඉඩම් නැති අය සතරවැනි පංතියට අයත් වූහ. ප්‍රසිද්ධ නිල තල දැරිය හැකිවූයේ පළමු පංති තුනට පමණකි. උසස්ම නිලතල පළමුවැනි පංතිය අයත් උදවියට පමණක් සීමාවිය. හතරවැනි පංතියට කතා කිරීමට හා මහජන මණ්ඩලයේදී චන්දය දීමට පමණක් බලය තිබිණි. එහෙත් මේ මණ්ඩලයට නිලධාරීන් තෝරාගැනීම චන්දයෙන් සිදුවිය, තම ක්‍රියා පටිපාටිය ගැන විස්තර කිරීමට එහි සාමාජිකයිනට සිදුවිය, මෙහිදී සියලු නීති සාදන ලදී, මෙහි හතරවැනි පංතිය බහුතර පංතිය වේ. ධන වරප්‍රසාද මගින් ප්‍රභූවරුන්ට වරප්‍රසාද අඩ වශයෙන් ලබා දුන්නද, තීරණාත්මක බලය ජනතාව සතුවිය. යුද්ධ හමුදව ප්‍රතිසංවිධාන කිරීමේදී ද පංති හතර පදනම් විය. පළමුවැනි හා දෙවැනි පංතිය අසරු හමුද සැපයූ අතර තුන්වැනි පංතිය අවිගත් පාබල හමුද සැපයුවේය. හතරවැනි පංතිය සැහැල්ලු, අවි රහිත පාබල හමුදවේ හෝ නාවුක හමුදවේ හෝ සේවය කළ අතර, ඔවුන්ට වැටුප් ලැබුණු බවද සිතිය හැක.

ඒ අනුව, පෞද්ගලික අයිතිය නම්වූ හාත්පසින්ම අළුත් දෙයක් ව්‍යවස්ථාවට ඇතුළු කරන ලදී. ඉඩම් අයිතිය අනුව පුර වැසියන්ගේ අයිතිය හා

යුතුකම් විග්‍රහ කරන ලදී. ඉඩම් හිමි පංතිය බලපෑම අත්පත් කර ගත් අතර පැරණි ලේනෑකම සහිත කණ්ඩායම් පසුතලයට තල්ලු කර දමන ලදී. වංශ සංවිධානයේ ව්‍යවස්ථාව තවත් පරාජයක් ලැබීය.

ඉඩම් අයිතිය අනුව දේශපාලන අයිතිය වර්ග කිරීම, කෙසේවුවද රජයට අත්‍යාවශ්‍ය ආයතනයක් නොවීය. රාජ්‍ය ව්‍යවස්ථාදයක ඉතිහාසයෙහි මෙය වැදගත් ස්ථානයක් දැරුවද, අතිශයින්ම යහපත් ලෙස වර්ධනයවූ රජයන් ඇතුළු රජයන් සෑහෙන ගණනක මේ වර්ග කිරීම නොතිබිණ. ඇතැන්ස්හි පවා එය අස්ථිර දෙයක් විය. ඇරිස්ටිඩස් ගේ කාලයේ සිට සියලු නිලතල සියලුම පුර වැසියනට විවෘතව තිබිණ.

ඉන්පසු අවුරුදු අසූවක කාලයක් තුළදී ඇතැන්ස් රජය, පසුව සියවස් ගණනක් තිස්සේ වර්ධනයවූ මාර්ගයක ක්‍රමයෙන් ගමන් ගත්තේය. සොලොන්ගේ කාලයට පෙර පැවති ඉඩම් කොල්ලයද, සීමාරහිත ලෙස ඉඩම් සංකේන්ද්‍රගත කිරීමද නවත්වන ලදී. වැඩිවෙමින් පැවැති වහල් ශ්‍රමය මත පදනම් වූ හස්ත කර්මාන්තය සහ ප්‍රයෝජනාත්මක කලා, වෘත්තියෙහි වැදගත්ම අංශයන් බවට පත්විය. අධ්‍යාපනය දියුණු වී ඇත. පැරණි මෘග විධියට ඇතැන්ස්හි පුරවැසියන් සූරා කනු වෙනුවට, ඇතැන්ස් පුර වැස්සෝ ප්‍රධාන වශයෙන් වහලුන් හා පුරවැසියන් නොවන්නන් සූරා කන්ට වූහ. වංචල දේපල, මුදල් ධනය, වහලුන් හා නැව් විශාල වශයෙන් වැඩිවිය. සීමාසහිත පළමුවැනි අවධියේදී මෙන්ම ඉඩම් මිලදී ගැනීමේ මාධ්‍යය වෙනුවට දැන් මෙය පරමාර්ථයක් විය. එක් අතකින් මෙය පොහොසත් කර්මාන්තමය සහ වාණිජමය නව පංතියට ප්‍රභූවරුන්ගේ පැරණි බලය සමග සාර්ථක ලෙස තරඟ කිරීමට අවස්ථාවක් දුන් නමුදු අනිත් අතින් පැරණි වංශික ව්‍යවස්ථාවේ අවසාන ඉඩකඩද නැතිකර දැම්මේය. ඇටිකාව පුරා වංශවල, සහෝදරත්වවල සහ ගෝත්‍රවල සමාජිකයින් විසිර ගොස් සිටි අතර ඔවුන් මිශ්‍රවී සිටි නිසා ඒවා දේශපාලනමය සංවිධාන වශයෙන් අප්‍රයෝජනවත් විය. ඇතැන්ස් වැසියෝ විශාල සංඛ්‍යාවක් කිසිම වංශයකට අයත් නොවූහ. ඔවුන් සංක්‍රමණය වූ නුමුදු පුරවැසි බව ලැබූ අය වූහ. එහෙත් පැරණි සංවිධාන වන ලේනෑකම් සංවිධානවලට ඇතුළු නොවූහ. ආරක්ෂාව පමණක් ලැබූ පිටරැටියන් ගේ සංඛ්‍යාව සීඝ්‍රලෙස වැඩිවිය.

මේ අතර පක්ෂවල අරගල දිගටම පැවතිණ. ප්‍රභූවරු තම ආධිපත්‍යය නැවත ලබාගැනීමට වැර දැරූහ. (ක්‍රි. ව. පෙර 509) හටගත් ක්ලෙයිස්තීනෙස් විප්ලවය දක්වා වූ කෙටි කාලය දක්වා එම ආධිපත්‍යය පවත්වා ගැනීමට ඔවුන්ට හැකි විය. ප්‍රභූවරුන්ගේ පරාජයත් සමග වංශ ව්‍යවස්ථාවේ අවසාන නටබුන්ද අහෝසි විය.



තම නව ව්‍යවස්ථාව තුළින් ක්ලෙයිස්තීනෙස් වංශ හා සහෝදර සංවිධාන මත පදනම්වූ පැරණි ගෝත්‍ර සතර මකා දැමීය. ඔවුන්ගේ ස්ථානය හාත්පසින්ම නව සංවිධානයක් මත පදනම්වූ, මීට ඉහත නවුක්රාරි සංවිධාන විසින් සෑදීමට වැර දැරූ, පුරවැසියන්ගේ පදිංචි ස්ථානය අනුව කරන ලද බෙදීමක් විසින් ගන්නා ලදී. ලේනෑකම ඇති සංවිධානයක සාමාජිකත්වය නොව, දැන් තීරණාත්මක සාධකය වූයේ පදිංචි ස්ථානයයි. දැන් මිනිසුන් නොව ප්‍රදේශය බෙදන ලදී. දේශපාලනමය වශයෙන් මිනිස්සු ප්‍රදේශයට වඩා වැඩියෙන් ඇඳිණ.

මුළු මහත් ඇටිකාවම ස්වයං පාලන නගර හෙවත් ඩෙමෙස් සියයකට බෙදන ලදී. පුරවැසියෝ (ඩෙමොටිස්වරු) පුර පතියකුද (ඩිමාර්ක් කෙනෙකු), භාණ්ඩාගාරිකයකු හා සුලු නඩු විසඳීමේ බලය ඇති නඩුකාරයින් තිස් දෙනෙකද තෝරා පත් කර ගත්හ. හැම නගරයකටම දේවාලයක් සහ අරක්ගත් දෙවියකුද, හෙවත් heros ලැබුණු අතර පූජකයාව තෝරාපත් කර ගන්නා ලදී. පුරයක උත්තරීතර බලය පුර වැසියන්ගේ මැති සබයයි. නිවැරදි ලෙස මෝර්ගන් කියන පරිදි, මෙහි මූලාකෘතිය ස්වය පාලන ඇමෙරිකන් නගර සභාවයි. නූතන රජය සිය උසස්තම සංවර්ධන අවධිය අවසන් කරන්නේ ඇතැන්ස්හි නැගී ආ රජය පටන්ගත් එම ඒකකයෙන්මය.

මේ ඒකක දගයකින් එක් ගෝත්‍රයක් සෑදිණි. මෙය කෙසේවුවද, පැරණි වංශවත් ගෝත්‍රයෙන් (Geschlechtsstamm) වෙනස්වූ අතර ප්‍රාදේශීය ගෝත්‍රය (Ortsstamm) වශයෙන් නම් කරන ලදී. ප්‍රාදේශීය ගෝත්‍රය ස්වයං පාලන දේශපාලනමය සංවිධානයක් පමණක් නොව, යුද්ධමය සංවිධානයක්ද විය. අසරු හමුදව මෙහෙයවන පිලාර්ක් හෙවත් ගෝත්‍ර නායකයකුද, පාබල හමුදව මෙහෙයවන ටැක්සිආර්ක් නෙනෙකුද, මුළු මහත් ප්‍රාදේශීය ගෝත්‍රයට අයත් හමුද මෙහෙයවන ස්ට්‍රටේගොස් කෙනෙකුද තෝරා පත් කරන ලදී. ඒ හැර එක් එක් ගෝත්‍රයක් යුද්ධ නැව් පහක්ද ඒවාට අවශ්‍ය නාවිකයින් හා අණදෙන්නන්ද සපයන ලදී. ඒවාට ආරක්ෂක සාන්තුවරයින් වන ඇටික් heros කෙනෙක් බැගින්ද ලැබිණ. මේ ගෝත්‍රයක් ඇතැන්ස්හි මැති සබයට මැතිවරුන් පණස් දෙනෙකු තෝර පත් කළේය.

ගෝත්‍ර දහයක් විසින් මැතිවරුන් පන්සිය දෙනෙකු තෝරාපත් කරන ඇතැන්ස් රජය පරිසමාප්ති විය .අවසානයේදී සෑම ඇතැන්ස් පුර වැසියෙකුටම සහභාගිවීමට හා චන්දය පාවිච්චි කිරීමට හැක්කේ මහජන මණ්ඩලයක් මගිනි. අර්හොන්වරු හා අනිකුත් නිලධාරීහු පරිපාලන දෙපාර්තමේන්තුවල හා අධිකරණයෙහි කටයුතු වල යෙදුණහ. ඇතැන්ස්හි නිල උත්තරීතර කෘත්‍යාධිකාරී බලයක් නොතිබිණි.

මේ අළුත් ව්‍යවස්ථාවෙන් හා විශාල සංඛ්‍යාවක් නඩත්තුවන්නන්

(Schutzverwandter) කොටස් වශයෙන් සංක්‍රමණ වූවන්ද, කොටස් වශයෙන් නිදහස ලැබූ වහලුන්ද ඇතුළු කරගැනීමෙන් වංශ ව්‍යවස්ථාවට අයත් නිල සංවිධාන ප්‍රසිද්ධ කටයුතු වලින් බැහැර කරන ලදී. ඒවා පෞද්ගලික සමාගමයන් හා ආගමික සංවිධාන දක්වා පහත වැටිණි. එහෙත් ඒවායේ අධ්‍යාත්මික බලපෑම, පැරණි වංශ අවධියේ සම්ප්‍රදායානුකූල විකල්පන හා මත බොහෝ කාලයක් රඳා පැවති අතර ඒවා අභාවයට ගියේ ක්‍රම ක්‍රමයෙනි. ඊට පසු ඇතිවූ රාජ්‍ය ආයතනයක මේවා පෙනෙන්නට තිබිණ.

බහු ජනතාවගෙන් වෙනස්වූ ප්‍රසිද්ධ බලයක් රජයක අවශ්‍යතම අංග ලක්ෂණය ලෙස අපි දුටිමු. ඒ අතරම ඇතැන්ස් රජය සතුව පැවැතියේ ජනතාව විසින් ආයුධ සන්නද්ධ කොට මෙහෙයවන ලද මිලීෂියාව හා නාවික හමුදාව පමණකි. මෙයින් බාහිර සතුරන්ට එදිරිව ආරක්ෂාව ලැබූ අතර ජන ගහණයෙන් ඒ වනවිට බහුතර සංඛ්‍යාව බවට පැමිණ සිටි වහලුන් පාගා දැමීමටද එය යොදවන ලදී. පුර වැසියනට, මේ ප්‍රසිද්ධ බලය රජය තරම්ම පැරණි පොලිස් බල මුළුවක හැඩයක් ගත්තේය. දහ අට වැනි සියවසේ අව්‍යාජ ප්‍රංශ ජාතිකයින්, සභ්‍ය ජාතීන් ගැන නොව පොලිස් ජාතීන් (nations polisées) ගැන කතා කළේ ඒ නිසාය. ඒ අනුව, රජයත් සමග එකවර ඇතැන්ස් පුර වැසියෝ පොලිස් බල මුළුවක් සෑදූහ. දකුණු ජර්මනියේ හා ස්විට්සර්ලන්තයේ එබඳු පාබල හා අසරු දුනු හේවා බලකායක් Landjäger යන නමින් හැඳින්වේ. මේ හේවා බලකාය වහලුන්ගෙන් සමන්විත විය. මේ පොලිස් වැඩ කටයුතු කොතරම් පහත් දෙයක් ලෙස නිදහස් ඇතැන්ස් පුර වැසියා සැලකුවේදයත්, වහල් පොලිස් භටයකු විසින් තමා සිරභාරයට ගැනීම, ඒ නීච වැඩවල යෙදෙනවාට වඩා යහපත් යැයි සිතුවේය. පැරණි වංශවත් මානසිකත්වය ප්‍රකාශ කිරීමකි, මෙය. පොලිස් හමුදාවක් නැතිව රජයකට පැවතිය නොහැක. එහෙත් රජය තවම යෞවන බැවින් පැරණි වංශවත් සංවිධානවල සාමාජිකයින් පහත් යැයි සලකන වෘත්තියට සැහෙන අධ්‍යාත්මික ගරුත්වයක් ලබාගැනීමට තරම් එය අපොහොසත් විය.

ප්‍රධාන ආකෘතියෙන් සම්පූර්ණවූ මේ රජය ඇතැන්ස් පුර වැසියන්ගේ නව සමාජමය තත්ත්වයනට කොතරම් හොඳින් ගැළපුණේද යන්න ධනය, වාණිජය හා කර්මාන්තය සීඝ්‍රලෙස වර්ධනය වීමෙන් පෙනී යයි. සමාජමය හා දේශපාලනමය ආයතනයන් රැඳී පැවති පංති ප්‍රතිවිරෝධීතාවය දැන් ප්‍රභූවරුන් හා පොදු ජනතාව අතර නොවීය, නමුත් එය දැන් වහලුන් හා නිදහස් වැසියන් අතරද, නඩත්තු වන්නන් හා පුර වැසියන් අතරද විය. ඇතැන්ස් රජයේ සමෘධිමත් කාලයේ උච්චස්ථානයේදී එහි සිටි නිදහස් පුරවැසියන්ගේ ගණන — ස්ත්‍රීන් හා ළමයින්ද ඇතුළුව — 90,000 කි. ස්ත්‍රී පුරුෂ වහලුන්ගේ සංඛ්‍යාව 365,000 කි, නඩත්තු වන්නන්, සංක්‍රමණ වූ මිනිසුන් හා නිදහස ලැබූ වහලුන්ගේ සංඛ්‍යාව 45,000 කි. ඒ අනුව, සෑම නිදහස් පුරවැසියෙකුටම වහලුන් දහ අට දෙනෙකු සහ නඩත්තු වන්නන් දෙදෙනෙකු බැගින් විය. විශාල කාමර සහිත වැඩ පොළවල්වල ඕවර්සියර් වරුන් යටතේ බොහෝ දෙනෙකු වැඩ කිරීම මේ තරම් විශාල වහලුන් සංඛ්‍යාවකට හේතු විය. වාණිජය හා කර්මාන්තය වර්ධනය වීමත් සමගම සුලු කොටසක් අත ධනය ගොඩගැසීම හා සංකේන්ද්‍රණ ගතවීම සිදුවිය. නිදහස් පුරවැසියන්ගේ බහුතර සංඛ්‍යාව දුප්පතුන් බවට පත්විය. මොවුන්ට එක්කෝ හස්ත කර්මාන්ත කරුවන් වීමට හෝ තමන් නීච ක්‍රියාවක් මෙන් සලකන වහලුන් සමග තරඟ කිරීමට හෝ සිදුවිය. ඇරත් මෙය ඉතාම අඩු වශයෙන් දියුණුවක්ද සම්පූර්ණයෙන්ම හිඟමනට ඇද දැමීමක්ද සහතික කළේය. එවකට පැවති තත්ත්වය අනුව බහුතර සංඛ්‍යාව හිඟන්නන් වූ බැවින්, ඔවුහු තමන් සමග ඇතැන්ස් රජයද පහතට ඇද දැමූහ. රාජාණ්ඩුව ඉදිරියේ දන නමස්කාර කරන යුරෝපීය පාසල් ගුරුවරු අපට කියන පරිදි, ඇතැන්ස් රජය ඇද වැටුනේ ප්‍රජාතන්ත්‍රවාදය නිසා නොවේ. එහෙත් නිදහස් පුර වැසියන්ගේ ශ්‍රමය අවඥාවට ලක්කළ වහල් භාවය විසිනි.

ඇතැන්ස් පුර වැසියන් අතර රජය පැනනැගීම පොදුවේ රජය ගොඩනැගීමේ නියම ආකෘතියකි; මන්දයත්, එය එක් අතකින් බාහිර වශයෙන් හෝ අභ්‍යන්තර වශයෙන් ප්‍රචණ්ඩත්වයෙන් තොරව පිරිසුදු අන්දමට සිදුවූ බැවිනි, (පිසිස්ට්‍රාටුස්ගේ බලග්‍රාහය කෙටි කාලයක් පැවති අතර එය සටහන් කිසිවක් නොතැබීය); අනිත් අතින්, එය කෙළින්ම වංශවත් සමාජයෙන් පැවත ආ ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුවක්, උසස් ලෙස වර්ධනය වූ රජයක පැන නැගීමක් නියෝජනය කළ බැවිනි. අවසාන වශයෙන් අපට අවශ්‍ය සියලු විස්තරාදිය ගැන අප දන්නා බැවිනි.

## VI

## රෝමයේ වංශ සහ රජය

රෝමය පිහිටුවීමේ පුරාවෘත්තය අනුව එක් ගෝත්‍රයකට ඒක රාශිවූ (එම පුරාවෘත්තය අනුව වංශ සියයකි) ලතින් වංශ ගණනක් එහි මුලින්ම පදිංචි වූහ. වංශ සියයකින් යුත් සබෙලියානු ගෝත්‍රයක්ද අනතුරුව ඔවුන් අනුගමනය කළහ. නොයෙකුත් අංශවලට අයත් විවිධ වංශ සියයකින් යුත් තවත් ගෝත්‍රයක්ද ඉන් පසු ඔවුන්ට එකතු වූහ. මෙහි ස්වභාවික

මූලය වූ වංශ හැර අන් කිසිවක් නොවන බව බැලූ බැල්මට පෙනී යයි. මේ වංශ පවා පැරණි ජන්ම භූමියක තවම පවතින මව් වංශයිකින් බිඳී ආ, කෘත්‍රිම වශයෙන් සෑදූ ඒවා බව මේ වංශවල සටහන් වලින් පෙනේ. කෙසේ හෝ මේවා වැඩි වශයෙන් නෑයින්ගෙන් සමන්විත වූ අතර මේවා පැරණි ප්‍රකෘතිලෙස සෑදුණු, කෘත්‍රිම නොවූ ගෝත්‍රවල ආදර්ශ රූප අනුව ගොඩ නහා ඇත. මේ ගෝත්‍ර තුනේම න්‍යෂ්ටිය නියම පැරණි ගෝත්‍රයක් වූ බවට විශ්වාස කළ හැකිය. එවා සම්බන්ධ කරන පුරුක වන සහෝදරත්වය වංශ දහයකින් යුක්ත වූ අතර එය curia නමින් හඳුන්වන ලදී. ඒ අනුව කුරියා තිහක් විය.

රෝම වංශ ග්‍රීක වංශවලට සැම අතින්ම සමානවූ ආයතන බව පිළිගත් සත්‍යයකි. ඇමෙරිකානු රතු ඉන්දියන්වරුන්ගේ ආදි කල්පික සමාජමය ඒකකයෙන් ග්‍රීක වංශය දිගටම පැවත එන්නක් නම්, රෝම වංශය ගැන කිව හැක්කේත් එපමණකි. ඒ නිසා රෝම වංශය විස්තර කිරීම වඩාත් කෙටියෙන් කළ හැක.

රෝමයේ අතිශයින්ම පුරාතන යුගයේදී යටත් පිරිසෙයින් මෙවැනි ව්‍යවස්ථාවක් තිබුණු බව සිතිය හැක:

1. මියගිය වංශ සාමාජිකයාට අයත් දේපොල අයත් කරගැනීමේ අන්‍යොන්‍ය අයිතිය; මේ දේපොල වංශය තුළම ඉතිරිව තිබිණ. ග්‍රීක වංශවල මෙන්ම, රෝම වංශවලද පිය අයිතිය බිල පෑ බැවින් ස්ත්‍රී පාර්ශ්වය අනුව බෙදීයාම අහෝසි කර තිබිණි. අප දන්නා පුරාණතම රෝමානු ලිඛිත නීතියේ සංග්‍රහය වන පණත් දෙ ළහ අනුව ඉඩම් වල අයිතිය සහජ ළමයිනට ලැබිණ, සහජ ළමයින් නැතිනම් agnates වරුන්ට (පිරිමි පාර්ශවය අනුව නෑයින්ට) ඒ ස්ථානය හිමිවිය; ඔවුන්ද නැතිනම් වංශවලට එය හිමිවිය. හැම අවධියකදීම දේපොල වංශය තුළම රැඳිණ. වැඩිවූ ධනය හා ඒක භාර්යා ව්‍රතය නිසා වංශවල ව්‍යවහාරයට අළුත් නීති ක්‍රම ක්‍රමයෙන් ඇතුළුවූ සැටි අපි නිරීක්ෂණය කරමු. ඉහත සඳහන් පරිදි බොහෝ ඈත කාලයකදී, ප්‍රථමයෙන් වංශයේ දේපල උරුමවීමේ සම අයිතිය agnates වරුන්ට දක්වා සීමාවී, ඉන් පසුව, පිරිමි පාර්ශ්වය අනුව ඔවුන්ගේ ළමයිනට උරුම විය. නීති සංග්‍රහයේ පණත් දෙළහේ මෙය හාත්පසින්ම විපරීත අන්දමට සඳහන් කර ඇත.

2. පොදු සොහොන් බිමක් තිබීම. ක්ලවුඩි කුලීන වංශය, රෙජිලි සිට රෝමයට සංක්‍රමණය වූ පසු ඔවුන්ට නගරය තුළ ඉඩම් හා පොදු සොහොන් බිමක්ද ලැබිණි. ඔගස්ටස්ගේ ආණ්ඩු කාලයේදී, ටුටෙබර්ග් කැලෑවෙහි මියගිය වාරුස්ගේ හිස රෝමයට ගෙන්වා gentilius tumulus*

* වංශවලට අයත් ගොඩැල්ල.



හි භූමිදාන කරන ලදී. ඒ අනුව ඔහුගේ වංශයට (Quinctilia) සොහොන් ගැබක් එද දක්වාත් තිබිණ.

3. පොදු ආගමික උත්සව. Sacra gentilitia නමින් හැඳින්වූ මේවා අතිශයින් ප්‍රසිද්ධ විය.

4. වංශය තුළින් විවාහ නොවීමේ පොරොන්දුව. රෝමයේ මෙය ලිඛිත නීතියක් නොවූ නමුදු සිරිතක් ලෙස පැවැතිණ. නූතන කාලය දක්වා විවාහ වූ ගිණිය නොහැකි රෝම පුරුෂයින්ගේ හා ස්ත්‍රීන්ගේ ජෝඩු සංඛ්‍යාව අතර සැමියාගේ හා බිරිඳගේ වංශ නාමය එකක් වූ, එකද අවස්ථාවක්වත් නොවූ බව පෙනේ. උරුමය පිළිබඳ නීතියද මේ රීතිය සනාථ කරයි. විවාහවන ස්ත්‍රියක් තම නෑදෑ අයිතියට අහිමි වන්නීය, ඇයට හෝ ඇගේ දරුවනට ඇගේ පියාගේ හෝ සහෝදරයාගේ දේපලවලට හිමිකම් කිව නොහැක. මන්දයත්, එසේ නැතිනම් පිය අයිතිය අනුව වංශවලට එම දේපල අහිමි වන බැවිනි. තම වංශයට අයත් කෙනෙකු හා විවාහ වීමට ස්ත්‍රියට අවසර නොදෙන්නේය යන පිළිගැනීම උඩ පමණකි, මේ නීතිය බලපාන්නේ.

5. ඉඩම් වල පොදු අයිතිය. අති පුරාණ කාලයේදී, ගෝත්‍ර ප්‍රදේශය පළමුවරට බෙදූ අවධියේ සිට මෙය මෙසේ විය. ලතින් ගෝත්‍ර අතර ඉඩම් අයිතිය අඩ වශයෙන් ගෝත්‍රයටද, අඩ වශයෙන් වංශවලටද, ඒ කාලයේදී පෞද්ගලික පවුල් හැටියට වෙන්කළ නොහැකි ගෘහවලට අඩ වශයෙන්ද හිමිවිය. තනි පුද්ගලයින්ට ඉඩම් හෙක්ටරයක් (ජුගේරා දෙකක්) බැගින් ලබා දීමේ ගෞරවය රෝමුලස්ට හිමිව ඇත. ඒ කෙසේවුවද, ඊට පසු කාලයක පවා ඉඩම් වංශවල පොදු අයිතිය වශයෙන් පැවැති බව පෙනේ. රෝම සමූහාණ්ඩු ඉතිහාසයේ මුළු මහත් අභ්‍යන්තරීය ඉතිහාසය ක්‍රියා කාරීවූ රජය සතු ඉඩම් ගැන සඳහන් නොකරමු.

6. හානිවලදී වංශ සාමාජිකයින් එකිනෙකාට අන්‍යොන්‍ය උදව් දීමේ යුතුකම. ලිඛිත ඉතිහාසයෙහි මෙය ඉතා සුළු වශයෙන් සඳහන් වේ: මුල සිටම රෝම රජය කොතරම් උසස් බලයක් පෑවේදයත්, හානිවලදී උදව් උපකාර කිරීම ඒ මත වර්ධනය විය. ඇප්පියස් ක්ලවුඩියස් සිරභාරයට ගනු ලැබූ අවස්ථාවේදී ඔහුගේ පෞද්ගලික සතුරන් ඇතුළු මුළු මහත් වංශයම ශෝකය ප්‍රකාශ කළේය. දෙවැනි පියුනික් යුද්ධයේදී තම වංශවලට අයත් සාමාජිකයන් සිරකාර තත්ත්වයෙන් නිදහස් කර ගැනීම සඳහා වංශ එක්සත් වූහ. සෙනේට් සභාව විසින මෙසේ කිරීම තහනම් කර තිබිණි.

7. වංශ නාමය භාවිතා කිරීමේ අයිතිය; අධිරාජයන්ගේ කාලය දක්වා මෙය බලපෑවේය. වංශික අයිතිය රහිතව, නිදහස ලැබූ වහලුන්ට සිය හිටපු ස්වාමිවරුන්ගේ වංශික නාමය පාවිච්චි කිරීමට අවසර දී තිබිණි.

8. වංශයට අමුත්තන් ඇතුළු කර ගැනීමේ බලය. පවුලකට යම්කිසිවකු ඇතුළු කර ගැනීමෙන් මෙය කරන ලදී (රතු ඉන්දියානුන් අතර මෙනි), මෙසේ කිරීමත් සමගම ඔහු වංශයටද එක් විය.

9. නායකයින් තෝරාපත් කිරීම හා නිලයෙන් පහකිරීම කිසිම තැනක සටහන් කොට නොමැත. කෙසේවුවද, රෝමය ගොඩනැඟූ පළමු අවධිය තුළදී තෝරාපත් කරගත් රජවරුන්ගේ සිට පහළට හැම නිලයක්ම චන්දයෙන් හෝ පත්කිරීමෙන් හෝ කරන ලදී. Curia හෙවත් සහෝදරත්වය තම පූජකයාව පවා චන්දයෙන් තෝරා පත් කරගත් බැවින්, එකම පවුලකින් අපේක්ෂකයින් තෝරා පත්කර ගැනීමේ රීතිය කොතරම් ස්ථිර වී තිබුණද, වංශයේ ප්‍රධානීන් (principes) පත් කරගැනීමේදීද, එයම බලපෑ බව සිතීම හොඳට ම සාධාරණය.

රෝම වංශ සංවිධානවල බලය එසේ විය. පිය අයිතිය දක්වා සම්පූර්ණයෙන්ම පරිවර්තන වීම හැරුණු විට, ඉරොකුවොයිස් වංශයක නියම අයිතිය හා යුතුකම් පිළිබඳ නියම රූප සටහනකි, මෙය. මෙතැනදීත්, ''ඉරොකුවොයිස්වරුන් පැහැදිලි ලෙස පෙනේ''.

රෝම වංශ පෙළපත පිළිබඳ ප්‍රශ්නය ඉතාම දක්ෂ ඉතිහාස කාරයින් අතර පවා අවුලකට භාජන වී තිබෙන සැටි පහත සටහන් නිදසුනෙන් පෙනී යයි. සමූහාණ්ඩු හා ඔගස්ටීනියානු යුගවල නියම නාම (රෝම පර්යේෂණ, බර්ලින්, 1864, 1 කාණ්ඩය) පිළිබඳ කෘතිය තුළින් මොම්සන් මෙසේ සඳහන් කරයි:

''වංශ නාමය, වහලුන් හැරුණු විට, සංවිධානයට අයත් සියලු පුරුෂයින්, ඇතුළු කරගත් පුද්ගලයින් හා භාරකරුවන් යටතේ සිටින්නන් පමණක් නොව, ස්ත්‍රීන් විසින්ද පාවිච්චි කරන ලදී... ගෝත්‍රය (Stamm) (මෙතැනදී මොම්සන් වංශය ඒ හැටියට පරිවර්තනය කරයි)... වූකලී පොදු — තාත්ත්වික ආරූඪ කරගන්නාලද හෝ අමුතුවෙන් සොයා ගන්නා ලද මී මුත්තෙකුගෙන් පැවත එන, පොදු සිරිත්වලින්, සොහොන් බිමකින් සහ උරුමයකින් සමගි වී ඇති ජන සමූහ යකි. හැම කෙනෙකුම, ස්ත්‍රීන් ඇතුළු පෞද්ගලික ලෙස නිදහස් හැමදෙනෙකුටම වංශ සංවිධානය තුළ ලියා පදිංචි විය හැකිය, විය යුතු ය. විවාහවූ ස්ත්‍රියකගේ වංශ නාමය තීරණය කිරීමේදී මේ නිසා සමහර අසීරුකම් පැන නැගීමට ඉඩ ඇත. වංශය තුළ මිස එයට පිටින් විවාහ වීම තහනම් කර තිබෙන තුරු එය අසීරුවක් නොවීය. බොහෝ කාලයක් යන තුරු වංශය තුළ මිස එයට පිටින් විවාහවීම වඩාත් අසීරු කාරණයක් විය. Gentis enuptio* නම්වූ මේ අයිතිය හයවැනි සියවස තුළදී පෞද්ගලික වරප්‍රසාදයක් හා ත්‍යාගයක් ලෙස පිරිනැමූ අතර එවැනි විවාහයන් ඇතිවූ හැම තැනක දීම, අති පුරාණ කාලයේ සිට විවාහවූ ස්ත්‍රිය පුරුෂයාගේ ගෝත්‍රයට මාරු කළ බව සිතිය

* වංශයට පිටින් විවාහවීම. — සංස්කාරක



හැක. පැරණි ආගමික විවාහය විසින් ස්ත්‍රිය තම ගෝත්‍රය අතහැර පුරුෂයාගේ ගෝත්‍රයේ නීත්‍යානුකූල හා ආගමික චාරිත්‍ර භුක්ති විඳීමක් ලැබූ බව හොඳටම ස්ථිරය. විවාහයෙන් පසු ස්ත්‍රිය තම වංශයේ සක්‍රිය හා නිෂ්ක්‍රිය උරුමයෙන් නිදහස් වන්නී, ඇගේ සැමියාගේ, ළමයින්ගේ හා ඔහුගේ වංශයට ඇතුළු වන බව නොදන්නේ කවරෙක්ද? සැමියා සිය බිරිඳ දුවක් ලෙස තම වංශයට ඇතුළු කරගෙන තම පවුල තුළට ගෙනෙන්නේ නම් ඔහුගේ වංශයෙන් වෙන්වී සිටීමට ඇයට හැකිද?'' (9—11 පිටු).

ඒ අනුව එක්තරා වංශයකට අයත් ස්ත්‍රීන්ට මුලදී නිදහස තිබුණේ එම වංශය තුළින් පමණක් විවාහ වීමට බව මොම්සන් තියා සිටී. ඒ නිසා ඔහු කියන පරිදි, රෝම වංශ සිය වංශය තුළ විවාහ වූවා මිස ඊට පිටස්තරව විවාහ නොවීය. සියළු අවශේෂ ජනතාවන්ගේ අත්දැකීම්වලට පරස්පර විරෝධී මේ අදහස ප්‍රධාන වශයෙන්, නැතිනම් විශේෂයෙන් ලිවි ගේ කෘතියේ මත භේදයකට තුඩ දුන් කොටසක් මත පදනම් වී ඇත (39 වැනි පොත, 19 පරිච්ඡේදය). රෝමය ගොඩනැඟූ 568 වසරෙහිදී එනම් ක්‍රි. ව. පෙර 186 දී සෙනෙට් සභාව මෙසේ සඳහන් කළ බව එයින් කියැවේ:

"uti Feceniae Hisoallae datio, deminutio, gentio enuptio, dutorio optio item esset quasi ei vir testamento dedisser, utique ei ingenuo nubere lecerct, ren quid ei qui eam duxisict, ob id fraudi ignomiriaeve esset"— ''හිස්පල්ලා පැසේනියාට ඇගේ මනාපයේ හැටියට දේපල ගැන කටයුතු කිරීමටත්, එය අඩුකිරීමටත්, වංශයෙන් පිටත විවාහ වීමටත්, ඇගේ'' (නැසිගිය) ''සැමියා විසින් මේ අයිතිය ලියවිල්ලක් මගින් සහතික කළාක් මෙන් ආරක්ෂකයෙකු තෝරා ගැනීමටත් අයිතිය ඇත. ඇයට නිදහස් පුරුෂයෙකු හා සමග විවාහ වීමට අවසරදී ඇත. ඇය විවාහ කර ගන්නා පුරුෂයාට එය අයුතු ක්‍රියාවක් හෝ අවඟුවක් හෝ නොවනු ඇත''.

පැසේනියා නමැති නිදහස ලැබූ වහල් ස්ත්‍රියක් තම වංශයෙන් පිටත විවාහ වීමට අවසර ලබා ගැනීමක් බවට මෙය සැක නැත. තම මරණින් පසු තම බිරිඳට වංශයට පිටතින් විවාහවීමට ලියවිල්ලකින් අවසර දීමද, මේ අනුව, එමෙන්ම සැක රහිතය. එහෙත් කිනම් වංශයකට පිටතින්ද?

මොම්සන් කියන පරිදි ස්ත්‍රියකට තම වංශය තුළින්ම විවාහවීමට සිදුවී නම්, විවාහයෙන් පසුද ඇය එම වංශය තුළම රැඳී සිටියාය. කෙසේවුවද, පළමුකොටම ඔප්පුකළ යුත්තේ, වංශය පිටතින් නොව සිය සංවිධානය තුළම විවාහ වන්නේය යන්නය. දෙවනුව, වංශය තුළින්ම ස්ත්‍රියට විවාහවීමට සිදුවූවා නම් පුරුෂයාටද එයම කිරීමට සිදුවිය. එසේ නැති නම් ඔහුට බිරිඳක් සොයා ගත නොහැකිවන බැවිනි. එවිට පුරුෂයෙකුට භුක්ති විඳීමට නොහැකි අයිතියක් ඔහු විසින් සිය බිරිඳට ලියවිල්ලක් මගින් පවරා දීමක් වැනිවූ නීතිමය භාෂ්‍යයකට අපි මුහුණ පාන්නෙමු. මෙය

අවබෝධ කරගන්නා මොම්සන් මෙවැනි විතර්ක ඉදිරිපත් කරයි: "වංශයට පිටතින් විවාහ වීම සඳහා අධිකාරී පුද්ගලයාගේ අනුමැතිය පමණක් නොව, වංශයේ සියළුම සාමාජිකයින්ගේ කැමැත්තද නීතිය විසින් ඉල්ලා සිටිනු ලැබේ" (10 පිටුව, සටහන). පළමුව, මෙය නිර්හිත නිගමනයකි. දෙවනුව, ඉතා පැහැදිලි එම වචන මාලාව මේ නිගමනය විසින් පරස්පර විරෝධී කර දමයි. සෙනෙට් මණ්ඩලය මේ අයිතිය ඇයට දෙන්නේ ඇගේ සැමියාගේ පෙරකලාසිය හැටියටය. සැමියාට දිය හැකි දෙයට වඩා අඩුවෙන් හෝ වැඩියෙන් කිසිවක් මෙයින් ඇයට නොදේ. එහෙත් එමගින් දෙනු ලබන්නේ සීමාරහිත සම්පූර්ණ බලයකි. ඇයට එය පාවිච්චි කිරීමට හැකිවූවොත්, ඇගේ අලුත් සැමියාට ඉන් විපතක් සිදු නොවේ. මේ අයිතිය නිසා ඇය පීඩාවකට භාජන නොවිය යුතු බව සෙනෙට් සභාව වත්මන් හා අනාගත නීතිවේදීන්ට සහ ප්‍රෙටර්වරුන්ට දන්වා සිටී. මේ නිසා මොම්සන්ගේ අදහස කොහෙත්ම පිළිගැනීමට නොහැකි බව පෙනේ.

තවත් දෙයකි: ස්ත්‍රියක් පිටස්තර වංශයකට අයත් පුරුෂයෙකු සමග විවාහ වූ නමුදු, ඇය ඇගේ වංශය තුළම ජීවත් වන්නීයැයි සිතමු. ඉහත උපුටා දක්වන ලද කොටසේ සටහන් පරිදි, ඇයට ඇගේ වංශයෙන් පිටත විවාහවීමට බලයක් දීමට ඇගේ සැමියාට අයිතියක් ඇත. එනම්, ඔහු අයත් නැති වංශයකට බලපාන අවසරයක් දීමට තරම් ඔහුට අයිතියක් තිබෙන බව ඉන් පෙනී යයි. මෙය කොතරම් අයුතු දෙයක්දයත් ඒ ගැන තවත් දුර කතා කිරීම අනවශ්‍යය.

ස්ත්‍රියක් තම පළමුවැනි විවාහයේදී වංශයට පිටත පුරුෂයෙකු සමග විවාහ වීම නිසා ඇය සිය සැමියාගේ වංශ සංවිධානයේ සාමාජිකාවක වූවා යැයි සිතීමට කිසිදු බාධාවක් නැත. මෙවැනි අවස්ථාවලදී එය එසේ බව මොම්සන් පිළිගනී. එවිට සම්පූර්ණ කාරණය පැහැදිලි වෙයි. විවාහය නිසා තම පැරණි වංශ සංවිධානයෙන් ඉවත් වී යන ස්ත්‍රිය සැමියාගේ වංශ සංවිධානයට ඇතුළු වී එහි විශේෂ තත්ත්වයක් දරයි. ඇය දැන් එහි සාමාජිකාවක් නමුදු ලේ නෑයෙක් නොවේ ඇය වංශයට ඇතුළු කරගත් ක්‍රමය අනුව, ඇය විවාහය විසින් ඇතුළු කරගනු ලැබූ වංශය තුළ විවාහවීමට විරුද්ධව පනවා ඇති තහනම අහෝසිවේ. එපමණක් නොව, වංශ සංවිධානයට ඇතුළු කර ගත් ඇයට, ඇගේ සැමියාගේ මරණින් පසු ඔහුගේ, එනම් වංශ සාමාජිකයෙකුගේ දේපලින් කොටසක් උරුමවෙයි. මේ දෙපොල වංශය තුළම රැඳී තිබිය යුතුයැයි කීම සොබාවිකය, ඒ අනුව ඇය ඇගේ පළමු සැමියාගේ වංශයට අයත් සාමාජිකයෙකු මිස වෙනත් කෙනෙකු හා සමග විවාහවීමට බැඳී නැති බව නොපෙනේද? කෙසේවුවද, මෙහිදී විශේෂයක් කළයුතුව ඇත. ඒ සඳහා පූර්ණ බලය පැවරිය හැක්කේ ඇයට තම දේපල පැවරූ පුද්ගලයා වන ඇගේ පළමු සැමියාට හැර



අන් කවරෙකුටද? තම දේපල වලින් කොටසක් ඇයට පවරා, මේ දේපල විවාහවීම මගින් හෝ විවාහවීමේ ප්‍රතිඵලයක් වශයෙන් හෝ වෙනත් වංශයකට එකවර මාරුකිරීමට ඇයට බලය ලැබිණ. නමුත් ඔහු තවම ඒවායේ අයිතිකරු විය. ඇත්තවශයෙන්ම,එබැවින් ඔහු කළේ තම දේපල රිසි පරිදි බෙදා දීමය. සැමියාගේ වංශය සමග ස්ත්‍රියගේ ඇති සබඳකම් ගැන බලන්නේ නම්, විවාහය නම්වූ නිදහස් ක්‍රියාවක් මගින් තම වංශයට ස්ත්‍රිය හඳුන්වා දුන්නේ සැමියාය. තවත් විවාහයක් මගින් එම වංශය අතහැර යාමට ඇයට බලය පවරාදීමට සමත් එකම පුද්ගලයාද ඔහුය. රෝම වංශ තම වංශ සංවිධාන තුළින් පමණක් විවාහ වන්නේය යන පුදුම සහගත මතය දුරුකර දමූ විගසම මෝර්ගන් සමග එක්ව රෝම වංශ මුලින් සිය වංශ සංවිධානයෙන් පිටස්තරව විවාහ වූ බව ඉතා ලෙහෙසියෙන්ම අපට පෙනීයනු ඇත.

ඉතා විශාල වශයෙන් අනුගාමිකයින් ඇතැයි සිතිය හැකි තවත් මතයකි; එනම්, ලිවි සඳහන් කර ඇති කොටසේ තේරුම, නිදහස් කරන ලද වහල් තරුණියන් (libertae) විශේෂ අවසර නැතිව e gente enubere (වංශයට පිටින් විවාහ වීම) හෝ capitis deminutio minima* සමග සම්බන්ධවී ඇති, වහල් තරුණියට වංශ සංවිධානයෙන් පිටවී යාමට සිදුවන ඕනෑම පියවරක් ගැනීමට නොහැකි වීමය.(L. Lange, "Römische Alterthümer". Berlin 1856, Vol. 1, p.195; ලිවිගෙන් අප උපුටාගත් මේ කොටස හුෂ්කෙ ගැන සඳහන් කරමින් කළ විමර්ශනයකි). මේ නිගමනය නිවැරදි නම්, රෝම ස්ත්‍රියගේ තත්ත්වය ගැන වඩාත් අඩුවෙන් එම කොටසින් ඔප්පු වෙයි. වංශය තුළ විවාහ වීමට ඔවුන්ගේ ඇති යුතුකම ගැන කථාකිරීමට අවශ්‍ය හේතු සාධක ඉතා අල්පය.

enuptio gentis නම්වූ ප්‍රකාශනය සඳහන් වී ඇත්තේ එකම එක කොටසක පමණකි. රෝම සාහිත්‍යයේ වෙන කිසිම තැනෙක එය සඳහන් වී නැත. enubere (පිටතින් විවාහවීම) යන වචනය සඳහන් වී ඇත්තේ තුන් පලක පමණකි. ලිවිගේ කෘතීන්හි ද එය සඳහන් වී ඇති අතර වංශ වලට සම්බන්ධව නොවේ. රෝම ස්ත්‍රිය විවාහ විය යුත්තේ තම වංශය තුළින් පමණක්ය යන විකාර අදහස මේ ප්‍රකාශනය නිසා ඇති වූවකි. එහෙත් එය කොහෙත්ම අනුමත කළ නොහැක; මන්දයත්, එම කොටස එක්කෝ නිදහස ලැබූ වහල් ස්ත්‍රීන්ට ඇති විශේෂ අවහිර කම් ගැන කියනවා විය යුතුය. එය එසේ නම් නිදහස් ස්ත්‍රීන් (ingenuae) ගැන එය කිසිවක් ඔප්පු නොකරයි. නැතිනම් එය නිදහස් ස්ත්‍රීන්ට බලපාන්නකි. එසේනම්, එය රීතියක් වශයෙන් සත්‍රීන් වංශයෙන් පිටත විවාහවූ බවද, එම විවාහය

* පවුල් අයිතිය අඩුම තරමින් නැතිවීම. — සංස්කාරක.

නිසා ඔවුහු සැමියන්ගේ වංශයට මාරුවූ බව පෙන්නුම් කරයි. එ අනුව එය මොම්සන්ගේ මතයට එදිරිව මොර්ගන්ගේ මතය සනාථ කරයි.

රෝමය පිහිටුවා අවුරුදු තුන්සියයකට පසුව වුවද වංශ සබඳකම් කොතරම් ශක්තිමත්ව පැවතියේද යත්, කුලීන වංශයක් වන ෆාබියන්වරු සෙනට් සභාව අවසරය ඇතිව අසල්වැසි නගරයක්වන වෙයි යට එදිරිව සටනක් ආරම්භ කළෝය. ඉදිරියට ගිය ෆාබියන් තුන්සිය හැට දෙනෙකු වට ලනු ලැබ, මැරුම් කැබව කියනු ලැබේ. තම වංශය නැවත වර්ධනය කිරීම සඳහා ඉතිරිවූයේ එකම පිරිමි ළමයෙකු පමණකි.

අප මීට ඉහත කී පරිදි, වංශ දහයක් සහෝදරත්වයක් ඇති කරති. මෙහිදී එම සහෝදරත්. වය හඳුන්වන ලද්දේ curia යන නමිනි. ග්‍රීක සහෝදරත්වයට වඩා වැදගත් කටයුතු මේ කුරියා සංවිධානයට අයත්වැ තිබිණ. හැම කුරියා සංවිධානයකටම තමන්ගේ ආගමික චාරිත්‍ර ශුද්ධවූ වස්තූන් හා පූජකයින්ද ඇතුළත් විය. රෝමයේ පූජක මණ්ඩලයේ එක් අංශයකි පසුකී පූජකවරුන්. කුරියා සංවිධාන දහයකින් එක් ගෝත්‍රයක් සැදිණි. මුලදී මෙය තම නායකයා — යුද්ධ නායකයා සහ මහ පූජකයා — අනිකුත් ලතින් ගෝත්‍ර මෙහි — චන්දයෙන් තෝරා පත් කරගත් බව සිතිය හැක. මේ ගෝත්‍ර තුන එක්වීමෙන් රෝම ජනතාව — populus Romanus — සැදිණි.

වංශ සාමාජිකයින්වූ, ඒ නිසාම කුරියා සහ ගෝත්‍රයක සාමාජිකයින්වූ අයට පමණකි, රෝම පුරවැසියන් විය හැකි වූයේ. ජනතාවගේ පළමුවැනි ව්‍යවස්ථාව මෙසේ විය. නීබුර් පළමුවෙන්ම නිවැරදි ලෙස පෙන්වා දුන් පරිදි වංශ නායකයින් තුන්සිය දෙනෙකුගෙන් සමන්විත සෙනෝට් මණ්ඩලයක් මගින් ප්‍රසිද්ධ වැඩ කටයුතු කෙරිණ. වංශ වල වැඩිහිටියන් patres (පියවරුන්) නමින්ද, ඔවුන්ගේ මණ්ඩලය සේනට් (වැඩි හිටියන්ගේ මණ්ඩලය, senex මහලු යන වචනයෙනි) යන නමින්ද හැඳින්විණ. මෙහිදීද,වංශවල එකම පවුලකින් මිනිසුන් තෝරා පත් කර ගැනීමේ චාරිත්‍රය නිසා පළමුවැනි පරම්පරාගත ප්‍රභූවරුන් ඇතිවිණ. කුලීනයින් හැටියට නම් කර ගත් මේ පවුල් සෙනෝට් මණ්ඩලයේ ආසනවලටද, අනිකුත් නිලතලවලටද ඇති විශේෂ අයිතියද කියා සිටියෝය. කල්යත්ම, මෙය සැබෑ අයිතියක් බවට පත්වන පරිදි මෙයට මිනිසුන් කොතරම් ඉඩ දුන්නේදයත්, රෝමුලස් විසින් පළමුවැනි සේනට් මණ්ඩලයේ සාමාජිකයින් හා ඔවුන්ගේ පරපුර වෙත කුලීනත්වය හා වරප්‍රසාද ප්‍රදානය කළ බව පුරාතන වෘත්තියක සඳහන්වේ. ඇතැන්ස්හි bulê මෙන් සේනට් මණ්ඩලයටද බොහෝ දේ තීරණය කිරීමටද, විශේෂයෙන් නව නීතිය ඇතුළු වඩාත් වැදගත් කරුණු ගැන මූලික සාකච්ඡා කිරීමටද බලය තිබිණ. මේවා තීරණය කරන ලද්දේ comitia curiata නම්වූ මහජන මණ්ඩලයක්



(කුරියාවල මණ්ඩලයක්) මගිනි. කුරියාව විසින් රැස්වන මිනිසුන් වර්ග කරනු ලැබීය. හැම කුරියාවක් තුළම මෙය වංශ විසින් කරන ලදැයි සිතිය හැක. තීරණාත්මක ප්‍රශ්නවලදී කුරියා තිහට චන්දයක් බැගින් විය. කුරියා මණ්ඩලය නීති සම්මත කිරීම සහ ප්‍රතික්ෂෙප කිරීම කළ අතර rex ඇතුළු (රජ හැටියට හැඳින්වෙන) සියළුම උසස් නිලධාරීන් තෝරා පත් කළහ. යුද්ධ ප්‍රකාශ කිරීමද (සාම ගිවිසුම් ඇතිකිරීම සේනට් මණ්ඩලයට අයත්ය), ශ්‍රේෂ්ඨාධිකරණය මෙන් තීරණ ගැනීමද, අභියාචන ගැන තීරණ ගැනීමද, රෝම පුරවැසියන්ට මරණ දඬුවම නියම කිරීම පිළිබඳව තීරණ ගැනීමද, මේ කුරියා මණ්ඩලය සතුවිය. අවසාන වශයෙන් සෙනෝට් හා කුරියා මණ්ඩලයට අනුබද්ධව සිටි rex ග්‍රීක basileus ට හැම අතින්ම සමානවූ අතර මොම්සන්ට පටහැණිව* ඔහු සර්වාධිකාරී රජකු ලෙස කොහෙත්ම ක්‍රියා නොකළේය. rex වූ කලී යුද්ධ නිලධාරියෙකි, උසස් පූජකයෙකි, සමහර අධිකරණවල සභාපති වරයෙකි. ඔහුට සිවිල් කටයුතු භාර නොවීය, පුර වැසියන්ගේ ජීවිතය, නිදහස හා දේපොල ආදිය ගැන ඔහුට කිසිදු බලයක් නොතිබුණු අතර යුද්ධ නායකයා ලෙස විනයානුකූල දඬුවම් දීමට හා අධිකරණ සභාපති ලෙස දඬුවම් හා තීරණයන් දීමට බලය තිබිණ. රෙක්ස්ගේ නිලය පරම්පරාවෙන් පරම්පරාවට ආ උරුමයක් නොවේ. ඒ වෙනුවට විශ්‍රාම ගන්නා රෙක්ස් කෙනෙකුගේ යෝජනාවක් අනුව කුරියා මණ්ඩලය විසින් තෝරා පත්කර ගැනීමද සේනට් මණ්ඩලය විසින් සම්මත කරගැනීමක්ද කළ බව සිතිය හැක. ඔහු පවා නිලයෙන් පහකර දැමිය හැකි වූ බව ටාර්ක්විනියස් සුපෙර්බුස් ගේ ඉරණමෙන් පෙනීයයි.

වීර යුගයේදී ග්‍රීකයින් මෙන්ම, රෝමානුවෝද තමන් වර්ධනය වූ වංශ, සහෝදරත්ව සහ ගෝත්‍ර පදනම් කර ගත් මිලිටරි ප්‍රජාතන්ත්‍රවාදයක් තුළ ජීවත්වූහ. කුරියා සංවිධාන හා ගෝත්‍ර අඩ වශයෙන් කෘත්‍රිම වුවද, ඔවුන්ගේ

---

* ලතින් rex යන වචනය සෙල්ටික් — අයිරිෂ් භාෂාවල righ (ගෝත්‍ර නායක) යන වචනයට සමානය. එනම් අපේ Fürst (ඉංග්‍රීසි first ඩෙන්මාක් බසෙහි förste යන වචනය මෙන් මුල් කාලයේදී වංශ හෝ ගෝත්‍ර නායකයා යන අරුතය ගෙන දුන්නේය. පසු කාලයක රජ යන වචනය හැඳින්වීමට හතරවැනි සියවසේ ගොත් වරුන්ට වෙනත් වචනයක් තිබීමෙන් ඒ බව පෙනී යයි. මුළු මහත් ජනකායකගේම යුද්ධ නායකයා වන එම නම thiudans උල්පිලා විසින් කරනලද බයිබල් පරිවර්තයෙහි අර්තක්සෙර්ක්සෙස් හා හෙරොද් හඳුන්වන්නේ reiks වශයෙන් නොව thiudans වශයෙනි. ටිබෙරියස් අධිරාජ්‍යයාගේ රජය reiki නොව thiudinassus වශයෙන් හැඳින්විණි. ගොතික් thiudans හෙවත් අප වැරදි ලෙස පරිවර්තනය කරන පරිදි රජු, Thiudareiks, Theodorich එනම් Dietrich ය. මේ නම් දෙකම එකට එක්වේ. (එංගල්ස්ගේ සටහනකි)

මූලාරම්භයේ තිබුණාවූද, දැනටද ඔවුන් හැම පැත්තකින්ම වටවී සිටින්නාවූද සමාජයේ ප්‍රකෘති සහ නියම ආදර්ශ මත ඒවා ගොඩනගා තිබිණි. ප්‍රකෘති සොබාව අනුව වර්ධනය වූ කුලීන ප්‍රභූවරුන් එවකටත් බලය ලබාගෙන සිටියද, reges නායකයෝ තම බලය ව්‍යාප්ත කර ලීම සඳහා ක්‍රම ක්‍රමයෙන් වැර දැරූහ. ව්‍යවස්ථාවේ මූලික හා ප්‍රධාන ලක්ෂණය මේ නිසා වෙනස් නොවේ. බලපාන එකම කරුණද මෙයයි.

මේ අතර රෝමයේ ජනගහණයද, රෝම නගරයේ ප්‍රමාණයද ප්‍රදේශ අල්ලා ගැනීම නිසාත්, අඩ වශයෙන් සංක්‍රමණයවීම නිසාත්, අඩවශයෙන් ලතින් ප්‍රදේශ සහිත යටත් කරගත් ජනතාව නිසාත් විශාල විය. මේ අළුත් වැසියෝ (අනුග්‍රහකයින් පිළිබඳ ප්‍රශ්නය මොහොතකට පසෙක තබමු). වැඩි දෙනා වංශ, සහෝදරත්ව සංවිධාන හා ගෝත්‍ර වලට අයත් නොවූහ. ඒ අනුව මේ අය populus Romanus රෝම නගර ජනතාවගේ කොටසක් නොවිය. පෞද්ගලිකව නිදහස් මිනිසුන් වූ මේ උදවියට ඉඩම් අයිතිකරුවන් වීමට බලය තිබිණ, අයබදු ගෙවීමද, යුද්ධ සේවයෙහි යෙදීමද, මොවුන් කළ යුතු විය. එහෙත් ඔවුන්ට නිලතල දැරිය නොහැකි විය. කූරියා සංවිධා-නවලට තෝරාපත්විය නොහැකිවිය. අල්ලා ගනු ලැබූ බිම් පෙදෙස් බෙදා-ගැනීමේදී එයට සහභාගි විය නොහැක. මහජන අයිතියක් නැති සාමාන්‍ය ජනතාවට මොවුහු අයත්වූහ. මේ කොටස් සංඛ්‍යාවෙන් නිතරම වැඩිවීම නිසාත්, ඔවුන් යුද්ධ පුහුණුව ලැබ අවි ගෙන සිටි නිසාත්, සියළුම වැඩිවීම් වලට එදිරිව තම පුරවැසියන් ඒකරාශී කළ රෝම නගර ජනතාවට මො-වුන් තර්ජනයක් විය. ඉඩම් සාමාන්‍ය ජනතාව හා රෝම නාගරිකයන් අතර සමාන ලෙස බෙදී ගොස් තිබිණ. එහෙත් තවම එතරම් වැදගත් කමක් නොදැරූ වාණිජමය හා කර්මාන්තමය ධනය සාමාන්‍ය ජනතාවට අයත් බව සිතිය හැක.

රෝමයේ ඓතිහාසික පටන් ගැනීම ගැන ඇති මිථ්‍යා කතාව වටා ගෙතී ඇති ඝණ අඳුරු පටලයන් නිසාද — අප උල්පත් වශයෙන් පාවිච්චි කරන කෘතීන් කළ නීතිය පිළිබඳ පුහුණුවක් ලැබූවන් විසින් කර තිබෙන සහේතුක — කෘත්‍ය සාධකතාවාදී ප්‍රයත්නයන් නිසා එම අඳුර තවත් උත්ස-න්න වීම නිසාද — පැරණි වංශමය ව්‍යවස්ථාව අවසන් කර දැමීම සඳහා ඇතිවූ විප්ලවයේ හේතූන්ද, මාර්ගයද, කාලසීමාවද ගැන ස්ථිර ප්‍රකාශයක් කිරීමට නුපුළුවන. සාමාන්‍ය ජනතාව හා නාගරිකයන් අතර හටගත් සටන මේවාට හේතු වූ බව ස්ථිර වශයෙන් කිව හැකිය.

ග්‍රීක ආදර්ශය අනුව, විශේෂයෙන්ම සොලොන්ගේ ආදර්ශය අනුව, සර්වියස් ටුල්ලියස් නම්වූ rex විසින් කෙටුම්පත් කරන ලදැයි කියනු ලබන ව්‍යවස්ථාව, යුද්ධ සේවයෙහි යෙදෙන්නේද නැතිය යන්න පදනම් කර ගනිමින් නාගරිකයන් හෝ සාමාන්‍ය ජනතාව සහිතව හෝ රහිතව



මහජන මැති සබයක් සැදූවේය. යුද්ධ සේවයට සුදුසු මුළු මහත් ජනකායම ධනය අනුව, පංති හයකට බෙදන ලදී. පළමුවැනි පංති පහට අයත් අවමය දේපොල සුදුසුකම් පිළිවෙලින් මෙසේවිය: 1 පංතිය ආස් කාසි 1,00000; 2 පංතිය ආස් කාසි 75,000 කි; 3 පංතිය ආස් කාසි 50,000 කි; 4 පංතිය ආස් කාසි 25,000 කි; 5 පංතිය ආස් කාසි 11,000 කි. මෙය දියුරෝ ද ලා මාල් කියන පරිදි පිළිවෙලින් මාර්ක් කාසි 14,000, 10,500, 7,000, 3,600, 1,570, කට සමානය. මෙයට වඩා අඩු ධනයක් සන්තකව සිටි හයවැනි පංතිය නිර්ධනීන් වූහ. මොවුන්ගෙන් අයබදු අය නොකළ අතර ඔවුන් යුද සේවයටද නොකැඳවන ලදී. සෙන්චූරියා නමින් හඳුන්වන ලද නව මැති සබය (comitia centuriata) තුළ පුරවැසියන් හැඩ ගැසුනේ යුද භටයින් මෙන් සියයකින් යුත් (centuria — ශතකය) කාණ්ඩ අනුවය. හැම ශතකයකටම චන්දයක් බැගින් විය. පළමුවැනි පංතිය යුද පිටියට ශතකයන් 80 ක් ඉදිරිපත් කළේය. දෙවැනි පංතිය ශතක 22 ක්ද, තුන්වැනි පංතිය ශතක 20 ක්ද, හතරවැනි පංතිය ශතක 22 ක්ද, පස්වැනි පංතිය ශතක 30 ක්ද හයවැනි පංතිය බාහිර පෙනුම සඳහා එක් ශතකයක්ද ඉදිරිපත් කළේය. ඉතාම පොහොසත් අය විසින් මෙයට තවත් අසරු ශතකයන් 18 ක්ද එකතු කරන ලදී. ශතකවල මුළු ගණන 193 කි. බහුතර චන්ද සංඛ්‍යා-වක් සඳහා අවශ්‍ය අඩුම ගණන 97 කි. එහෙත් අසරුවන්ට හා පළමුවැනි පංතියට හිමි චන්ද ගණන 98 ක් විය. ඒ අනුව, ඔවුන්ට බහුතර චන්ද සංඛ්‍යා-වක් තිබිණ. මේ දෙකොටස එක්සත් වූ අවස්ථාවලදී, අනිත් පංතීන්ගේ අදහස් නොවිමසාම වලංගු තීරණයන් ගන්නා ලදී.

ශතකවල මේ නව මහජන මැති සබයට පැරණි කූරියා සංවිධානවල දේශපාලන (සමහර නාමික අයිතිවාසිකම් හැර) අයිතිවාසිකම් දැන් පවරා ඇත. ඇතැන්ස්හි මෙන් කූරියා හා වංශ සංවිධානයන්ගේ තත්ත්වය පෞද්ගලික සහ ආගමික සංවිධානවල තත්ත්වය දක්වා පහත බැස්සේය. ඒ අනුව එම සංවිධාන දීර්ඝ කාලයක් තිස්සේ රඳා පැවතිණි. කූරියා මැති සබය ඉක්මණින්ම විස්මෘතියට වැටිණ. පැරණි වංශමය ගෝත්‍ර තුන නැති-කර දමනු වස් භෞමික ගෝත්‍ර සතරක් ඉදිරිපත් කරන ලදී. නගරයේ හතරෙන් එක් කොටසක බැගින් පදිංචි වූ මේ එක් එක් ගෝත්‍රයට එක්තරා දේශපාලනමය අයිතිවාසිකම්ද දෙන ලදී.

ඒ අනුව රෝමයේද භෞමික බෙදීම් හා ධනය මත පදනම් වූ නව ව්‍යවස්ථාව ස්ථාපිත වීමෙන් ඊනියා රාජධානියද විනාශ කිරීමට පෙර ලේ නෑකම සහ පෞද්ගලික සබඳකම් අනුව පදනම්වූ පැරණි සමාජමය ක්‍රමය විනාශ කර දමන ලදී. නියම රාජ්‍යමය ව්‍යවස්ථාවක් ඒ වෙනුවට එම තැන ගත්තේය. මෙහි මහජන බලය යුද්ධ සේවාවට සුදුසු අයගෙන්

සමන්විත වූ අතර එය වහලුන්ට පමණක් නොව යුද්ධ සේවය හා, අවි ගැනීමට තහනම් වූ නිර්ධනීන්ට එදිරිවද යොදවන ලදී.

අවසාන වරට rex ධූරය දරූ ටර්කුයිනියුස් සුපර්බස් නෙරපා හැරීමෙන් පසු නව ව්‍යවස්ථාව තවත් දුර වර්ධනය කළා පමණකි. මොහු නියම රාජකීය බලය සහ ආයතනය අයුතු ලෙස පැහැර ගත්තේය. දැන් rex ධූරය වෙනුවට සමාන බලතල ඇති යුද්ධ නිලධාරීන් දෙදෙනෙකු (කොන්සල්වරුන්) පත් කරන ලදී (ඉරොකුවොයිස් වරුන් අතර මෙනි). නිලතල ලබාගැනීමට හා රජයේ ඉඩම් සතු කරගැනීමට කුලීන හා සාමාන්‍ය ජනතාව අතර පැන නැගුණු අරගලත් සමග මේ ව්‍යවස්ථාව තුළ රෝම සමූහාණ්ඩුවේ මුළු මහත් ඉතිහාසයම ක්‍රියා කාරී විය. යුද්ධ සේවය නිසා විනාශ මුඛයට ඇද වැටුණු සියළු ගොවීන්ගේ ඉඩම් ක්‍රම ක්‍රමයෙන් ගිලගත් විශාල ඉඩම් හා මුදල් හිමි නව පංතිය තුළ අවසාන වශයෙන් පැට්‍රිසියානු කුලීනයෝ දියවී ගියහ. මේ අනුව අළුතින් ලබා ගත් පෙදෙස්වල වහලුන් ලවා ගොවිතැන් කරවා ගත් නව පංතිය ඉතාලිය ජන ශූන්‍ය කළ අතර රාජ්‍ය පාලනයට ඉඩකඩ සලසා දුන්නා පමණක් නොව, ඔවුන්ගෙන් පසු බලයට පැමිණි ජර්මන් වනචාරීන්ටද අවස්ථාව සලසා දුන්නේය.

## VII

## සෙල්ට් හා ජර්මනුන් අතර වංශ

නූතන කාලයේ විවිධ ම්ලේච්ඡ හා අශිෂ්ට මිනිසුන් අතර තවම පවතින වංශ සංවිධාන ගැන හෝ ආසියාවේ සභ්‍ය ජාතීන්ගේ පැරණි ඉතිහාසය තුළ ඇති එවැනි සංවිධාන ගැන හෝ සවිස්තර ලෙස වග විභාග කිරීමට සෑහෙන ඉඩක් අපට නැත. එකක් හෝ තවෙකක් හෝ හැම තැනම මුණ ගැසෙයි. නිදසුන් කීපයක් පමණක් සෑහේ, වංශ පිළිගැනීමට පෙර සිටම එය පෙන්වා දෙමින් පොදු වශයෙන් එහි ප්‍රධාන අංග විස්තර කළේ, ඒවා වැරදි විධියට අවබෝධ කර ගැනීමට විශාල වෑයමක් දරූ මැක්ලෙනන් විසිනි. කල්මුක්, සිර්කසීන්, සමොයෙඩ්වරුන් හා ඉන්දියාවේ ජාතීන් තුනක් වන වරාලි, මගාර් සහ මුනිපූරිවරුන් අතරද එම වංශ සංවිධාන ඇති බව හෙතෙම පෙන්වා දුන්නේය. කොකෙසියානු ගෝත්‍ර වන ප්ෂාව්, ක්හෙව්සූර් හා ස්වනෝටියන්වරුන් අතරද එවැනිම සංවිධාන ඇති බව මේ නොබෝද මැක්සිම් කොවලෙව්ස්කි විසින් පෙන්වා දෙන ලදී. සෙල්ට හා ජර්මනුන් අතර වංශ පැවැති බව පෙන්වන කෙටි සටහන්වලට පමණක් අපි මෙහිදී සීමාවෙමු.



නූතන කාලය දක්වා සුරක්ෂිතව පවතින පැරණි තම සෙල්ටික් නීති අනුව වංශ තවමත් සම්පූර්ණ උනන්දුවකින් ක්‍රියා කරයි. ඉංග්‍රීසින් විසින් බලාත්කාරයෙන් විනාශ කර දැමූ පසුවද අයර්ලන්ත ජනතාවගේ හැඟීම් තුළ එය තවම නෛසර්ගික ලෙස ජීවමානව පවතී. පසුගිය සියවසේ මැද භාගය දක්වා එය ස්කොට්ලන්තයේ පැතිර පැවතිණි. මෙහිදීද එය ඉංග්‍රීසින්ගේ අවිවලට, නීතිවලට හා අධිකරණයට පමණක් යටත් විය.

ඉංග්‍රීසි ආධිපත්‍යයට සියවස් කීපයකට පෙර, එකොළොස් වැනි සියවසට පෙර, ලියන ලද වෙල්ස් නීති විශේෂතාවයක් සහ පැරණි සර්වභෞමික චාරිත්‍ර වශයෙන් වුවද, මුළු ගම්වල පැවැති පොදු කෘෂිකාර්මික කටයුතු පෙන්වා දෙයි. හැම පවුලකටම වගා කිරීම සඳහා අක්කර පහක් බැගින් තිබුණු අතර තවත් ඉඩමක පොදුවේ වගා කරනු ලැබීය. මෙයින් ලැබෙන අස්වැන්න බෙදගන්නා ලදී. අයිරිෂ් හා ස්කොච් සමානත්වයන් අනුව විනිශ්චය කරන විට, මේ ගම්මුන්ගේ ජනපද වංශ හෝ වංශවලින් බිඳී ආ කොටස් නියෝජන කරන බව සැක රහිත බව සැලකිය හැක්කේ කාලය මඳ බැවින් (මගේ සටහන් 1869 ට අයත්ය) වෙල්ස් ජාතික නීති නැවත පිරික්සා බලන විට මෙය කෙළින්ම තහවුරු නොවන බවද නොසළකමිනි. එකොළොස් වැනි සියවසේ වුව, සෙල්ට්ස්වරුන් අතර පැවති යුගලන පවුල් ක්‍රමය ඒක භාර්යා විරතය දක්වා වෙනස් නොවූ බව වෙල්ස් හා අයිරිෂ් උල්පත් විසින් ඔප්පු කරන ලදී. වේල්ස්හි විවාහය කටුගා නොදැමිය හැකි එකක් නොවීය, හත් අවුරුද්දක් ගතවන තුරු කටුගා දැමීමට බැරි දෙයක් නොවීය. හත් අවුරුද්දක් ගතවීමට ඇත්තේ දවස් තුනක් පමණක් වුවද විවාහවූ දෙදෙනාට දික් කසාද විය හැකිව තිබිණි. ඔවුන්ගේ දේපොල සමසේ දෙදෙනා අතර බෙද ගන්නා ලදී. ස්ත්‍රිය දේපොල බෙදුවාය. පුරුෂයා තමා කැමති කොටස තෝරා ගත්තේය. ගෘහ භාණ්ඩ බෙදගන්නා ලද්දේ සිනහ උපදවන රීති අනුවය. විවාහය දික්කසාද කරන්නේ පුරුෂයා විසින් නම් දෑවැද්ද ඇතුළු තවත් භාණ්ඩ කීපයක් ඔහු බිරිඳට භාර දිය යුතුය. වෙන්වීම පතන්නේ ස්ත්‍රිය නම් ඇයට ලැබෙන කොටස අඩුය. ළමයින්ගෙන් දෙදෙනෙකු පුරුෂයාට අයත් වේ. මද්දුමයා ස්ත්‍රියට අයිතිය. දික්කසාද වීමෙන් පසු ස්ත්‍රිය නැවත වරක් විවාහ වූවා නම්, ඇගේ පළමුවැනි සැමියා ඈ කැඳවා ගෙන ආවේ නම්, දෙවැනි සැමියාගේ ඇඳ මත ඇගේ එක් පයක් තිබුණද එයද නොසළකා පළමු සැමියා අනුව යාම ඇගේ යුතුකම විය. එහෙත් ස්ත්‍රියක් හා පුරුෂයෙක් අවුරුදු හතක් එකට වාසය කළේ නම්, විවාහ සිරිත් නොතකා ඔවුන් අඹු සැමියන් පළිගැනිණි. විවාහයට පෙර තරුණියන්ගේ කන්‍යා භාවය දැඩි ලෙස නොසළකන ලදී, එය නොඉල්ලා සිටින ලදී. මේ පිළිබඳ තිබූ රීතීන් අතිශයින්ම නිස්සාර සහ ධනපති සදාචාරයට ප්‍රතිවිරුද්ධ ඒවා විය. බිරිඳක් කාම මිථ්‍යා

වාරයෙහි හැසුරුණු විට ඇයට තැලීමට සැමියාට බලය තිබිණි. දඬුවම් නොලැබ බිරිඳට තැලීමට අයිතිය ඇති අවස්ථා තුනෙන් එකකි, මෙය. එහෙත් ඉන් පසු වෙනත් සහනයක් ඉල්ලා සිටීමට ඔහුට බැරිය. මන්දයත් ''එම වරදට කමා කරවා ඉන් නිදහස්වීම හෝ දඬුවම් කළ හැකි නමුදු දෙකම නොකළ හැකි බැවිනි''. තම අයිතියට හානි නොවන සේ දික්කසාද වීමට ස්ත්‍රියට ඇති හේතු අතිශය විවිධාකාරය. පුරුෂයාගේ අප්‍රිය ජනක සුවඳ සැහෙන හේතුවකි. පළමුවැනි රාත්‍රියෙන් නිදහස් කිරීම සඳහා ගෝත්‍ර නායකයාට හෝ රජුට හෝ ගෙවිය යුතු මුදල (godr merch, ඒ නිසා මධ්‍ය කාලීන සමයේ marcheta ප්‍රංශ marquette) නීති සංග්‍රහයේ සැහෙන තැනක් ඉසිලීය. මහජන මණ්ඩලවලදී ඡන්දය පාවිච්චි කිරීමේ අයිතිය ස්ත්‍රියට තිබිණ. අද දක්වාත් අයර්ලන්තයේ මෙයට සමාන තත්වයන් තිබෙන බව පෙනේ; මෙහිදී මේ කාලයේදී විවාහවීමද සිරිතක්ව පැවතින. ගෘහ සේවය නිසා පාරිතෝෂිකයන් දීම දක්වා වූ අතිශයින් පැහැදිලි වරප්‍රසාදයන් වෙන්වීමේදී කාන්තාවට සහතික කොට තිබිණ. අන් අය සමග 'පළමුවැනි බිරිඳ' සිටියාය. කෙනෙකුගේ දේපොල බෙදීමේදී නියම හා අනියම් දරුවන් වශයෙන් නොබෙදන ලදී. සසඳා බලන විට උතුරු ඇමෙරිකාවේ විවාහ ක්‍රමය තද යැයි කිව හැකි යුගලන පවුල් ක්‍රමයක් පැවැති බව පෙනේ. එහෙත් සීසර්ගේ කාලයේදී කාණ්ඩ විවාහ ක්‍රමයක ජීවත් වූ මිනිසුන්හට එකොළොස් වැනි සියවසේදී මෙය පුදුම එලවන සුලු දෙයක් නොවේ.

අයිරිෂ් වංශය (sept; ගෝත්‍රය clainne) ක්ලැන් වශයෙන් හඳුන්වන ලදි) ගැන පැරණි නීති පොත් මගින් පමණක් නොව, ගෝත්‍රවලට අයත් ඉඩම් එංගලන්ත රජුගේ දේපොල බවට පරිවර්තන කිරීම සඳහා දහහත්වැනි සියවසේදී එහි යවන ලද ඉංග්‍රීසි නීතිවේදීන් විසින්ද විස්තර කොට සහ ස්ථිර කොට ඇත. මේ දක්වා නායකයින් විසින් තම පෞද්ගලික දේපොල බවට පරිවර්තන කර ගත් තැන් හැරුණු විට, ඉඩම්, ගෝත්‍රවල හෝ වංශවල පොදු දේපොල වශයෙන් පැවතිණි. වංශිකයෙකු මිය ගොස්, ගෘහයක් ඒ අනුව විසුරුවා හැරිය විට, වංශ නායකයා (ඉංග්‍රීසි නීතිවේදීන් විසින් caput cognationis යන නමින් මොහු හඳුන්වන ලදී) එම වංශයට අයත් දේපොල අනිකුත් ගෘහයන් අතර නැවත බෙදා දෙනු ලැබේ. අප ජර්මනියේදී දුටු නීතිවලට සමාන නීති අනුව මේ බෙදදීම පොදුවේ සිදු කෙරිණි. ඉස්සර රන්ඩෙල්' නමින් හැඳින්වුණු පොදු ඉඩම් සහිත ගම් කීපයක් — අවුරුදු හතළිකට, පනහකට පෙර මෙවැනි ගම් බොහොමයක් විය — දැනුදු දැකිය හැකිය. පෙර වංශවලට අයත් පොදු ඉඩම් බවට පත්වැ තිබූ මේවා ඉංග්‍රීසින් විසින් අල්ලා ගැනීමෙන් පසු එහි වුසූ ගොවීන්ට තම තමන්ගේ ඉඩම් කැබැලිවලට කුලී ගෙවීමට සිදුවී ඇත. එහෙත් වගා



කළ හැකි ඉඩම් තණ පිට්ටනිද එකට එක් කොට ඒවායේ පිහිටීම හා තත්වය අනුව කැබැලිවලට හෝ (මොසෙල්හි හඳුන්වා ඇති "Gewanne" වලට) බෙදා කොටස් කර ගෙන ඇත. හැම එකෙක්ම එක් "Gewanne" බැගින් ලබාගත්හ. ඕවිට් යායවල් හා තණබිම් පොදුවේ භාවිතයට ගන්නා ලදී. අවුරුදු පනහකට පෙර වූ මෑත කාලයකදී පවා ඉඳහිට හෝ සමහර විට අවුරුදු පතා මේ ඉඩම් නැවත බෙදන ලදී. එවැනි 'රන්ඩේල්' ගමෙක සිතියම මෝසෙල් හෝ හොක්වාල්ඩ්හි ජර්මනියේ ගොවි ගෙවල් සමූහයකට (Gehöferschaft) බොහොසෙයින්ම සමාන විය. වංශද ''කොටස්වල'' පැවතිණි. ඉංග්‍රීසි කාරයින්ට කොහෙත්ම තේරුම් ගත නොහැකි විකාර හා තේරුම් රහිත පදනම් මත අයිරිෂ් ගොවියෝ නිතර පක්ෂ සෑදූහ. මෙවැනි කොටස් ඇති කිරීමේ එකම හේතුව ජනප්‍රිය ක්‍රීඩා ක්‍රමයක් සඳහා ජනතාව රැස්කිරීමටය. විනාශ වී ගිය වංශ සංවිධාන වෙනුවට මේ කෘත්‍රිම සංවිධාන ඇති කරන ලදී. පරම්පරාවෙන් උරුමය ලැබූ වංශ ඉව දිගටම ගෙනයාම විශේෂ විධියකින් කියා පෑමකි, මෙය. සමහර ගම්බද පෙදෙස්වල එකම වංශයකට අයත් සාමාජිකයෝ තම පැරණි ඉඩම්වල තවම වාසය කරත්. නිදසුනක් වශයෙන් එක්දහස් අටසිය තිස් ගණන්වලදී මොනගාන් පෙදෙසේ වැසියන්ට තිබුණේ වාසගම් හතරක් පමණකි, ඔවුන් වංශ හෝ ගෝත්‍ර* හතරකින් පැවත එන බව එය කියා පෑවේය.

* වංශ පැවැති කාලයේදී අදහස් අනුව කොතරම් පුළුල් ලෙස තවම අයර්ලන්තයේ ගම්බද ජනතාව ජීවත්වන්නේද යන්න මා එහි ගත කළ දවස් කීපය තුළදී මම දුටුවෙමි. ඉඩම් හිමියාගේ බදුකාරයා වන ගොවියා, සියලු දෙනාගේම යහපත සඳහා වගා කිරීම ගැන සොයා බලන ඉඩම් හිමියා දෙස බලන්නේ ගෝත්‍ර නායකයෙකු ලෙසය. ගොවියා ඔහුට පරිතෝෂයක් වශයෙන් කුලියක් ගෙවිය යුතුය. එහෙත් ඉඩම් හිමියා ගොවියාට අවශ්‍ය අවස්ථාවලදී උදව් කළ යුතුය. එමෙන්ම යහපත් තත්වයක ජීවත්වන උදවිය තම දුප්පත් අසල්වැසියන්ගේ අවශ්‍යතාවයන්හිදී ඔවුන්ට උදව් කිරීම යුතු කමක් ලෙස සලකති.

මෙවැනි උදව්දීම් පිණට දීමක් නොවේ, පොහොසත් ගෝත්‍රිකයාගෙන් හෝ ගෝත්‍ර නායකයාගෙන් හෝ දුප්පත් ගෝත්‍රිකයාට ලැබිය යුතු අයිතියකි එය. අයිරිෂ් ගොවියාගේ බුද්ධියට ධනවාදී දේපොල පිළිබඳ සමකාලීන මතය කාවැද්දවීමට කොහෙත්ම බැරියැයි දේශපාලන ආර්ථික විද්‍යාඥයින් සහ නීතිවේදීන් කියා සිටීම මින් පැහැදිලි වෙයි. යුතුකමෙන් තොර අයිතිය පමණක් ඇති දේපොල ගැන සිතා ගැනීමට අයිරිෂ් ජාතිකයාට බැරිය. මෙවැනි ග්‍රාමක වංශමය අදහස් ඇති අයිරිෂ් ජාතිකයින් බොහෝ දෙනෙකු එංගලන්තයේ හා ඇමෙරිකාවේ මහා නගරවල ජීවත්වන හාත්පසින්ම වෙනස් අධ්‍යාත්මික හා නීතිය පිළිබඳ අදහස් ඇති මිනිසුන් අතරට වැටුණු විට, ඔවුන්ගේ අධ්‍යාත්මික හා සාධාරණත්වය පිළිබඳ අදහස් සම්පූර්ණයෙන්ම ආකූල වී යයි, ව්‍යාකූල තත්වයකට වැටෙන මේ අයිරිෂ් ජාතිකයෝ බොහෝ විට සමූහ වශයෙන් පරාජිතවාදයට ඇද වැටෙත් (හතරවැනි මුද්‍රණයට එංගල්ස් කළ සටහනකි).

1745 කැරල්ල මැඩීමත් සමගම ස්කොට්ලන්තයේ වංශ සංවිධාන ක්‍රම බිඳ වැටිණි. ස්කොට් ජාතික ගෝත්‍රය මේ අනුව නියෝජනය කරන පුරුක කවරේද යන්න සොයා බැලීම කළ යුතුය. එය පුරුකක් බව සැක නැත. ස්කොට්ලන්තයේ කඳු කරයේ ගෝත්‍ර ගැන මනහර චිත්‍රයක් වෝල්ටර් ස්කොට් තම නව කතා මගින් අප ඉදිරියේ තබයි. මෝර්ගන් කියන පරිදි, එය, "සංවිධානය හා අධ්‍යාත්මය අනුව ඉතාම උසස් වංශ වර්ගයකි. තම සාමාජිකයින් මත වංශමය ජීවිතයේ බලය පෙන්වන කදිම විස්තරයකි... ඔවුන්ගේ සටන් තුළ හා ලේවල පළිගැනීම් තුළද, වංශ විසින් පෙදෙස් පිහිටුවීමද, ඉඩම් පොදුවේ භාවිතා කිරීමද ගෝත්‍ර නායකයා කෙරෙහි ගෝත්‍රිකයන්ගේ ඇති විශ්වාසයද, ගෝත්‍රිකයින් එකිනෙකා කෙරෙහි ඇති විශ්වාසයද, වංශමය සමාජයේ සාමාන්‍ය හා දැඩි ලක්ෂණයන්ද... පරම්පරාව පුරුෂ පාර්ශ්වය අනුව විය. පුරුෂයින්ගේ ළමයින් එම වංශයට අයත්වූ අතර ස්ත්‍රීන්ගේ ළමයි සිය පියවරුන්ගේ වංශයට අයත් වූහ" පෙර ස්කොට්ලන්තයේ මවු අයිතිය පැවති බව පික්ට් රාජකීය පවුල විසින් ඔප්පු කර ඇත. බීඩ් කියන පරිදි මෙහි මවු අයිතිය අනුව උරුමය පැවරීමක් තිබිණ. පුනාලුවා පවුල් ක්‍රමය සමග ඇති සබඳකම් පෙන්වන, පළමුවැනි මංගල රාත්‍රිය පිළිබඳ අයිතිය මධ්‍යම යුගය දක්වා ස්කොට් හා වෙල්ස් ජාතිකයින් අතර පැවැති බව, දක්වන සාක්ෂි අපට ඇත. වන්දි ගෙවා බේරා නොගන්නේ නම්, පළමුවැනි මංගල රාත්‍රිය පිළිබඳ මෙම අයිතිය පොදු සැමියන්ගේ නියෝජිතයා වන ගෝත්‍ර නායකයාට හෝ රජුට සෑම මනාලියකගෙන්ම ඉල්ලා සිටිය හැකි විය.

* * *

මිනිසුන්ගේ සංක්‍රමණය තෙක් ජර්මනුන් වංශ සංවිධාන තුළ සංවිධාන වී සිටි බව අවිවාදයෙන් පිළිගත යුත්තකි. අපේ යුගයට සියවස් කීපයකට පෙර ඔවුහු ඩැනියුබ්, රයින්, විස්ටුලා ආදී ගංගා අතර පෙදෙස්වලද උතුරු මුහුදු කරයේද පදිංචි වූහ. සිම්බ්‍රි හා ටෙයුටොන්වරු සංක්‍රමණයේ තදින්ම යෙදී සිටියහ. සීසර්ගේ කාලය වන තෙක් සුයෙව්වරු පදිංචි නොවූහ. වංශ හා ඥාති ක්‍රමය (gentibus cognationibusque) සහිත සංවිධාන මගින් ඔවුන් පදිංචි වූ බව සීසර් විශේෂයෙන්ම සඳහන් කරයි. ජූලි නම් වූ වංශයට අයත් පුද්ගලයෙකු gentibus යන වචනය පාවිච්චි කරන විට එහි ස්ථිර තේරුමක් ඇති අතර වැරදි ලෙස එය කොහෙත්ම වටහා ගත නොහැකිය. මෙය සියලු ජර්මනුන්ට එකසේ බලපායි, අල්ලා ගන්නා ලද රෝමානු පෙදෙස්වල පදිංචි වීමද කරගෙන ගියේ වංශ ක්‍රමය තුළිනි. ඩෙනියුබ් නදියට දකුණින් අල්ලාගත් පෙදෙස්වල වංශ තුළින් (genealogiae) පදිංචි වීම පිළිබඳ කාරණයද, ඇලමේනියානු නීතිය මගින්



ස්ථිර කොට ඇත. පසුව Mark හෝ Dorfgenossenschaft* යන වචනය පාවිච්චි කළාක් මෙන්ම ස්ථිරවම එම තේරුම ගෙන දීම සඳහා genealogia යන වචනය යොදා ඇත. genealogia (වංශවලිය) යන වචනය ඉඩම් බෙදා දී ඇති ගෘහයන් ගැන කීම සඳහා යොදා ඇති බවත්, පසුව මින් ග්‍රාම සමූහයන් වර්ධනය වූ බවත් මෑතකදී කොවලෙව්ස්කි පැවසීය. ඇලමේනියානු නීති සංග්‍රහයේ ඇති genealogia යන වචනයට සමාන හෝ එම වචනයම සඳහා බුර්ගුන්ඩියන් හා ලැන්ගොබාර්ඩ්වරුන් — ගොතික් හා හර්මිඩෝනියන් නැතිනම් උසස් ජර්මන් ගෝත්‍රයක් — විසින් fara යන වචනය යෙදූ බව පෙනේ. ඇලමේනියානු නීති සංග්‍රහය genealogia යනුවෙන් හැඳින්වේ. මෙය වංශය හෝ ගෘහ සමූහයක් නියෝජනය කළේද යන්න සවිස්තරව පිරික්සා බැලිය යුතුය.

සියලු ජර්මන්වරුන් වංශය හැඳින්වීම සඳහා එකම වචනයක් භාවිතා කළේද, එසේ නම් එය කුමක්ද යන්න සෙවීමේදී භාෂා වාර්තා අනුව සැකයක් ඇතිවේ. නිරුක්ති ශාස්ත්‍රය අනුව ග්‍රීක genos සහ ලතින් gens යන වචන ගොතික් Kuni මැද උසස් ජර්මන් Künne යන වචනවලට අනුරූප වන අතර එම වචන එකම අර්ථයක් නිරූපනය කරයි. මවු අයිතිය පිළිබඳ කාලයට අපට යාමට සිදුවී තිබෙනුයේ "ස්ත්‍රිය" යන වචනය ඇති වී තිබෙනුයේ එම මූලයෙන් නිසාය: ග්‍රීක් බසෙහි gynê ස්ලාව් බසෙහි žena ගොතික් බසෙහි qvino පැරණි නෝර්ස් බසෙහි kona, kuna යන වචනය. ලැන්ගොබර්ඩ් හා බුර්ගුන්ඩියන්වරුන් අතර මෙය fara නමින් හැඳින්වෙයි. කල්පිත මූලයක් වන fisan (උපද්දනවා) යන වචනයෙන් මෙය බිඳී ආ බව ග්‍රිම් පවසයි. faran, fahren යන මුල් වචනයෙන් මෙය බිඳී ආ බව මගේ අදහසයි. තැනින් තැන යනවා, ආපසු යනවා යන තේරුම් ඇති මේ වචනය නෝමැඩික් පෙළට අයත් හොඳින් විග්‍රහ කරන ලද එක්තරා කොටසක් ගැන කියයි. ඒ අතරම එය නෑයන්ගෙන් සමන්විත වූ බව සඳහන් නොකළද වටහා ගත හැකිය. සියවස් ගණනක් තිස්සේ පළමුව නැගෙනහිරටද පසුව බටහිරටද ගමන් කළ වංශ සමූහයට මේ වචනය ක්‍රමයෙන් භාවිතා කරන ලදී. වැඩිදුරටත් ගොතික් sibja ඇන්ග්ලෝසැක්සන් sib පැරණි උසස් ජර්මන් sippia, sippa, Sippe** යන වචනද ඇත. පැරණි නෝර්ස්වරුට Sifjar (නෑයෝ) නැමති බහු වචනය පමණකි, තිබුණේ. Sif යන ඒක වචනය දෙවඳුවකගේ නමකින් පමණක් යෙදේ. හිල්ඩෙබ්‍රාන්ඩ් ගීතයෙන් තවත් ප්‍රකාශයක් මතුවෙයි. එහි හිල්ඩෙබ්‍රාන්ඩ් හාඩුබ්‍රාන්ඩගෙන් මෙසේ අසයි "මේ මිනිසුන් අතරින් තොපගේ පියා

* — ග්‍රාම සමූහය.
** — බන්ධ ජනයා.

කවරෙක්ද... නැතිනම් බන්ධු ජනයා කවරහුද? (eddo huêlihhes cnuosles du sûs"). වංශය හැඳින්වීම සඳහා පොදු ජර්මන් වචනයක් තිබුණේ නම් එය kuni නම්වූ ගොතික් වචනය වූවා විය හැකිය. සමාන භාෂාවල එයට අනුරූපව ඇති වචනවලින් පමණක් නොව, මුල්ව වංශයේ හෝ ගෝත්‍රයේ හෝ ප්‍රධානියා හැඳින්වීම සඳහා යෙදූ Kuning, König යන වචනවලින්ද එය පෙන්වා දෙනු ලැබේ. sibja සහ Sippe යන වචන සළකා බැලීමට තරම් වටිනා වචන නොවේ. පැරණි නෝර්ස් බසෙහි පමණක් sifjar යන වචනයෙන් ලේ නෑයන් පමණක් නොව, විවාහ නිසා ඇති වූ නෑයන්ද හැඳින්විණි. ඒ අනුව එය යටත් පිරිසෙයින් වංශ දෙකක් නියෝජනය කළේය, එබැවින් Sif යන්න වංශය හැඳින්වීම සඳහා යෙදූ වචනයක් නොවේ.

මෙක්සිකන්වරුන් හා ග්‍රීකයින් අතර මෙන්ම ජර්මනුන් අතරද අසරු සෙබළුන් හා ඤඤ්ඤ වැනි පේළි සහිත පාබල සේනාද යුද්ධමය පෙළ ගැස්වීම කරන ලද්දේ වංශ විසිනි. පවුල් අනුව සහ නෑකම අනුව යැයි ටැසිටස් කියන විට එය අස්ථිර ප්‍රකාශනයක් බව පෙනීයන්නේ රෝමයේ ජීවමාන සමාගමයක් ලෙස වංශය අභාවයට ගොස් බොහෝ කල් ගත වුණු බැවිනි. තීරණාත්මක වැදගත්කමක් ඇති කොටසකින් ටැසිටස් මෙසේ පවසයි. මවුගේ සොහොයුරා තම බෑණා පුතෙකු ලෙස සළකයි. මාමා සහ බෑණා අතර ඇති ලේ නෑකම, පියා සහ පුතා අතර ඇති ලේ නෑකමට වඩා පරිශුද්ධ යැයිද, කිට්ටු යැයිද සමහරු සිතති. ඇප වශයෙන් මිනිසුන් ඉල්ලා සිටීමේදී ස්වකීය පුතාට වඩා බෑණා යහපත් පොරොන්දුවක් ලෙස ගණන් ගන්නා අතර ඇපයට බෑණා තැබීම සිරිතක් විය. මෙතැනදී අපට මවු අයිතියේ ජීවමාන නෂ්ටාවශේෂ සහ ඒ අනුව මුල් වංශය පෙන්නුම් කෙරේ. විශේෂයෙන්ම ජර්මනුන් වෙන්කොට පෙන්වන්නකි මෙය*. කිසියම් වංශයක සාමාජිකයෙක් තම පුතු ඇපයක් ලෙස භාරදුන්නේ නම්, ඔහු පොරොන්දුව කඩ කිරීම නිසා ඔහුගේ පුතු පීඩාවට පත්වී නම්, එය පියාට පමණක් සීමාවූ දෙයක් විය. එහෙත් මේ අන්දමට සොහොයුරියකගේ පුතෙකු පරිත්‍යාග කළහොත් එය අතිශයින්ම පරිශුද්ධ වංශ නීතිය උල්ලංඝණය කිරීමකි. කොලුවා හෝ තරුණයා හෝ ආරක්ෂා කිරීමට බැඳී සිටින නෑයා අන් හැම දෙනාටම වඩා ඔහුගේ මරණයට වග කිව යුතුය. ඔහු පොරොන්දුව නොදී සිටිය යුතුය, නැතිනම් දුන් පොරොන්දු අනුව කටයුතු කළ යුතුය. ජර්මනුන් අතර වංශ සංවිධානය පිළිබඳව අපට වෙන කිසිම සළකුණක් නොතිබුණද, මේ කොටස පමණක් සෑහෙන සාධකයකි.

අවුරුදු අට සියයකට පසු, දෙවිවරුන්ගේ විනාශය සහ ලෝකාන්තිමය පිළිබඳ Völuspâ නමින් හැඳින්වෙන පැරණි නෝර්ස් ගීතයද තවත් වැඩි තීරණාත්මක බවක් දරයි. මේ ගීතයේ, බාන්ග් සහ බූගෙ පෙන්වා දෙන පරිදි ක්‍රිස්තියානි ධර්මයද සම්බන්ධ වී ඇත. ලෝකාන්තයට පූර්වප්‍රාප්ත වන බලවත් දුශ්චරිතය හා දූෂණයන්ගෙන් පිරි යුගය ගැන විස්තරයක් මෙහි ඇත:

"Broedhr munu berjask ok at bönum verdask, munu systrungar sifjum spilla".

''සොහොයුරන් එකිනෙකාට එදිරිව යුද අරඹනු ඇත. එකිනෙකා අතින් මැරුම් කනු ඇත. සොහොයුරියගේ දරුවන් නෑකමේ බැම් බිඳ ලනු ඇත''.

Systrungar යන්නෙහි තේරුම මවුගේ සොහොයුරියගේ පුතුන් යනුයි. භාතෘඝාතක අපරාධයේ උච්චතම අවස්ථාව එවැනි ලේ නෑකම් උල්ලංඝණය කිරීම සැටියට කවියා දකී. උච්චතම අවස්ථාව රැඳී තිබෙනුයේ systrungar මතය. මෙය මාතෘ පාර්ශ්වයෙන් එන නෑකම අවධාරණය කරයි. siskina-börn සොහොයුරාගේ හා සොහොයුරියගේ දූ පුතුන්, නැතිනම් siskina-synir සොහොයුරාගේ සහ සොහොයුරියගේ පුතුන් යන්න යොදනු ලැබුවේ නම් දෙවැනි පෙළ නාද වෘධියක් නොවනු ඇත, ඒ වෙනුවට දුර්වල වී ගෙන යන ස්වරාවරෝහනයක් වනු ඇත. ඒ අනුව වයිකින්ගේ කාලයේදී පවා Völuspá ගීතය ප්‍රබන්ධ කරන විටදී පවා, ස්කැන්ඩිනේවියාවේ මවු අයිතිය මැකී නොතිබිණි.

---

* බොහෝ මිනිසුන් අතර මවු අයිතියේ නෂ්ටාවශේෂයක් වශයෙන් පවතින මවුගේ සහෝදරයා වන මාමා සහ බෑණා අතර විශේෂ කිට්ටු සබඳතාවය ගැන ග්‍රීකයින් දන්නේ වීර යුගයේ දේවකථා තුළින් පමණකි. ඩියොඩොරස් අනුව (IV. 34.) මිලේගර් තෙස්ටියස්ගේ පුතුන්, තම මවු වන අල්තියාගේ සොහොයුරන්, මරා දමයි. මෙය මහා අපරාධයක් ලෙස සළකන අල්තියා මිනීමරුවා වන තම පුතාට ශාප කරමින් ඔහුගේ මරණය පතා යාච්ඤාකරයි. ''ඇගේ ඉල්ලීම සපුරාලන දෙවවරු මිලේගර් මරා දැමූහයි කියති. එම කතුවරයා අනුව (ඩියොඩොරස්, IV. 44) හෙරාක්ල් යටතේ අර්ගොනොට්වරු ත්‍රාසියාවට ගොඩ බසිති. ෆීනියස් තම දෙවැනි බිරිඳගේ ඉල්ලීම අනුව, බොරියාඩ් වංශයට අයත්, පළමුවැනි බිරිඳ වන ක්ලියොපැට්රාට දාව උපන් තම පුතුන්ට අයහපත් ලෙස සලකන බව එහිදී අර්ගොනොට්වරු දැනගනිති. අර්ගොනොට් සමග බොරියාඩ්වරු කීප දෙනෙක්ද වූහ. නෑකම අනුව මොවුන් ක්ලියොපැට්රාගේ සොහොයුරෝ වෙති. ඒ අනුව ඔවුහු අයහපත් සැලකිලි ලබන දරුවන්ගේ මාමාවරු වෙති. මුර හටයින් මරා බෑණාවරුන් නිදහස් කරමින් මාමාවරු ආධාර කරති. (එංගල්ස්ගේ සටහනකි).

ඉතිරි කොටසට, ටැසිටස්ගේ කාලයේදී, යටත් පිරිසෙයින් ඔහු වඩාත් දන්නා ජර්මනුන් අතර, මවු අයිතිය පිය අයිතියට ඉඩදී තිබිණි. පියාගේ උරුමක්කාරයෝ දරුවෝය. දරුවන් නැතිනම් සහෝදරයින්ද මවගේ හා පියාගේ පාර්ශ්වයෙන් පැවත එන මාමාවරුන්ද උරුමක්කාරයෝ වෙති. මවගේ සහෝදරයා උරුමක්කාරයෙකු ලෙස පත්කර ගැනීම ඉහත සඳහන් සිරිත ආරක්ෂා කිරීමකි.ජර්මනුන් අතර පිය අයිතිය කොතරම් මෑත දෙයක් ද යන්න එයින් ඔප්පු වෙයි. මැද යුගයේ පසු කාලයේදී පවා මවු අයිතියේ සේයාවන් අපි දකිමු. මේ යුගයේදී පිය අයිතිය තවම සැකයට භාජන වූ කරුණක් විය, ප්‍රවේණිදසයින් අතර මෙය විශේෂයෙන් බලපෑ අතර පලාගිය ප්‍රවේණිදසයෙකු නගරයෙන් ආපසු ගෙන්වා ගැනීම සඳහා රදළයෙකු ඉල්ලා සිටින විට අවුග්ස්බුර්ග්, බාසෙල්, කයිසෙර්ස්ලවුටර්න් ආදී නගරවල එම ප්‍රවේණිදස භාවය ඔප්පු කිරීම සඳහා ඔහුගේ ළඟම ලේ නෑයින්ගෙන් විශේෂයෙන් මවු පාර්ශ්වයෙන් පමණක් දිව්රුම් පෙත්සම් හයක් ඉදිරිපත් කළ යුතු විය. (මව්රර්, නගර ව්‍යවස්ථාව, I 318 පිටුව).



එවකට අභාවයට යාමට පටන්ගත් මව් අයිතියේ තවත් නෂ්ටාවශේෂයක් (රෝමන්වරුන්ගේ හැසිරීම අනුව කොහෙත්ම විස්තර කළ නොහැකි —) නම් ස්ත්‍රීවර්ගයා වෙත ජර්මනුන් දැක්වූ සැලකිල්ල ය. ජර්මනුන් සමග ගිවිසුම් අනුව ක්‍රියා කිරීමේදී ඉතාම හොඳ ඇපය වශයෙන් සළකන ලද්දේ කුලීන පවුල්වලින් පැවත එන තරුණියන්ය. තමන්ගේ බිරිඳ හා දූවරුන් අල්ලා ගෙන වහල් භාවයට ගෙනයනු ඇතැයි යන භයානක හැඟීම තරම් ඔවුන්ගේ ධෛර්‍යය යුද්ධයේදී උත්තේජනය කළ වෙනත් දෙයක් නොමැති විය. ස්ත්‍රිය ශුද්ධවූ වස්තුවක් ලෙස සැලකූ අතර ඇය අනාවැකි කියන්නියක් ලෙස පිළිගනිමින් ඉතා වැදගත් කරුණුවලදී ඇගෙන් උපදෙස් ලබාගත්හ. බැටේවියානු කැරැල්ලේදී ජංගමශීලී බලවේගය වූයේ ලිප්පේ නදිය අසල වුසූ බෘක්ටේරියන් පූජක කතක වන වෙලෙඩාය. මේ කැරැල්ලේදී ජර්මනුන්ගේ හා බෙල්ජියම්වරුන්ගේ නායකයා වන සිවිලිස් ගෝලිහි රෝම පාලනයේ පදනම් පුපුරුවා හැරියේය. ගෘහය තුළ කාන්තාවට අභියෝග නොකළ බලයක් තිබිණි. කාන්තාවන්, මහල්ලන් හා දරුවන් සමග එකතුව සියලු වැඩ කළ බවත්, පුරුෂයන්, දඩයම් කිරීම, මත්පැන් බීම හා රස්තියාදු වීම කළ බවක් ටැසිටස් පවසයි. එහෙත් ගොවිතැන් කළේ කවුද යන්න ඔහු නොකියයි. ඔහුගේ සවිස්තරාත්මක ප්‍රකාශයක් අනුව වහලුන් බරපැණ ගෙවූ අතර අනිවාර්ය සේවයක් නොකළේය. වැඩිහිටි පුරුෂයින්ගෙන් වැඩි දෙනා විසින් කොතරම් අඩු වුවද වගා කිරීම පිළිබඳ සියලු වැඩ කළ බව මින් පෙනී යයි.

මීට ඉහත සටහන් කළ පරිදි විවාහය යුගලන පවුල් ක්‍රමය වූ අතර



එය අඩුවැඩි වශයෙන් ඒක භාර්යා ව්‍රතයට ළංවිය. එය තවම දැඩි ඒක භාර්යා ව්‍රතය නොවිය, මන්දයත් ප්‍රභූවරුන් බහු භාර්යා ව්‍රතයෙහි යෙදී සිටි බැවිනි. පොදු වශයෙන් (සෙල්ට්වරුන් මෙන් නොව) ඔවුහු තරුණියන්ගේ පති වත පැතූහ. ජර්මනුන් අතර විවාහ බැමි නොකැඩිය හැකි ලෙස තහවුරු වී ඇතැයි ටැසිටස් කියන්නේ විශේෂ උණුසුමකිනි. ස්ත්‍රිය අනාචාරයෙහි හැසිරීම දික්කසාද විය හැකි එකම හේතුව ලෙස ඔහු පෙන්වා දෙයි. එහෙත් මෙහිදී ඔහුගේ වාර්තාව අඩු පාඩු බොහොමයකින් යුක්තය. ඇරත් එය කාමුක රෝමන්වරුන් ඉදිරියේ සදාචාරයේ කැඩපත වඩාත් විවෘත ලෙස පෙන්වීමකි. එකක් ස්ථිරය. කැලෑවල වාසය කළ ජර්මන්නු ඔය තරම් සදාචාරශීලී වී නම් අවශේෂ සෙසු යුරෝපියයන්ගේ තත්වය දක්වා පැමිණීමට මඳ වශයෙන් බාහිර ලෝකය සමග සබඳකම් ඇති කර ගැනීම පමණක් සෑහේ. රෝමානු ජීවිත භ්‍රමණයෙන් දැඩි සදාචාරත්වය අහෝසි වී ගියේ ජර්මන් භාෂාව අහෝසි වූවාටත් වඩා දැඩි වේගයකිනි. ටුර්හි ග්‍රෙගරිගේ කෘතීන් පමණක් කියැවීම සෑහේ. ශිෂ්ට කාමුකත්වයක් රෝමයේ මෙන් ජර්මනියේ පෞරාණික කැලෑවල ඇතිවිය නොහැක. කාමුකත්වය පිළිබඳ සංයමයක් ඔවුන් පිට නොපැටවූවද ජර්මන්නු ඒ අතින් උසස් වූහ.

වංශ සංවිධානය නිසා පියා සහ නෑයන් පිළිබඳ මිතුරුකම් මෙන්ම හතුරුකම්ද, මිනීමැරුමකදී හෝ තුවාල ලැබීමකදී ලේවල පළිගැනීම වෙනුවට wergild නමින් හැඳින්වෙන වන්දි ගෙවීමක්ද, උරුමයන් වශයෙන් පිළිගැනීමට සිදුවිය. පරම්පරාවකට පෙර මේ wergild විශේෂ ජර්මන් සිරිතක් වශයෙන් හැඳින්වූ නමුදු ජනකොටස් සිය ගණනක් විසින් වංශ සංවිධාන ක්‍රමයෙන් පැන නැගි ලේවල පළිගැනීමේ විධියක් වන මේ මෘදු විධිය ප්‍රගුණ කළ බව පසුව ඔප්පු වී ඇත. ආගන්තුක සත්කාර කිරීම මෙන්ම මේ සිරිත ඇමෙරිකානු ඉන්දියානුන් අතරද දක්නට ලැබේ. ටැසිටස් විස්තර කළ ආගන්තුක සත්කාර කිරීමේ පිළිවෙළ ("Germania", c.21) ඉන්දියානුන් පිළිබඳ මෝර්ගන් කරන විස්තරය අනුව සවිස්තර සහිතව වුවද සම්පූර්ණයෙන්ම ගැළපෙයි.

ටැසිටස්ගේ කාලයේදී ජර්මන්නු අවසාන වශයෙන් ඉඩම් බෙදගත්තෝද නැතිද යන්න ගැන ඇති ඉමක් නැති විවාදය සහ එයට අදාළ කොටස් කෙසේ තේරුම් කළ යුතුද යන්න දැන් යල්පැන ගිය දේවල්ය. සියලුම ජන කොටස්වලට අයත් කුඹුරු වංශ මගින් පොදුවේ වගා කළ අතර පසුව ඒවා කොමියුනිස්ටවාදී පවුල් සමූහයන් මගින් එසේම වගා කරන ලදී. සුයෙවි ජනතාව අතර මේ පුරුද්ද පැවැති බව සීසර් දුටුවේය. ඉන් පසු කලෙකදී එක්, එක් පවුල්වලට ඉඩම් බෙද දීමත් කලින් කල ඒවා නැවත බෙදදීමත් සිදුවිය. මේ සිරිත ජර්මනියේ සමහර පළාත්වල අද දක්වාත්

පවතී. මේ කරුණු සියල්ලම ස්ථිර ලෙස දැන ගෙන ඇති විට ඒවා ගැන තවත් කාලය මිඩංගු කිරීම අවශ්‍ය නොවේ. අවුරුදු එකසිය පනහක් තුළදී ජර්මනුන් පොදුවේ ඉඩම් වගා කිරීමේ සිට, (සීසර් සුයෙවි ජනතාව එසේ කළේ යැයි පෙන්වා දෙන පරිදි, ඔවුන් අතර බෙදනු ලැබූ හෝ පෞද්ගලික හෝ ඉඩම් කොහෙත්ම නොවී යැයි ඔහු කියයි) ටැසිටස්ගේ කාලයේදී අවුරුදු පතා ඉඩම් බෙදීම හා නැවත බෙදීම සහිත පෞද්ගලික වගා කිරීම දක්වා පැමිණියේ නම්, එය ඇත්ත වශයෙන්ම සෑහෙන ප්‍රගතියකි. එම අවධියේ සිට ඉඩම් පිළිබඳ සම්පූර්ණ පෞද්ගලික අයිතිය දක්වා කෙටි කාලයකදී, එමෙන්ම විදේශීය බලපෑමක් නැතිව පැමිණීම කොහෙත්ම කළ නොහැකි දෙයකි. එබැවින් ටැසිටස් විසින් වචන බොහොමයකින් පවසන දෙයක් මම කියවමි: ඔවුහු සෑම අවුරුද්දක් පාසාම වගා ඉඩම් වෙනස් කරති. (නැතිනම් නැවත බෙදගනිති). මේ ක්‍රියාවලියෙහි පොදු ඉඩම් සෑහෙන ප්‍රමාණයක් අතහැර දමා ඇත. ඒ කාලයේ ජර්මනුන්ගේ වංශ සංවිධාන ව්‍යවස්ථාව සමග හරියට ගැළපෙන කෘෂිකාර්මික අවධිය හා ඉඩම් අයත් කරගැනීමේ අවධිය මෙයයි.

මීට පෙර මුද්‍රණවල මෙන්ම මෙහිදීද ඉහත සටහන් කොටස වෙනස් නොකර තබමි. ඒ අතර එම ප්‍රශ්නය තවත් පැත්තක් ගෙන ඇත. මවු අයිතිය සහිත කොමියුනිස්ට්වාදී පවුල් ක්‍රමය සහ නූතන වෙන්වූ පවුල වශයෙන් අතර සම්බන්ධතා පුරුක ලෙස පුළුල් වශයෙන් නැතිනම් සම්පූර්ණ පීතෘ මූලික ගෘහ සමූහය පැවතියේ යැයි කොවලෙව්ස්කි පෙන්වා දුන් පසු (ඉහත 44 පිටුව බලන්න*) මවුරර් හා වායිට්ස් විසින් සාකච්ඡා කළ පරිදි ප්‍රශ්නය පොදු හෝ පෞද්ගලික ඉඩම් පිළිබඳව හෝ නොවේ. එහෙත් පොදු දේපොල කිනම් හැඩයක් ගත්තේද යන්න ගැනය. සීසර්ගේ කාලයේදී සුයෙවි ජනතාවට පොදුවේ ඉඩම් සතුව තිබුණා පමණක් නොව, ඔවුන් පොදුවේ වගා කොට පොදුවේ බෙදගත් බවටද කිසිදු සැකයක් නැත. ඔවුන්ගේ ආර්ථික ඒකකය වංශ සංවිධානය හෝ පවුල් සමූහයද, අන්තර් නෑ සබඳකම් ඇති කොමියුනිස්ට්වාදී කණ්ඩායමක්ද එසේත් නැතිනම් විවිධ ප්‍රාදේශීය ඉඩම්වල තත්වය අනුව මේ කණ්ඩායම් තුනම පැවතුනේද යන්න තව දිගු කලක් තිස්සේ මත භේදයට කරුණක් වනු ඇත. ටැසිටස් විසින් විස්තර කර ඇති තත්වයන් විහ්නයට හෝ ගම්බද සමූහයට බල නොපාන බවත්, ජනගහනය වැඩිවීම නිසා බොහෝ කලකට පසුව ගම්බද සමූහය දක්වා දියුණු වුණු ගෘහමය සමූහයට බලපාන බවත් කොවලෙව්ස්කි පවසයි.

---

* එංගලස් සටහන් කරන මේ කොටස හතරවැනි ජර්මන් මුද්‍රණයෙහි ඇත. මේ පොතේ 59 පිටුව බලන්න.



රෝමන්වරුන්ගේ කාලයේදී ජර්මනුන් වූසු පෙදෙස්වල, පසුව රෝමන්වරුන්ගෙන් ජර්මනුන් අල්ලා ගත් පෙදෙස්වලද ගම් නොතිබුණු බවත්, පරම්පරා කීපයකින් යුත් විශාල පවුල් සමූහයන් තිබුණු බවත්, මේ සමූහයන් ඒවාට අනුරූපව විශාල පෙදෙස් වගා කළ අතර අවට කැලෑ පෙදෙස පොදු ඉඩම් ලෙස අසල් වැසියන් සමග භාවිතා කළ බවත් කියති. ටැසිටස්ගේ කෘතීන්වල සටහන් පරිදි වගා බිම් අතිනත මාරුවීම සැබවින්ම, කෘෂිකාර්මික තේරුමක් ගෙනදෙයි, එනම් සමූහයක් අවුරුදු පතා වෙනස් ඉඩමක් වගා කළ අතර පසුගිය අවුරුද්දේ වගා කළ ඉඩම පූරන්වීමට ඉඩ හැරීම හෝ සම්පූර්ණයෙන්ම අතහැර දැමීමය. ජනගහනයේ අඩුවීම නිසා ඉඩම් පිළිබඳ අරගලයන් අවශ්‍ය නොවන තරම් කැලෑ ඉඩම් තිබිණ. ශත වර්ෂ කීපයක් ගතවීමෙන් ඉක්බිතිව එවකට පැවැති නිෂ්පාදන තත්වයන් ඉනුව, පොදුවේ ඉඩම් වගා කිරීමට තරම් බැරිවන ප්‍රමාණයකට ගෘහයේ සාමාජිකයින් වැඩිවූ ඉක්බිතිව, ගෘහ සමූහයන් විසුරුවා හරින ලදී, හොඳ හැටි ප්‍රසිද්ධ ක්‍රමයක් අනුව පැරණි පොදු වගා ඉඩම් හා තණ බිම් පෞද්ගලික ගෘහවලට බෙදා දුන් අතර එය පළමුව කලකට සීමා වූ නමුදු පසුව ස්ථිර විය. කැලෑ, තණ බිම් හා වැව් පොකුණු ආදිය පොදු වස්තුව බවට පත්විය.

රුසියාව ගැන සළකා බලන විට මේ සංවර්ධන ක්‍රියාවලිය ඓතිහාසික වශයෙන් සම්පූර්ණයෙන්ම ඔප්පු වී ඇත. ජර්මනියට සහ ද්විතියික වශයෙන් ජර්මන් රටවලට ටැසිටස්ගේ කාලය දක්වා වූ ගම්බද සමූහය දක්වා සොයා බැලීමේ පැරණි අදහසට වඩා මේ අදහස එම උල්පත් ගැන හොඳ තේරුමක් ඉදිරිපත් කරන බව ප්‍රතික්ෂේප කළ නොහැකිය. පැරණිතම ලියවිලි වන Codex Laureshamensis* වැනි දේ පොදු වශයෙන් ගම්බද ඉඩම් සමූහයට වඩා ගෘහ සමූහය විසින් වඩාත් හොඳින් විස්තර කරයි. අනිත් අතට එය නව විසඳීම් කළ යුතු අලුත් ප්‍රශ්න හා අමාරුකම් ඉදිරිපත් කරයි. තවදුරටත් සොයාබැලීමෙන් පසුව පමණකි, තීරණය ගත හැක්කේ, කෙසේ වුවද, ජර්මනියේ, ස්කැන්ඩිනේවියාවේ සහ එංගලන්තයේ අන්තර් අවධිය ගෘහ සමූහය බව පිළිගැනීමට ඇති ඉඩකඩ ප්‍රතික්ෂේප කිරීමට මට නොපුළුවන.

සීසර් කියන පරිදි ජර්මන්නු ඉඩක් නිවෙස්වල පදිංචිවෙමින් සිටි අතර අඩක් එවැනි නිවෙස් සොයමින් සිටියහ. ටැසිටස්ගේ කාලය වන විට ජර්මන්නු ශත වර්ෂයක්ම එසේ නිවෙස්වල පදිංචිව සිටියහ. පැවැත්ම සඳහා වූ නිෂ්පාදන මාධ්‍යයන්ගේ සෑහෙන වර්ධනයක් ඇති වූ බවට සැකයක් නැත. ඔවුහු ලී ගෙවල්වල වාසය කළහ. ඔවුන්ගේ ඇඳුම්, රළු ලොම්වලින්

---

* Codex Laureshamensis ලොර්ක් නගරයේ ඉඩම් ලියා පදිංචි කළ පොතය.

හෝ සතුන්ගේ හම්වලින් තැනූ ආදිකාලීන කැලෑ ඇඳුම් වර්ගයක් විය. ස්ත්‍රීහු සහ ප්‍රභූවරු හණ රෙදි භාවිතා කළහ. ඔවුහු කිරි, මස් හා කැලෑ පලතුරු කා ජීවත්වූහ. ප්ලිනි කියන පරිදි ඕට් ධාන්‍යවලින් සෑදූ කැඳ (අද දක්වාත් අයර්ලන්තයේ හා ස්කොට්ලන්තයේ සෙල්ටික් ජාතික ආහාරය) මෙයට ඇතුළු කළ යුතුය. ඔවුන්ගේ ධනය බාල වර්ගයකට අයත් ගවයින් (මොවුන් අදක්ෂ, කුඩා හා අං රහිත සතුන් වර්ගයකි) විය. මුදල් වශයෙන් භාවිතා කළ රෝමානු කාසි හිඟවූ අතර එය පාවිච්චි කළේ කලාතුරකිනි. රන් රිදී ආභරණ නොපැළැඳි මොවුහු ඒවා අගය නොකළහ. යකඩ දුර්ලභ ද්‍රව්‍යයක් වූ අතර යටත් පිරිසෙයින් රයින් හා ඩැනියුබ් අසල විසූ ගෝත්‍ර ඒවා පිට පෙදෙස්වලින් ගෙන්වා ගනු ලැබූ අතර, ඔවුහු යපස් නොහැරූහ. රූනික් අක්ෂර (ග්‍රීක හා ලතින් අකුරුවල අනුකරණය) රහස් සංඥා ලෙස පමණක් යෙදූ අතර ඒවා ආගමික ගුරුකම්වලදී විශේෂයෙන් භාවිතාවිය. මිනිසුන් බිලි දීම එවකට පැවැති සිරිතකි. කෙටියෙන් කියතොත් අශිෂ්ටත්වය මැද අවධියෙන්, එහි උසස් අවධිය මතු වූවා පමණකි. ඒ අතර, කෙසේ වුවද, රෝමානුවන් සමග සබඳකම් ඇති කරගත් ගෝත්‍ර රෝමානු කර්මාන්තමය භාණ්ඩ ගෙන්වා ගත් නිසා ඔවුන් අතර ඔවුන්ගේම ලෝහ හා රෙදි කර්මාන්තය ඇති නොවීය. බෝල්ටික්හි ඊසාන දිග ගෝත්‍ර මේ කර්මාන්ත දියුණු කළ බවට කිසිදු සැකයක් නැත. ෂ්ලෙස්විග් මඩ වගුරුවල තිබී සොයාගත් යුද්ධායුධ වන දිගැති යකඩ අසිපතක්ද, යකඩ සන්නාහයද, රිදී තොප්පියක් ආදියද, දෙවැනි සියවස අවසානයට අයත් රෝමන් කාසිද, මිනිසුන්ගේ සංක්‍රමණය නිසා පැතිර ගිය ජර්මන් ලෝහ භාණ්ඩද, රෝම ආදර්ශ අනුව සාදනු ලැබුවද, උසස් දක්ෂතාවයක් ගෙන හැර පායි. එංගලන්තය හැරුණු විට සභ්‍ය රෝම අධිරාජ්‍යයට මිනිසුන් සංක්‍රමණය වීම නිසා මේ දේශීය කර්මාන්ත අභාවයට ගියේය. මේ කර්මාන්ත කෙතරම් ඒකාකාරව වර්ධනය වූයේද යන්න ලෝහමය ලොරිච්චි වැනි දේවලින් පෙනී යයි. බුර්ගුන්ඩියාවේ, රුමේනියාවේ, අසොව් මුහුදු බඩ පෙදෙස්වල සොයාගන්නා ලද, ආකෘති එංගලන්ත සහ ස්වීඩනයේ තිබෙන ඒවා මෙන් එකම කම්හලේ සෑදූ ඒවා සේ ගිණිය හැකිය. එසේම ඒවා ජර්මන් මූලයන් බවටද සැක නැත.

ඔවුන්ගේ ව්‍යවස්ථාවද අශිෂ්ටත්වයේ උසස් අවධියට ගැළපිණි. ටැසිටස් කියන පරිදි මෙය නායකයින්ගේ (principes) මණ්ඩලයක් මගින් කැරිණ. වැදගත්කමින් අඩු දේ ගැන තීරණ ගත් මේ මණ්ඩලය වැදගත් කරුණු මහජන සබයට ඉදිරිපත් කිරීම සඳහා පිළියෙළ කළේය. යටත් පිරිසෙයින් අප දන්නා පෙදෙස්වල ඇමෙරිකානුන් අතර මහජන සබා රැස්කරන ලද්දේ වංශ සංවිධාන තුළිනි. ගෝත්‍ර හා ගෝත්‍ර සම්මේලනවල තවම එසේ නොවීය. ඉරෝකුවොයිස්වරුන් අතර මෙනි. ප්‍රධානීන්ගේ (principes) මණ්ඩලය තියුණු ලෙස යුද්ධ නායකයින්ගෙන් (duces) වෙනස් විය. නායකයෝ තම ගෝත්‍ර සාමාජිකයින්ගෙන් ලැබෙන ගවයින්, ධාන්‍ය වැනි තෑගිවලින් ජීවත්වූහ. ඇමෙරිකාවේ මෙන්ම මොවුන් පොදු වශයෙන් තෝරා පත් කරගන්නා ලද්දේ එකම පවුලකිනි. ග්‍රීසියේ හා රෝමයේ මෙන්ම පිය අයිතිය දක්වා පරිවර්තන වීම නිසා පත්කළ තනතුරු පරම්පරා උරුමය දක්වා වෙනස් විය. ඒ අනුව හැම වංශ සංවිධානයකම ප්‍රභූ පවුලක් බැගින් ඇති විය. මේ ගෝත්‍රික ප්‍රභූවරුන් සහිත පවුල්වලින් වැඩි හරියක් ජනතාවන්ගේ සංක්‍රමණ කාලයේදී හෝ ඉන් පසු කාලයේදී අභාවයට ගොස් ඇත. යුද්ධ නායකයින් තෝරා පත් කරගනු ලැබුවේ ජන්මය නොතකා, ඔවුන්ගේ දක්ෂතාවය අනුවය. ඔවුන්ට අඩු බලයක් තිබුණු අතර ඔවුන්ට ආදර්ශයේ බලය මත විශ්වාසය තැබීමට සිදුවිය. ටැසිටස් විසින් ඉතා පැහැදිලි ලෙස විස්තර කරන පරිදි යුද්ධ හමුදාවේ නියම විනයානුකූල බලය තිබුණේ පූජකයින් අතය. මහජන සබය නියම බලය සතු සංවිධානය විය. රජු හෝ ගෝත්‍ර නායකයා මේ සබයේ මුලසුන හෙබවීය. ජනතාව තීරණය කළේය. කෙඳිරීම 'විරුද්ධව' ඡන්දය දීමක් හැටියටද හඬනගා කෑගැසීම සහ අවි සෙලවීම ''පක්ෂව'' ඡන්දයදීම හැටියටද පිළිගැනිණි. මහජන මැති සබය අධිකරණයද විය. චෝදනා ඉදිරිපත් වූ විට ඒවා ගැන තීරණයන් දෙන ලදී. බියසුලුකම, රාජ්‍ය විරෝධී ක්‍රියා හෝ අස්වාභාවික දුරාචාරයන්වලදී පමණක් මරණ දඬුවම පනවන ලදී. වංශ හා අනිකුත් උප සංවිධානද එහි නායකයාගේ සභාපතිත්වය සහිත සංවිධාන මගින් නඩු විසඳන ලදී. මුල් ජර්මන් අධිකරණවල කටයුතුවලට නායකත්වය දෙන්නේත් ප්‍රශ්න අසන්නේත් සභාපති ධූරය උසුලන නායකයා විසිනි. ජර්මනුන් අතර හැම තැනකදී මත් හැම විටකදීත් තීන්දුව දෙනු ලැබුවේ මුළු මහත් සමූහය විසිනි.

ගෝත්‍රවල සම්මේලන ඇතිවූයේ සීසර්ගේ කාලයේදීය. සමහර සම්මේලනවලට රජවරු සිටියහ. ග්‍රීකයින් අතර මෙන්ම රෝමානුවන් අතරත් අත්තනෝමතික බලය අත්පත් කරගැනීම සඳහා ප්‍රධාන අණදෙන නිලධාරීන් පටන් ගත් අතර සමහර විට එම ප්‍රයත්නයන් සාර්ථක විය. මෙසේ බලය අල්ලා ගත් මොවුහු ස්වාධිපත්‍යය ඇති පාලකයින් නොවූහ. කෙසේ වුවද ඔවුහු වංශ ව්‍යවස්ථාවල යදම් බිඳ දැමීමට පටන් ගත්හ. වංශවල සාමාජිකයින් වීමට බැරිවීම නිසා නිදහස ලැබූ වහලුන් පොදු වශයෙන් පහත් තත්වයක් දැරුවද, අලුත් රජවරුන්ගේ ප්‍රියතම වැසියන් මෙන් බොහෝ විට නතතුරු, ධනය සහ නම්බු නාම ලබන ලදී. රෝම අධිරාජ්‍යයේ ජයග්‍රහණයෙන් පසු විශාල රටවල රජවරුන් බවට යුද්ධ නායකයින් පැමිණීමෙන් පසු එයමම සිදුවිය. හයවැනි සියවසේ ප්‍රැන්ක්වරුන් අතර, රජවරුන්ගේ වහල්ලු හා නිදහස ලැබුවෝ පළමුව මාළිගාව තුළද පසුව

රජය තුළද විශාල වැඩ කොටසක් ඉටු කළහ. අලුත් ප්‍රභූවරුන්ගෙන් විශාල කොටසක් මෙයින් ඇතිවිය.

රාජ වංශයේ නැගීම විශේෂයෙන් සංවිධානයක්ද විය: ඔවුහු ආවතේව කාරයෝය. සිය ශක්තිය පමණක් යොදා යුද්ධය කර ගෙන යාම සඳහා වංශ සංවිධානවලට සමාන්තරව පෞද්ගලික සමාගමයන් ඇමෙරිකන් රතු ඉන්දියානුන් ඇති කර ගත් සැටි අපි දුටුවෙමු. ජර්මනුන් අතර මේ පෞද්ගලික සමාගමයන් ස්ථාවර සංවිධානයන් බවට පත්විය. කීර්තියක් දිනාගත් යුද්ධ නායකයෙක් කොල්ලකෑමට ආශාවක් දක්වන තරුණ යුද්ධ භටයන් ඒකරාශී කොට ඔවුන්ගේ ලැදිකම ලබාගන්නා අතර ඔහුද ඔවුන්ට පෙරළා ලැදි කමක් දක්වයි. ඔහු ඔවුනට ආහාර පාන දෙයි, තෑගි බෝගදී ධූරාවලිය අනුව සංවිධාන කරයි: කෙටි යුද්ධ පහරදීම් සඳහා ක්ෂණික ලෙස සූදනම් විය හැකි ආත්මාරක්ෂක හා යුද හමුද කණ්ඩායමක් සහ විශාල යුද්ධ ව්‍යාපාරයන් සඳහා පුහුණුව ලැබූ යුද්ධ නිලධාරීන් පිරිසක්ද එකතු කර ගනී. නිදසුනක් වශයෙන්, ඉතාලියේ ඔඩෑකර් යටතේදී මෙන් මේ පිරවර ජනයා දුර්වලයින් ලෙස ඔප්පු වුණද, ජනතාවන්ගේ සංක්‍රමණ කාලය තුළදී හා ඉන්පසුව හොඳහැටි පෙනීගිය පරිදි පැරණි ජනප්‍රිය නිදහස දිරාපත් කිරීමේ විශබීජය ලෙස ඔවුහු සේවය කළහ. මන්දයත්, පළමුව රාජකීය බලය බිහිකිරීම සඳහා ඔවුන් ක්‍රියා කළ බැවිනි. දෙවනුව ටැසිටස් පෙන්වා දුන් පරිදි, ඔවුන් නිතර එක්කොට තබා ගත හැකි වූයේ දිගටම යුද්ධ කිරීමෙන් සහ කොල්ල කෑමෙනි. කොල්ලකෑම ඔවුන්ගේ ප්‍රධාන පරමාර්ථය විය. අසල්වැසි පෙදෙස්වල කිරීමට කිසිවක් නැතිනම්, යුද්ධ නායකයා යුද්ධ පවතින සහ කොල්ලකෑමට හැකි පෙදෙස්වලට තම යුද්ධ හමුද ගෙනයයි. රෝමන් යුද්ධ හමුද යටතේ සේවය කළ ජර්මන් ජනතාවට විරුද්ධව සටන් කළ විදේශීය සේනා විශාල වශයෙන් මෙවැනි හමුදවන්ගෙන් යුක්ත විය. ඔවුහු Landsknecht* ක්‍රමයේ මූල බීජයන් වූ අතර, ජර්මනුන්ගේ ලජ්ජාවට හා ශාපයටද හේතු වූහ. රෝම අධිරාජ්‍ය-යේ නැගීමෙන් රජුගේ මේ පිරිවර ජනයා දසයින් සහ මාලිගාවේ සේවක-යින්ද එකතුව පසු කාලයේදී ප්‍රභූවරුන්ගේ දෙවැනි ප්‍රධාන කොටස ලෙස හැඩ ගැසිණි.

පොදුවේ, එවකට, ජර්මන් ජනතාව වශයෙන් සමගි වූ ගෝත්‍ර අතර වීර යුගයේ ග්‍රීකයින් අතරද, ඊනියා රජ කාලයේදී රෝමන්වරුන් අතරද වර්ධනය වූ ව්‍යවස්ථාවට සමාන සංස්ථිතියක්ද ඇති විය. එනම්, මහජන සභා, රාජකීය බලය ලබා ගැනීම සඳහා ඉදිරිපත් වූ යුද්ධ නායකයින් සහ නායකයින්ගේ මණ්ඩලයන්ය. වංශ සංවිධාන ක්‍රමයට බිහි කළ හැකි උසස්

* Landsknecht — කුලියට සටන් කරන හේවා භටයාය.



තම ව්‍යවස්ථාව එය විය; අසභ්‍යත්වයේ උසස් අවධියේ ආදර්ශ ව්‍යවස්ථාව එය විය. ව්‍යවස්ථාව ඉඩකඩ සළසා දෙන ප්‍රමාණයට අයත් සීමාවන්ගෙන් ඈතට සමාජය ගමන් ගත් විගසම, වංශ සංවිධාන ක්‍රමය අහෝසි විය. එය දෙකඩව පිපිරී ගියේ රජය ඇතිවීමෙනි.

# VIII

# ජර්මනුන් අතර රජය ඇතිවීම

ටැසිටස් කියන පරිදි ජර්මන්නු සංඛ්‍යා වශයෙන් විශාල පිරිසක් වූහ. විවිධ ජර්මන් ජාතීන්ගේ ඉතා කිට්ටු තක්සේරුවක් සීසර් ඉදිරිපත් කරයි. රයින් ගඟේ වම් පෙදෙසෙහි වාසය කළ උසිපෙටන් හා ටෙන්ක්ටේරන්-වරුන්ගේ සංඛ්‍යාව ස්ත්‍රීන් හා ළමයින් ඇතුළුව 180,000 ක් බව ඔහු කියයි. ඒ අනුව එකම single ජනතාවකට* 100,000 ක් පමණ වැටේ. මෙය ඉරොකුවොයිස්වරුන්ට වඩා බොහෝසෙයින්ම වැඩිය. තම සමෘධි-මත් කාලයේදී ඉරෝකුවොයිස්වරුන්ගේ සංඛ්‍යාව 20,000 ක් පමණ වූ අතර මහ වැව්වල සිට ඔහියෝ සහ පොටොමැක් දක්වා වූ පෙදෙස ඔවුන්-ගේ ත්‍රස්තවාදී ක්‍රියාවන්ට යටත් විය. වාර්තා අනුව අප වඩාත් හොඳින් දන්නා, රයින් රටේ එක් එක් ජන කොටසක සිතියමක් අනුව කාණ්ඩ ගැසීමට අප වෑයම් කළහොත් එවැනි ජනකොටසක් ප්‍රැසියානු පරිපාලක දිස්ත්‍රික්කය, වර්ග කිලෝමීටර 10,000 ක් පමණ, නැතිනම් භූමි වර්‍ග හැතැ-ප්ම 182 ක් සාමාන්‍යයෙන් පිරවෙනු ඇත. රෝමන්වරුන්ගේ විස්චුලා ගඟ දක්වා විහිදගිය Germania Magna** සමන්විත වූයේ වර්ග කිලෝමීටර 500000 පමණකි. එක් ජන කොටසකට සාමාන්‍යයෙන් වර්ග කිලොමීටර 100000 බැගින් ගතහොත් Germania Magna හි සම්පූර්ණ ජනගහනය පනස් ලක්ෂයකි. අශිෂ්ට මිනිස් කණ්ඩායමකට මෙය විශාල ජන සංඛ්‍යාවකි. වර්ග කිලෝමීටරයකට 10 දෙනෙකු හෝ භූමිශාස්ත්‍රීය වර්ග සැතැපුමකට

* ගෝල්හි සෙල්ට්වරුන් ගැන ඩියඩෝරස් ලියූ කෘතියක කොටසකින් මේ සංඛ්‍යාව ස්ථිර වෙයි: ''අසමාන සංඛ්‍යාවක් ඇති ජනකොටස් කීපයක් ගෝල්හි වාසය කරති. විශාලතම ජන කොටස 200,000 පමණ වේ. කුඩා ජන කොටස 50,000 කි'' (Diodorus, Siculus. V. 25) මෙය සාමාන්‍ය-යෙන් 125,000 කි. ගෝල්හි එක් එක් ජන කොටස් වඩාත් යහතින් වර්ධනය වී සිටි හෙයින්, සංඛ්‍යා අනුව ජර්මන් ජනතාවට වඩා විශාල බව නිසැකවම කිව හැක. (එංගල්ස්ගේ සටහනකි).

** — මහ ජර්මනිය. — සංස්කාරක.

550 දෙනෙකු සිටියද අද තත්වය සමග සසඳා බලන විට සුළු සංඛ්‍යාවකි. එහෙත් ඒ කාලයේ වුසු සියලු ජර්මන්වරුන් මේ සංඛ්‍යාවට අයත් නැත. ගොතික් වර්ගයට අයත් වූ ජර්මන්වරුන්ද බස්ටානියන්වරුන්ද, පෙවුකිනියන්වරුන්ද, තවත් ජන කොටස් කීපයක් කර්පාත් කඳු වැටි දිගේ සහ ඩැනියුබ් ගඟේ මෝය දක්වාද වාසය කළ බව අපි දනිමු. ඔවුනගේ සංඛ්‍යාව කොතරම් විශාල වී දයත්, ප්ලිනි ඔවුන් පස්වැනි ජර්මන් ගෝත්‍රය වශයෙන් හඳුන්වයි. ක්‍රි. ව. 180 පෙර ඔවුහු පර්සියුස් නැමැති මැසිඩෝනියන් රජු යටතේ කුලී හමුද භටයින් මෙන් සේවය කළහ. ඔගස්ටස්ගේ ආණ්ඩු කාලයේදී ඔවුහු ඇඩ්‍රියානොපෝලය දක්වා පැතිර ගොස් උන්හ. මොවුන්ගේ සංඛ්‍යාව එවකට දස ලක්ෂයක් වශයෙන් අපි ගණිමු නම්, ක්‍රි. වර්ෂය ආරම්භයේදී ජර්මනුන්ගේ සංඛ්‍යාව හැට ලක්ෂයකට නොඅඩු වීයැයි සිතිය හැක.

ජර්මනියේ (Germanien) පදිංචිවීමෙන් පසු, ජනගහණය සීඝ්‍රයෙන් වැඩිවී යැයි සිතිය හැක. ඉහත සටහන් කර්මාන්තමය සංවර්ධනය මෙයට සැහෙන සාක්ෂියකි. ෂ්ලෙස්විග්හි මඩ ගොහොරුවල තිබූ වස්තූන්ද ඒ සමගම සොයාගන්නා ලද රෝමන් කාසි අනුව බලන විට, තුන්වැනි සියවසරට අයත් බව කිව හැකිය. ඒ අනුව ඒ කාලය වනවිට බෝල්ටික්හි ලෝහ හා රෙදි කර්මාන්ත හොඳින් දියුණු වී තුබූ අතර රෝම අධිරාජ්‍යය සමග සෑහෙන වෙළඳාමක් ගෙන යන ලදී. පොහොසත් පංතීන් සමහර සුඛෝපභෝගී ද්‍රව්‍ය භාවිතා කළ බව පෙනේ, මේවා ජනගහනයේ ඝනත්වය වැඩිවී යැයි කියන සාක්ෂි වන්නේය. මේ කාලය වන විට, කෙසේ හෝ ජර්මන්නු රයින් නදිය දිගේද, රෝම දේශ සීමා ප්‍රාකාරවලට හා ඩැනියුබ් නදී තීරයටද පහර දුන්හ. උතුරු මුහුදේ සිට කළු මුහුද දක්වා ඇති මේ සීමාව නොනවත්වා වැඩෙමින් සිටි ජනගහනය පිටතට යාමේ පරිශ්‍රමය ඔප්පු කිරීමකි. සියවස් තුනක් තිස්සේ කළ සටන්වලින් ගොතික් ජනතාවගේ ප්‍රධාන කොටස (ස්කැන්ඩිනේවියන් ගොතික්වරුන් සහ බූර්ගුන්ඩියන්වරුන් හැරුණු විට) අග්නි දිග පෙදෙසට විත් ප්‍රහාර දීමේ දීර්ඝ සීමාවේ වම් පැත්තේ අංශය සෑදූහ. උසස් ජර්මන්නු (හෙර්මිනොනියන්වරු) එම සීමාවේ මැද කොටස ඩැනියුබ්හි උඩ පෙදෙසෙහි අංශය (සෑදූ අතර දැන් ප්‍රැන්ක් නමින් හඳුන්වන ඉන්ගෙටවොනියන්වරු රයින් ගඟ ඔස්සේ දකුණු පැත්තේ අංශය සෑදූහ. බ්‍රිතාන්‍යය අල්ලා ගැනීම ඉන්ගෙවෝනියන්වරුන්ට පැවරිණ. පස්වැනි සියවස අවසානයේදී විඩාවට පත්ව, දුර්වලව සහ ආධාර රහිතව සිටි රෝම අධිරාජ්‍යය ආක්‍රමණකාරී ජර්මනුන් ඉදිරියේ විවෘතව තිබිණි.

මීට ඉහත පරිච්ඡේදවලින් ග්‍රීක හා රෝම සභ්‍යත්වයේ තොටිල්ල අසල අපි සිටියෙමු. දැන් අපි එහි සොහොන අසලට පැමිණ සිටිමු. රෝමයේ



ලෝකාධිපත්‍යය සමතලා කිරීමේ ක්‍රියාදමය සියවස් ගණනක් තිස්සේ මධ්‍යධරණී රටවල පැතිරයමින් තිබිණි. ග්‍රීක් භාෂාව ප්‍රතිරෝධ නොකළ තැන්වල දූෂිත ලතින් භාෂාවට ඉඩ ලැබිණ. ජාතික ප්‍රභේදයන් අහෝසි විය. ගෝල්, ඉබේරියන්, ලිගුරියන්, නොරිකන්, ආදීහු රෝමන්වරුන් බවට පත්වූහ. රෝමානු පරිපාලනය හා රෝම නීතිය විසින් හැමතැනම පැරණි ලේ නෑ ක්‍රමවලට අයත් සංවිධාන සියල්ල විසුරුවා හරින ලදී. ඒ අන්දමින් ප්‍රාදේශීය ජාතික හැඟීම්වල නටබුන් සියල්ල විනාශ කර දමන ලදී. අළුත ඇති වූ විසකුරු රෝමානුවාදය හානිය පුරවාලීමෙහි අසමත් විය. එය ජාතික හැඟීමක් ප්‍රකාශ නොකළ අතර ජාතිකත්වයේ අඩුව විදහා පෙන්විය. අලුත් ජාතීන් ඇතිවීමේ බීජයන් හැමතැනම තිබිණ. විවිධ පෙදෙස්වල ලතින් කතා කරන බසෙහි විවිධත්වය එන්ට එන්ටම වැඩිවිය. ඉස්සර ප්‍රකෘති සීමාවන්වැ තිබූ ඉතාලිය, ගෝල්, ස්පාඤ්ඤය, අප්‍රිකාවේ නිදහස් රටවල් තවම පැවැති අතර ඒවායේ බලය එවකට පවා දැනෙන්නට විය. එහෙත් මේ කොටස් අලුත් ජාතීන් හැටියට සංවිධාන කිරීමේ බලවේගයක් කොතැනකවත් නොවීය, වර්ධනය වීමේ හෝ ප්‍රතිරෝධනය කිරීමේ බලයක් කොතැනකවත් නොවීය, නිර්මාණාත්මක බලය තවත් දුර්වල අඩියක පැවතිණි. මේ විශාල පෙදෙසේ මහා ජනකාය එකට බැඳ තැබූ එකම බැම්ම වූයේ රෝම රජයයි. කල් යත්ම මේ රජය ඔවුන්ගේ පරම සතුරා හා පීඩා කරන්නා බවට පත්විය. ප්‍රාදේශීය නගර රෝමය විනාශ කොට තිබිණි. අනික් ඒවා මෙන් රෝමයද ප්‍රාදේශීය නගරයකට සමාන වූ අතර එයට වරප්‍රසාද තිබුණද, පාලක හා ලෝක අධිරාජ්‍යයේ මධ්‍යස්ථානය නොවීය. කොන්ස්තන්තිනෝපල්, ට්‍රෙවෙස් සහ මිලාන් ආදී නගරවල අධිරාජයන් හා යුව අධිරාජයන් ජීවත්වූ අතර රෝමය අධිරාජයන්ගේ හා යුව අධිරාජයන්ගේ වාස භූමිය නොවීය. රෝම රජය තම පුරවැසියන් සූරාකෑම සඳහා විශේෂයෙන් සාදන ලද අති විශාල සංකීර්ණ යන්ත්‍රයක් විය. අයබදු, රජය වෙනුවෙන් සේවය කිරීම නොයෙක් අන්දමේ බදු අයකිරීම් නිසා ජනතාව වඩ වඩාත් දුගී දුප්පත් බවට ඇද වැටුණහ. බලකාරයින්ගේ, අයබදු අයකරන්නන්ගේ සහ සෙබළුන්ගේ අසාධාරණ ක්‍රියා නිසා මර්දනය තවත් දරුණු විය. රෝම රජය ලෝකාධිපත්‍යය ලබාගැනීම නිසා ඇති වූ තත්වය මෙසේ විය: රට තුළ නීතිය හා සාමය ආරක්ෂා කිරීම සහ පිටතින් අශිෂ්ටයින්ට එදිරිව රට ආරක්ෂා කිරීම උඩ රෝම රජය සිය පැවැත්මේ අයිතිය පදනම් කළේය. එහෙත් එහි නීතිය හා සාමය ඉතාම නරක අවනීතියට වඩා අයහපත් විය. රජය තම පුරවැසියන් ආරක්ෂා කිරීමට අශිෂ්ටයින්ට එදිරිව සටන් කළද, පුරවැසියෝ ඔවුන් ගැලවුම්කාරයින් මෙන් පිළිගත්හ.

සමාජමය තත්වයන් එයටත් වඩා අයහපත් විය. සමූහාණ්ඩුවේ අවසාන

අවුරුදුවලදී රෝමානු පාලනය යටත් කරගත් ප්‍රදේශ කෲර ලෙස සූරාකෑම මත පදනම් විය. අග රජවරු මේ සූරාකෑම නැතිකර දැමීමට කිසිවක් නොකළහ. එහෙත් ඒ වෙනුවට, ඔවුන් විසින් එය විධිමත් කරන ලදී. අධිරාජ්‍යයේ දිරාපත්වීම වැඩිවෙත්ම අයබදු බර වැඩිවිය, නොමිලේ කළ යුතු සේවාවන් වැඩි විය, වඩාත් අලජ්ජී විධියට රාජ්‍ය නිලධාරීහු සොරකම් කරමින් ජනතාව බිය ගැන්වූහ. වාණිජය හා කර්මාන්තය රෝමන්වරුන්ගේ වෘත්තීන් නොවීය. ඔවුහු ජනතාව මත අධිපතිකම් පෑහ. ඔවුනට පෙර හා පසුව සිටි සියලු දෙනාම පරදවමින් ඔවුහු පොලී අය කළහ. එක්තරා කාලයකට සිය පැවැත්ම ගෙනයාමට තරම් සමත් වූ වාණිජය නිලධාරීන්ගේ අයුතු කම් නිසා විනාශ විය. ඉතිරි වූ කොටස අධිරාජ්‍යයේ නැගෙනහිර ග්‍රීක පෙදෙස්වල කැරිණ. මෙය හැදෑරීම අපේ විෂයයට අයත් නැත. සම්පූර්ණ ලෙස දුගී බවට වැටීම, වාණිජය, හස්ත කර්මාන්තය, කලා ශිල්ප සියල්ලම පහත වැටීම, ජනගහනය විනාශ වීම, නගර දිරාපත් වීම, පහත් අවධියක් දක්වා කෘෂිකර්මාන්තය පහළට වැටීම, රෝම ලෝක ආධිපත්‍යයේ අවසාන ප්‍රතිඵලය වූයේය.

ආදි කාලයේ සිට තීරණාත්මක නිෂ්පාදන අංශය වූ කෘෂිකර්මාන්තය දැන් පෙරටත් වඩා බලපාන්නට විය. සමූහාණ්ඩුවේ අවසානයෙන් පසු මුළු මහත් ඉතාලියම පාහේ වසා සිටි අති විශාල වතු (latifundia) දෙයාකාරයකින් ප්‍රයෝජනයට ගන්නා ලදී. ජනතාව වෙනුවට ගවයින් හා බැටළුවන් සඳහා වෙන් වූ විශාල තණබිම් වශයෙන්ද — මේවා රැකබලා ගැනීම සඳහා වහලුන් කීප දෙනෙකු ප්‍රමාණවත් විය, — විශාල උයන්වතු වශයෙන්ද — මේවායේ වැඩ කිරීම සඳහා විශාල වශයෙන් වහලුන් යෙදවූ අතර අඩ වශයෙන් මේවා අයිති කරුවන්ගේ සුඛොපභෝගී උවමනාවන් සඳහාද අඩ වශයෙන් නගරවලට මේවායේ නිෂ්පාදනයන් විකිණීම සඳහාද—යොදවන ලදී. මහා තණබිම් වගා කළ අතර සමහර විට ඒවා විශාල කළ බවද සිතිය හැකි. එහෙත් ගම්බද වතු හා ඒවායේ උයන්වතු වගාව, එහි අයිතිකරුවන්ගේ දුගී බව හා නගරවල දිරාපත්වීම නිසා විනාශයට පත්විය. එහෙත් වහල් ශ්‍රමය මත පදනම් වූ වතු ආර්ථිකය තවත් දුර ලාභ ගෙනදෙන්නක් නොවීය. ඒ කාලයේදී කළ හැකි වූ එකම විශාල කෘෂිකාර්මික වැවිලි ක්‍රමය එය පමණක් විය. ලාභ ලබාගත හැකි එකම විධිය කුඩා ඉඩම්වල වගා කිරීම විය. විශාල වතු කැබෙලි කොට ස්ථිර කුලියකට පරම්පරාගත බදු කාරයන්ට හෝ partiarii නම් වූ, බදු කාරයින්ට වඩා කළමනාකාරයින්ට බෙදා දෙන ලදී. මේ partiarii වරුන්ට, ඔවුන් සඳහා අවුරුද්දේ පලදාවෙන් හයෙන් කොටසක් හෝ නවයෙන් කොටසක් ලැබුණි. කෙසේ වුවද, ප්‍රධාන වශයෙන් මේ කුඩා ඉඩම් කැබලි coloni වරුන්ට බෙදා දෙන ලදී. මේ අය අවුරුදු පතා ස්ථිර මුදලක් ගෙවූ අතර



ඉඩමට බැඳී සිටි හෙයින් ඉඩම් සමග ඔවුන් වෙනත් හිමියෙකුට විකිණිය හැකි විය. ඔවුහු වහලුන් නොවූහ. එමෙන්ම නිදහස් මිනිසුන්ද නොවූහ, ඔවුන්ට නිදහස් පුරවැසියන් සමග විවාහ විය නොහැක. ඔවුන් අතර සිදු කෙරෙන විවාහයන් පවා වලංගු නොවීය. වහලුන් මෙන් ඔවුන්ට අනියම් භාර්යා පරිහරණය (contubernium) කළ හැකි විය. මධ්‍ය කාලීන ප්‍රවේණිදාසයන්ගේ පූර්ව නිමිත්ත මොවුන් විය.

පුරාතන වහල් ක්‍රමය යල් පැන ගියේය. ගම්වල විශාල පරිමාණයක් මත ගොවිතැන් කිරීම හෝ නගරවල භාණ්ඩ සෑදීම හෝ සෑහෙන ලාභයක් ලබා නොදුන්නේය. මේ නිෂ්පාදන සඳහා තිබූ වෙළඳ පොල අතුරු දහන් විය. සෞභාග්‍යමත් කාලයේ අධිරාජයේ යෝධමය නිෂ්පාදනය දැන් කුඩා ඉඩම්වල කෘෂිකාර්මික හා කුඩා කර්මාන්තමය නිෂ්පාදනවලට සීමා වූයෙන් විශාල සංඛ්‍යා වශයෙන් සිටි වහලුන්ට ඉඩක් නැති විය. පොහොසතුන්ගේ ගෘහමය හා සුඛොපභෝගී වහලුන්ට පමණක් සමාජයේ ඉඩකඩ තිබිණ. එහෙත් මර ඇදේ සිටි වහල් ක්‍රමය, නිදහස් රෝම පුරවැසියන්ගේ අහංකාරයට නොගැලපෙන නිෂ්පාදනමය වැඩ කටයුතු සියල්ලම වහල් ශ්‍රමය ලෙස පෙන්වීමට තරම් බලසම්පන්න විය. දැන් හැම එකකුම නිදහස් රෝමානුවෙකි. මේ නිසා එක් අතකින්, බාධාවක් බවට පත්වූ අනවශ්‍ය වහලුන්ගේ සංඛ්‍යාව වැඩිවූයෙන් ඔවුන් නිදහස් කරන ලදී. අනික් අතින් coloni ගොවීන්ගේ හා හිඟන නිදහස් පුරවැසියන්ගේ (ඇමෙරිකාවේ පැරණි වහල් රජයන්වල වාසය කළ දුප්පත් සුද්දන්ට සමාන) ගණන වැඩි විය. පෞරාණික වහල්ක්‍රමය අභාවයට යාම ගැන ක්‍රිස්තියානිය සම්පූර්ණයෙන් නිදෙස්ය. රෝම අධිරාජ්‍යයේ වහල් ක්‍රමය නිසා ක්‍රිස්තියානි නිකාය සියවස් ගණනක් තිස්සේ එල නෙලා ගත්තේය. පසුව උතුරේ ජර්මනුන්ගේද මධ්‍ය ධරණී මුහුදේ වෙනිස් පුරවැසියන්ගේද, මෑත කාලයේදී නීග්‍රෝ වහල් වෙළඳාමද* නැවැත්වීමට ක්‍රිස්තියානි නිකාය කිසිවක් නොකළේය. වහල් ක්‍රමය ලාභ ගෙනදෙන්නක් නොවූයෙන් අභාවයට ගිය නමුදු නිදහස් මිනිසුන් එලදයි වැඩ කිරීම අපකීර්මත් දෙයක්ය යන විෂම මතය මේ මියයන වහල් ක්‍රමය පතුරුවා හැරියේය. රෝමානු ලෝකය ඇද වැටුණු මහා ප්‍රපාතය මෙය විය. වහල් ක්‍රමය ආර්ථික වශයෙන් පාඩු ගෙනදෙයි. එහෙත් ඒ අතර නිදහස් පුරවැසියන්ගේ ශ්‍රමය අධ්‍යාත්මික තහනමකට යටවී ඇත. එක් ක්‍රමයකට සමාජමය නිෂ්පාදනයේ මූලික

* ක්‍රෙමෝනාහි බිෂොප් ලූට්ප්‍රාන්ඩ් කියන පරිදි දසවැනි සියවසේ ශුද්ධවූ ජර්මන් අධිරාජ්‍යයේ පිහිටි වර්දුන් නගරයේ ප්‍රධාන කර්මාන්තය වූයේ නපුංසකයින් ඇති කිරීමය. ස්පාඤ්ඤයේ මුවර් වරුන්ගේ අන්තඃපුරවලට යවන ලද මේ නපුංසකයින් නිසා විශාල ලාභ ලබා ගත්හ. (එංගල්ස්ගේ සටහනකි).

විධිය වීමට තවත් දුර බැරි වූ අතර අනිකට තවම එය භාරගැනීමට බැරිවිය. මෙහිදී පිළියම සම්පූර්ණ විප්ලවයකින් පමණකි කළ හැක්කේ.

ප්‍රදේශවලද තත්වය මෙයට වඩා යහපත් නොවීය. අප ළඟ ඇති වාර්තාවලින් වැඩි හරිය ගෝල් ප්‍රදේශය පිළිබඳවය. coloni වරුන් අසලම නිදහස් ගොවියෝද තවමත් ජීවත් වූහ. නිලධාරීන්, නඩු කාරයින් හා පොලී කාරයින්ගේ අසාධාරණ ක්‍රියාවලින් ගැළවීම බලවතුන්ගේ ආරක්ෂාව හා පිහිට මේ නිදහස් මිනිස්සු නිතර සොයන්නට වූහ. ඔවුන් එසේ කළේ තනිවම නොවේ, කාණ්ඩ පිටිනි. මෙය කෙතරම් පුළුල් ලෙස පැතිර ගියේ දයත්, හතරවැනි සියවසරේ අග රජවරු එම ක්‍රියාවන් තහනම් කරන නීති පැන වූහ. මේ ආරක්ෂාව පැතූ අයට ලැබුණු ආධාරය කෙසේ වීද? ආරක්ෂකයා නිදහස් ගොවීන්ගේ ඉඩම් පිළිබඳ අයිතිය තමාට පවරා දෙන ලෙස බලකර සිටි අතර එම දේපලවලට හානි නොකොට භුක්ති විඳින බවට පොරොන්දු දුන්නේය. ක්‍රිස්තියානි පල්ලිය මේ සටකපට ක්‍රියාව මතක තබාගෙන, දෙවියන් වහන්සේගේ කීර්තිය වැඩි කරගැනීමත් පල්ලියේ ඉඩම් ප්‍රමාණය විශාල කර ගැනීමත් සඳහා නව වැනි හා දසවැනි සියවස්වලදී නිදහසේ එය අනුකරණය කළේය. මේ කාලයේදී, කෙසේ වුවද, ක්‍රි. ව. 475 වැනි අවුරුද්දේ පමණ මාසේල්ස්හි සැල්වියානුස් බිෂොප් තුමා එවැනි සොරකම් තදින්ම හෙළා දකිමින්, රෝම නිලධාරීන්ගේ හා ඉඩම් හිමියන්ගේ කෲරතම ක්‍රියාවන් ඉවසාගත නොහී, ''රෝමන්වරු'' අශිෂ්ටයින්ට අයත් දිස්ත්‍රික්කවලට පැන ගිය බවත්, එම දිස්ත්‍රික්කවල පදිංචි වූ මොව්හු නැවත රෝමයේ පාලනය යටතට වැටීම තරම් බියජනක වෙන දෙයක් නැතැයි සිතූහයි පැවසීය. දුප්පත් දෙමාපියන් ඒ කාලයේදී තම දරුවන් නිතර වහල්බවට විකුණා දමූ බව මේ ක්‍රියාව තහනම් කරමින් පනවනු ලැබූ නීතියෙන් ඔප්පු වේ.

රෝමන්වරුන් තම රජයෙන් මුදවා ගැනීමට කළ උපකාරයක් වශයෙන් එම රජයට අයත් ඉඩම්වලින් තුනෙන් දෙපංගුවක් අල්ලා ගත් ජර්මන් අශිෂ්ටයෝ ඒවා තමන් අතර බෙදගත්හ. මේ ඉඩම් බෙදගැනීම වංශ ක්‍රමය අනුව කරන ලදී. ජයග්‍රාහකයින්ගේ සංඛ්‍යාව සුළු වූ බැවින් විශාල ඉඩම් ප්‍රමාණයක් නොබෙද ඉතිරි විය. මෙය කොටස් වශයෙන් මුළු මහත් ජනතාවටද කොටස් ගෝත්‍ර හෝ වංශවලටද අයත් විය. හැම වංශයක්ම පෞද්ගලික ගෘහයන් අතර කුඹුරු හා තණබිම් සමාන ලෙස බෙද දුන්හ. මේ කාලයේදී ඉඩම් නැවත බෙද දුන්නේද යන්න අපි නොදනිමු. මේ සිරිත රෝමානු ප්‍රදේශවල ඉක්මණින්ම නැවැත්වූ බව පෙනේ. බෙද දුන් ඉඩම පාවාදිය හැකි හෙවත් සම්පූර්ණ අයිතිය ඇති පෞද්ගලික දේපොල බවට පත්විය. කැලෑ සහ තණබිම් පොදු පාවිච්චිය සඳහා නොබෙද වෙන්කර තිබිණ. බෙදගත් ඉඩම් වගා කිරීමේ ක්‍රමය හා පාවිච්චිය පැරණි සිරිත්



හා මුළු මහත් සමූහයාගේම කැමත්ත අනුව ක්‍රියාවේ යෙදිණි. ගම්වල වංශ කොතරම් දිගු කලක පැවතුනේද කල්යාමේදී එතරම්ම වැඩියෙන් රෝමන්වරුන් හා ජර්මනුන් එක්වූ අතර ලේ නෑකම් අනුව ඇති සබඳතාවයන් භෞමික සබඳතාවයන් ඉදිරියේ පසුබැස ගියේය. ගම්බද සමූහය තුළ වංශ සංවිධානය අතුරු දහන් විය. කෙසේ වුවද, සාමාජිකයින්ගේ මූලික නෑකම පිළිබඳ සටහන් විද්‍යාමානව පැවතිණි. ඒ අනුව වංශමය ව්‍යවස්ථාව යටත් පිරිසෙයින් ගම්බද සමූහය ආරක්ෂා වූ රටවල — උතුරු ප්‍රංශයේ, එංගලන්තයේ, ජර්මනියේ හා ස්කැන්ඩිනේවියාවේ — අදෘෂ්‍යමය ලෙස භෞමික සංවිධානයකට පරිවර්තනය විය. එමනිසා මෙය රජයට පූට්ටු කිරීමට සෑහිණ. කෙසේ වුවද, මුළු මහත් වංශ ක්‍රියා පටිපාටිය වෙන්කොට පෙන්වන ස්වභාවික ප්‍රජාතන්ත්‍රවාදී ස්වරූපය එය ඉතිරි කර ගත්තේය. පසු කලෙකදී, වංශ සංස්ථිතියෙන් කොටසක් බලෙන් සිදු කළ දිරාපත්වීමේදී පවා එය ආරක්ෂා කර ගත්තේය. නූතන කාලයේදී පවා පාවිච්චි කිරීමට සූදනම් ආයුධයක් ඒ අනුව පැගෙන්නන් අතට පත්විය.

අල්ලා ගැනීමේ ප්‍රතිඵලයක් වශයෙන් ගෝත්‍රය තුළ ඇති වංශයේ සංවිධාන සහ මුළු ජනකායම දිරාපත්වීම නිසා වංශය තුළ ලේ නෑකම් ඉක්මණින් අහෝසි විය. පරාධීන ජනතාව පාලනය කිරීම වංශමය පිළිවෙතත් සමග නොගැළපෙන බව අපි දනිමු. මෙතැනදී අපි එය විශාල පරිමාණයක් අනුව දකිමු, රෝම පෙදෙස්වල ස්වාමිවරුන් බවට පත්වූ ජර්මන් ජනතාවට තම විජයග්‍රහණය සංවිධානය කිරීමට සිදුවිය. එහෙත් ජනතාව රොත්ත පිටින්ම වංශ සංවිධානවලට උකහාගැනීමට හෝ විජයග්‍රහණයේ ආධාරයෙන් පාලනය කිරීමට හෝ ඔවුහු අපොහොසත් වූහ. රෝම රජය වෙනුවට වෙනත් ආදේශයක් රෝමානු පළාත් පාලන පරිපාලන සාවිධානවල ප්‍රධාන මණ්ඩලය ලෙස ඉදිරිපත් කිරීමට සිදුවිය. පළමුවෙන් මෙය විශාල වශයෙන් ක්‍රියාකාරී වීමට පටන් ගත්තේය. මේ ආදේශය වූයේ අනිකක් නොව තවත් රජයකි. ඒ අනුව වංශ සංස්ථිතියට අයත් සංවිධාන රජයේ සංවිධාන වශයෙන් පරිවර්තන කිරීමට සිදු වූ අතර තත්වයන්ගේ බලපෑම නිසා එය ඉතා ඉක්මණින්ම කළ යුතුව තිබිණ. ජයග්‍රාහී මිනිසුන්ගේ පළමුවැනි නියෝජිතයා කෙසේ හෝ යුද්ධ අණදෙන නිලධාරියා විය. අල්ලා ගනු ලැබූ ප්‍රදේශයේ අභ්‍යන්තර හා බාහිර තත්වයන්ගේ ආරක්ෂාව සඳහා ඔහුගේ බලය වැඩි කිරීමට සිදුවිය. යුද්ධ නායකත්වය රජකම දක්වා පරිවර්තනය කිරීමේ අවස්ථාව එළඹිණ. මෙය එසේම කරන ලදී.

අපි ප්‍රැන්ක්වරුන්ගේ රාජධානිය ගෙන බලමු. රෝමානුවන්ගෙ පුළුල් රාජධානි පමණක් නොව,විශාල හා කුඩා Gau හා Mark සමූහයන්ට භාර නොදෙන ලද විශාල ඉඩම්ද, විශේෂයෙන් විශාල කැලෑද, තම සීමා රහිත ඉඩකඩම් ලෙස ජයග්‍රාහී සේලියන් ජනතාව අතට පත්විය. සාමාන්‍ය යුද්ධ

නායකයෙකුගේ සිට නියම රජෙකු බවට පත්වූ ප්‍රැන්ක්වරුන්ගේ රජු කළ පළමුවැනි කාරිය මේ මහජන දේපොල රාජකීය වතු බවට පරිවර්තනය කිරීමය. නින්දගම් මෙන් ඒවා තම අනුචරයිනට බෙදා දීමය. මුලදී මේ පිරිවර ජනයා හැටියට ගැණුනේ ඔහුගේ පෞද්ගලික භට සේනාවත් යුද්ධ හමුදාවේ උප සෙන්පතිවරුනුත්ය. පසුව රටේ නීතිය, සාහිත්‍යමය ලතින් බස, රෝමන්ස් ජාතීය භාෂාව අධ්‍යාපනය හා ලිවීම දත් රජුගේ වැඩවලට අත්‍යාවශ්‍ය රෝමන්වරුන් නැතිනම් රෝමන්වරුන් බවට පත්වූ ගෝල්වරුන්ද, තමා ප්‍රිය කරන්නන් තෝරා ගත් වහලුන්ගෙන්, ප්‍රවේණිදසයින්ගෙන් සහ නිදහස් පුරවැසියන්ගෙන් යුත් රාජ මාළිගයේ සේවකයින්ගෙන්ද මෙය යුක්ත විය. මේ අයට මහජන ඉඩම් පළමුව දෙන ලද්දේ තිළිණයන් වශයෙනි, පසුව beneficis* වශයෙන් ජීවිකාව සඳහා දෙන ලදී. මුලදී බොහෝ විට රජුගේ ජීවිත කාලය දක්වා එම ඉඩම් භුක්ති විඳීමට දුන් අතර ජනතාවගෙන් යැපෙන අලුත් ප්‍රභූවරුන් සඳහා පදනමක් ඇති විය.

එහෙත් එපමණක් නොවේ. පැතිර ගිය අධිරාජ්‍යය පැරණි වංශමය සංස්ථිතිය මගින් ආණ්ඩු කිරීම කළ නොහැකි දෙයක් විය. බොහෝ කලකට පෙර වංශ නායකයින්ගේ මණ්ඩල යල් පැන නොගියද, එය එක්රැස් කිරීමට නොහැකි විය. මෙය ඉක්මණින්ම රජුගේ නිත්‍ය, පිරිවර ජනයාගෙන් සමන්විත විය. පැරණි මහජන සබය බාහිර වශයෙන් ආරක්ෂා කරන ලදී. එහෙත් එය වැඩි වැඩියෙන් යුද හමුදාවේ උප සෙන්පතිවරුන්ගෙන් හා අළුතින් නැගී එන ප්‍රභූවරුන්ගෙන් සමන්විත විය. නිදහස් ඉඩම් හිමි ගොවීහුද, ප්‍රැන්ක් ජනතාවගේ බහුතර කොටසද, දිගටම කරගෙන ගිය සිවිල් යුද්ධ හා රටවල් අල්ලා ගැනීමේ යුද්ධ නිසා හෙම්බත් වී දිළිඳු බවට පත්වූහ. රෝම අධිරාජ්‍යයේ අවසාන භාගයේදී රෝම ගොවීන්ට මෙන්ම ෂාර්ලෙමාන් කාලයේදී ඇති වූ රටවල් අල්ලා ගැනීමේ යුද්ධ මෙයට හේතු විය. මුලදී මුළු මහත් යුද්ධ හමුදාවම මේ ගොවීන්ගෙන් සමන්විත වූ අතර ප්‍රැන්ක් රටවල් ජයගැනීමේදී ඔවුහු එම හමුදාවල අරටුව වූහ. නව වැනි සිය වස ආරම්භයේදී ඔවුන් කොතරම් දිළිඳු බවට පත්වූයේදයත්, පස්දෙනෙකුගෙන් එකකුට පවා අවි සහ යුද ඇඳුම් සොයා ගැනීම දුෂ්කර කරුණක් විය. රජු විසින් කෙළින්ම කැඳවන ලද නිදහස් ගොවීන්ගෙන් යුත් පැරණි යුද්ධ හමුදාව වෙනුවට, අලුත් අධිපතීන්ගේ සේවකයින්ගෙන් සමන්විත හමුදාවක් සාදන ලදී. මීට කලකට පෙර රජු හැර වෙනත් ස්වාමිවරුන් නොපිළිගත්, එයටත් වඩා ඈත කාලයකදී රජු හෝ වෙනත් කිසිදු ස්වාමියෙකු නොපිළිගත් ගොවීන්ගේ පුතුන් හා මුණුබුරන් වූ ඌළියක්කාරයින්ද මේ සේවකයින් අතර විය. ෂාර්ලෙමාන්ගෙන් පසු රජකමට පත්වූ පුද්ගලයින් යටතේ ඇති වූ අභ්‍යන්තර යුද්ධ නිසාද, රාජකීය බලය දුර්වල වීම, එයට අනුරූපව බලග්‍රහණය, ෂාර්ලෙමාන් විසින් ස්ථාපිත කරන ලද gau සාමිවරුන්ගේ සංඛ්‍යාව මේ අධිපතීන් නිසා විශාල වූ අතර ඔවුහු තම නිලය පරම්පරා ගත උරුමය වශයෙන් පවරා ගැනීමට උනන්දු වූහ — අවසාන වශයෙන් නෝමන්වරුන්ගේ ආක්‍රමණය නිසාද ප්‍රැන්ක් ගොවීන්ගේ විනාශය සම්පූර්ණ විය. අවුරුදු හාර සියයකට පෙර ප්‍රැන්ක්වරුන් ඉදිරියේ රෝම අධිරාජ්‍යය බලාපොරොත්තු රහිතව දණ ගැසුවේ යම්සේද, එසේම ෂාර්ලෙමන්ගේ මරණින් අවුරුදු පනහකට පසු නෝමන්වරුන් ඉදිරියේ ප්‍රැන්ක්වරුන්ගේ අධිරාජ්‍යය දණ ගැසුවේය.

බාහිර වශයෙන් බෙලහීනත්වය පමණක් නොව, සමාජයේ අභ්‍යන්තර පිළිවෙළ එසේත් නැතිනම් අවුල සැහෙන දුරට එසේම විය. නිදහස් ප්‍රැන්ක් ජාතික ගොවියන්ගේ තත්වය තමන්ට කලින් ජීවත් වූ රෝම coloni ගොවීන්ගේ තත්වයට සමාන විය. යුද්ධය හා කොල්ලකෑම් නිසා විනාශය කරා ගොස් සිටි ඔවුන්ට නව අධිපතීන්ගේ හා පල්ලියේ ආධාරය සෙවීමට සිදුවිය. මන්දයත් ඔවුන් ආරක්ෂා කිරීමට තරම් බලයක් බෙලහීන රාජාණ්ඩුවට නොතිබුණ බැවිණි. මේ ආරක්ෂාව සඳහා ඔවුන්ට විශාල මිළක් ගෙවීමට සිදුවිය. ඔවුන්ට පෙර වුසූ ගෝල් ගොවීන් මෙන්ම ඔවුනටද තම ඉඩම් ආරක්ෂකයින්ට පවරා දී ඒවායේ බදු කාරයින් වශයෙන් නොයෙක් ක්‍රම අනුව නැවත ලබා ගැනීමට සිදු විය. එහෙත් හැමවිටම සේවාවන් කිරීමේ හා මුදල් ගෙවීමේ කොන්දේසි අනුවය. මේ විධියේ යටත් වීමකට ඇද වැටුණු පසු ඔවුනට ඔවුන්ගේ පෞද්ගලික නිදහස නැතිවිය. පරම්පරා කීපයකට අනතුරුව ඔවුන්ගෙන් වැඩි දෙනා ප්‍රවේණිදසයින් බවට පත්විය. මේ ගොවීන් කොතරම් වේගයකින් පහත වැටුණේදයත් වත්මන් පැරිසිය තුළ, එවකට එය අසල තිබූ අබේ සෙන්-ජෙර්මේන්-දෙ-ප්රේහි ඉඩම් වාර්තා මගින් ඉර්මිනොන් පෙන්වා දෙයි. පාර්ලෙමාන්ගේ ජීවිත කාලයේදී පවා ඇබෙහි ජර්මන් නම් ඇති ප්‍රැන්ක්වරුන්ගේ ගෘහයන් 2.788 ක් තිබිණි. ඔවුන්ගෙන් coloni වරුන් 2.080 ක්ද liti වරුන් 35 ක්ද, වහලුන් 220 ක්ද වූ අතර නිදහස් ගොවීන් සිටියේ 8 දෙනෙකි. සැල්වියානුස් අදේවවාදී ක්‍රියාවක් ලෙස පෙන්වා දුන්, ආරක්ෂකයා ගොවියාගේ ඉඩම් පවරා ගැනීමද, නැවත ගොවීන්ගේ තාවකාලික භුක්තිය සඳහා ඒවා පවරාදීමේ සිරිත ද, ක්‍රිස්තියානි පල්ලිය ගොවීන් සමග කටයුතු කිරීමේදී සාර්ව භෞමික වශයෙන් ප්‍රගුණ කළේය. වඩ වඩාත් විලාසිතාවක් බවට පත්වූ රදළ දසත්වය රෝමානු angariae නම් වූ අනිවාර්ය රාජ්‍ය සේවය ජර්මන් මාර්ක් සංවිධානයේ සාමාජිකයින්ගේ පාළම් සහ මාර්ග සෑදීම හා අනෙකුත් පොදු කටයුතු

* තම පිරිවර ජනතාවට ප්‍රැන්ක් රජවරුන් තිළිණයන් වශයෙන් ඉඩම් ප්‍රදානය කිරීම beneficis වශයෙන් හැඳින්විණි.

සඳහා වැඩ කිරීම අනුව පිළියෙළ කොට තිබිණි. ඒ අනුව අවුරුදු හාර සියයකට පෙර සිටි තැනට ජනතාවගේ විශාල කොටසක් නැවත පැමිණියාක් මෙන් පෙනී ගියේය.

පළමුවැනිව, මෙය කරුණු දෙකක් ඔප්පු කළේය: පහත වැටෙමින් තිබුණු රෝම අධිරාජ්‍යයේ සමාජමය තට්ටු සැදීම සහ දේපොල බෙදීයාම එදා පැවති කෘෂිකාර්මික හා කර්මාන්තමය නිෂ්පාදනයන්ට අනුරූප වීම එය නොවැළැක්විය හැකි වීම. දෙවනුව, ඉන් ඉක්බිතිව, අවුරුදු හාර සියයක් තිස්සේ මේ අවධියේදී නිෂ්පාදනයේ නැඟීමක් හෝ වැටීමක් හෝ කොහෙත්ම නොපෙන්වූ නිසා දේපොල බෙදා හැරීම අවශ්‍යයෙන්ම එලෙසමත්, ජනගහනයේ පංතිමය බෙදීමත් සිදුවී ඇත. රෝම අධිරාජ්‍යයේ අවසාන සියවස් කීපය තුළදී, ගම් මත පැතිර තිබුණු නගරයේ ආධිපත්‍යය නැතිවිණි. එසේම, ජර්මන් පාලනයේ පළමුවැනි සියවස් කීපය ඇතුලත එම ආධිපත්‍යය යළිත් ඇති නොවීය. මෙය කෘෂිකර්මාන්තය සහ එමෙන්ම කර්මාන්තයද පැවති පහත් තත්වය පෙන්වයි. මෙවැනි පොදු තත්වයක් අවශ්‍යයෙන්ම විශාල ඉඩම් හිමියන් හා පරාධීන කුඩා ගොවීන් ඇතිවීමට ඉවහල් වේ. වහල් ශ්‍රමය සහිත රෝම ලැටිෆුන්ඩියන් ආර්ථිකය හෝ ප්‍රවේණිදාසයින් සහිත විශාල ඉඩම්වල ගොවිතැන් කිරීම හෝ මෙවැනි සමාජයකට බද්ධ කිරීම කළ නොහැකි දෙයක් වූ සැටි, සේයාවක් පවා නොතබා අතුරුදහන් වී ගිය රාජකීය වතුවල ෂාර්ලෙමාන් ගෙනගිය පුළුල් පිරික්සා බැලීම් වලින් පෙනී යයි. මේ පිරික්සා බැලීම් පූජක ආශ්‍රමයන් මඟින් කරගෙන ගිය අතර එයින් ප්‍රයෝජන ලැබුවේ ඔවුන් පමණකි. එහෙත් බ්‍රහ්මචර්යය මත පදනම් වූ මේ පූජක ආශ්‍රම අස්වාභාවික සමාජමය සංවිධානයන් විය. මේවාට විශේෂ දේ කළ හැකි වූ නිසාම, විශේෂයන් වශයෙන් ඒවා ගැනිණි.

කෙසේ වුවද, මේ අවුරුදු හාරසීය තුළදී ප්‍රගතියක් ඇතිවිය. මුලදී තිබූ ප්‍රධාන පංති අඩු වැඩි වශයෙන් අවසානයේදී අප දුටුවද මේ පංතිවලට අයත් ජනතාව වෙනස් වූහ. පැරණි වහල් ක්‍රමය අතුරු දහන් වී ගොස් තිබිණි. ශ්‍රමය වහලුන්ගේ වැඩක් යැයි සිතූ දුගී දුප්පත් නිදහස් පුරවැසියන්ද අතුරුදහන් වී ගොසිණි. රෝම colonus ගොවියාත් සහ අලුත් ප්‍රවේණිදාසයනුත් අතර නිදහස් ප්‍රැන්ක් ජාතික ගොවිහු වූහ. විපතට පත් රෝමන්වාදයේ ඵල රහිත නෂ්ටාවශේෂ සහ නිෂ්ඵල ගැටුම් අභාවයට ගොස් තිබුණු අතර එය වළදමා තිබිණි. නව වැනි සියවසේ සමාජමය පංති හැඩ ගැසුනේ අභාවයට යමින් සිටි සභ්‍යත්වයේ මඩගොහොරුවක් තුළින් නොව නව සභ්‍යත්වයක ප්‍රසව වේදනාව තුළිනි. තම රෝම ආදී මිනිසුන් සමග සසඳා බලන විට ස්වාමිවරුන්ගේ හා මෙහෙකරුවන්ගේ අලුත් වර්ගය මිනිස් වර්ගයක් විය. බලගතු ඉඩම් හිමියන් හා ප්‍රවේණිදාස ගොවීන් අතර



සම්බන්ධතාවය, පුරාණ ලෝකය අනුව පහත වැටීමේ බලාපොරොත්තු රහිත දෙයක් ලෙස රෝමානුන් සැළකූ අතර මධ්‍යකාලීන මිනිස්සු එය නව සංවර්ධනයක මුල පිරීමක් ලෙස සැළකූහ. ඇරත් මේ අවුරුදු හාර සියය නිෂ්ඵල වූවාක් සේ පෙනී ගියද එය එක් විශාල නිෂ්පාදනයක් ඉතිරි කළේය. සමකාලීන ජාතීන් වූ මේ නිෂ්පාදනය අනාගත ඉතිහාසය සඳහා බටහිර යුරෝපීය මිනිස් සංහතිය නැවත හැඩ ගැස්වීම සහ නැවත කොටස් කිරීම කළේය. ඇත්ත වශයෙන්ම ජර්මනුන් යුරෝපයට නව ජීවනයක් ගෙන දුන්නේය. ජර්මනුන්ගේ කාලයේදී රාජ්‍යයන් විසුරුවා හැරීම නැවතුනේ මේ නිසාය. නෝර්සේ-සරසෙන් යටපත් කරගැනීමෙන් නොව රාජකීය ප්‍රදානයන්හි සහ අනුග්‍රහයේ (නිලවරණය) සිට රදළවාදය දක්වා වර්ධනය වීමෙනි. ජනගහනය කොතරම් විශාල ලෙස වැඩිවූයේදයත්, ඊට සියවස් දෙකකට ඉක්බිතිව ඇති වුණු කුරුස යුද්ධවලදී ගලා ගිය රුධිරය පාඩුවක් නැතිව විඳ දරාගැනීමට සමත් විය.

මීය යමින් යුරෝපයට නව ජීවන ශක්තියක් ගෙන දුන් ජර්මනුන්ගේ අභිරහස් වශීකරණය කෙබන්දක් විද? අපේ විකෘති ජාත්‍යනුරාගී ඉතිහාසකාරයන් කියන පරිදි ජර්මන් ජාතියට ආවේණික වූ ගුප්ත බලයක් නිසාද? ඇත්ත වශයෙන්ම එසේ නොවේ. විශේෂයෙන්ම ඒ කාලයේදී බලගතු සංවර්ධනයට අසුව සිටි ජර්මන් ජනතාව කුසලතාවයෙන් හෙබි ආර්ය ගෝත්‍රයක් බව සැබෑය. කෙසේ වුවද යුරෝපයට නව ජීවන ශක්තියක් ලබා දුන්නේ ඔවුන්ගේ ජාතික ගුණයන්වලින් නොවේ, ඔවුන්ගේ අශිෂ්ට, වංශමය සංස්ථිතියෙනි.

ඔවුන්ගේ පෞද්ගලික දක්ෂතාවයද, වීරත්වයද, ස්වාධීනත්වයට ඇති ආදරයද, සියලුම පොදු ජන වැඩ තමන්ගේම දේ හැටියට සළකන ප්‍රජාතන්ත්‍රවාදී ඉවද, රෝමානු මඩ ගොහොරුවෙන් ඉවතට ඇද අලුත් ජාතීන් නගා සිටුවීම සහ අලුත් රජයන් සෑදීමෙහි සමත්, කෙටියෙන් කියතොත්, රෝමන්වරුන් විසින් නැති කරගනු ලැබූ සියලු ගුණයන්ද, වනචාරිත්වයේ උසස් අවධියේ වනචාරීන් සතුව පැවති මේ ආවේණික ලක්ෂණයන්ද ඔවුන්ගේ වංශමය සංස්ථිතියේ ඵලයන් නොවන්නේද?

ඔවුන් ඉපැරණි ඒක භාර්යා විරතය පරිවර්තන කළේ නම්, පවුලේ පුරුෂ පාලනය ලිහිල් කොට ආචීර්ණ කල්පික ලෝකය නොදත් උසස් තත්වයක් ස්ත්‍රියට ලබා දුන්නේ නම්, මෙය මෙසේ කිරීමට ඔවුන් සමත්වූයේ තම අශිෂ්ටත්වය නිසාත්, වංශමය සිරිත් නිසාත් මව් අයිතිය පිළිබඳ කාලයට අයත් තවමත් ජීවමාන උරුමය නිසා නොවන්නේද?

යටත් පිරිසෙයින් අතිශයින්ම වැදගත් රටවල් තුනේ — ජර්මනිය, උතුරු ප්‍රංශය හා එංගලන්තය මාර්ක් සමූහයේ ස්වරූපයෙන් නියම සංස්ථිති කොටසක් ආරක්ෂා කරගනිමින් රදළ රජය දක්වා ගෙනයාමට සහ

පූරාණයේ වහලුන්ට සහ නූතන කාලයේ නිර්ධන පංතියට ප්‍රයෝජන ගැනීමට නොතිබුණු, ප්‍රාදේශික සංසක්තියක සහ ප්‍රතිරෝධන කිරීමේ බලයක් අතිශයින්ම අමාරු මධ්‍ය කාලීන ප්‍රවේණිදාස තත්වයන් යටතේ වුව, ගොවීන්ට එනම් පැගී සිටි පංතියට ලබා දීමට සමත් වූයේ නම්, මෙය ඔවුන්ගේ අශිෂ්ටත්වය, වංශ තුළ පැලපදියන්වීමේ විශේෂ අශිෂ්ට ක්‍රමයට ඔවුන් ණය ගැති නොවෙති නම් අන් කවර විධියකට ඔවුන් ණය ගැතිද?

අවසාන වශයෙන් තමන් විසින් ගෙදරදී ප්‍රගුණ කරනලද, රෝම අධිරාජ්‍යයේදී ද වැඩි වැඩියෙන් වහල්ක්‍රමය ඉවත් කරන ලද වඩා මෘදු දාසත්වයක් වර්ධනය කොට පොදු සමස්තයක් වශයෙන් ක්‍රියාවේ යෙදවීමට ඔවුන් සමත් වූයේ නම් — මේ ක්‍රමය, පළමුවෙන්ම පූරියේ අවධාරණයෙන් කියා සිටි පරිදි පංතියක් වශයෙන් ක්‍රම ක්‍රමයෙන් නිදහස් වීමට මාධ්‍යයක් ලබා දුන්නේ fournit aux cultivateurs des moyens d'affranchissement collectif et progressif පරිවර්තන අවධියක් නැතිව පුද්ගලයින් වහාම වහල් භාවයෙන් මිදීමේ මේ ක්‍රමය එබැවින් වහල් ක්‍රමයට වඩා අතිශයින්ම උසස් ය. (ජයග්‍රාහී විප්ලවයක් මගින් වහල්ක්‍රමය විනාශ කර දැමීමක් පුරාතන කාලය නොදත්තේය), එහෙත් මධ්‍ය කාලීන ප්‍රවේණිදාසයෝ පියවරෙන් පියවර පංතියක් වශයෙන් තම විමුක්තිය දිනාගත්තෝය — මෙය, පැරණි ශ්‍රම වහල් ක්‍රමයට හෝ නැගෙනහිර ගෘහ වහල් ක්‍රමයට හෝ අයත් සම්පූර්ණ වහල් ක්‍රමයට නොවැටුණේ මොවුන්ගේ අශිෂ්ටත්වය නිසා මිස අන් කවර දෙයක් නිසාද?

රෝමානු ලෝකයට ශක්තිය හා ජීවනය ගෙන දීම සඳහා ජර්මනුන් ඇතුළු කළේ අශිෂ්ටත්වයයි. ඇත්ත වශයෙන්ම මියයමින් පවතින සභ්‍යත්වයක මහත් දුෂ්කරතා මැද වෙහෙසෙන ලෝකයකට ජීවන ශක්තිය ලබා දීමෙහි සමත් වන්නේ අශිෂ්ටයන්ය. ජනතාවන්ගේ සංක්‍රමණයට පෙරාතුව ජර්මනුන් ක්‍රියා කළේ අශිෂ්ටත්වයේ උසස්තම අවධියටය, අවධිය තුළය, මේ ක්‍රියාදාමය සඳහා ඉතාම හොඳ තත්ත්වයන් ඇතිකර දුන්නේත් එයයි. මෙය හැම දෙයක්ම විස්තර කරයි.

## IX

## අශිෂ්ටත්වය සහ සභ්‍යත්වය

ග්‍රීක, රෝම, ජර්මන් යන නිදසුන් තුන අනුව වංශ පිළිවෙත අහෝසි වී ගිය සැටි අපි සොයා බැලුවෙමු. අශිෂ්ටත්වයේ උසස් අවධියේදී වංශ සංවිධාන සමාජය යටින් හාරා බිඳ දැමූ පොදු ආර්ථික තත්ත්වයන් සහ සභ්‍යත්වයේ පැමිණීමත් සමග එය සම්පූර්ණයෙන්ම අහෝසිකර දැමූ



සැටිද අවසානයේ අපි පිරික්සා බලමු. මේ සඳහා මෝර්ගන්ගේ පොත මෙන්ම මාක්ස්ගේ 'ප්‍රාග්ධනයද' අවශ්‍ය වේ.

ම්ලෙච්ඡත්වයේ මැද අවධියේදී වැඩීමට පටන් ගෙන එහි උසස් අවධියේදී තවත් වැඩුණු වංශ ක්‍රමය, අපට විනිශ්චය කිරීමට තිබෙන උල්පත් අනුව, අශිෂ්ටත්වයේ පහළ අවධියේදී උච්චස්ථානයට නැංගේය. එසේනම් මේ අවධියේ සිට අපි අපේ පිරික්සීම පටන් ගනිමු.

මේ අවධියේදී, — මෙහිදී අපට ඇමෙරිකන් ඉන්දියන්වරුන් නිදසුනක් වනු ඇති — වංශ ක්‍රමය සම්පූර්ණයෙන්ම වර්ධනය වී ඇති බව අපට පෙනේ ගෝත්‍රයක් වංශ කීපයකට බොහෝ අවස්ථාවල වංශ දෙකකට වෙන්වී තිබිණ. ජනගහණයේ වැඩිවීමත් සමගම මුල් වංශ නැවත තවත් දූහිතෘ වංශවලට බෙදිණ. මේ දූහිතෘ වංශවලට මව් වංශ සහෝදරත්ව වශයෙන් හැඳින්විණ. ගෝත්‍රය ගෝත්‍ර කීපයකට බෙදිණ. මේ හැම එකකම, වැඩි වශයෙන් පැරණි වංශ සංවිධානය දකින්නට ලැබේ. සමහර අවස්ථාවලදී යටත් පිරිසෙයින් නෑ සබඳකම් ඇති ගෝත්‍රවල සම්මේලනයක් ඇතිවිය. මේ සරල සංවිධාන, ඒවා පැන නැගි සමාජමය තත්ත්වය හා සමග සම්පූර්ණයෙන්ම ගැළපිණ. මේ විධියට සංවිධානය වූ සමාජයක වංශය පැන නැගිය හැකි අභ්‍යන්තර ඝට්ටන සමථයකට පත් කිරීමට සමත් විශේෂ ස්වාභාවික කණ්ඩායමක් මිස අන් කිසිවක් නොවිය. විදේශ කටයුතු වලදී, ඝට්ටන සමථයකට පත්කැරගන්නා ලද්දේ ගෝත්‍රයක් විනාශ වී යාමෙන් අවසන්වුණු යුද්ධයකිනි. එහෙත් කිසි දිනෙක ගෝත්‍රය පරාධීනත්වයට නොවැටිණි. වංශ පිළිවෙතෙහි උදාරත්වය හා ඒ අතරම එහි සීමාසහිත බව රඳා පවතින්නේ එය තුළ පාලකයින් හා පාලනය කරනු ලබන්නන් නොමැති වීමය. අභ්‍යන්තර කටයුතු පිළිබඳ අංශයෙහි අයිතිවාසිකම හා යුතුකම අතර වෙනසක් තවම නොතිබිණ. පොදු කටයුතු වල යෙදීම, ලේවල පළිගැනීම හෝ තුවාලවලට වන්දි ලබාගැනීම ආදියෙහිදී ඉන්දියානුවෝ එයට, අයිතියක් හෝ යුතුකමක් හෝ වශයෙන් මූණ නොපෑහ. ආහාර ගැනීම, නිදගැනීම හෝ දඩයම් කිරීම අයිතියක්ද නැතිනම් යුතුකමක්ද යන්න මෙන්ම එයද තේරුම් රහිත ප්‍රශ්නයක් ලෙස ඔව්හු සැළකූහ. කිසියම් ගෝත්‍රයක් හෝ වංශයක් විවිධ පංතිවලට බෙදීයාමටද බැරිය. එම තත්ත්වයන්ගේ ආර්ථික පදනම පිරික්සා බැලීමට මෙහිදී අපට සිදුවේ.

ජනගහණය ඉතාම අඩුවිය. එය ඝනත්වය වැඩිවූයේ විශාල දඩයම් පෙදෙස්වලින් වටවූ ගෝත්‍රික වාස භූමිය තුළය. එම සීමාවලින් පිටත තවත් ගෝත්‍රයකින් වෙන්කරන ස්වාභාවික මධ්‍යස්ථ ආරක්ෂක කැලෑවලින් යුක්ත විය. ශ්‍රම විභජනය පිරිසුදු වාම් ස්වාභාවික දෙයක් විය: එය ස්ත්‍රී පුරුෂ දෙපක්ෂය අතර විය. පුරුෂයෝ යුද්ධයට ගියහ, දඩයම් කළහ,

ඔසුන් ඇල්ලූහ, මේ ගමන් වලට උවමනා ආහාර සඳහා අමු ද්‍රව්‍යද අවිද පිළියෙළ කළහ. ස්ත්‍රීහු ගෙදර දොර බලාගත්හ, ආහාර සහ ඇඳුම් පිළියෙළ කළහ. ආහාර පිසීම, රෙදි විවීම හා මැහීමද කළහ. හැම කෙනෙක්ම තම තමන්ගේ අංශවල දක්ෂයෝ වූහ. පුරුෂයෝ කැලෑවලද ස්ත්‍රීහු ගෙවල් වලද ස්වාමිවරු වූහ. තමා විසින් සාදගෙන පාවිච්චි කළ උපකරණ හා අවි තමාටම අයත් විය. පුරුෂයින්ට තම තමන්ගේ අවි සහ මස් මැරීමේ උපකරණ අයත් වූ අතර ස්ත්‍රීන්ට ගෘහ භාණ්ඩ හා හැළිවලන් ආදිය අයත් විය. පවුල් කීපයක් හෝ බොහොමයක් සහිත ගෘහය කොමියුනිස්ට්වාදී විය*. නිෂ්පාදනය කොට භාවිතා කළ හැම දෙයක්ම පොදු දේපොල විය. නිවෙස, ගෙවත්ත, දිග බෝට්ටුව ආදී හැම දෙයක්ම එසේ විය. නූතන ධනවාදී දේපොල රඳා පවතින අවසාන බොරු නීත්‍යානුකූල රැවටිල්ල වූද, නීතිවේදීන් හා අර්ථ ශාස්ත්‍රඥයින් විසින් වැරදි විධියට සභ්‍ය සමාජයට ආරූඪ කළ ''උපයාගත් දේපොල'' අප දකින්නේ මෙතැනදීය, මෙතැනදී පමණක් ය.

එහෙත් මිනිසා හැම තැනම මේ අවධියේදී එක තැන නොසිටියේය. සතුන් හීලෑ කොට උන් බෝ කිරීම හා පාලනය කිරීම ආසියාවේ මිනිස්සු දැනගත්හ. වල් මී හරකා දඩයම් කළ යුතු විය. හීලෑ එළ දෙනකු අවුරුද්දකට පැටියකු බැගින් වදන බැවින් උගෙන් කිරි ලබා ගත හැකි විය. ඉතාම දියුණු ගෝත්‍ර කීපයක්ම — ආර්ය, සෙමිට් සහ සමහර විට ටුරේනියන් ගෝත්‍රයද ගවයින් හීලෑ කිරීම සහ බෝකිරීමද පාලනය කිරීමද දැනගත්හ. එය ඔවුන්ගේ ප්‍රධාන රැකියාව විය. අශිෂ්ටයින්ගේ විශාල කොටසින් එඬේර ගෝත්‍ර වෙන්වූහ. පළමුවැනි විශාල සමාජමය ශ්‍රම විභජනය මෙය විය. මේ එඬේර ගෝත්‍ර විශාල ප්‍රමාණයක් ආහාර නිපැදවූවා පමණක් නොව ආහාර වර්ග විශාල ගණනක්ද අනිකුත් වනචාරීන්ට වඩා නිපදවූහ. අනිත් අයට වඩා අති විශාල වශයෙන් ඔවුන් සතුව තිබුණේ කිරි හා කිරි ආහාර වර්ග හා මස් පමණක් නොවේ. ඔවුහු සතුන්ගේ හම්ද, ලොම් වර්ග, බැටළු ලොම්, කටින ලද හා ගොතන ලද රෙදි වර්ග ආදියද නිපදවූහ. මේ අමු ද්‍රව්‍ය විශාල වශයෙන් සාමාන්‍ය පාවිච්චිය සඳහා ගෙනෙන ලදී. මේ නිසා පළමුවරට භාණ්ඩ හුවමාරුව නිත්‍යතා කිරීමට හැකි විය. මීට ඉහත අවධිවලදී භාණ්ඩ හුවමාරුව ඇතිවූයේ ඉඳ හිටලාය. අවි සෑදීමේ විශේෂ දක්ෂතාවය නිසා අනිත්‍ය ශ්‍රම විභජනයක් ඇතිවී යැයි සිතිය හැකිය.

---

* ඇමෙරිකාවේ වයඹ පළාතේ වෙරළාසන්න මෙය විශේෂයෙන්ම මෙසේ විය. ඒ පිළිබඳව බැන්ක්‍රොෆ්ට් බලන්න. චාලට් රැජිණ දූපත්වල හයිඩා වරුන් අතර සාමාජිකයින් හත් සිය දෙනෙක් පමණ එකම නිවෙසක රැස්වූහ. නූට්කා වරුන් මුළු ගෝත්‍රයක්ම එකම නිවෙසක පදිංචි විය. [එංගල්ස්ගේ සටහනකි].



ඒ අනුව මෑත පාෂාණ යුගයට අයත් ගල් භාණ්ඩ වැඩ පොළවල්වල නටබුන් බොහෝ තැන්වල සොයාගැනීම සැක කළ නොහැකි කරුණකි. ඉන්දියානු වංශ සමූහය තවම කරන පරිදි නිත්‍ය හස්තකර්මාන්ත කරුවන් වශයෙන් මුළු මහත් සමූහයටම සේවය කළ මේ ශිල්පීන් සිය නිපුණත්වය දියුණු කරගත්තා විය හැකිය. කෙසේ හෝ ගෝත්‍රය තුළ මෙයට වඩා වෙන යම් හුවමාරුවක් මේ අවධියේදී ඇති නොවූ අතර මෙයද විශේෂයක් විය. එඬේර ගෝත්‍ර ස්ථිරවීමෙන් පසු විවිධ ගෝත්‍ර අතර හුවමාරුව සඳහාත් එහි තවත් දුර දියුණුව සහ එය ස්ථිර ආයතනයක් ලෙස හැඩ ගැසීම සඳහාත් යහපත් තත්ත්වයන් ඇතිවූ බව පෙනේ. මුලින් මේ ගෝත්‍රිය හුවමාරුව වංශ නායකයින් මගින් සිදු කැරිණි. එහෙත්, කෙසේවුවද, හීලෑ සතුන් වෙනම දේපොල ලෙස වෙන්කිරීමට පටන් ගත් පසු පුද්ගලයින් අතර හුවමාරුව වඩ වඩාත් බලපෑමට පටන් ගත්තෙන්, අන්තිමේදී එය එකම ක්‍රමය බවට පත්විය. එඬේර ගෝත්‍ර තම අසල්වැසි ගෝත්‍රවලට හුවමාරුව සඳහා ඉදිරිපත් කළ ප්‍රධාන භාණ්ඩය වූයේ ගවයින්ය. අනික් සියලු භාණ්ඩවල වටිනාකම තක්සේරු කරන ලද්දේ ගවයින්ගෙනි. අනිකුත් භාණ්ඩවලට හුවමාරු වශයෙන් ලබාගැනීමට කැමති භාණ්ඩයද වූයේ ගවයාය. කොටින් කියතොත් මේ අවධියේදී, මුදල් වල ක්‍රියාකාරීත්වය ගවයින්ට ලැබුණු අතර උහු මුදල් මෙන් සේවය කළහ. භාණ්ඩ හුවමාරුව ආරම්භවීමත් සමගම මුදල් භාණ්ඩයක උවමනාව, සීඝ්‍රතාවය හා අවශ්‍යතාවය එසේ විය.

පහත් අවධියේදී ආසියාතික අශිෂ්ටයින් උයන්වතු වගාව නොදැන සිටියහයි සිතිය හැකිය. කෘෂිකාර්මික වගාකිරීමට මඟ හෙළිකළ මේ වගාවන් ඔවුන් අතර ආරම්භ වූයේ මැද යුගයේදී ය. ටුරේනියානු කඳු රටවල දේශගුණය අනුව දැඩි ශීත කාලයේදී ගවයින්ට කලින් පිළියෙළ කරගත් ආහාර නැතිව, එඬේර රැකියාව කළ නොහැකි විය. තෘණ වගා හා ධාන්‍ය වගාව ඒ අනුව කළ යුතුම දෙයක් විය. කළු මුහුදට උතුරින් පිහිටා ඇති ස්ටෙප්ස් තණ බිම්වලද මෙසේ විය. ගවයින් සඳහා ධාන්‍ය වගා කළ පසු ඉක්මණින්ම එය මිනිසාගේ ආහාරය බවටද පත්විය. වගා කරන ලද බිම් තවමත් ගෝත්‍ර දේපොල වශයෙන් පැවති අතර එය පළමුවෙන්ම වංශවලට පවරා තිබිණ. පසුව මෙය ගෘහ සමූහයනටද අවසානයේදී පුද්ගලයිනටද බෙදා දෙන ලදී. පුද්ගලයින්ට ඒවා පිළිබඳ අයිතිය සම්බන්ධයෙන් කිසියම් බලයක් මිස මීට වැඩි දෙයක් නොතිබුණ බව සිතිය හැකිය.

මේ අවධියේ කාර්මික ජයග්‍රහණ අතින් කරුණු දෙකක් විශේෂ වැදගත් කමක් දරයි. පළමුවැන්න රෙදි වියන යන්ත්‍රයයි, දෙවැන්න යපස් උණු කර ලෝහ ලබා ගැනීමයි. තඹ, බෙලෙක් සහ ඒවායේ මාත්‍රු, ලෝකඩ,

මේවා ඉතාම වැදගත් ලෝහ වර්ග විය. ලෝකඩ වලින් ප්‍රයෝජනවත් අවි සහ උපකරණ සාදගත හැකිවූ නමුදු ගල් අවි ඉවත නොදැමිණි. මෙය කළ හැකිවූයේ යකඩ වලට පමණකි, එහෙත් ඔවුහු යකඩ නිපදවන සැටි තවම නොදැන සිටියහ. ආභරණ හා සැරසිළි සඳහා රන් හා රිදී පාවිච්චි කිරීමට පටන් ගැනිණි. එවකට වුවද මේවා තඹ හා ලෝකඩ වලට වඩා බොහොසෙයින්ම වටිනා ද්‍රව්‍ය විය.

ගවයින් ඇති කිරීම, කෘෂිකර්මාන්තය, ගෘහමය හස්ත කර්මාන්තය යනාදී සියලුම අංශවල නිෂ්පාදනය වැඩිවීම නිසා තම ජීවිකාව කරගෙනයාමට අවශ්‍ය ප්‍රමාණයට වඩා වැඩි ප්‍රමාණයක් නිපැදවීමට මිනිස් ශ්‍රමයට පුළුවන් විය. මේ අතරම වංශයේ හෝ ගෘහමය සමූහයේ හෝ තනි පවුලක හෝ සාමාජිකයින්ගේ දෛනික වැඩ ප්‍රමාණය වැඩි විය. ශ්‍රම ශක්තියේ වැඩිවීමක් අභිමත විය. මෙය යුද්ධය මගින් සපයා ගත හැකි වූ අතර යුද්ධවලදී අල්ලා ගත්තවුන් වහලුන් බවට පත්කරන ලදී. මේ පොදු ඓතිහාසික තත්ත්වයන් යටතේ පළමුවැනි විශාල සමාජමය ශ්‍රම විභජනය, ශ්‍රම පලදාව වැඩිකිරීමෙන්, එනම් ධනය හා නිෂ්පාදන ක්ෂේත්‍රය විශාල කිරීමෙන් අවශ්‍යයෙන්ම කරගෙන ගියේ වහල් ක්‍රමය විසිනි. පළමුවැනි විශාල සමාජමය ශ්‍රම විභජනය නිසා සමාජය පංති දෙකකට බෙදිණි. ස්වාමිවරුන් හා වහලුන් හෝ සූරාකන්නන් හා සූරාකෑමට භාජන වූවන් යනුවෙනි.

ගෝත්‍රයේ හෝ වංශයේ පොදු දේපොල වශයෙන් පැවති ගව බැටළු රංචු ගෘහ මූලිකයින්ගේ පෞද්ගලික දේපොල බවට පත්වූයේ කවදාද කෙසේද යන්න අපි මේ වන තුරු නොදනිමු. එහෙත් මෙය ප්‍රධාන වශයෙන් මේ අවධියේදී සිදුවූවා විය යුතුය. සතුන් රංචු හා අනෙකුත් අළුත් වස්තු පවුල තුළ විප්ලවයක් ඇති කළේය. ජීවිකාව කරගෙන යාම පුරුෂයින්ගේ ස්ථාවර කාර්‍යයක් විය. එම නිසා නිෂ්පාදනයේ අයිතිය හා මාධ්‍යයද ඔව්හු සතුවූහ. සතුන් රංචු ඇතිකිරීම ජීවිකාව සඳහා කළ නව මාධ්‍යයක් වූයෙන් මුලින් සතුන් හීලෑ කිරීමද, ඉන් පසු උන් ඇති දැඩි කිරීම පුරුෂයින් සතු කාරියක් විය. ඔහු සතුව සතුන් සිටි නිසා උන් හුවමාරු කොට භාණ්ඩ සහ වහලුන් ලබාගත්තේය. නිෂ්පාදනයේ ප්‍රතිඵලයක් වශයෙන් ලබන අතිරික්තය පුරුෂයාට ලැබිණි. ස්ත්‍රිය එය භුක්ති විඳීමේදී කොටස් කරුවෙකු වූවද එහි අයිතිය පිළිබඳ කොටස් කරුවෙකු නොවූවාය. ''ම්ලේච්ඡ'' රණශූරයාට හා දඩයක්කාර යාට, පළමුවැනි තැන ස්ත්‍රියට දෙමින් ගෙදරදී දෙවැනි තැන ලබා ගනිමින් සතුටුවීමට සිදුවිය. ''මෘදු'' එඬේරා තම ධනය උපයෝගී කර ගනිමින් ස්ත්‍රිය දෙවැනි තැනට ඇද දමා, පළමුවැනි තැනට පැන ගත්තේය. ඇයට දුක් ගැනවිලි ඉදිරිපත් කළ නොහැකි විය. පවුල තුළ ශ්‍රම විභජනය විසින් ස්ත්‍රිය හා පුරුෂයා අතර දේපොල බෙදීම විධිමත් කැරිණි. මේ ශ්‍රම විභජනය නොවෙනස්ව එසේම පැවතිණි. එහෙත් පවුලට පිටතින් ඇති ශ්‍රම විභජනය වෙනස්වූ නිසා පැරණි ගෘහමය සබඳතාවය උඩු යටිකුරු කොට පෙරළා දමන ලදී. ගෘහය තුළ ස්ත්‍රිය ආධිපත්‍යය දැරූ ඒ ගෘහමය වැඩ වලට සීමා වීම නිසාම දැන් ගෘහය තුළ පුරුෂයාට ආධිපත්‍යය පැවරිණි. ජීවිකාව කරගෙන යාම සඳහා පුරුෂයා කරන වැඩ සමග සසඳා බලන විට, ස්ත්‍රියගේ ගෙදර වැඩ වැදගත් කමින් තොරවිය. ජීවිකාව කරගැනීම අතිශයින්ම වැදගත්වූ අතර ගෙදර වැඩ කිරීම එතරම් වැදගත් කටයුත්තක් නොවීය. සමාජමය වශයෙන් ඵලදායී වැඩවලින් ස්ත්‍රිය ඈත් කර තිබෙන තුරු, පෞද්ගලික වන ගෙදර වැඩ වලට පමණක් ඇය සීමාකර තිබෙන තුරු ස්ත්‍රියගේ විමුක්තිය හා ස්ත්‍රී පුරුෂ සමානත්වය ලබා ගත නොහැකිවා පමණක් නොව එය එම තත්ත්වයේම පවතිනු ඇත. විශාල සමාජමය පරිමාණයක් මත නිෂ්පාදනයට සහභාගී වීමට හැකිවූ දට, ඉතාම අඩු කාලයක් යොදා ගෙදර වැඩ කිරීමට හැකිවූ දට ස්ත්‍රියගේ විමුක්තිය ලබාගත හැකි වනු ඇත. විශාල වශයෙන් ස්ත්‍රීන්ට සහභාගී වීමට අවස්ථාව සලසනවා පමණක් නොව, ඇත්ත වශයෙන්ම එසේ කිරීමට කැඳවන්නාවූද, යටත් පිරිසෙයින් පෞද්ගලික ගෙදර වැඩ පවා ප්‍රසිද්ධ කර්මාන්තයක් බවට පෙරළීමට වැර දරන්නාවූද සමකාලීන විශාල පරිමාණ කර්මාන්තයෙන් පමණකි, මෙය කළ හැක්කේ.

ගෘහය තුළ පුරුෂයා අධිපති බව අත් කර ගැනීම නිසා ඔහුගේ ස්වාධිපත්‍යයට එදිරිව තිබූ අවසාන අවහිරයද නැතිව ගියේය. මව් අයිතිය අහෝසි කර දැමීමද, පිය අයිතිය ඉදිරිපත් කිරීමද, යුගලන පවුලේ සිට ඒක භාර්යා වරතය දක්වා ක්‍රම ක්‍රමයෙන් පරිවර්තනය වීමද නිසා මේ ස්වාධිපත්‍යය ස්ථිර වූ අතර එය චිරස්ථායී විය. පැරණි වංශ පිළිවෙත මේ නිසා උල්ලංඝණය වූ අතර ඒක භාර්යා වරතය සහිත පවුල වංශයට තර්ජනය කරන බලයක් මෙන් නැගී සිටියේය.

අනිත් පියවර අප අසභ්‍යත්වයේ උසස් අවධියට ගෙන එයි. සියලුම සභ්‍ය ජනතාව විසින් සිය වීර යුගය පසුකර යන්නේ මේ අවධියෙනි. මෙය යකඩ අසිපතේ යුගයයි, එමෙන්ම යකඩ නඟුලේ සහ පොරොවේ යුගයයි. යකඩ, මිනිසාගේ සේවකයා බවට පත්විය. ඉතිහාසයේ අවසාන වශයෙන් විප්ලවවාදී වැඩ කොටසක් ඉටු කළ අමු ද්‍රව්‍ය අතුරෙන් අතිශයින්ම වැදගත් අමුද්‍රව්‍යය යකඩය — මෙය මෙසේ වනුයේ අර්තාපල් අතහැර දැමුවොත්ති. විශාල වශයෙන් ගොවිතැන් කිරීමටද වගාව සඳහා විශාල කැලෑ පෙදෙස් හෙළි කිරීමටද යකඩ පාවිච්චි කිරීම නිසා හැකි විය. ගල් හෝ වෙනත් කිසියම් ලෝහයක් තියුණු බව හා ශක්තිය අභිබවන ආයුධයක් ඒ නිසා හස්ත කර්මාන්ත කරුවන් අතට පත්විය. මෙය සිදුවූයේ ක්‍රම ක්‍රමයෙනි. පළමුවෙන් නිපැදවූ යකඩ ලෝකඩ වලටත් වඩා මෘදු

විය. ඒ අනුව ගල් අවි අහෝසි වී ගියේද ක්‍රම ක්‍රමයෙනි. හිල්ඩෙබ්‍රාන්ඩ් ගීතයෙහි පමණක් නොව 1066 දී ඇතිවූ හැස්ටිංග්ස් යුද්ධයේදී ද ගල් පොරොව පාවිච්චි කරන ලදී. ප්‍රගතිය නොවැලැක්විය හැකි දෙයක් විය. බාධා අඩුවූ අතර ප්‍රගතිගාමී දියුණුව වඩාත් වේගවත් විය. ගල් හෝ ගඩොලින් හෝ සැදූ ගෙවල්ද ඒ වටා කොත් හා පවුරු සහිත ප්‍රාකාරද වලින් සමන්විත නගරය ගෝත්‍රවල හෝ ගෝත්‍ර සම්මේලනවල මධ්‍ය ස්ථානය විය. ගොඩනැගිලි ශිල්පයේ සීඝ්‍ර දියුණුවක් ඇතිවිය. එහෙත් එය වැඩෙන උවදුරක නිමිත්තක් වූ අතර ආරක්ෂා යෙදීමද අවශ්‍ය විය. ධනය ඉක්මණින් වැඩි විය, එහෙත් එය පුද්ගලයින් සතු ධනය විය. වඩ වඩාත් දියුණු වෙමින් පැවැති රෙදි විවීම, ලෝහ ශිල්පය ආදී කර්මාන්ත විවිධත්වයෙන් හා කලාත්මක උසස් බවින් යුක්තවීමට පටන් ගති. දැන් කෘෂිකර්මය, ධාන්‍ය පමණක් නොව මෑ, බෝංචි ආදි වර්ගවලට අයත් එළවළුද පළතුරුද සපයන්නට විය. තෙල් වර්ග හා වයින් වර්ග සෑදීමද දැනගන්නා ලදී. මෙවැනි විවිධ ක්‍රියාවන් එක් පුද්ගලයෙකු විසින් කළ නොහැකි තත්ත්වයක් ඇතිවිය. දෙවැනි මහා ශ්‍රම විභජනය ඇතිවිය: හස්ත කර්මාන්තය කෘෂිකර්මයෙන් වෙන්කරන ලදී. නිෂ්පාදනයේ නොකඩවා වැඩීම සහ ඒ සමගම ශ්‍රම ඵලදාව වැඩිවීමද නිසා මිනිස් ශ්‍රම ශක්තියේ වටිනාකම වැඩිවිය. මීට පෙර අවධියේ ක්‍රමයෙන් වැඩී ආ, විරල සාධකයක් වූ වහල් ක්‍රමය දැන් සමාජ ක්‍රමයේ අවශ්‍ය කොටසක් විය. වහලුන් තවත් දුර හුදු ආධාර කරුවන් නොවීය. වහලුන් කාණ්ඩ වශයෙන් ගොවි පළවල හා වැඩ පළවල වැඩ කිරීමට සඳහා යොදවන ලදී. නිෂ්පාදනය කෘෂිකර්මාන්තය හා කර්මාන්තය වශයෙන් විශාල අංශ දෙකකට වෙන්වී බෙදීයාම යාම නිසා හුවමාරුව සඳහා නිපැදවීම එනම් හුවමාරු භාණ්ඩ නිපැදවීම ඇතිවිය. ඒ සමගම අභ්‍යන්තර සහ ගෝත්‍ර සීමා අසල පමණක් නොව විදේශ අතරද වෙළඳාම ආරම්භවිය. මේ සියල්ලම අතිශය නොදියුණු තත්ත්වයක තිබිණි. වටිනා ලෝහ වර්ග මුදල් භාණ්ඩය වශයෙන් අනුග්‍රහයක් ලැබුවේය. එහෙත් එය කාසි මෙන් අච්චු ගසා නොතිබුණු අතර බර අනුව හුවමාරු කර ගන්නා ලදී.

නිදහස් පුරවැසියා සහ වහලා අතර ඇති වෙනසට පොහොසතා සහ දුප්පතා අතර ඇති වෙනසද එකතු කරන ලදී. අළුත් ශ්‍රම විභජනයක් සමගම සමාජය පංතිවලට අළුතෙන් බෙදීමද ඇතිවිය. ගෘහ මූලිකයින්ගේ ධනය එකිනෙකට වෙනස්වීම නිසා ඒ වන තුරු සමහර තැන්වල තිබූ පැරණි කොමියුනිස්ට්වාදී ගෘහමය සමූහයන් කැඩී බිඳී ගියේ ය. සමූහය වෙනුවෙන් ඉඩම් වගා කිරීමද මේ නිසා අහෝසි විය. වගා ඉඩම් පවුල් කීපයකගේ ප්‍රයෝජනය සඳහා පළමුව තාවකාලික වශයෙන්ද පසුව චිරස්ථායි ලෙසද වෙන්කරන ලදී. යුගලන පවුලේ සිට ඒක භාර්යා විරතය දක්වා



පරිවර්තනය වීමත් සමගම එකවරම සහ ක්‍රම ක්‍රමයෙන් සම්පූර්ණ පෞද්ගලික අයිතිය දක්වා පරිවර්තනය විය. පෞද්ගලික පවුල සමාජයේ ආර්ථික ඒකකය බවට පත්විය.

ජනගහණයේ ඝනත්වය වැඩිවීම නිසා අභ්‍යන්තර හා බාහිර වශයෙන් වඩාත් කිට්ටු සමගියක් ඇතිකර ගැනීම අවශ්‍ය විය. හැම තැනම බන්ධු ජන ගෝත්‍රවල සම්මේලනයක් අවශ්‍ය විය. ඉක්මණින්ම එම ගෝත්‍රවල ඒකාබද්ධ වීමක් ඇතිවිය. ඉන්පසු වෙන් වෙන්වූ ගෝත්‍ර පෙදෙස් ජනතාවගේ එකම පෙදෙසක් බවට පත්විය. ජනතාවගේ යුද්ධ නායකයා—rex, basileus, thiudans — නැතිවම බැරි නිත්‍ය නිලධාරියකු බවට පත් විය. මහජන සබය නොතිබුණු තැන්වල එය පිහිටුවන ලදී. යුද්ධ නායකයා මණ්ඩලය සහ මහජන සබය ප්‍රජාතන්ත්‍රවාදී සංවිධානයේ ක්‍රියාකාරී අංශයන් විය. යුද්ධය සහ යුද්ධ සංවිධානය සඳහා වැඩකිරීම ජනතාවගේ ස්ථිර කාර්යයක් වූ නිසා යුද්ධමය ප්‍රජාතන්ත්‍රවාදයක් ඇතිවිය. අසල් වැසියන්ගේ ධනය නිසා ගිජු සිත් උපදවාගත් මිනිස්සු ධනය අත්පත් කරගැනීම ජීවිතයේ ප්‍රධාන දෙයක් ලෙස සිතූහ. එළදායි වැඩ වෙනුවට කොල්ල කෑම ලෙහෙසි පමණක් නොව උදර කටයුත්තක් ලෙසද සැලකූහ. පෙර ආක්‍රමණය නිසා පළිගැනීමක් සඳහා හෝ කුඩා පෙදෙසක් විශාල කර ගැනීම සඳහා හෝ යුද්ධ කළද දැන් එය කොල්ලකෑම සඳහාම පමණක් යොදා ගත් අතර එය ස්ථිර වෘත්තියක් බවටද පත්විය. ආරක්ෂක පවුරු සහිත අළුත් නගර වටා ශක්තිමත් බලකොටු ගොඩනගන ලද්දේ නිකමට නොවේ. ඒවායේ විවරවූ අගල් වංශ සංස්ථිතියේ අවසානය කියා පෑ අතර කොත් මුදුන් සභ්‍යත්වය දක්වා පැතිර ගොස් තිබිණි. අභ්‍යන්තර කටයුතුද එවැනිම වෙනස්වීමකට මුහුණ පෑවේය. චෞර යුද්ධ නිසා යුද්ධ නායකයින්ගේ හා උප නායකයින්ගේ බලය වැඩිවිය. සිරිතක් වශයෙන් එකම පවුලකින් තෝරා පත් කරගැනීම විශේෂයෙන්ම පිය අයිතිය ඇතිකිරීමෙන් පසු ක්‍රම ක්‍රමයෙන් උරුමය අනුව පත්වීම දක්වා පරිවර්තනය විය. එය පළමුව ඉවසනලදී, පසුව ඉල්ලා සිටින ලදී, අවසානයේදී බලෙන් උදුරාගන්නා ලදී. මේ අනුව පරම්පරාවෙන් උරුමවන රජකමට හා ප්‍රභූත්වයට පදනම දමන ලදී. මේ අන්දමට ජනතාව තුළ තිබූ වංශමය සංස්ථිතියේ මුල් උදුරා දමන ලදී. වංශවල, සහෝදරත්වවල, සහ ගෝත්‍රවල මුළු මහත් වංශ සංස්ථිතිය සම්පූර්ණ විරුද්ධ පැත්තට පරිවර්තන කැරිණි. තමන්ගේ වැඩ කටයුතු නිදහස් ලෙස කරගැනීමේ ගෝත්‍ර සංවිධානයක සිට අසල් වැසියන් කොල්ලකෑමේ හා පාගා දැමීමේ සංවිධානයක් දක්වා එය වෙනස් විය. එයට අනුරූපව ජනතාවගේ කැමැත්ත ප්‍රකාශ කළ එහි ඉන්ද්‍රියයන් තම ජනතාව පාලනය කිරීම සහ පාගාදැමීම සඳහා වූ ස්වාධීන ඉන්ද්‍රියයන් බවට පරිවර්තනය විය. ධනලෝභීත්වය නිසා වංශයේ සාමාජිකයින්

පොහොසතුන් හා දුප්පතුන් වශයෙන් දෙකට නොබෙදිණි නම් "වංශයක් තුළ දේපොල පිළිබඳ වෙනස්කම් විසින් සමූහයේ උවමනාවන් වංශයක සාමාජිකයින් අතර ප්‍රතිවිරුද්ධත්වයක් දක්වා වෙනස්" (මාක්ස්) නොකෙරිණි නම්, වහල්බවේ වැඩීම විසින් ජීවිකාව සඳහා රැකියාවක් කිරීම කොල්ලකෑමට වඩා අපකීර්තිමත් දෙයක් ලෙස හංවඩු නොගැසිණි නම් මෙය මෙසේ නොසිදු වනු ඇත.

* * *

මෙය අප සභ්‍යත්වයේ එළිපත ළඟටම ගෙනෙයි. මේ අවධිය ශ්‍රම විභජනය තවත් දුර දියුණු කළේය. පහත්ම අවධියේදී මිනිසුන් නිපැදවූයේ තමන්ගේ හදිසි අවශ්‍යතාවයන් සඳහාය; අතිරික්තයක් අහම්බෙන් ලබාගත් විට ඉඳහිට කෙරෙන භාණ්ඩ හුවමාරුවකට සීමාවිය. අසභ්‍යත්වයේ මැද අවධියේදී එඬේරුන්ට දේපොල වශයෙන් ගවයින් සිටි බවත්, මේ සතුන් රංචු සෑහෙන තරම් විශාල නම් ඔවුන්ගේ අවශ්‍යතාවයනට වඩා වැඩි අතිරික්තයක් ස්ථිරවම උපයාගත හැකි වූ බවත් පෙනී යයි. එඬේරුන් සමග ම සතුන් රහිත නොදියුණු ගෝත්‍ර පැවති අතර මේ දෙකොටස අතර ශ්‍රම විභජනයක් ඇති විය, ඒ අනුව උරෙනුර ගැටී වැඩ කළ නිෂ්පාදන අවධි දෙකක් වූ අතර එය නිත්‍ය හුවමාරුවක් සඳහා තත්ත්වයන් ඇති කළේය. අසභ්‍යත්වයේ උසස් අවධිය විසින් කෘෂිකර්මාන්තය හා හස්ත කර්මාන්තය අතර තවත්දුර ශ්‍රම විභජනයක් ඇති කරන ලදී. මෙහි ප්‍රතිඵලයක් වශයෙන් විශේෂයෙන්ම හුවමාරුව සඳහා ඇති භාණ්ඩ ප්‍රමාණය දිගටම වැඩිවූයෙන් පුද්ගලයන් අතර ඇතිවූ හුවමාරුව සමාජයේ ජීවමය අත්‍යාවශ්‍යතාවයක් දක්වා ඉහළ නැංගේය. ස්ථාපිතවූ ශ්‍රම විභජනයන් හැම එකක්ම වැඩිකොට ශක්තිමත් කළ සභ්‍යත්වය, විශේෂයෙන්ම ගම හා නගරය අතර ,ඇති ප්‍රතිපක්ෂභාවය උත්සන්න කරවමින් (පුරාණයේදී මෙන් නගරය ගම් මත ආර්ථික ආධිපත්‍යය ඇති කිරීමෙන් නැතිනම් මැද යුගයේදී ගම් නගර මත එවැනි ආධිපත්‍යයක් ඇති කරමින්),එයටම ආවේණික වූ සහ තීරණාත්මක වැදගත්කමක් ගෙන දෙන ශ්‍රම විභජන තෙවැනි කොටසක් එකතු කළේය: නිෂ්පාදනයට සහභාගි නොවූ නමුදු විශේෂයෙන්ම භාණ්ඩ හුවමාරුවෙහි යෙදුණු පංතියක් එය බිහි කළේය. ඔවුහු වෙළෙන්දෝය. මීට ඉහත ඇතිවූ සියලු පංතිවල ආකූල හැඩයන් නිෂ්පාදනය සමග සම්බන්ධව තිබිණ. ඒවා නිෂ්පාදනයෙහි යෙදී සිටියවුන් කළමනාකරුවන් හා නිපදවන්නන් හැටියට හෝ විශාල පරිමාණයක් මත සහ කුඩා පරිමාණයක් මත නිපදවන්නන් හැටියට හෝ බෙදිණ. නිෂ්පාදනයෙහි සහභාගි නොවී, නිෂ්පාදනය පාලනය කිරීම සමස්තයක් වශයෙන් අල්ලාගැනීම සහ ඔවුන්ගේ පාලනයට නිපදවන්නන් යටපත් කර ගන්නාවූ පංතියක් පළමුවැනි වරට බිහිවිය. නිෂ්පාදකයින් කොටස් දෙකක් අතරේ අත්‍යාවශ්‍යක තැරැව්කාරී ක්‍රියාකලාපයක් ඉටුකරන මේ පංතිය දෙපාර්ශ්වයම සූරාකෑමෙහි නිරත වූහ.

නිෂ්පාදකයින් කරදරයෙන් හා හුවමාරු කිරීමේදී ඇතිවන පාඩුවලින් බේරාගැනීමේද ඔවුන්ගේ නිෂ්පාදිතයනට ඈත වෙළඳ පොලවල් සෙවීමේද මුවාවෙන්, ඒ අනුව සමාජයේ ඉතාම ප්‍රයෝජනවත් පංතිය බවට පැමිණීමේ මුවාවෙන්, පරපුටුවන් පංතියක් පැන නැගී, නියම සමාජමය චාටු කාරයින් වන මොවුන් අතිශයින්ම නොවැදගත් සේවයන් සඳහා ත්‍යාගයක් වශයෙන් රට තුළ හා පිටරටවල නිෂ්පාදනයේ ඉතාම සරු කොටස උකහා ගනී, ඉක්මණින්ම අති විශාල ධනයක් හා එයට සරිලන සමාජමය තත්ත්වයක් ඇති කර ගනී. මේ හේතුව නිසාම සභ්‍ය කාලය තුළදී වඩ වඩාත් ගරුත්වයක් හා නිෂ්පාදන පරිපාලනය මත වැඩි වැඩියෙන් බලපෑමට තරම් ඉරණමක් ඇති මොව්හු අවසාන වශයෙන් ඔවුන්ගේම නිෂ්පාදනයක් වන වාරමය වාණිජ අර්බුදයක් ඇති කරති.

අප සාකච්ඡාවට භාජන කරන අවධියේදී යෞවන වෙළඳ පංතියට තම අනාගතය ඉදිරිපත් කරන විශාල දේ ගැන සැකයක් පවා නොවීය. එහෙත් එය හැඩයක් ගත් අතර එය අත්‍යාවශ්‍ය දෙයක් බවට පත්විය. මේ සමගම ලෝහමය කාසි, අච්චු ගසන ලද කාසි භාවිතා වන්නට පටන් ගති. ඒ සමගම නිෂ්පාදකයා හා නිෂ්පාදිත දෑ නිෂ්පාදනය නොකරන්නකු විසින් පාලනය කරනු ලැබීමේ නව මාධ්‍යයක් බිහිවිය. සියලුම භාණ්ඩ තමන් තුළ සඟවාගෙන සිටින භාණ්ඩයන්ගේ භාණ්ඩය සොයා ගන්නා ලදී සිතූ පමණින් තමා කැමති හා අභිමත ඕනෑම දෙයක් පරිවර්තන කිරීමේ මන්ත්‍රය සොයා ගන්නා ලදී. මේ භාණ්ඩය සතු පුද්ගලයා නිෂ්පාදන ලෝකය පාලනය කළේය, අන් අයට වඩා එය සතුව තිබුණේ කාටද? වෙළෙන්දටය. ඔහු ළඟ මුදල් විරතය ආරක්ෂාව ලැබුවේය. සියලුම භාණ්ඩ හා ඒ නිසා සියලු භාණ්ඩ නිපදවන්නන් මුදල් ඉදිරියේ දණ ගැසිය යුතුය යන්න ගැන ඔහු අනික් අයට අවබෝධ කර දුන්නේය. ධනයේ මේ මූර්තිය සමග සසඳා බලන විට ධනයේ අනිකුත් සියලු රූපයන් හුදු අවතාර පමණක් බව හෙතෙම ප්‍රායෝගිකව ඔප්පු කොට පෙන්වූයේය. මුල් අවධියේදී තරම් මුදල් බලය මේතරම් ආදි කල්පික රළු බවක් සහ ප්‍රචණ්ඩ භාවයක් අන් කවර කලෙකවත් නොපෙන්විය. මුදල් වලට භාණ්ඩ විකිණීමත් සමගම මුදල් ණයට දීම පොලී අය කිරීම අයුතු පොලී ගැනීමත් ඇතිවිය. පැරණි ඇතැන්ස්හි හා රෝමයේ තරම් අනුකම්පා විරහිත ලෙස හා අසරණ ලෙස ණය ගැත්තා අධික පොලී අය කරන ණය හිමියාගේ දෙපා ළඟට ඇද දමන නීති පසුකලෙක නොවීය. ආර්ථික බලකිරීමට බාහිරව පොදු නීතිය ලෙස මේ දෙකෙහිම එය පැන නැගිණි.

පොහොසතුන් හා දුප්පතුන් වශයෙන් දෙකට නොබෙදිණි නම් ''වංශයක් තුළ දේපොල පිළිබඳ වෙනස්කම් විසින් සමූහයේ උවමනාවන් වංශයක සාමාජිකයින් අතර ප්‍රතිවිරුද්ධත්වයක් දක්වා වෙනස්'' (මාක්ස්) නොකෙරිණි නම්, වහල්බවේ වැඩීම විසින් ජීවිකාව සඳහා රැකියාවක් කිරීම කොල්ලකෑමට වඩා අපකීර්තිමත් දෙයක් ලෙස හංවඩු නොගැසිණි නම් මෙය මෙසේ නොසිදු වනු ඇත.

* * *

මෙය අප සභ්‍යත්වයේ එළිපත ළඟටම ගෙනෙයි. මේ අවධිය ශ්‍රම විභජනය තවත් දුර දියුණු කළේය. පහත්ම අවධියේදී මිනිසුන් නිපැදවූයේ තමන්ගේ හදිසි අවශ්‍යතාවයන් සඳහාය; අතිරික්තයක් අහම්බෙන් ලබාගත් විට ඉඳහිට කෙරෙන භාණ්ඩ හුවමාරුවකට සීමාවිය. අසභ්‍යත්වයේ මැද අවධියේදී එඬේරුන්ට දේපොල වශයෙන් ගවයින් සිටි බවත්, මේ සතුන් රංචු සෑහෙන තරම් විශාල නම් ඔවුන්ගේ අවශ්‍යතාවයනට වඩා වැඩි අතිරික්තයක් ස්ථිරවම උපයාගත හැකි වූ බවත් පෙනී යයි. එඬේරුන් සමග ම සතුන් රහිත නොදියුණු ගෝත්‍ර පැවති අතර මේ දෙකොටස අතර ශ්‍රම විභජනයක් ඇති විය, ඒ අනුව උරෙනුර ගැටී වැඩ කළ නිෂ්පාදන අවධි දෙකක් වූ අතර එය නිත්‍ය හුවමාරුවක් සඳහා තත්ත්වයන් ඇති කළේය. අසභ්‍යත්වයේ උසස් අවධිය විසින් කෘෂිකර්මාන්තය හා හස්ත කර්මාන්තය අතර තවත්දුර ශ්‍රම විභජනයක් ඇති කරන ලදී. මෙහි ප්‍රතිඵලයක් වශයෙන් විශේෂයෙන්ම හුවමාරුව සඳහා ඇති භාණ්ඩ ප්‍රමාණය දිගටම වැඩිවූයෙන් පුද්ගලයන් අතර ඇතිවූ හුවමාරුව සමාජයේ ජීවමය අත්‍යාවශ්‍යතාවයක් දක්වා ඉහළ නැංගේය. ස්ථාපිතවූ ශ්‍රම විභජනයන් හැම එකක්ම වැඩිකොට ශක්තිමත් කළ සභ්‍යත්වය, විශේෂයෙන්ම ගම හා නගරය අතර ,ඇති ප්‍රතිපක්ෂභාවය උත්සන්න කරවමින් (පුරාණයේදී මෙන් නගරය ගම් මත ආර්ථික ආධිපත්‍යය ඇති කිරීමෙන් නැතිනම් මැද යුගයේදී ගම් නගර මත එවැනි ආධිපත්‍යයක් ඇති කරමින්) ,එයටම ආවේණික වූ සහ තීරණාත්මක වැදගත්කමක් ගෙන දෙන ශ්‍රම විභජන තෙවැනි කොටසක් එකතු කළේය: නිෂ්පාදනයට සහභාගි නොවූ නමුදු විශේෂයෙන්ම භාණ්ඩ හුවමාරුවෙහි යෙදුණු පංතියක් එය බිහි කළේය. ඔවුහු වෙළෙන්දෝය. මීට ඉහත ඇතිවූ සියලු පංතිවල ආකූල හැඩයන් නිෂ්පාදනය සමග සම්බන්ධව තිබිණ. ඒවා නිෂ්පාදනයෙහි යෙදී සිටියවුන් කළමනාකරුවන් හා නිපදවන්නන් හැටියට හෝ විශාල පරිමාණයක් මත සහ කුඩා පරිමාණයක් මත නිපදවන්නන් හැටියට හෝ බෙදිණ. නිෂ්පාදනයෙහි සහභාගි නොවී, නිෂ්පාදනය පාලනය කිරීම සමස්තයක් වශයෙන් අල්ලාගැනීම සහ ඔවුන්ගේ පාලනයට නිපදවන්නන් යටපත් කර ගන්නාවූ පංතියක් පළමුවැනි වරට බිහිවිය. නිෂ්පාදකයින් කොටස් දෙකක් අතරේ අත්‍යාවශ්‍යක තැරැව්කාරී ක්‍රියාකලාපයක් ඉටුකරන මේ පංතිය දෙපාර්ශ්වයම සූරාකෑමෙහි නිරත වූහ.



නිෂ්පාදකයින් කරදරයෙන් හා හුවමාරු කිරීමේදී ඇතිවන පාඩුවලින් බේරාගැනීමේද ඔවුන්ගේ නිෂ්පාදිතයනට ඈත වෙළඳ පොලවල් සෙවීමේද මුවාවෙන්, ඒ අනුව සමාජයේ ඉතාම ප්‍රයෝජනවත් පංතිය බවට පැමිණීමේ මුවාවෙන්, පරපුටුවන් පංතියක් පැන නැගී, නියම සමාජමය චාටු කාරයින් වන මොවුන් අතිශයින්ම නොවැදගත් සේවයන් සඳහා ත්‍යාගයක් වශයෙන් රට තුළ හා පිටරටවල නිෂ්පාදනයේ ඉතාම සරු කොටස උකහා ගනී, ඉක්මණින්ම අති විශාල ධනයක් හා එයට සරිලන සමාජමය තත්ත්වයක් ඇති කර ගනී. මේ හේතුව නිසාම සභ්‍ය කාලය තුළදී වඩ වඩාත් ගරුත්වයක් හා නිෂ්පාදන පරිපාලනය මත වැඩි වැඩියෙන් බලපෑමට තරම් ඉරණමක් ඇති මොව්හු අවසාන වශයෙන් ඔවුන්ගේම නිෂ්පාදනයක් වන වාරමය වාණිජ අර්බුදයක් ඇති කරති.

අප සාකච්ඡාවට භාජන කරන අවධියේදී යෞවන වෙළඳ පංතියට තම අනාගතය ඉදිරිපත් කරන විශාල දේ ගැන සැකයක් පවා නොවීය. එහෙත් එය හැඩයක් ගත් අතර එය අත්‍යාවශ්‍ය දෙයක් බවට පත්විය. මේ සමගම ලෝහමය කාසි, අච්චු ගසන ලද කාසි භාවිතා වන්නට පටන් ගති. ඒ සමගම නිෂ්පාදකයා හා නිෂ්පාදිත ද නිෂ්පාදනය නොකරන්නකු විසින් පාලනය කරනු ලැබීමේ නව මාධ්‍යයක් බිහිවිය. සියලුම භාණ්ඩ තමන් තුළ සඟවාගෙන සිටින භාණ්ඩයන්ගේ භාණ්ඩය සොයා ගන්නා ලදී සිතූ පමණින් තමා කැමති හා අභිමත ඕනෑම දෙයක් පරිවර්තන කිරීමේ මන්ත්‍රය සොයා ගන්නා ලදී. මේ භාණ්ඩය සතු පුද්ගලයා නිෂ්පාදන ලෝකය පාලනය කළේය, අන් අයට වඩා එය සතුව තිබුණේ කාටද? වෙළෙන්දටය. ඔහු ළඟ මුදල් විරතය ආරක්ෂාව ලැබුවේය. සියලුම භාණ්ඩ හා ඒ නිසා සියලු භාණ්ඩ නිපදවන්නන් මුදල් ඉදිරියේ දණ ගැසිය යුතුය යන්න ගැන ඔහු අනික් අයට අවබෝධ කර දුන්නේය. ධනයේ මේ මූර්තිය සමග සසඳා බලන විට ධනයේ අනිකුත් සියලු රූපයන් හුදු අවතාර පමණක් බව හෙතෙම ප්‍රායෝගිකව ඔප්පු කොට පෙන්වූයේය. මුල් අවධියේදී තරම් මුදල් බලය මේතරම් ආදි කල්පික රළු බවක් සහ ප්‍රචණ්ඩ භාවයක් අන් කවර කලෙකවත් නොපෙන්විය. මුදල් වලට භාණ්ඩ විකිණීමත් සමගම මුදල් ණයට දීම පොලී අය කිරීම අයුතු පොලී ගැනීමත් ඇතිවිය. පැරණි ඇතැන්ස්හි හා රෝමයේ තරම් අනුකම්පා විරහිත ලෙස හා අසරණ ලෙස ණය ගැත්තා අධික පොලී අය කරන ණය හිමියාගේ දෙපා ළඟට ඇද දමන නීති පසුකලෙක නොවීය. ආර්ථික බලකිරීමට බාහිරව පොදු නීතිය ලෙස මේ දෙකෙහිම එය පැන නැගිණි.

භාණ්ඩ හා වහලුන්ගෙන් යුත් ධනය හැරණු විට, මුදල් ධනය හැරණු විට ඉඩම් ධනයද ඇතිවීමට පටන් ගති. මුල් කාලයේදී පුද්ගලයින්ට ලැබුණු ඉඩම් ඔප්පු දැන් කොතරම් හොඳින් ස්ථිර දෙයක්වී ද යත්, මේ ඉඩම් ඔවුන්ට පරම්පරාගත උරුමය අනුව ලැබිණි. එයට පෙර කාලයේදී ඔවුන්ට ලබාගැනීමට උවමනාවූ අතිශයින්ම සාධාරණ දෙය වූයේ ඔවුන්ගේ ඉඩම් ගැන වංශ සංවිධාන සමූහය ඉල්ලා සිටි අයිතිය ය. මේ හිමිකම ඔවුන්ට බාධාවක් විය. ඔවුන් මේ බාධාවෙන් මුදවා හරින ලදී. එහෙත් ඉක්මණින්ම ඔවුන්ගේ අළුත් ඉඩම්වලින්ද මිදිණි: සම්පූර්ණ, නිදහස් ඉඩම් අයිතිය, අසීමිත අබාධිත අයිතිය අදහස් කළේය, එපමණක් නොව අන්‍යයෙකුට පවරාදීමේ හැකියාවද ඇහවිය. වංශයට ඉඩම් අයත්ව තිබූ තාක් කල් එවැනි හැකියාවක් නොවිය. එහෙත් අළුත් ඉඩම් හිමියා වංශයට හා ගෝත්‍රයට අයත් ප්‍රධාන ඔප්පුව ඉරා දැමූ විට, ඔහු එතෙක් කල් අඛණ්ඩ ලෙස ඉඩමට බැඳ තැබූ බැම්මද කඩා දැමුවේය. එහි තේරුම කුමක්ද යන්න ඉඩම් පිළිබඳ පෞද්ගලික දේපල හිමිත්වයත් සමගම එකවරම මුදල් සොයාගැනීම නිසා ඔහුට පැහැදිලි විය. විකිණිය හා ඇප තැබිය හැකි භාණ්ඩයක් බවට ඉඩම් පත්විය. ඉඩම් පිළිබඳ පෞද්ගලික අයිතිය ඇතිවීමත් සමගම උකස් තැබීමද ආරම්භ විය (ඇතැන්ස් බලන්න). විවාහ නොවූ ස්ත්‍රීන් හා විවාහවූ පුරුෂයන් අතර ඇතිවන කාම සම්භෝග සහ ගණිකා වෘත්තිය ඒක භාර්යා විරතයේ අග එල්ලී ගත්තාක් මෙන්ම ඉඩම් අයිතියට, උකස් තැබීමද එල්ලී ගත්තේය. නිදහස්, සම්පූර්ණ අනිකකුට පවරා දිය හැකි ඉඩම් හිමිකම සඳහා තෝ කෑ මොර ගැසුවෙහිය, මෙන්න දැන් තොපට එය ඇත — tu l'as voulu* ජෝජ් ඩැන්ඩෙන්!

එක් අතකින් කුඩා පංතියක් අත සීඝ්‍ර ලෙස ධනය, සංකේන්ද්‍රණ ගතවීම හා මධ්‍යගත වීම සමග වාණිජමය ප්‍රාසාරණය, මුදල්, අධික පොලිය, ඉඩම් සහිත දේපොල හා උකස් තැබීම ඇතිවූ අතර, අනිත් අතින් බහුජනතාවගේ දුගී දුප්පත් බව වැඩිවීම සහ හිඟන්නන්ගේ සංඛ්‍යාව වැඩිවීමක්ද ඇතිවිය. ධන හිමි නව ප්‍රභුවරුන්ගේ තත්ත්වය මුල සිටම පැරණි ගෝත්‍රික ප්‍රභුවරුන්ගේ තත්ත්වය සමග නොගැලපුනු හෙයින්, පසුකී කොටස පසුතලයට තල්ලු කරදමන ලදී (ඇතැන්ස්හි, රෝමයේදී, ජර්මනුන් අතර). ධනය අනුව නිදහස් මිනිසුන් පංතිවලට බෙදීමත් සමගම විශේෂයෙන්ම ග්‍රීසියේ වහලුන්ගේ සංඛ්‍යාව** අතිශයින්ම විශාල විය. මුළු මහත්

---

* — තෝ එයට කැමති වූයෙහිය. — සංස්කාරක.

** ඇතැන්ස්හි වහලුන්ගේ සංඛ්‍යාව 121 පිටුව බලන්න. කොරින්ත්හි නගරයේ උච්චතම අවධියේදී වහලුන්ගේ සංඛ්‍යාව 4.60.000 විය. ඇජිනාහි 4.70.000 ක් විය. මෙය නිදහස් නාගරිකයින්ගේ සංඛ්‍යාව මෙන් දස ගුණයකි. [එංගල්ස්ගේ සටහනකි].



සමාජයේම අධිව්‍යුහයේ පදනම සැදී තිබුණේ මේ වහල් බලහත්කාර ශ්‍රමය මතය.

මේ සමාජමය විප්ලවයේ ප්‍රතිඵලයක් වශයෙන් වංශමය සංස්ථිතියට මොනවා වූයේද යන්න අපි සොයා බලමු. එහි ආධාරය නොමැතිව වැඩී සිටි අළුත් බලය ඉදිරියේ එය අසරණ විය. වංශයක හෝ ගෝත්‍රයක හෝ සාමාජිකයින් එකට එක්වී එකම ප්‍රදේශයක ජීවත් විය යුතුය, එහි එකම පදිංචි කරුවන් ඔවුන් පමණක් විය යුතුය යන්න මත එම වංශ සංස්ථිතිය රඳා පැවතිණි. බොහෝ කාලයක සිට මෙය අවසානයට පත් විය. වංශ හා ගෝත්‍ර හැම තැනම එකට මිශ්‍රවිය. පුරවැසියන් අතර හැමතැනම වහල්ලුද, යැපෙන්නෝ සහ විදේශිහුද ජීවත්වූහ. අසභ්‍යත්වයේ මැද අවධියේ අවසානයේදී ලබාගත් ජංගමශීලීත්වයෙන් තොර ජීවිතයට, වාණිජමය කටයුතු, රැකියාව මාරු කිරීම, ඉඩම් මාරුකිරීම නිසා ඇතිවූ ජංගමශීලීත්වය සහ වාසස්ථානය වෙනස්කිරීම විසින් වරින් වර බාධා ඇතිවිණි. වංශමය සංවිධානයේ සාමාජිකයිනට තම පොදු කටයුතු ගැන කතිකා කර ගැනීම සඳහා රැස්වීම අපහසු දෙයක් විය. වැදගත්කමින් අඩු දේවල්ද, ආගමික උත්සව වැනි දේ පොදුවේ කළද, එහිද උදාසීනත්වයක් දක්නට තිබිණි. තෝරාගන්නා ලද වංශ සංවිධාන විසින් සොයාබැලිය යුතු ඉල්ලීම් සහ උවමනාවන් හැරුණු විට, ජීවත්වීම සඳහා කරන යැපීමේ විප්ලවීය තත්ත්වයක් ඇතිවීම සහ සමාජමය ව්‍යුහයේ වෙනසක් ඇතිවීමද නිසා අළුත් උවමනාවන් සහ ඉල්ලීම්ද ඇතිවිය. මේ අළුත් උවමනාවන් සහ ඉල්ලීම් පැරණි වංශමය පිළිවෙතට පටහැණි වූවා පමණක් නොව, හැම අතින්ම එයට බාධා කරන්නටද විය. ශ්‍රම විභජනය විසින් ඇති කරන ලද හස්ත කර්මාන්ත කරුවන්ගේ කණ්ඩායම්ද, ගමට විරුද්ධව නගරයේ විශේෂ උවමනාවන්ද විසින් අළුත් සංවිධානයන් ඉල්ලා සිටින ලදී. එහෙත් මේ හැම කණ්ඩායමක්ම එකිනෙකට වෙනස් වංශ, සහෝදරත්ව හා ගෝත්‍රවලින් සමන්විත වූවා පමණක් නොව, ඒවා වල පිටස්තර පුද්ගලයෝද වූහ. මේ නිසා අළුත් සංවිධාන අවශ්‍යයෙන්ම වංශමය සංස්ථිතියට පිටතින් හැඩ ගැසිය යුතු විය, එයට සමාන්තර සහ එබැවින් එයට පටහැණි ඒවා විය. එකම ගෝත්‍රයක් හා වංශයක් තුළ පොහොසතා හා දුප්පතා අතරද පොලීකාරයා හා ණය ගැත්තා අතරද ඇති ප්‍රතිවිරුද්ධ උවමනාවල හැප්පීම උච්චස්ථානය දක්වා වර්ධනය වූ අතර හැම වංශ සංවිධානයක් තුළම මෙය දැනෙන්නට විය. රෝමයේ මෙන් බලයක් වීමේ ශක්තියක් ඇති වංශ සමාගමයන්ට පිටස්තර ලේනෑකම් සහිත වංශ හා ගෝත්‍රවලට උකහා ගැනීමට බැරි තරමට විශාල වූ අළුත් පදිංචි කරුවෝ රාශියක් සිටියහ. වංශ සංවිධාන මේවාට මුහුණ පෑවේ, ඒවා විශේෂ වරප්‍රසාද සහිත සංවිධාන හැටියට සලකාගෙනය. මුලදී ස්වාභාවික ලෙස වැඩුණු ප්‍රජාතන්ත්‍රවාදය

පිළිකුල් සහගත ප්‍රභූ පෙළැන්තියක් දක්වා පරිවර්තනය විය. අභ්‍යන්තර ප්‍රතිවිරුද්ධතාවයන් නොදත් සමාජයක් සඳහා සාදන ලද වංශමය සංස්ථිතිය, එවැනි සමාජයකින් ඔබ්බට වැඩී ගියේය. මහජන මතය හැරුණු විට එයට බලාත්කාර කම් පාන බලයක් නොවීය. ආර්ථික තත්ත්වයන්ගේ පැවැත්මේ බලය නිසා සමාජය නිදහස් මිනිසුන් හා වහලුන් වශයෙන් බෙදී ගියාවූද, සූරාකන පොහොසතුන් හා සූරාකනු ලබන දුප්පතුන් වශයෙන් බෙදී ගියාවූද, මේ ප්‍රතිවිරුද්ධතාවයන් සමථයකට පත්කිරීමෙහි අසමත් වූ නමුදු ඒවා තව තවත් උග්‍ර කරවන්නාවූද, සමාජයක් ඇතිවිය. එවැනි සමාජයක් පැවැතිය හැක්කේ එකිනෙකට විරුද්ධව ගෙනයන අවිච්ඡින්න විවෘත අරගලයකින් හෝ එකිනෙකට විරුද්ධව සටන් කරන පංතිවලට උඩින් සිටින්නේ යැයි බොරුවට කියාපාන, එම පංතිවල විවෘත අරගලය පාගා දමමින් වැඩිම වශයෙන් එය ආර්ථික ක්ෂේත්‍රයට පමණක් සීමා කොට එයට ඊනියා නීත්‍යානුකූල හැඩයක් ගෙනදෙන තුන්වැනි බලයක පාලනයක් මගින් හෝ පමණකි. වංශ සංස්ථිතිය එහි ප්‍රයෝජනවත් කාල-සීමාවට වඩා වැඩි කලක් පැවතිණි. ශ්‍රම විභජනයෙන් සහ එහි ප්‍රතිඵලයක් වන සමාජය පංතිවලට බෙදීමෙන් එය බිඳ දමන ලදී. එහි ස්ථානය රජය විසින් අයත් කර ගන්නා ලදී.

* * *

වංශමය සංස්ථිතියේ නටබුන් මත රජය ගොඩනැඟූ ප්‍රධාන ක්‍රම තුන වෙන් වෙන් වශයෙන් අපි විභාග කර බැලීමු. ඉතාමත්ම පිරිසුදු, අතිශයින්ම ආචීර්ණ කල්පික ක්‍රමය නියෝජනය කළේ ඇතැන්ස් නගරයයි. වංශමය සමාජය තුළ වර්ධනය වූ පංති ප්‍රතිවිරුද්ධතාවයන් නිසා කෙළින්ම ඇතැන්ස් රජය බිහිවිය. රෝමයේ වංශමය සමාජය පොදු ජනයා අතර පැන නැගි විශේෂ ප්‍රභූ ළෙන්තියක් වූයෙන්, පොදු ජනයා එයට පිටස්තරව සිටි අයිතිවාසිකම් රහිත යුතුකම් පමණක් ඇති කොටසක් විය. පොදු ජනයාගේ ජයග්‍රහණය විසින් පැරණි වංශමය සංස්ථිතිය සිඳ බිඳ දමන ලදී. එහි නටබුන් මත ගොඩනගන ලද රජය විසින් වංශමය ප්‍රභූ පෙළන්තිය හා පොදු ජනතාව උකහා ගන්නා ලදී. රෝම අධිරාජ්‍යය ජයගත් ජර්මනුන් අතර රජය ඇති වූයේ, වංශ සංස්ථිතියට පාලනය ගෙනයාමට ඉඩකඩ නැති, විශාල විදේශීය පෙදෙස් අල්ලා ගැනීමේ නියම ප්‍රතිඵලය වශයෙනි. මේ ජයග්‍රහණය නිසා පැරණි ජනගහනයට එදිරිව බරපතළ සටනක් හෝ වඩාත් දියුණු ශ්‍රම විභජනයක් හෝ නොවූ අතර ජයග්‍රාහකයින් හා පරාජය-වූවන් එකම තරමේ සංවර්ධන අවධියක සිටීමද නිසා සමාජයේ ආර්ථික පදනමද පෙර මෙන්ම පැවතිණ. මේ හේතූන් කරණකොටගෙන වෙනස් හා භෞමික රූපයකින්ද, චිහ්න සංස්ථිතියක් වශයෙන්ද, පසු කාලයේදී දුර්වල ආකාරයකට කුලීන පවුල් මගින් ඩිත්මාර්ෂෙන්හි* මෙන් ගොවි පවුල් මගින්ද එය තාවකාලිකව පුණර්ජීවයක් ලබා ගනිමින්ද වංශමය සංස්ථිතියට අවුරුදු සිය ගණනක් තිස්සේ පැවතෙන්නට පුළුවන් විය.

එම නිසා රජය සමාජයට පිටින් පටවන ලද බලයක් නොවේ. එය "ආචාර ධර්මය සංකල්පයේ යථාර්ථයක්ද", හෙගල් කියන පරිදි, "හේතු ඵලයේ චිත්ත රූපය හා යථාර්ථයද" නොවන්නේය. එය සමාජයේ එක්තරා සංවර්ධන අවධියක ඵලයකි, මේ සමාජය, නොවිසඳිය හැකි එහිම ප්‍රතිවි-රෝධීතාවයක පැටලී සිටින බවද, සමාජය විසින් පළවා හැරීමෙහි අපොහොසත් පරස්පර විරෝධී ප්‍රතිපක්ෂභාවයට වැටී සිටින බවද පිළිගැනීමකි. එහෙත් මේ ප්‍රතිපක්ෂභාවයන්, එකිනෙකට පටහැණි ආර්ථික උවමනාවන් ඇති පංතීන් නිෂ්ඵල අරගලයකින් ඔවුනොවුන් හා සමාජය විනාශ නොකරනු වස්, මේ අරගලයේ සැර බාල කිරීමටත්, සාමයේ සීමාවන් තුළ එය තැබීමටත්, සමාජයට ඉහළින් සිටින්නා සේ පෙනෙන බලයක් අවශ්‍ය විය. මේ බලය සමාජය තුළින් පැන නැංගේය. එහෙත්, සමාජයට ඉහළින්, තබමින්, වැඩියෙන් සමාජයට පටහැණි වෙමින් සිටින එම බලය රජයයි.

පැරණි වංශමය සංවිධානයට ප්‍රතිවිරුද්ධව රජය පළමුවෙන්ම තම පුරවැසියන් භෞමික වශයෙන් බෙදුවේය. අප දුටු පරිදි, ලේ නෑකම් අනුව එක්කර තබනු ලැබූ වංශ සමාගමය නොසෑහෙන්නට වූයේ සිය සාමාජිකයින් එක්තරා පෙදෙසක පදිංචි විය යුතුය යන ඇඟවීම නිසාය. මේ බැම්ම කැඩී ගියේ බොහෝ කලකට පෙරය. පෙදෙස එසේම පැවතිණි. එහෙත් මිනිස්සු ජංගමශීලි වූහ. ඒ නිසා භූමිය අනුව බෙදීම පටන් ගැනීම වශයෙන් ගණන් ගනු ලැබේ. වංශය හා ගෝත්‍රය නොසළකා තමන් පදිංචි ස්ථානය අනුව පොදු අයිතිය හා යුතුකම් ඉටුකිරීමට පුරවැසියනට අවසර දෙන ලදී. ප්‍රදේශය අනුව පුරවැසියන්ගේ මේ සංවිධානය සියලු රජයනට පොදු වූවකි. එය අපට ස්වාභාවික දෙයක් සේ පෙනී යන්නේ එබැවිනි. ඇතැන්ස්හි හා රෝමයේ වංශ අනුව පැවති සංවිධානය වෙනුවට මෙය ඉදිරිපත් කිරීම සඳහා කොතරම් දීර්ඝ හා අසීරු අරගලයක් ගෙනගියේද යන්න අපි දුටුවෙමු.

දෙවැන්න, ජනතාව අවිගත් හමුදවක් ලෙස සංවිධාන වීම සමග තවදු-රටත් ඒකීභූත නොවන ප්‍රසිද්ධ බලයක් ස්ථාපිත කිරීම. මේ විශේෂ බලය අවශ්‍ය වූයේ පංතිවලට භේද වී යාමෙන් පසු ජනතාවගේ ස්වයං ක්‍රියාකාරී අවිගත් සංවිධානයක් පිහිටුවීම නොකළ හැකි දෙයක් වූ බැවිනි. වහල්ලුද

---

* වංශවල ස්වභාවය ගැන ඉතා කිට්ටු අදහසක් ඇතිව සිටි පළමුවැනි ඉතිහාසඥයා නීබුර්ය. ඩිත්මාර්ෂෙන් පවුල් ගැන ඔහුගේ දැනීමට ඔහු ණය ගැතිය. ඔහු යාන්ත්‍රික වශයෙන් කොපිකර ගත් වැරදි කෙසේ හෝ මෙයට අයත්ය. [එංගල්ස්ගේ සටහනකි].

මේ ජනතාවට අයත් වූහ. ඇතැන්ස්හි පුරුසියෝ 90.000 ක්, වහලුන් 365.000 කට එදිරිව වරප්‍රසාද ලැබූ පන්තියක් සෑදූහ. වහලුන්ට එදිරිව වංශාධිපතීන්ගේ ප්‍රසිද්ධ බලයකි, ඇතැන්ස්හි මහජන යුද්ධ හමුදව. කෙසේවුවද,අප ඉහත සඳහන් කළ පරිදි පුරවැසියන් පාලනය කිරීම සඳහා පොලිස් හමුදවක් ඇති කිරීමද අවශ්‍ය විය. හැම රජයකම මේ ප්‍රසිද්ධ බලය තිබිණි. මෙය අවිගත් මිනිසුන්ගෙන් පමණක් නොව, වංශමය සමාජය කොහෙත්ම නොදත්, ද්‍රව්‍යමය අමතර කොටස් වලින්ද, සිර ගෙවල් සහ බලාත්කාරකම් පෑමේ ආයතන වලින්ද යුක්ත විය. පංති ප්‍රතිවිරුද්ධතාවයන් තවම වර්ධනය නොවූ සමාජවලද, ඈත්වූ පෙදෙස්වලද, ඇමෙරිකා එක්සත් ජනපදයේ සමහර ප්‍රදේශවල සහ සමහර අවස්ථාවලදීද එය අතිශයින් නොවැදගත් හා අතිශයින්ම කුඩාද විය හැකිය. සමාජය තුළ පංති ප්‍රතිවිරුද්ධතාවය තියුණුවත්ම, යාබද රජයන් විශාලවත්ම, ඒවායේ ජනගහනය වැඩිවෙත්ම, කෙසේවුවද ප්‍රමාණානුකූලව එය ශක්තියෙන් වැඩේ. පංති සටන හා ජයගැනීමේ තරඟය, ප්‍රසිද්ධ බලය උච්චස්ථානයකට නංවා එය මුළු මහත් සමාජය හා රජය පවා ගිලදැමීමට තරම් තර්ජනයක් ඇති කර තිබෙන සැටි නූතන යුරෝපය දෙස බලන විට පෙනේ.

මේ ප්‍රසිද්ධ බලය නඩත්තු කිරීම සඳහා රට වැසියන්ගෙන් මුදල් හෙවත් අයබදු අය කිරීම අවශ්‍ය විය. මේවා වංශමය සමාජය කිසි දිනෙක නොදැන සිටියේය. එහෙත් අපි අද ඒවා ගැන සෑහෙන තරම් දනිමු. සභ්‍යත්වය වැඩි දියුණු වන විට මේ අයබදු ප්‍රමාණවත් නොවේ. පොරොන්දු පත්‍ර, ණය මුදල් කොන්ත්‍රාත්, මහජන ණය මුදල් රජය විසින් ඇති කරනු ලබයි. මේ ගැන පැරණි යුරෝපයටද යස කතා කිව හැකිය.

ප්‍රසිද්ධ බලයේ අයිතිය සහ අයබදු අය කිරීමට ඇති අයිතිය නිසා නිලධාරිහු සමාජයේ සංවිධාන ලෙස දැන් සමාජයට ඉහළින් සිටිති. වංශමය සංස්ථිතිය ලබාගත් නිදහස් ඉච්ඡානුගත ගරු සැලකිල්ල ඔවුන්ට ලබාගත හැකිවූවද ඔවුහු එයින් සෑහීමට පත් නොවූහ. සමාජයට විරුද්ධ බලයක් වන මොවුහු විශේෂ පරිශුද්ධ හා නොකෙලෙසිය යුතු සදචාරයක් ලෙස මේ ගරු සැලකිල්ල විශේෂ නීති මගින් බලය යොදවා ලබාගැනීමට ඉදිරිපත් වූහ. වංශමය සමාජයේ සියලු සංවිධානවලට අයත්ව තිබූ ආධිපත්‍යයට වඩා වැඩි ආධිපත්‍යයක් සභ්‍ය රජයක නීචතම පොලිස්කාරයා පවා ලබයි. එහෙත් සභ්‍ය සමාජයේ අතිශයින්ම බලසම්පන්න සහ ශ්‍රේෂ්ඨතම රාජ්‍ය පාලකයින් හෝ යුද්ධ නායකයින් අතිශයින්ම නිහතමාන වංශ නායකයාට ලැබුණු බලකිරීම් රහිතව සහ අවිවාදයෙන් ලැබෙන ගෞරවය නිසා ඔහුට ඊර්ෂ්‍යා කරනු ඇත. එකෙක් සමාජය මැද සිටී, අනිකාට සමාජයට පිටින් හා ඉහළින් කිසිවක් නියෝජනය කිරීමට සිදුවී ඇත.



රජය පැන නැඟුනේ ප්‍රතිවිරෝධී පංතිවල අරගල වළක්වාලීම සඳහාය, නමුත් ඒ අතරම එය පැන නැංගේ මේ පංතිවල සට්ටන මැදය, එය රීතියක් වශයෙන්, රජයේ මාධ්‍යය තුළින් දේශපාලනමය වශයෙන් බලපාන පංතිය බවට පත් වූයෙන් පැගෙන පංතිය යටපත් කිරීමට හා සූරාකෑමට අළුත් මාධ්‍යයන් ලබා ගන්නාවූ, අතිශයින්ම බලසම්පන්න ආර්ථික වශයෙන් ප්‍රබල පංතියේ රජය වන්නේය. ඒ අනුව පුරාණයේ රජය අන් හැමටම වඩා වහලුන් යටපත් කර තැබීම සඳහා වහල් හිමියන්ගේ රජය විය. ගොවි ප්‍රවේණිදසයින් හා දසයින් යටපත් කර තබාගැනීම සඳහා රදළ රජය කුලීනයන්ගේ සංවිධානය වූවාක් මෙන් සහ වැටුප් ශ්‍රමය ප්‍රාග්ධනය විසින් සූරාකෑම සඳහා නූතන නිනියෝජිත රජය සේවය කරන්නාක් මෙනි. යුද්ධ කරන පංති අතර තුලනතාවයක් ඇතිවීම නිසා රාජ්‍ය බලය එක්තරා කාලයකට ව්‍යාජ මධ්‍යස්ථ භාවයක් දරමින් එක්තරා දුරකට පංති දෙකෙන්ම ස්වාධීන බවක් පෙන්වන විරල අවස්ථා ඇත. කුලීනයන් හා පුරවැසි පංතිය අතර තුලනතාවයක් පවත්වමින් දහහත්වැනි සහ දහඅටවැනි සියවස් වලදී ගෙනගිය පරම රාජාණ්ඩු එසේ විය. ධනපතීන් නිර්ධනීන්ට එදිරිවද නිර්ධනීන් ධනපතීන්ට එදිරිවද කෙටවූ පළමුවැනි ප්‍රංශ අධිරාජ්‍යයේ බොනපාට් වාදයද, වඩාත් වැඩියෙන් දෙවැනි ප්‍රංශ අධිරාජ්‍යයේ බොනපාට් වාදයද එසේ විය. පාලනය කරනු ලබන්නන් හා පාලකයින් යන දෙකොටසම එක සමාන ලෙස හාස්‍යයට ලක් කරන මේ වර්ගයේ මෑත රඟපෑම බිස්මාක්ගේ නව ජර්මන් අධිරාජ්‍යයයි. ධනපතීන් හා කම්කරුවන් එකිනෙකාට විරුද්ධව කොටවන මේ රජය දුප්පත් වී සිටින ප්‍රසියානු ඉඩම් හිමි කුලීනයන්ගේ ප්‍රයෝජනය හා වාසිය තකා මේ දෙපක්ෂයම රවටයි.

ඓතිහාසික රාජ්‍යයන් වැඩි හරියක, පුරවැසියන්ගේ අයිතිවාසිකම් කොටස් කර තිබෙනුයේ ඔවුන් සතු ධනය අනුවය, රජය ඒ අනුව අහිමි පංතියට එදිරිව හිමි පංතිය ආරක්ෂා කිරීම සඳහා වූ සංවිධානයක්ය යන්න කෙළින්ම ප්‍රකාශ කරයි. දේපල හිමිකම අනුව ඇතැන්ස්හි හා රෝමයේ වර්ග කිරීමද එසේ විය. දේශපාලන බලයේ පෙළගැසීම ඉඩම් හිමි ප්‍රමාණයට අනුකූල වූ මැද යුගයේ රදළවාදී රජයේද එසේම විය. නූතන නියෝජිත්ව දරන රජයන් තුළ ඡන්ද බලය ලබාගැනීමේ සුදුසුකම් ලෙස එවැනි දේ ඇති බව පෙනේ. එහෙත් මේ දේපොල ප්‍රභේදවල දේශපාලන පිළිගැනීම කොහෙත්ම අවශ්‍ය නැත. ඊට ප්‍රතිකූල වශයෙන් එය රාජ්‍ය වර්ධනයේ පහත් අවධියක් පෙන්වා දෙයි. අප සමාජයේ නූතන තත්ත්වයන් යටතේ වැඩි වැඩියෙන් නොවැලැක්විය හැකි අවශ්‍යතාවයක් බවට පත්වීගෙන එන, නිර්ධනීන් හා ධනපතීන් අතර අවසාන තීරණාත්මක අරගලය සිදුවිය හැකි එකම උසස්තම රාජ්‍ය ක්‍රමය වන්නේ ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුවය.

එහෙත් මේ ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුව නිල වශයෙන් දේපොල පිළිබඳ වෙනස කොහෙත්ම දන්නේ නැත. මේ ක්‍රමය තුළ ධනය අනියම් ලෙස නමුදු ස්ථිර ලෙස ක්‍රියා කරන්නේ, එක් අතකින්, ඇමෙරිකාව චිරාගත නිදසුන පෙන්වන, ඍජු නිලධාරී දූෂණත්වය තුළින්ද, අනික් අතින්, මහජන ණය මුදල් කෙතරම් වැඩි වන්නේද යත්, ව්‍යාපාර පොල සිය මධ්‍යස්ථානය වශයෙන් පාවිච්චි කරමින් ප්‍රවාහණය පමණක් නොව නිෂ්පාදනයද සිය අත්වල කෙතරම් සංකේන්ද්‍රණගත කර ගන්නේද යත්, එතරම් පහසුවෙන් ඇති කළ හැකි ව්‍යාපාර පොල හා ආණ්ඩුව අතර මිත්‍රත්වයක් තුළිනි. මෑත ඇතිකළ ප්‍රංශ සමූහාණ්ඩුව මෙන්ම ඇමෙරිකා එක්සත් ජනපදයද මීට නිදසුනකි. පැරණි ස්විට්සර්ලන්තයද මේ අංශයට සෑහෙන පරිත්‍යාග කර ඇත. එහෙත් සර්වජන චන්දය නිසා ප්‍රීතිවන්නේ බිස්මාක්ද නැතිනම් බ්ලයිහ්රේඩර්ද යන්න කිසිවකුට කිව නොහැකි නව ජර්මන් අධිරාජ්‍යය සහ එංගලන්තය විසින් ව්‍යාපාර පොල හා ආණ්ඩුව අතර ඇතිකළ මේ සහෝදර සමගිය සඳහා ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුවක් අවශ්‍ය නැත. අවසාන වශයෙන් සර්වජන ඡන්දය මගින් ධන හිමි පංතිය කෙළින්ම පාලනය කරයි. පැගෙන පංතිය — මෙහිදී නිර්ධන පංතිය — තමන් නිදහස් කර ගැනීමට තවම සුදුසු තත්ත්වයක නොමැති බැවින්, එය බහුතර වශයෙන් දැනට පවතින සමාජ ක්‍රමය එකම හැකියාවකැයි සිතමින්, දේශපාලනමය වශයෙන් එය ධනපති පංතියේ වලිගය වන අතර එය එහි සීමාන්තික වාමාංශයද වන්නේය. කෙසේ වුවද, මේ පංතිය කොතරම් දුරට ස්වයං විමුක්තිය සඳහා මෝරන්නේද යත්, එම තම පක්ෂය ලෙස සංවිධාන වී, ධනපති නියෝජිතයින් නොව තමන්ගේම නියෝජිතයින් තෝරා පත්කර ගනු ඇත. ඒ අනුව සර්වජන ඡන්දය කම්කරු පංතිය මුහුකුරා ගිය බව හඳුන්වන සලකුණකි. නූතන රජය තුළ මෙයට වඩා වැඩි යමක් ලබාදීමට සර්වජන ඡන්දයට නොපුළුවන, නමුත් එය ප්‍රමාණවත්ය, සර්වජන ඡන්දය පිළිබඳ හැඟීම කම්කරුවන් අතර උච්චස්ථානයට නැඟී ගත් විට, ඔවුහුද ධනපතියෝද කුමක් කළ යුතුද යන්න දැනගනිත්.

රජය ඒ අනුව සදාකාලිකව පැවති එකක් නොවේ. රජය හා රාජ්‍ය බලය පිළිබඳ විකල්පනයක් නැති, රජය රහිත සමාජ පැවතිණි. සමාජය පංතිවලට බෙදීයාම නිසා ආර්ථික සංවර්ධනයේ එක්තරා අවධියකදී රජය පැන නැගි අතර එය මේ බෙදීම සමග අවශ්‍යයෙන්ම බැඳී ඇත. මේ පංතිවල පැවැත්ම අවශ්‍යතාවයක් නොවනවා පමණක් නොව, නිෂ්පාදනයට එය ස්ථිර බාධාවක් වී තිබෙන නිෂ්පාදන සංවර්ධන අවධියක් කරා අපි සීඝ්‍ර ලෙස එළඹෙමින් සිටිමු. මීට පෙර අවධිවලදී පැන නැගී කඩා වැටුණාක් මෙන්ම මේවාද නිරායාසයෙන්ම කඩා වැටෙනු ඇත. නිෂ්පාදකයින්ගේ නිදහස් හා සමාන සමාගමයක පදනමක් මත නිෂ්පාදනය සංවිධානය



කරන සමාජයක් මගින් මුළු මහත් රාජ්‍ය යන්ත්‍රයම එයට ඔබින ස්ථානයට එනම් පුරා වස්තු තැන්පත් කර ඇති කෞතුකාගාරයට යවා, එය චර්කාව හා ලෝකඩ පොරොව අසලින් තබනු ඇත.

* * *

සභ්‍යත්වය නම්, ශ්‍රම විභජනයත්, පුද්ගලයින් අතර හුවමාරුවත්, ඒ දෙක සම්බන්ධ කරන්නාවූ හුවමාරු භාණ්ඩ නිෂ්පාදනයත් ප්‍රසාරණය වී එතෙක් පැවැති සමාජයේ විප්ලවයක් ඇති කරවන සමාජ දියුණුවේ අවධිය ය.

ඉහත පැවැති සමාජයේ සියලු අවධි වල නිෂ්පාදනය අවශ්‍යයෙන්ම සාමූහික විය. එමෙන්ම විශාල හෝ කුඩා හෝ කොමියුනිස්ට්වාදී සමූහයන් තුළ ඍජු ලෙසම බෙදා හැරීමෙන් පරිභෝජනය කරන ලදී. ඉතා පටු සීමා තුළ මේ නිෂ්පාදනය සාමාන්‍යයෙන් කෙරිණ. එහෙත් අනුබන්ධිත ලෙස නිෂ්පාදකයෝ සිය නිෂ්පාදන ක්‍රියාදාමයේ සහ නිෂ්පාදිතයේ ස්වාමිවරු වූහ. නිෂ්පාදනයට වූයේ මොනවාද යන්න ඔවුහු දනිති. ඔවුහු එය පරිභෝජන කළහ, එය ඔවුන්ගේ අත් වලින් නොගිලිහිණි. මෙවැනි පදනමක් මත නිෂ්පාදනය ගෙන යන තුරු, එය නිෂ්පාදකයින්ගේ පාලනයෙන් පිටතට නොගියේය. සභ්‍යත්වය යටතේදී මෙන් නිති පතාම සහ නොවැළැක්විය හැකි ලෙස මේ නිෂ්පාදනය, නිෂ්පාදකයින්ට එදිරිව පුදුම, අභූත බලයක් ලෙස නැගී නොසිටියේය.

එහෙත් මේ නිෂ්පාදන ක්‍රියාදාමයට සෙමින් ශ්‍රම විභජනය රිංගා ගත්තේය. නිෂ්පාදනය හා භුක්තිවිඳීම පිළිබඳ පොදු ස්වභාවයට එය හතුරු විය. ඒ අනුව පුද්ගලයින් අතර හුවමාරුවට එය ඉඩකඩ ලබා දුන්නේය. මෙය කෙසේ වීදැයි අපි පිරික්සා බැලුවෙමු. ක්‍රම ක්‍රමයෙන් භාණ්ඩ නිෂ්පාදනය ප්‍රධාන විධිය බවට පත්විය.

හුවමාරු භාණ්ඩවල නිෂ්පාදනයත්, එනම් නිෂ්පාදකයාගේ පරිභෝජනය සඳහා නොව හුවමාරුව සඳහා කරන නිෂ්පාදනය සමග, නිෂ්පාදිතයන් අවශ්‍යයෙන්ම අතින් අත මාරු වේ. හුවමාරු ක්‍රියාදාමයේදී නිෂ්පාදකයා තම නිෂ්පාදනයෙන් ඈත්වෙයි. එයට වන්නේ කුමක්දැයි ඔහු තවදුරටත් නොදනී. නිෂ්පාදකයින් අතර අතරමැදියන් හැටියට මුදල් සහ ඒ සමගම වෙළෙන්දන් ඉදිරිපත් වෙත්ම හුවමාරු ක්‍රියාදාමය තව දුරටත් සංකීර්ණ වේ. නිෂ්පාදිතයේ අවසාන ඉරණම තව දුරටත් අස්ථිර වේ. වෙළෙන්දෝ සංඛ්‍යාවෙන් වැඩි වෙත්. එකෙක් අනිකා කරන්නේ කුමක්දැයි නොදනී. දැන් නිෂ්පාදිතය අතින් අත පමණක් නොව, වෙළඳ පොළෙන්, වෙළඳ පොළට මාරු වෙයි. තම ජීවන තත්ත්වයන්ගේ නිෂ්පාදිත

සම්භාරය, නිෂ්පාදකයින්ට තවදුරටත් පාලනය කළ නොහැකිය. වෙළෙන්-දන්වද එය නොලැබිණි. නිෂ්පාදිත දෑ සහ නිෂ්පාදනය අහඹුවට අසුවූ කෙළි බඩු විය.

එහෙත් අහඹුව අන්තර් සබඳතාවයන්ගේ එක් කොණක් පමණකි. අනිත් කොණ අවශ්‍යතාවය වශයෙන් හැඳින්වෙයි. දෛවය බලපාන ස්වභාවය තුළ, හැම විශේෂ ක්ෂේත්‍රයකම ක්‍රියා කරන අවශ්‍යතාවයක් හා ක්‍රමවත් බවක් ආවේණිකව තිබෙන බව මීට බොහෝ කලකට පෙර අපි පෙන්වා දුනිමු. ස්වාභාවික වූ දෙය සමාජයටද යහපත්ය. සමාජමය ක්‍රියාකාරීත්වය වැඩිවෙත්ම සමාජමය ක්‍රියාදාමයන් වැලක් මෙන් මිනිස් විඥානයට පාලනය කිරීමට බැරි, මිනිස් සීමාවලින් ඔබ්බට වැඩෙන, හුදු දෛවයට පමණක් ඉඩහැරීම වැඩි වන්නාක් මෙන් පෙනීයන, ස්වභාවික අවශ්‍යතාවයක් මෙන් මේ දෛවය බලපෑමේදී එහි විශේෂ හා සහජ නීතීන් වඩාත් බලපායි. එවැනි නියාමයන් නිෂ්පාදනය හා භාණ්ඩ හුවමාරුව පිළිබඳ අහම්බෙන් සිදුවන දේ පාලනය කරයි. මේ නියාමයට මුහුණපාන පෞද්ගලික නිෂ්පාදකයා හා හුවමාරු කරන්නා ඒවා පුදුම සහ මුලදී නොදත් බලවේගයන් හැටියට සිතති. මේවායේ ප්‍රකෘති ගති ඉතා අමාරු-වෙන් දැනගෙන අවබෝධ කරගත යුතුය. මේ නිෂ්පාදන ක්‍රමයේ විවිධ සංවර්ධන අවධිවලදී භාණ්ඩ නිෂ්පාදනයේ ආර්ථික නියාමයන් මඳක් වෙනස් වෙයි. ඒ කොයිහැටි වුවද, පොදු වශයෙන් සභ්‍යත්වයේ මුළු මහත් කාල පරිච්ඡේදයම මේ නියාමයන්ගේ බලපෑමට හසුවී ඇත. අද වන තුරු නිෂ්පාදිත භාණ්ඩය නිෂ්පාදකයාගේ ස්වාමියාය, අද වන තුරු සමාජ-යේ නිෂ්පාදන සමස්තය ක්‍රමවත් කර තිබෙනුයේ සාමූහිකව යොදගත් සැළැස්මක් අනුව නොව, ප්‍රකෘති බලවේගයන් සමග ක්‍රියා කරන, අවසාන වශයෙන්, කලින් කල ඇතිවන වාණිජමය අර්බුදවල කුණාටුවලින් ප්‍රකට-වන අන්ධ නියාමයන් අනුවය.

නිෂ්පාදන සංවර්ධනයේ ඈත අවධියකදීම මිනිස් ශ්‍රම ශක්තිය සමත් වූ සැටි ඉහතදී අපි දුටුවෙමු. නිෂ්පාදකයාගේ යැපීමට උවමනා ප්‍රමාණයට වඩා සැහෙන ප්‍රමාණයක් නිපදවීම සහ මේ අවධිය පොදු වශයෙන්, ශ්‍රම විභජනය සහ පුද්ගලයින් අතර භාණ්ඩ හුවමාරුව සමග එකට සිදුවූයේ කෙසේද යන්න අපි දුටුවෙමු. මිනිසාද භාණ්ඩයක් සහ මිනිසා වහලකු බවට හරවමින් මිනිස් ශ්‍රමය හුවමාරුකර ගැනීමට හා ප්‍රයෝජනය ගැනීමට පුළුවන යන මහා "සත්‍යය" සොයා ගැනීම එතරම් ඈත නොවීය. මිනිසුන් හුවමාරු කිරීමට පටන්ගත් අවධියේදී, මිනිසා යන්තම් භාණ්ඩ හුවමාරුව පටන් ගත්තා පමණකි. මිනිසාගේ රුචිය හෝ අරුචිය හෝ නොතකා ක්‍රියාශීලීත්වය නිෂ්ක්‍රියත්වයට පෙරළින.

සභ්‍ය යුගයේදී සම්පූර්ණ ලෙස වර්ධනය වූ වහල්භාවය සමගම සූරා-



කන සහ සූරාකනු ලබන පංතීන් හැටියට සමාජය දෙකඩ වී ගියේය. මේ දෙකඩ-වීම සභ්‍ය යුගයේදී අවිච්ඡින්නව පැවතියේය. පුරාතන ලෝකයට විශේෂවූ සූරාකෑමේ පළමුවැනි ක්‍රමය වහල්භාවය වේ. මෙය මැද යුගයේදී ප්‍රවේණිදාස ක්‍රමය වශයෙන්ද නූතන යුගයේදී වැටුප් ශ්‍රමයද වශයෙන්ද පවතී. සභ්‍යත්වයේ මහා යුග තුනට අයත් විශේෂ ස්වරූපයන් වන දාසත්ව-යේ ක්‍රම තුන මෙසේය. පළමුව විවෘත ලෙසද, අනතුරුව වෙස් වළාගනි-මින්ද වහල්භාවය එහි ස්ථිර සගයා විය.

සභ්‍යත්වය සමග ආරම්භවූ භාණ්ඩ නිෂ්පාදනයේ අවධිය ආර්ථික වශයෙන් සටහන් වූයේ: 1) ලෝහමය මුදල් සහ ඒ අනුව මුදල් ධනය පොළී සහ අධික පොළී අයකිරීම; 2) නිෂ්පාදකයින් අතර වෙළෙන්දන් අතරමැදියන් ලෙස ක්‍රියා කිරීම; 3) ඉඩම් පිළිබඳ පෞද්ගලික අයිතිය සහ උකස් තැබීම; 4) වහල් ශ්‍රමය නිෂ්පාදනයේ ව්‍යාප්තව පවතින ක්‍රමය වීම, ආදියෙනි. සභ්‍යත්වයට අනුරූපවූ පවුල් ක්‍රමය සහ ස්ත්‍රිය මත පුරුෂ ආධිපත්‍යය ඇති නියත ලෙසම ව්‍යාප්ත වන ඒකභාර්යා ව්‍රතයක් එයට යටින් ඇතිවීම සහ සමාජයේ ආර්ථික ඒකකය වශයෙන් පෞද්ගලික පවුල ඇතිවිය. සියලුම ආකෘතික කාලවලදී විශේෂයෙන්ම පාලක පංතියේ රජය වන්නාවූද, සියලුම අවස්ථාවන්හිදී පෑගෙන හා සූරාකනු ලබන පංතිය යටපත් කර දැමීම සඳහා අවශ්‍යයෙන්ම යන්ත්‍රයක්වූද, සභ්‍ය සමාජ-යේ ඒකාබද්ධ බලවේගය රජයයි. සභ්‍යත්වයේ අනිකුත් සලකුණු මෙසේය: එක් අතකින් සමාජයීය ශ්‍රම විභජනයේ සම්පූර්ණ පදනම හැටියට නගරය හා ගම අතර ඇති වෙනස්කම ස්ථිර කිරීම; අනිත් අතින්, තම මරණින් පසු වුවද, තමා කැමති පරිදි සිය දේපොළ පවරාදීම සඳහා අන්තිම කැමති පත්‍ර ලිවීමේ ක්‍රමයක් ආරම්භ වීම. පැරණි වංශමය සංස්ථිතියට කෙළින්ම එල්ල කළ පහරක් වූ මේ චාරිත්‍රය, සොලොන්ගේ කාලය වනතුරු ඇතැන්-සය නොදැන සිටියාය, රෝමයේ මෙය කලින්ම ක්‍රියාවට යෙදවිණි. එහෙත් කවද සිදුවීදැයි අපි නොදනිමු.* හොඳ අවංක ජර්මනුන්ට බාධාවක් නැතිව

* Lassale. "Das System der erworbenen Rechte" (උපාර්ජිත අයිති පිළිබඳ සූත්‍රය) යන කෘතියෙහි දෙවැනි කොටස තුළින් රෝම අන්තිම කැමති පත්‍රය රෝමය තරම්මැ පැරණියැයි කියා සිටී. "අන්තිම කැමති පත්‍රය" රහිත අවධියක් රෝම ඉතිහාසයේ කිසි දිනෙක නොවීය. පූර්ව රෝම ඉතිහාසයේ මිය ගියවුන්ට වැඳීමේ ව්‍රතය තුළින් මේ ක්‍රමය ඇතිවිය. පැරණි නිකායයේ දැඩි හෙගෙලියානුවාදියෙකු වූ ලස්සාල් රෝම නීති පිළිබඳ නිගමනයන්ට එළඹෙන්නේ රෝමන්වරුන්ගේ සමාජමය තත්ත්වයන් තුළින් නොව, "සමපේක්ෂණ විකල්පනය" තුළිනි. එ අනුව ඔහු සම්පූර්ණ ඓතිහාසික නොවන නිගමනයකට එළඹුණේය. එවැනිම සමපේක්ෂණ විකල්පන කෘතියක් මගින් දේපල පරිවර්තන කිරීම රෝම පරම්පරා උරුම ක්‍රමයේ අප්‍රධාන කාරියක් ලෙස ඔහු හඳුන්වා දීම ගැන පුදුම නොවිය

සිය දේපොල පල්ලියට පැවරීම සඳහා පූජකයින් විසින් මේ ක්‍රමය ජර්මනුන් අතර ඇති කරන ලදී.

පැරණි වංශමය සමාජයට නොකළ හැකිදේ, සභ්‍යත්වයේ පදනම වශයෙන් මේ සංස්ථිතිය විසින් කරන ලදී. එහෙත් එය එසේ කළේ මිනිසාගේ නීච ආශාවන් හා හැඟීම් පුබුදුවා ලීමෙනි, අනිකුත් සියලු ගුණාංගයන් යටපත් කොට එවා පමණක් වර්ධනය කරවීමෙනි. සභ්‍යත්වය ඇතිවූ පළමුවැනි දවසේ සිට අද දක්වාත් එහි ජංගමශීලි අධ්‍යාත්මික බලවේගය වී තිබෙනුයේ අමුම අමු කෑදර කමය. ධනය, තවත් ධනය, තව තවත් ධනය; සමාජමය; සමාජමය ධනය නොව අශෝභන පෞද්ගලික ධනය එහි එකම සහ නියත සාධකය විය. මේ පරමාර්ථය මුදුන් පමුණුවා ගැනීමේදී, එම ග්‍රහණයට විද්‍යා වර්ධනය සහ කලා සමෘධිය සහිත කාලයන් නැවත නැවතත් හසුවිණි නම්, එසේ වූයේ නූතන කාලයේදී ධනය ගොඩගැසීම පිළිබඳ ජයග්‍රහණයන් ඒවාවලින් තොරව කළ නොහැකි බැවිනි.

සභ්‍යත්වයේ පදනම එක් පංතියක් විසින් තවත් පංතියක් සූරාකෑම නිසා එහි සම්පූර්ණ සංවර්ධනය අවිච්ඡින්න පරස්පරවිරෝධී තාවයක් මත ක්‍රියාකාරි වේ. නිෂ්පාදනයේ හැම දියුණුවක්ම බහුතර සංඛ්‍යාව වන පැගෙන පංතියේ තත්ත්වයන් ඒ සමගම පහත වැටීමකි. එක් පංතියක හැම නව විමුක්තියක්ම තවත් පංතියක අළුත් පැගීමකි. මේ පිළිබඳව ඉතාම අගනා නිදසුන යන්ත්‍ර සූත්‍ර යෙදීමෙන් පෙන්වා දී ඇත. මෙහි ප්‍රතිඵල ඉතා හොඳින් වැටහී තිබේ. අප මීට පෙර දැක ඇති පරිදි අශිෂ්ටයින් අතර අයිතියෙහි හා යුතුකමෙහි වෙනසක් දකින්ට තරම් නොමැති අතර ඉතාමත්ම මන්දබුද්ධිය ඇති පුද්ගලයාට පවා මේවා අතර වෙනස්කම හා ප්‍රතිපක්ෂබව ලෙහෙසියෙන් අවබෝධ කර ගත හැකි වන සේ සියලුම අයිතිවාසිකම් මුළුමණින්ම වාගේ එක් පක්ෂයකටද සියලුම යුතුකම් සම්පූර්ණයෙන්ම වාගේ තවත් පක්ෂයටද සභ්‍යත්වය භාරකරයි.

එහෙත් එය විය යුතු ආකාරය එසේ නොවේ. පාලක පංතියට හොඳ දේ එම පංතිය පෙනීසිටින මුළු මහත් සමාජයටම හොඳ විය යුතුය. එමනිසා සභ්‍යත්වය ඉදිරියට යන්නේ කොතරම් දුරකටද, එතරම් දුරට එය විසින් අවශ්‍යයෙන්ම ඇති කරනු ලබන පාප කර්මයන් ආදරයේ කඩතුරාවකින් වසාදැමීමට සහ ඒවා අලංකාර කිරීමට නැතිනම් සභ්‍යත්වයේ පැවැත්ම නැතිකර ගැනීමට එයට සිදුවනු ඇත. කෙටියෙන් කියන්නේ නම්, ප්‍රකාශනය තුළින් කුළුගැන්වෙන — මීට ඉහත පැවැති සමාජ සහ

---

යුතුය. විශේෂයෙන් මුල් අවධියේ රෝම නීති වල මායාමතයන් ගැන ලස්සාල් පැහැදී සිටියාක් පමණක් නොව ඒවා උසස් ලෙස අගය කරයි. (එංගල්ස්ගේ සටහනකි)



සභ්‍යත්වයේ පළමුවැනි අවධිය පවා නොදන්නා — ව්‍යවහාරික කුහකකම් ඉදිරිපත් කිරීමය. සූරාකන පංතිය පැගෙන පංතිය සූරාකනු ලබන්නේ, සූරාකනු ලබන පංතියේ තනි සහ විශේෂ උවමනාව සඳහාය, සූරාකනු ලබන පංතිය මෙහි අගය තේරුම් නොගන්නේ නම්, කාලහකාරි වීමට පවා ඉදිරිපත් වන්නේ නම් එයින් ඔවුන් තම හිතවතුන් වන සූරාකන පංතිය කෙරෙහි මෘගලෙස කෙළෙහි ගුණ නොසැළකීමක් වෙයි.*

දැන් ඉතින් සභ්‍යත්වය ගැන මෝර්ගන්ගේ තීරණය ඉදිරිපත් කරමු: ''සභ්‍යත්වය ඇතිවීමෙන් පසු දේපොල වර්ධනය වීම කොතරම් විශාල වී ද යත්, එහි රූප කොතරම් විවිධාකාරීදයත්, එහි ස්වාමිවරුන්ගේ උවමනාව සඳහා කොතරම් බුද්ධිමත් ලෙස ඒවා පාලනය කිරීම සහ එය කොතරම් ප්‍රාසාරණයන් පාවිච්චි කරන්නේදයත්, ජනතාව අනුව බලන විට, එය පාලනය නොකළ හැකි බලයක් බවට පත්වී ඇත. තම නිර්මාණය ඉදිරියේ මිනිස් බුද්ධිය වික්ෂිප්ත වී සිටී. කෙසේවූවද, දේපොල මැඩ පාලනය කිරීමට සහ ආරක්ෂා කරනු ලබන දේපොල කෙරෙහි රජය දක්වන සබඳකම් සහ එමෙන්ම දේපොල හිමියන්ගේ අයිතිවාසිකම්වල සීමාවන් හා යුතුකම් විග්‍රහ කිරීමටත් මිනිස් බුද්ධිය නැගී සිටින කාලයක් ඇතිවනු ඇත. සමාජයේ උවමනාවන් පෞද්ගලික උවමනාවන්ට වඩා ශ්‍රේෂ්ඨය. මේ දෙකම සාධාරණ ලෙස හා අවිරෝධී ලෙස එකමුතු කළ යුතුය. අතීතයේදී මෙන්ම අනාගතයේදී ද මිනිස් ප්‍රගතිය නීතිය වීමට නම් මිනිස් වර්ගයාගේ අවසාන පරමාර්ථය හුදු දේපොල අයිතියට පමණක් සීමා නොවිය යුතුය. සභ්‍යත්වය පටන්ගත් පසු ගෙවී ගිය කාලය මිනිස් දිවියේ එක් අංශු මාත්‍රයක් පමණකි. එය අනාගත කාලය අනුව බලන විටද එමෙන්ම අංශු මාත්‍රයකි. දේපොල අයිතිය අවසානය හා පරමාර්ථය කරගත් ව්‍යාපාරයක් නැතිකර දැමීමට සමාජය ඉදිරිපත් වෙයි, මන්දයත් එවැනි ව්‍යාපාරයක් තුළ ස්වයං විනාශකාරී මූලිකාංග ගැබ්වී ඇති බැවිනි. ආණ්ඩුව තුළ ප්‍රජාතන්ත්‍රවාදය, සමාජය තුළ සහෝදරත්වය, අයිතිය හා

---

* මෝර්ගන්ගේ සහ මගේ කෘතීන් ළඟින්ම සභ්‍යත්වය විවේචනය කැරෙන පූරියේගේ මනහර කෘතීන් වලින් සමහර කොටස් සටහන් කිරීමට මම අදහස් කළෙමි. අවාසනාවක මහත මට ඒ සඳහා කාලවේලාවක් නොමැතිය. ඒක භාර්යා ව්‍රතය සහ ඉඩම් අයිතිය සභ්‍යත්වයේ ප්‍රධාන ස්වරූපයන් ලෙස හඳුන්වා දුන් පූරියේ එය ධනවතුන් විසින් දුප්පතුන්ට එදිරිව කරන ලද යුද්ධයක් ලෙස හැඳින්වීයැයි පෙන්වා දීමට පමණක් මම ඉදිරිපත් වෙමි. එකිනෙකට විරෝධී උවමනාවන් විසින් බෙදා වෙන් කොට තිබෙන අසම්පූර්ණ සමාජවල පෞද්ගලික පවුල් (les familles incohérentes) ආර්ථිකයන් හැටියට ඉතා ගැඹුරු ලෙස ඔහු තම කෘතීන් මගින් අගය කරන සැටි අපි දකිමු. (එංගල්ස්ගේ සටහනකි)

වරප්‍රසාදයවල සමානත්වය, විශ්ව, සර්වජන අධ්‍යාපනය, මේවා මීළඟ උසස් සමාජයේ පූර්ව ලකුණුය, මේවාට අත්දැකීම, බුද්ධිය හා දැනීම නොසැලී එක්වෙමින් පවතී. එය ඉපැරණි වංශවල නිදහසට, සමානත්වයට හා සහෝදරත්වයට උසස් ක්‍රමයකින් නව පණක් දීම වන්නේය.'' (මෝර්ගන්, ඉපැරණි සමාජය, 552 පිටුව)

1884 මාර්තු — ජූනි මාසවලදී එංගල්ස් විසින් ලියන ලදී.
1884 සූරිච්හි පළමුවරට කෘතියක් වශයෙන් ප්‍රසිද්ධ කරන ලදී.

## නාමාවලිය

අගසි (Agassiz) ලුයි ජාන් රුඩොල්ප් (1807—1873) — ස්විට්සර්ලන්ත ජාතික ප්‍රකෘති විද්‍යාඥයකි. සංචාරක යෙකි. 1846 සිට ඇමරිකා එක්සත් ජනපදවල ජීවත්විය. ස්වකීය ප්‍රකෘති — විද්‍යා මතවලදී අන්ත ප්‍රතිගාමීත්වයක් නියෝජනය කළේය. ඩාවින් වාදයේ සතුරෙකි. — පිටු 54.

අනක්‍රෙඔන් — ක්‍රි. ව. පෙර හයවැනි සිය වසරේ දෙවැනි භාගයේ වුසූ පුරාණ ග්‍රීක භාව කවියෙකි. — පිටු 79.

අනක්සාන්ද්‍රිද් (ක්‍රි. ව. පෙර හයවැනි සිය වසර) — ක්‍රි. ව. පෙර 560 සිට ඇරිස්ටෝනස් සමග සහපාලකයා වූ ස්පාර්ටාහි රජුය.

අමියාන් මර්සෙලීන් (ක්‍රි. ව. ≃ 332 ≃ 400) — රෝම ඉතිහාසඥයෙකි. ක්‍රි. ව. 96 සිට 378 දක්වා රෝම ඉතිහාසය ලියුවේය.

අලෙක්සාන්දර් (මෙසිඩෝනියානු), මහා ඇලෙක්සැන්ඩර් (ක්‍රි. ව. පෙර 356—323) — සුප්‍රසිද්ධ සෙන්පතියෙකි. — පිටු 95.

අරිස්ටිඩස් (ක්‍රි. ව. පෙර 540—467) — පුරාණ ග්‍රීකයේ දේශපාලනඥයෙකි, යුද්ධ නායකයෙකි. ඇතැන්ස්හි වහල් හිමි කුලී නයින්ගේ නියෝජිත-යෙකි.

අරිස්ටොපාන් (ක්‍රි. ව. පෙර 446—385)—පුරාණ ග්‍රීක නාට්‍ය කතු වරයෙකි. දේශපාලන තේමා අනුව උපහාස නාට්‍යය ලියුවේය. — පිටු 66.

අරිස්ටෝටල් (ක්‍රි. ව. පෙර 384—322) — ග්‍රීක දර්ශනවාදියෙකි. විශ්ව-කොෂ විද්‍යාඥයෙකි. විඥනවාදය සහ අපෝහවාදය අතර වැනෙන්නට විය. — පිටු 109.

අරිස්ටෝනස් ක්‍රි. ව. පෙර 574—520 දක්වා ස්පාර්ටාවේ රජ කම් කළේය. අනක් සන්ඩිස් සමග සහාග පාලනයකට හවුල් විය.

අර්ටක්සේර්ක්ස්වරු — අහෙමෙනීඩ් පරපුරට අයත් සුප්‍රසිද්ධ පර්සියානු රජවරුන් තිදෙනෙකුගේ පෙළපත් නාමයන්ය. I වැනි අර්ටක්සේර්ක්ස් ක්‍රි.ව.පෙර 465—425 දක්වා රජ කළේය.2 වැනි අර්ටක්සේර්ක්ස් 405—359 දක්වා රජ කළේය. 3 අර්ටක්සේර්ත්ස් 359—338 දක්වා රජ කළේය. — පිටු 129.

ඇප්පියස් ක්ලාව්ඩියස් (විපත ක්‍රි. ව. පෙර 448) — රෝම රාජ්‍ය පාලකයෙකි. නියෝජිත වරයෙකි (ක්‍රි. ව.පෙර 471—451). පණත් දෙළහ ඉදිරිපත් කළවුන්ගෙන් කෙනෙකි. ආඥදායක බලතල ලබාගැනීමට ඉදිරිපත් විය. — පිටු 123.

ඇස්කිලස් (ක්‍රි. ව. පෙර 525—456) — ග්‍රීක නාට්‍ය කතුවරයෙකි. සනාතනික ඛෙදවාචී නාට්‍යවල කතෘ වරයෙකි. — පිටු 11, 106, 107.

උල්පිලා (311—388) — බටහිර ගොතික් ආගමික හා දේශපාලන නායකයෙකි. රාජගුරු ප්‍රසාදි කෙනෙකි. ගොත් වරුන් ක්‍රිස්තියානි ධර්මයට නම්වා ගත්තේය. ගොතික් අක්ෂර හෝඩිය නිපදවා බයිබල ය ගොතික් බසට පෙරළීය. — පිටු 129.

එස්පිනස් (Espinas, A. V,) (1844—1922)— ප්‍රංශ දර්ශනිකයෙකි. ඉතිහාසඥයෙකි. පරිණාමවාදී න්‍යායයට පක්ෂ වූවෙකි. — පිටු 35, 37.

එව්රිපිඩස් (ක්‍රි. ව. පෙර 480—406) — ග්‍රීක නාට්‍ය කතුවරයෙකි. සනාතනික ඛෙදවාචික නාට්‍යවල කතෘවරයෙකි. — පිටු 66.

ඔඩැකර් (434—493 පමණ) — බටහිර රෝම අධිරාජයන් යටතේ සේවය කළ ජර්මන් සෙන්පතියෙකි. 476 ඔහු රෝමුලස් ඔගුස්ටුලස් අධිරාජයා සිහසුනෙන් නෙරපා දමා ඉතාලියේ අශිෂ්ට ජනතාවගේ රජ බවට පත්විය. — පිටු 146.

ඔගස්ටස් (ක්‍රි. ව. පෙර 63—14) — රෝම අධිරාජ්‍යයාය. ක්‍රි. ව. පෙර 27—14. — 122, 148.

ඕල්ගා (විපත 969) — පැරණි රුසියානු රජය පාලනය කළ කියෙව් මහා රැජිණයය. ඇගේ සැමියා වන ඊගර්ගේ මරණින් පසු 945 සිට ඕ රජකම් කළාය.

කාල්, මහා (Charlemagne) (742—814) — ප්‍රැංක්වරුන්ගේ රජුය. (768—800) අධිරාජයාය (800—814). — පිටු 154-156.



කුවියේ (Cuvier) ජෝජ් (1769—1832) — ප්‍රංශ ප්‍රකෘතිවිද්‍යා පර්යේෂකයෙකි. සංසන්දනාත්මක කාය ව්‍යවච්ඡේද ක්ෂේත්‍රයේ කෘතීන් නිසා ප්‍රසිද්ධියට පත්විය පුරාවිද්‍යාව සහ සතුන්ගේ පද්ධති ගැනද පොත් ලියුවේය. අවිද්‍යාත්මක විඥනවාදී, විනාශතුළින විපර්යාසයන් ඇති වීමේ න්‍යායයේ ආදි කතෘ වරයාය. — පිටු 33.

කුනො (Cunow, H.W.K.) (1862—1936)—ජර්මන් සමාජ ප්‍රජාතන්ත්‍රවාදියෙකි. ඉතිහාසඥයෙකි, මානවවංශ විද්‍යාඥයෙකි, සමාජ වේදියෙකි. 1880—1890 වසරවලදී මාක්ස්වාදයට ළංවිය. පසුකලෙක සංශෝධනවාදියකු විය. — පිටු 62.

කේ (Kaye) ජෝන් විලියම් (1814—1876) — ඉංග්‍රිසි යටත් විජිත නිලධාරියෙකි. ඉතිහාසඥයෙකි. ඉන්දියාවේ ඉතිහාසය සහ මානව වංශය ගැන පොත් කීපයක්ම ලියුවේය. එමෙන්ම ඉන්දියාවේ සහ ඇෆ්ගනිස්ථානයේ යටත් විජිත යුද්ධ ගැන ද කෘතීන් කීපයක්ම කළේය.

කොවලෙව්ස්කි, එම්. එම්. (1851—1916) — රුසියානු සමාජ විද්‍යාඥයෙකි, ඉතිහාසඥයෙකි, නීතිවේදියෙකි. ආදි කල්පික සමූහ සමාජයේ ඉතිහාසය පිළිබඳව ගවේෂණ කීපයකම කතු වරයාය. — පිටු 59-62, 132, 137, 142.

ක්ලාව්ඩි — රෝම කුලීන පෙළපතකි. — පිටු 128.

ක්ලිස්තේනස් — ඇතීනියාවේ දේශපාලනඥයෙකි. ක්‍රි. ව. පෙර 510—507 වසරවලදී වංශ ක්‍රමයේ නටබුන් අකාමකා දමා වහල් හිමි ප්‍රජාතන්ත්‍රවාදයක් ඇතැන්සිහි ගොඩනැගීම සඳහා ප්‍රතිසංස්කරණ ඇති කළේය.

ගායුස් (ක්‍රි ව. දෙවැනි සිය වසර) — රෝම නීති වේදියෙකි. රෝම නීතියේ සම්භාවනීය සංස්කාරකයෙකි.

ග්යොතෙ (Goethe, J. W.) (1749—1832) — ජර්මනියේ මහා කවියාය. එමෙන්ම ප්‍රකෘති විද්‍යාව ගැනද කෘතීන් කීපයක්ම කළේය. — පිටු 41.

ටූර්හි, ග්‍රෙගොරි (ක්‍රි. ව. 540—594) — කිතුනු පූජකයෙකි. දේවධර්මාචාර්ය වරයෙකි. ඉතිහාසඥයකි. 593 ටූර්හි රාජගුරු — පදවියට පත්විය. "ප්‍රැන්ක් වරුන්ගේ ඉතිහාසය" සහ "පුදුම හත" නැමැති පොත් දෙක ලියුවේය. — පිටු 141.

ග්‍රිම් (Grimm, Jacob) (1785—1863) — ජර්මන් වාග් විද්‍යාඥයෙකි, ඉතිහාසඥයෙකි. ජර්මන් භාෂාවේ ඉතිහාසය, නීතිය, දේව කතා සහ සාහිත්‍යය ගැන පොත් ලියුවේය. — පිටු 137.

ග්‍රොට් (Grote), ජෝජ් (1794—1871) — ඉංග්‍රීසි ජාතික ඉතිහාසඥයෙකි. ග්‍රීක ඉතිහාසය ගැන වෙළුම් කීපයකින් යුත් කෘතියක කතුවරයාය. —පිටු 18, 20, 36, 37, 102-106.

ග්ලැඩ්ස්ටන් (Gladstone, W.) (1809—1899) — බ්‍රිතාන්‍ය දේශපාලනඥයෙකි. 19 වැනි ශත වර්ෂයේ දෙවන භාගයේදී ලිබරල් පක්ෂයේ නායකත්වය දැරීය. කීපවරක්ම බ්‍රිතාන්‍ය අගමැති ධුරය ඉසලීය.

ජිරෝ-ටෙලොන් (Giraud-Teulon, A.) (උපත 1839) ජිනීවාහි ඉතිහාසය පිළිබඳ මහාචාර්ය වරයාය. — පිටු 17, 64.

ජූලිවරු — රෝම කුලීන පෙළපතකි. — පිටු 136.

ටයිලර් (Tylar, E. B.) (1832—1917) — ඉංග්‍රීසි මානව විද්‍යාඥයෙකි. ආදි කාලීන සංස්කෘතිය හැදෑරූ ඉතිහාසඥයෙකි.

ටර්ක්විනියස් සුපර්බුස් (උඩඟු ටර්ක්විනියස්) (534—509) — පුරාණ රෝමයේ පුරාවෘත්තයක් බඳුවූ හත්වැනි අවසාන රජුය. ජනතා කැරැල්ලක ප්‍රතිඵලයක් වශයෙන් රෝමයෙන් පන්නා දමන ලදී. ඉන් අනතුරුව රෝමයේ සමූහාණ්ඩුවක් ඇති විය. — පිටු 129, 132.

ටසිටස් (පුබ්ලියුස් කොර්නේලියුස් ටසිටුස්) (55—120) — රෝම ඉතිහාසඥයෙකි. "ජර්මනිය", "ඉතිහාසය", "වෘත්තාන්ත" යන කෘතිවල කතුවරයාය. — පිටු 7, 16, 30, 71, 95, 138-147.

ටිබේරියස් (ක්‍රි. ව. පෙර 42—37) රෝම අධිරාජ්‍යයාය. — පිටු 129.

ඩාර්වින් (Darwin), චාල්ස් (1809—1882) — ඉංග්‍රීසි ජාතික ජෛව විද්‍යාඥයෙකි, අපෝහ වාදියෙකි. පරිණාමවාදී විද්‍යාත්මක න්‍යායයේ නිර්මාතෘවරයාය. — පිටු 102.

ඩිකෙ ආර්කස් (ක්‍රි. පූර්ව 4 වැනි සියවසර) — ග්‍රීක පණ්ඩිතයෙකි. ඇරිස්ටෝටල්ගේ ගෝළයාය. ඉතිහාසය, දේශපාලනය, දර්ශනය, භූගෝල ශාස්ත්‍රය ගැන කෘතීන් කීපයාක්ම ලියුවේය. — පිටු 102.

ඩිමොස්ටිනස් (ක්‍රි. ව. පෙර 384—322) — ග්‍රීක කථිකයෙකි. රාජ්‍ය නායකයෙකි. ඇතැන්ස්හි මැසිඩෝනියා විරෝධී පක්ෂයේ නායකයා විය. වහල් හිමි ප්‍රජාතන්ත්‍රවාදයට පක්ෂ වූවෙකි.

ඩියුරෝ ද-ලා-මාල් (Dureau de la Malle., A. J. C. A. (1777—1857) — ප්‍රංශ ඉතිහාසඥයෙකි, කිවියෙකි. — පිටු 131.



සිසිලියාවේ ඩියොඩෝරස් (ක්‍රි. ව. පෙර 80—29) — ග්‍රීක ඉතිහාසඥයෙකි. "ඓතිහාසික පුස්තකාලය" නැමති ලෝක ඉතිහාසය පිළිබඳ කෘතියේ කතුවරයාය.

ඩියෝනිසියස් (හලිකාර්නාසුස්හි ඩියෝනිසියුස්) (ක්‍රි. ව. පෙර 1 සියවසර)— ග්‍රීක ඉතිහාසඥයෙකි, අලංකාරෝක්තිකයෙකි. "පෞරාණික රෝම ඉතිහාසය" නැමති කෘතියේ කතු වරයාය. — පිටු 106.

තියඩෝරික්වරු — ගෝතික් රජවරුන් තිදෙනෙකුගේ පෙළපත් නාමය. වෙස්ට්ගොත් රජවරු දෙදෙනෙකි. 1 වැනි තියඩෝරික් 418—451 දී 2 වැනි තියඩෝරික් 453 සිට 466 දී ද රජ කළහ. ඔස්ට්‍රගෝත්වරුන්ගේ රජු වන තියඩෝරික් 474 සිට 526 දක්වා රජ කෙළේය.

තියොක්‍රිටස් (ක්‍රිස්තු පූර්ව තෙවැනි සියවසර) — ග්‍රීක කිවියෙකි.—පිටු 79.

තුසිඩිඩස් (ක්‍රි. ව. පෙර 460—395 පමණ) — ග්‍රීක ඉතිහාසඥයෙකි.

නැපෝලියන් I බොනපාර්ට් (1769—1821) — 1804-1814 සහ 1815 ප්‍රංශයේ අධිරාජ්‍ය පදවිය දැරීය. — පිටු 64, 70, 88.

නිබූර් (Niebuhr, B. G.) (1776—1831) — ජර්මන් ධනවාදී ඉතිහාසඥයෙකි. පුරාණ ඉතිහාසය පිළිබඳ කෘතීන් කීපයකම කතුවරයෙකි. — පිටු 63, 103, 105, 128, 171.

නෙයාර්කස් (ක්‍රි. ව. පෙර 360—312) — මැසිඩෝනියාවේ නාවික අද්මිරාල් කෙනෙකි. මහා ඇලෙක්සැන්ඩර් රජුගේ සගයෙකි. ඉන්දියාවේ සිට මෙසොපොතේමියාව දක්වා (ක්‍රි. ව.පෙර 326—324) ඇතිවූ ප්‍රායණයේදී ඔහු විස්තර වාර්තා ලියුවේය.

පයිසන් (Fison), ලොරිමර් (1832—1907) — ඉංග්‍රීසි මානව වංශික වේදියෙකි, ඔස්ට්‍රෙලො වේදියෙකි. 1863—1871 හා 1875—1884 වසර වලදී ෆිජී දූපත්වල මිෂනාරි පූජකයකු විය. ඕස්ට්‍රේලියානු සහ ෆිජී ගෝත්‍ර පිළිබඳව කෘතීන් කීපයාකම කතුවරයෙකි. 1871 සිට ඒ.ඩබ්. හොවිට් සමග එකතුව වැඩ කළේය. ඔහු සමග එකතුව "කමිලරොයි සහ කුර්නායි ගෝත්‍ර" හා "යුද්ධ සහ සාම කාලවලදී කුර්නායි ගොත්‍රයේ සිරිත්" යන පොත් දෙක ලියුවේය. — පිටු 46, 48.

පස්වැනි පර්දිනාන්ද් (කතෝලික) (1452—1516) — 1474—1504 වසරවලදි කැස්ටිලියාහි රජුය. 1507—1516 වසරවලදී එම රටේ පාලකයා විය. දෙවැනි පර්දිනාන්ද් නමින් අරගොන්හි 1479—1516 කාලයේදී රජකම් කළේය.

13*

මොම්සන්(Maine,H.G.S.)තියඩෝර් (1817—1903) — ජර්මන් ඉතිහාසඥයෙකි. රෝම ඉතිහාසය පිළිබඳ කෘති කීපයකම කතුවරයාය. — පිටු 103, 124-129.

මොල්යෙර් (Moliere, J.-B.) (සැබෑ නම පොක් ලෙන්) (1622—1673) — ප්‍රංශ නාට්‍ය කතුවරයෙකි.

මොස්හුස් — ක්‍රි. ව. පෙර දෙවැනි සියවයේ විසූ පුරාණ ග්‍රීසියේ කිවියෙකි. — පිටු 79

මෝර්ගන් (Morgan), ලුවිස් හෙන්රි (1818—1881) — ඇමරිකන් මානව වංශ වේදියෙකි. පුරා විද්‍යාඥයෙක්, ආදිකාලීන සමාජය පිළිබඳ ඉතිහාසඥයෙකි. ද්‍රව්‍යවාදියෙකි. — පිටු 5-8, 15, 17-20, 27, 31—35, 39, 41, 45, 46, 50, 68, 85-88, 91, 97, 103, 103, 105, 109, 111, 118, 127, 128,136, 141-145, 159, 179, 180.

යරොස්ලාව්, බුද්ධිමත් (978—1054) — කීයෙව්හි රජ කුමාරයෙකි. — පිටු 61

රයිට (Wright), ඇෂර් (1803—1875) — ඇමරිකන් මිෂනරි පූජකයෙකි. සෙනෙකා රතු ඉන්දියානු ගෝත්‍රික වංශය තුළ 1831—1875 දක්වා ජීවත් විය. සෙනෙකා භාෂා ශබ්ද කෝෂයක් සම්පාදනය කළේය. පිටු 51.

ලබොක් (Lubbock), ජෝන් (1834—1913) — බ්‍රිතාන්‍ය ජෛව විද්‍යාඥයෙකි. ඩාවින්වාදියෙකි. මානවවංශ විද්‍යාඥයෙකි. පුරා විද්‍යාඥයෙකි. 1889 ඇවබරි සාමි නමින් සම්මාන ලැබීය. — පිටු 15, 16, 17.

ලසාල් (Lassale), පර්දිනාන්ද් (1825—1864) — ජර්මන් සුළු ධනවාදී සමාජවාදියෙකි. සමස්ථ ජර්මන් කම්කරුවන්ගේ සංවිධානයේ එක් ආරම්භකයෙකි. මේ සංවිධානය ජර්මන් කම්කරු පංතික ව්‍යාපාරයේ සක්‍රිය කොටසක් ඉටු කළේය. එහෙත් එහි සභාපති පදවියට පත් ලසාල් එය අවස්ථාවාදී මගක් ඔස්සේ ගෙන ගියේය. ප්‍රතිගාමී ප්‍රැසියාවේ ආධිපත්‍යය යටතේ "ඉහළින්" ජර්මනිය එක්සත් කිරීමේ ප්‍රතිපත්තියට ඔහු ආධාර දුන්නේය. — පිටු 177

ලාන්ගේ (Lange, C.C.L.) (1825—1885) — ජර්මන් වාග් විද්‍යාඥයෙකි. පුරාණ රෝමයේ ඉතිහාසය පිළිබඳව කෘතීන් කීපයකම කතු වරයාය. — පිටු 127.



ලැතම් (Latham, R, G) (1812—1888) — බ්‍රිතාන්‍ය දෙස්තර කෙනෙකි. වාග් විද්‍යාඥයෙකි, මානවංශ වේදියෙකි. සංසන්දනාත්මක මානව වංශය ගැන කෘතීන් කීපයක්ම කළේය. — පිටු 14.

ලියුත්ප්‍රාන්ඩ (922—972) — උතුරු ඉතාලියේ ක්‍රෙමෝනාවේ රජගුරු පදවිය දැරීය. දේශපාලනඥයෙකි, ඉතිහාසඥයෙකි. ගත්කරුවෙකි. — පිටු 151.

ලිවී, ටයිටස් (ක්‍රි. ව. පෙර 59 — ක්‍රි . ව. 17) — රෝම ඉතිහාසඥයෙකි, රෝමයේ ඉතිහාසය පිළිබඳ පොතේ කතුවරයාය. — පිටු 125.

ලුකියාන් (120—180) — ග්‍රීක උපහාස ගත් කරුවෙකි. අදේවවාදියෙකි.

ලෙතුර්නෝ (Letourneau, C. J. M) (1831—1902) — ප්‍රංශ ධනවාදී සමාජ විද්‍යාඥයෙකි, මානව වංශ විද්‍යාඥයෙකි. — පිටු 35, 36, 39.

ලොන්ගුස් — පුරාණ ග්‍රීක ගත්කරුවෙකි. දෙවැනි සිය වසේ මුල සිට තෙවැනි සිය වස දක්වා ජීවත් විය. — පිටු 79.



වග්නර් (Wagner, Richard) (1813—1883) — ජර්මන් ස්වරමාලා රචකයෙකි. — පිටු 40, 41.

වාක්ස්මුත් (Wachsmuth, E.W.G.) (1784—1886) — ජර්මන් ඉතිහාසඥයෙකි. ලයිප්සිග් සරසවියේ මහාචාර්වරයෙකි. පුරාණ ඉතිහාසය සහ යුරෝපා ඉතිහාසයගැන පොත් කීපයක්ම ලියුවේය. — පිටු 66.

වායිට්ස් (Waitz, Georg) (1813—1886) — ජර්මන් මධ්‍ය කාලීන ඉතිහාසය හැදෑරූ ඉතිහාසඥයෙකි. ජර්මනියේ මධ්‍ය කාලීන යුගවල ඉතිහාසය පිළිබඳ පොත් කීපයක් ලියුවේය. ග්යොටින්ගන් විශ්ව විද්‍යාලයේ මහාචාර්යාවරයකි. — පිටු 142.

වාරුස් (පුබ්ලියස් ක්වින්ටිලියස්) (ක්‍රි. ව. පෙර ≃ 53 ≃ 9) — රෝමානු දේශපාලනඥයෙකි. සෙන්පතියෙකි. ගෙර්මානියා ප්‍රාන්තය පාලනය කළේය (ක්‍රි. ව. 7—9). ජර්මන් ගොත්‍රිකයින්ගේ කැරැල්ල සමයේදී ටෙව්ටබුර්ග් කැලෑවේ සටනේදී මිය ගියේය.

වෙලේඩා (ක්‍රි. ව. පළමුවැනි සියවසර) — බෲක්ටර් නැමති ජර්මන් ගෝත්‍රයේ පූජකවරිය සහ අනාගත වක්තෘ වරියකි. සිවිලියස්ගේ නායකත්වය යටතේ රෝමන් පාලනයට විරුද්ධව ජර්මන් සහ ගොල් ගෝත්‍ර වල කැරැල්ලෙදි ක්‍රියාශීලි ලෙස එයට සහභාගි වූවාය. — පිටු 140.

## සාහිත්‍යයෙහි සහ දේවකතාවල එන චරිත

අගමෙම්නොන් — පුරාණ ග්‍රීක දේවකතා වල ආර්ගොස්හි රජුය. ට්‍රෝජන් යුද්ධයේදී ග්‍රීක යුද්ධ හමුද මෙහෙයැ වූ "ඉලියඩ්" හි වීරයින්ගෙන් කෙනෙකි. — පිටු 10, 64, 105, 108.

අලථෙයා — ග්‍රීක දේවකතාවල ටෙස්ටියස් රජුගේ දුව සහ මෙලියාග්‍රස්ගේ මව ය.

අනයිටිස් — පුරාණ ඊරාග දේවකතාවල ජලයට සහ ස ක භාවයට (සමෘද්ධියට) අධිපති දෙව්දුවගේ ග්‍රීක නාමය ය. — පිටු 53, 68.

අපොලොන් — පුරාණ ග්‍රීක දේවකතාවල හිරුට සහ ආලෝකයට අධිපති දෙවියාය. කලාශිල්පවල ස්වාමිවරයාය. — පිටු 11.

අර්ගොනොට්වරු — පුරාණ ග්‍රීක දේවකතාවල ෑගන් විසින් ආරක්ෂා කරනු ලැබූ රන්වන් ලොම් සහිත බැටළු හම ලබාගැනීම සඳහා අර්ගො නැවෙන් කොල්හීඩාවට ගිය වීරයෝය. — පිටු 138.

අස්ටාර්ටා — පීනික් දේවකතාවල සටහන් සශ්රීක භාවයේ සහ ආලයේ අස්ටොරට් නැමති දේවතාවියගේ ග්‍රීක නාමය යි. — පිටු 11.

අතීනා පල්ලාද — යුද්ධයේ හා බුද්ධියේ දෙව්දුවය. ඇතැන්ස් රජයේ දේවතා විය ලෙස සලකනු ලැබීය.

අප්‍රොදීතා — පුරාණ ග්‍රීක කත්තාවල ආලයේ සහ සුන්දරත්වයේ දෙව්-දුවය.

අහිලස් — පුරාණ ග්‍රීක කතාවල වටලනු ලැබූ ට්‍රෝයිහි ග්‍රීක වීරයින් අතුරෙන් ඉතාම නිර්භගී වීරයාය. හොමෙර්ගේ ඉලියඩ් කාව්‍යයේ එක් ප්‍රධානා වීර චරිතයකි. — පිටු 64, 108.



අයර්ලන්ත සිගෙබාන්ට් — මධ්‍යකාලීන ජර්මන් වීර කථාවල වීරයෙකි. දහතුන් ශත වර්ෂයේ ගුඩ්රුන් කාව්‍යයේ අයර්ලන්ත ජාතිකයින්ගේ රජුය. — පිටු 80.

ආබ්රහම් — බයිබලය අනුව පෞරාණික යුදෙව් සමූහයේ පීතෘ මූලිකයා ය.

උතා (නෝර්විජියානු) — පුරාණ ජර්මන් වීර කතාවල වීර චරිතයෙකි. දහතුන්වැනි ශත වර්ෂයේ ජර්මන් මධ්‍ය කාලීන "ගුඩ්රුන්" කාව්‍යයේ එක් චරිතයකි.

එව්මෙයි — හෝමෙර්ගේ ඔඩිසියා කාව්‍යයේ වීර චරිතයකි. ඉටාකා දූපතේ ඔඩිසි රජුගේ එඬේරෙකි. රජුගේ දීර්ඝ සංචාරවලදී ඔහුට පක්ෂ පාතවූ මෙහෙ කරුවෙකි.

එගිස්ටස් — පුරාණ ග්‍රීක දේවකතාවල ක්ලිතෙම්නෙස්තාගේ ආදරවන්ත-යෙකි. අගමෙම්නොන් රජු මරාදැමීමට සහභාගි විය. ඇස්කිලස්ගේ ඔර්සෙටෙයා කව්‍යයේ 1 සහ 2 කාණ්ඩවල වීර චරිතයකි.

එටියෝකල් — පුරාණ ග්‍රීක දේවකතාවල පීබෙස්හි එඩිප් රජුගේ පුත්‍රයාය. පීබෙස්හි පාලන බලය ඔහු සිය සොහොයුරා වන පොලිනික් සමග බෙද ගත්තේය. ඔහු පොලිනික් මරු අතර ඔහුගේ පහරත් නිසා මියගියේය. ඇස්කිලස්ගේ බේදවාචී "පීබෙස්ට විරුද්ධව හත්දෙනෙක්" කාව්‍යයේ පදනම වූයේ මේ පුරාවෘත්තයය. — පිටු 106.

එරිනිවරියො — පුරාණ ග්‍රීක දේව කතාවල පිළිගැනීමට අධිපති ආත්ම-යන්යි. හිසකේ වෙනුවට සර්පයින් සහිත හිස් ඇති ස්ත්‍රීන් ලෙස මොවුන් නිරූපනය කෙරේ. — පිටු 11.

එට්සෙල් — පුරාණ ජර්මන් වීර කතාවල සහ ජර්මන් මධ්‍යකාලීන නිබෙ-ලුන්ග් ගීතයේ එන වීර චරිතයකි. හන් වරුන්ගේ රජුය.

ඔරෙස්ටස් — පුරාණ ග්‍රීකදේවකතාවල අගමෙම්නොන්ගේ සහ ක්ලිතෙම්-නෙස්ත්‍රාගේ පුත්‍රයාය. තම පියා මරා දැමීම නිසා මොහු තම මවු ක්ලි-තෙම්නෝස්ත්‍රා සහ එගීස්ටස් මරා දැමීය. ඇස්හිලස්ගේ ඔරෙස්ටෙයා කෘතියේ වීර චරිතයය. — පිටු 10.

ඔඩිසෙයි — ඉලියඩ් සහ ඔඩිසෙයි කාව්‍යවල වීර චරිතයකි. ඉටාකා දූපතට අධිපති මිථ්‍යා රාජයාය. ට්‍රෝජන් යුද්ධයේදී ග්‍රීක සේනා මෙහෙ-යැවූ සෙන්පතියෙකි. නිර්භයත්වය, කපටි නුවණ, කුටිල කපීකත්වය නිසා කැපී පෙනිණි. — පිටු 108.

ක්‍රීම්හිල්ඩා — පුරාණ ජර්මන් වීර කථාවලියේ එක් වීරවරියකි. නිබෙලුන්ග් ගීතය නැමැති මධ්‍ය කාලීන ජර්මන් කාව්‍යයේ බුර්ගුන්ඩ් වරුන්ගේ රජුවන ගුන්තර්ගේ සහෝදරියය. සීග්ප්‍රිඩ්ගේ භාර්යාවය. ඔහුගේ අභාවයෙන් ඉක්බිතිව හන් වරුන්ගේ රජු වන එට්සෙල්ගේ බිරිඳ වූවාය. — පිටු 80

ක්ලෝය — දෙවැනි සහ තුන්වැනි ශත වර්ෂ වලදී ලොන්ග් විසින් ලියන ලද ''ඩැප්නිස් සහ ක්ලෝය'' නව කතාවේ ප්‍රධාන වීරවරියය. ආලයෙන් මත්වූ ගොපලු කෙල්ලක් නිරූපණය කරයි.

ක්ලියොපැට්රා — පුරාණ ග්‍රීක දේවකතාවල උතුරුදිග වාත දේව බොරේයස්ගේ දියණියය. — පිටු 10, 138.

ක්ලිතෙම්නේස්ත්‍රා — පුරාණ ග්‍රීක දේවකතාවල අගමෙම්නොන්ගේ භාර්යාවය. අගමෙම්නොන් ට්‍රෝජන් යුද්ධයෙන් හැරී ආ පසු, ක්ලිතෙම්නෙස්ත්‍රා ඔහු මරා දැමුවාය. ඇස්හිලස්ගේ ''ඔරෙස්ටෙය'' කෘතියේ චරිතයකි.

කැසන්ඩ්‍රා — පුරාණ ග්‍රීක දේවකතාවල ට්‍රෝයිහි ප්‍රියාම් රජුගේ දූ කුමරියය. ට්‍රෝජන් යුද්ධයෙන් ජයගත් අගමෙම්නොන් කැසන්ඩ්‍රා වහලියක් ලෙස ගෙන ගියේය. ඇස්කිලස්ගේ ''අගමෙම්නොන්'' ඛේදවාචක නාට්‍යයේ එක් වීරවරියකි. — පිටු 64

ගුන්තර් — මධ්‍ය කාලීන ජර්මන් වීර යුගයේ කථාවලියේ වීරයෙකි, නීබෙලුන්ග් ගීතයේ වීරයෙකි, බුර්ගුන්ඩ් වරුන්ගේ රජුය. — පිටු 80.

ගුද්රුන් (කුද්රුන්) — පුරාණ ජර්මන් වීර කථාවලියේ හා දහතුන් වැනි ශත වර්ෂයේ ජර්මන් මධ්‍යකාලීන කවි කතාව වන ''ගුද්රුන්'' කථාවේ වීරවරියය. හෙගෙලින් වරුන්ගේ රජු වන හේටෙල්හේ සහ අයර්ලන්ත හිල්ඩාගේ දූ කුමරියය. හෙර්විග්හේ මනාලියය. ඔර්මාන්හි (නොර්ලාන්ඩ්හි) හාර්ට්මුත් විසින් පැහැර ගෙන යන ලදී. ඔහුගේ බිරිඳවීමට අකැමැති වූ නිසා ඔහු යටතේ අවුරුදු 13 ක් සිර දඬුවම් වින්දය. හෙර්විග් විසින් මුදගත් පසුව ඔහුගේ බිරිඳ වූවාය. — පිටු 80.

ජෝර්ජ් ඩන්ඩෙන් — ''ජෝර්ජ් ඩන්ඩෙන් හෙවත් මෝඩ සැමියා'' නැමැති උපහාස නාටකයේ පොහොසත් මෝඩ ගොවිරාළහේ චරිතයය. මෙහි කතුවරයා මොලියෙර්ය. පොහොසත් ගොවිරාළ බංකොලොත් ලැබූ කුලීන කතක සමග විවාහ වෙයි. ඇ ඔහු දක්ෂ ලෙස රවටයි. — පිටු 168.



ටෙව්කර් — ට්‍රෝජන් යුද්ධයෙදී සටන් කළ වීර චරිතයක් ලෙස හෝමර්ගේ ඉලියඩ් කාව්‍යයේ සටහන් වී ඇත.

ටෙසේයස්—පුරාණ ග්‍රීක දේවකතාවල එක් ප්‍රධාන වීර චරිතයකි. පුරාවෘත්තය අනුව ඇතැන්ස් හි රජු විය. ඇතැන්ස් රජයේ නිර්මාතෘවරයා ලෙස සැළකේ. — පිටු 111, 112.

ටෙලමොන් — පුරාණ ග්‍රීක දේවකතා අනුව ට්‍රෝජන් යුද්ධයට සහභාගි වූ වීරයෙකි. — පිටු 65.

ටෙලෙමාකුස් — හෝමර් ඔඩිසියා කාව්‍යයේ චරිතයකි. ඉටාකා දූපතේ ඔඩිසි රජුගේ පුත්‍රයාය. — පිටු 64.

ටෙස්ටියස් — පුරාණ දේවකතාව අනුව, එතොලියාවේ ප්ලෙව්රොන්හි රජු විය.

ඩැප්නිස් (දැප්නිස්) — දෙවැනි, තෙවැනි ශත වර්ෂ වලදී, ලෝන්ග්ගේ ඩැප්නිස් සහ ක්ලෝයා නව කතාවේ වීරයාය. ආලයෙන් මත් වූ ගොපල්ලකුගේ චරිත නිරූපණයකි.

ඩෙමඩොක් — හොමෙර්ගේ ඔඩිසියා කාව්‍යයේ එක් වීරයෙකි. දේවකතාවල අල්කිනොයි රජුගේ, රාජ සබයෙහි ගී ගැයූ අන්ධ සංගීතඥයෙකි. — පිටු 109.

නොයාර්ඩර් — පැරණි එඩ්ඩා නැමති ස්කැන්ඩිනේවියානු දේව කතාවල සමෘද්ධියට අධිපති දේවයාය.

නෙස්ටර් — පුරාණ දේවකතාවල ග්‍රීක වීරයින් අතුරෙන් ජ්‍යෙෂ්ඨතම හා අති බුද්ධිමත් වීර චරිතයකි. ට්‍රෝජන් යුද්ධයට සහභාගි විය.

ප්‍රෙයියා — පුරාණ ස්කැන්ඩිනේවියානු දේව කතාවල සමෘධියට සහ ආලයට අධිපති දෙව්දුවය. ''පැරණි එඩ්ඩා'' නැමැති පුරාණ ස්කැන්ඩිනේවියානු දේව කථාවේ ප්‍රෙයියා සිය සොහොයුරාගේ (ප්‍රෙයියර්) බරිඳ වූවාය. — පිටු 40.

පොලිනික් — පුරාණ ග්‍රීක දේව කතාවල පිබෙස් නගරයේ එඩිප් රජුගේ පුත්‍රයාය. ඔහු පීබෙස් හි පාලන බලය සිය සොහොයුරු එටියොක්ලස් සමග බෙදා ගත්තේය. පොලිනික් සොහොයුරාට විරුද්ධව කළ සටනකදී ඔහු මරා දැමූ අතර ඔහු අතින් මැරුම් කෑවේය. — පිටු 106.

fපිනේයස් — පුරාණ දේවක තාවල අනාගත වක්තෘ වරයෙකි, අන්ධයෙකි. දෙවැනි බිරිඳගේ උගැන්වීම් පරිදි තම දරුවනට වධ දුන්නේය. ඔහුගේ

පළමුවැනි බිරිඳ බොරේයස් දෙවියාගේ දුවය. ඔහුගේ කෲර කම් නිසා දෙවිවරු ඔහු ට දඬුවම් දුන්හ.

බොරෙයාඩ්වරු — පුරාණ ග්‍රීක දේවකතාවල බොරේයස් නැමැති උතුරුදිග වාතදේවයාගේ සහ ඔරෙයිටියා බිසවගේ දරුවන්ය.

බ්‍රුන්හිල්ඩා — පුරාණ ජර්මන් වීර යුගයේ වීරවරියකි. මධ්‍යම කාලීන ජර්මන් නීබෙලුන්ග් ගීතයේ වීර චරියකි. අයිස්ලන්තයේ රැජිනකි, බුර්ගුන්ඩ වරුන් රජු ගුන්තර්ගේ බිසවය.

මෙලියාගර් — පුරාණ ග්‍රීක දේව කතාවල එන, කලිඩෝන් නගරයට අධිපති රජු එනෙයිගේ හා ඇල්ථෙයාගේ පුතාය. හේ සිය ඔවුගේ සොහොයුරන් මරා දැමීය. — පිටු 80.

මෙපිස්ටො — ග්යෝතේගේ ''පාවුස්ට්'' ඛේදවාචකයේ ප්‍රධාන චරිතයකි.

මිලිත්තා — ආලයට සහ සමෘධියට අධිපති දෙවියා හැටියට පුරාණ බැබිලෝනියානු දේව කතාවල ඊෂ්ටාර් යන නමින් සඳහන් දේවිකාවගේ ග්‍රීක නාමය යි.

මෝසස් — බයිබල් කතා අනුව අනාගත වක්තෘ කෙනෙකි. පනත් සම්පාදකයෙකි මිසරය යටතේ සිරදුක් විඳි පුරාණ යුදෙව්වන් මුදගත් මෝසස් ඔවුන් පාලනය කිරීම සඳහා පනත් ඉදිරිපත් කළේය.

මුලියස් — හෝමර්ගේ ඔඩිසේයා කාව්‍යයේ එක් චරිතයකි. — පිටු 109.

රෝමුලස් — පුරාවෘත්තය අනුව, පුරාණ රෝමයේ නිර්මාතෘ වරයා සහ එහි පළමුවැනි රජුය. — පිටු 123, 128.

ලෝකි — පුරාණ ස්කැන්ඩිනේවියානු දේවකතා වල දුෂ්ට යක්ෂයෙකි, ගින්නට අධිපති දේවයාය. ''පැරණි එඩ්ඩා'' නැමැති පුරාණ ස්කැන්ඩිනේවියානු දේවකතාවේ වීර චරිතයකි. — පිටු 40.

සීග්ප්‍රිඩ් — පුරාණ ජර්මන් වීර යුගයේ එක් ප්‍රධාන වීරයකි. ජර්මන් මධ්‍යකාලීන නීබෙලුන්ග් ගීතය නැමැති කාව්‍යයේ වීර චරිතයකි. (මොර්ලන්ත) සිග්ප්‍රිඩ් — පුරාණ ජර්මන් වීර කථාවලියේ වීරයෙකි. දහතුන් ශත වර්ෂයේ මධ්‍යකාලීන ගුඩ්රුන් ජර්මන් කාව්‍යයේ ගුඩ්රුන් විසින් ප්‍රතික්ෂේප කරන ලද මනාලයෙකි. — පිටු 80.

සීප් — පුරාණ ස්කැන්ඩිනේවියානු කතාවල විදුලියට අධිපති ථෝර් දෙවියාගේ බිරිඳය. ''පැරණි එඩ්ඩා'' නැමැති පුරාණ ස්කැන්ඩිනේවියානු දේවකතාවේ එක් චරිතයකි.

සේවිස් (සීයස්) — පුරාණ ග්‍රීක කතාවල උත්තරීතර දෙවියාය.

හෙර්විග් — දහතුන් වැනි ශත වර්ෂයේ මධ්‍යකාලීන ජර්මන් ගුද්රුන් කාව්‍යයේ සහ පුරාණ ජර්මන් වීර කතාවල වීර චරිතයකි. සෙලාන්තයේ රජුය. ගුඩ්රුන්ගේ ස්වාමි පුරුෂයාය.

හේටෙල් — දහතුන් වැනි ශත වර්ෂයේ මධ්‍යකාලීන ජර්මන් ගුඩ්රුන් කාව්‍යයේ සහ පුරාණ ජර්මන් වීර කතාවල එක් චරිතයකි. හෙගෙලින්ග්වරුන්ගේ රජුය. — පිටු 80.

හිල්ඩා — පුරාණ ජර්මන් වීර කතාවල සහ 13 වැනි ශත වර්ෂයේ මධ්‍යකාලීන ජර්මන් ''ගුඩ්රුන්'' කාව්‍යයේ වීරවරියකගේ චරිතයකි. අයර්ලන්ත රජුගේ දූ කුමරිය වන හිල්ඩා හෙටෙල් රජුගේ බිරිඳ වූවාය. — පිටු 80.

හනිමේද් — පුරාණ ග්‍රීක දේව කතාවල ඉතා කඩවසම් තරුණයෙකි. දෙවිවරු මොහු පැහැර ගෙන ඔලිම්පස් කඳු මතට ගෙන ගියහ. එහිදී ඔහු සේවිස් (සීයස්) දෙවියාට මත්පැන් වත්කරන දසයා බවට පත්විය.

හෙරාක්ලස් — පුරාණ ග්‍රීක දේව කතාවල ඉතාම ජනප්‍රිය වීර දෙවියාය. ඔහු සිය ශක්තිමත් කඩවසම් සිරුර නිසාත්, වීර-ධීර ක්‍රියා නිසාත් ප්‍රසිද්ධ විය. — පිටු 138.

හිල්ඩෙබ්‍රාන්ඩ් — හිල්ඩෙබ්‍රාන්ඩ් ගීතය නැමති පුරාණ ජර්මන් වීර කාව්‍යයේ ප්‍රධාන වීර චරිතයය. — පිටු 137, 164.

හදුබ්‍රාන්ඩ් — පුරාණ ජර්මන් වීර යුගයේ හිල්ඩබ්‍රාන්ඩ් ගීතයෙහි එක් වීර චරිතයකි. හිල්ඩබ්‍රන්ඩ්ගේ පුත්‍රයාය. — පිටු 138.

හාට්මුට් — දහතුන්වැනි ශත වර්ෂයේ මධ්‍යකාලීන ජර්මන් ගුඩ්රුන් කාව්‍යයේ සහ පුරාණ ජර්මන් කතාවල වීර චරිතයකි. ගුඩ්රුන් විසින් ප්‍රතික්ෂේප කරන ලද මනාලයන්ගෙන් කෙනෙකි. — පිටු 80.

## පාඨකයින් වෙතටයි

මෙම පොතේ අනුවාදය මුද්‍රණය හා සකස්කිරීම පිළිබඳව ඔබගේ අදහස්ද, ඔබගේ වෙනත් කිසියම් යෝජනාවක් වේනොත් එයද දන්වා එවීමෙන් ප්‍රගති ප්‍රකාශක මන්දිරයේ කෘතඥතාවය ඔබට හිමි වේ.

අපේ ලිපිනය:

Progress Publishers,
17, Zubovsky Boulevard,
Moscow, USSR.

